

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

තිළිණය ලෙසින් රජයෙන් මේ පොත ලදිමි
කියවා එයින් නැණ ගුණ එළි කර ගනිමි
මගෙ රට වෙනුවෙන් ම දෑ සම්පත් රකිමි
මේ පොත එන වසරෙ වෙන කෙනකුට පුදමි

**அரசின் வெகுமதியாய் நூலிதனைப் பெற்றேன்**
**அறிவு பெருகிடவே நூலிதனைக் கற்பேன்**
**தாய் நாட்டின் வளமெனவும் நூலிதனைக் காப்பேன்**
**பல மாணவரும் பயின்றிடவே நூலிதையே அளிப்பேன்**

From the government, I received this as a gift
I’ll read it, light up my knowledge and practise thrift
On my country’s own behalf, I’ll protect the national resources
And offer this book to another one as a fresh garland of roses



## ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය

පිරිවෙන් මගින් ගිහි පැවිදි දෙපක්ෂයට ම භාෂා, ආගමික හා සාරධර්ම අධ්‍යාපනය ලබාදීම චිරාත් කාලයක සිට පැවත ආ බැවින්, පිරිවෙණ යනු ශ්‍රී ලාංකික අධ්‍යාපනයේ කේන්ද්‍රස්ථානය බවට පත්විය. එය දේශීය ගිහි පැවිදි ශිෂ්‍ය පරම්පරාව පමණක් නොව විදේශීය විද්‍යාර්ථීන් ද ඥානනය කළ විශ්වවිද්‍යාලයක් බඳු ස්ථානයක් විය. එක් එක් යුගයේ අවශ්‍යතා අනුව සකස් වූ විෂයමාලාවක් පිරිවෙන් අධ්‍යාපනය මඟින් සිසුන් වෙත ප්‍රදානය කරනු ලැබිණි. එබැවින් ම එවැනි අධ්‍යාපන මධ්‍යස්ථාන විශ්ව සම්භාවනාවට පත්විය.

විදේශීය ආක්‍රමණ හමුවේ - විශේෂයෙන් ම පෘතුගීසි, ලන්දේසි හා ඉංග්‍රීසි ආක්‍රමණ හමුවේ - පිරිවෙන් අධ්‍යාපනය ගුණාත්මක වශයෙන් හීන වී ගිය බව සැබෑ ය.

එහෙත් 1753 දී ශ්‍රී ලංකාවේ මහණ උපසම්පදාව යළි පිහිටුවීමට ක්‍රියාකළ අසරණ සරණ සරණංකර සංඝරාජ මාහිමිපාණන්ගේ කැපවීම මත පිරිවෙණ නැමැති අධ්‍යාපන ආයතනය සීඝ්‍ර දියුණුවකට පත් ව දෙස් විදෙස් කීර්තියට පත්වීම අප ලැබූ ජයග්‍රහණයකි.

අනෙකුත් අධ්‍යාපන ක්ෂේත්‍රවලට මෙන් ම පිරිවෙන් අධ්‍යාපනයට ද නිදහස් අධ්‍යාපන සංකල්පය වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ම අර්ථවත් කිරීම අපගේ පරම අපේක්ෂාවයි. පිරිවෙන් පෙළපොත් නොමිලයේ සැපයීමෙන් රජය ඉහළ වැයක් දරුව ද එමගින් සමස්ත ජනතාවගේ විනය, සදාචාරය හා යහපැවැත්ම පිරිවෙන් ශිෂ්‍ය ප්‍රජාව වෙතින් ඉටුවනු ඇතැයි උදක් ම අපේක්ෂා ඇති ව මෙම පොත ඔබ අතට පත් කිරීමට ලැබීම භාග්‍යයක් කොට සලකන අතර මෙම පොත පරිහරණය කිරීමෙන් ගිහි පැවිදි දෙපාර්ශ්වයට ම අයත් ශිෂ්‍ය ශිෂ්‍යාවන්ගේ නැණ ගුණ දියුණු වේවායි ද පතමි.



**අකිල විරාජ් කාරියවසම්**
අධ්‍යාපන අමාත්‍ය

# පිරිවෙන් අධ්‍යාපන අධ්‍යක්ෂ නාහිමිපාණන්ගේ පණිවුඩය

මනුෂ්‍ය ජීවිතයක් ලැබූ අපි වාසනාවන්තයෝ වෙමු. අප ලැබූ වාසනාවන්ත ජීවිතය තව දුරටත් සාර්ථක කර ගත යුතු ය. ඒ සඳහා අනුගමනය කළ හැකි නිවැරැදි ක්‍රම බොහෝ ඇත. ඒ අතරින් ළමා වියේ දී නොවරදවා ම කළ යුතු වන්නේ ඉගෙන ගැනීමයි. ඔබගේ ජීවිතයේ ඉදිරි කාලය සතුටෙන් සිටිනවා ද දුකෙන් ගතකරනවා ද කියා තීරණය වන්නේ බාල වියේ ඉගෙනීමට දක්වන උනන්දුව මතයි. ඉගෙනීමට ඇති ළමා කාලය ඉතා ඉක්මනින් ගෙවී යන බව සිහියේ තබා ගන්න.

පිරිවෙන් අධ්‍යාපනය ලබන ගිහි පැවිදි දරුවන් වැඩි දෙනෙක් දුප්පත් දෙමාපියන්ගේ දරුවෝ ය. එබඳු දරුවන්ට පිරිවෙණක ඉගෙනීමට අවස්ථාව සැලසීම ම කොතරම් භාග්‍යයක් ද? අප මෙලොවට බිහිකළ දෙමාපියන්ටත් පැවිදි කළ ගුරු උතුමන් ඇතුළු ඉගෙනීමට උදවු කළ සැමටත් මේ රටටත් අප කළගුණ දක්විය යුතු ය. එසේ කළ හැකි වන්නේ අප බණ දහම් හා ශිල්ප ශාස්ත්‍ර ඉගෙන උසස් තත්ත්වයකට පත්වුවහොත් පමණකි.

ශ්‍රී ලංකාවේත් වෙනත් රටවලත් උගතුන්, ධනවතුන් හා බලවතුන් බවට පත්ව ඇති බොහෝ ගිහි පැවිදි චරිත දෙස බලන්න. ඒ හැම කෙනෙක් ම පාහේ දුක් මහන්සි වී ඉගෙන ගත්තෝ ය. ඔවුන් ආහාරපාන පොත්පත් ආදිය සපයා ගෙන ඇත්තේ ඉතා දුක සේ ය. එහෙත් අලස නොවී, වෙහෙස නොබලා, කාලය අපතේ නොහැර ඉගෙනීම නිසා අද ඔවුන් තමන්ගේ ජීවිතත් තමන්ට උපකාර කළ අයගේ ජීවිතත් සතුටුදායක කොට ගෙන ඇත.

වර්තමාන ලෝකයේ මිලියන ගණනක් දරුවන්ට ජීවත් වීමට නිවසක් නැත; කුසට ආහාර නැත; අසනීපයකට බෙහෙත් ගන්නට මුදල් නැත; ඉගෙනීමට පොත්පත් නැත. එහෙත් ඔවුහු බොහෝ දුෂ්කරතා මැද ඉගෙන ගනිති. එසේ වුවත් අප කොතරම් වාසනාවන්ත ද? අපට පිරිවෙණෙන් හෝ දායකයන්ගෙන් හෝ නොමිලේ ම ආහාරපාන ලැබෙයි. රජය මගින් නොමිලේ පොත්පත් හා ඇඳුම් සැපයේ. පිරිවෙණේත් පාසලේත් ඉගෙනීමට මුදල් අය කරන්නේ නැත. එපමණක් නොව රජයේ සුරක්ෂා සිසු රක්ෂණ ක්‍රමය නිසා මෙම වර්ෂයේ පටන් අපට සෞඛ්‍ය රක්ෂණයක් ද ලැබී ඇත.

අද වන විට ලෝකයේ බොහෝ මිනිස්සු ආහාර පමණක් නොව බීමට ජලය ද නොමැති ව දුකට පත්ව සිටිති. ආහාර, ජලය, සිවුරු ආදිය අපතේ නොහැර ඒවායින් උපරිම ප්‍රයෝජන ගත යුතු යැයි අපගේ ශාස්තෘ වූ බුදුන් වහන්සේ විසින් අපට උගන්වා ඇත. ඒවා නාස්ති කිරීම වරදක් පමණක් නොව පාපයක් ද වේ. මේ පෙළපොත් ඔබට ලැබෙන්නේ ද නොමිලේ ය. ඒ සඳහා රජය මේ රටේ මිනිසුන්ගෙන් එකතු කර ගත් විශාල මුදලක් වැය කර ඇති බව අමතක නො කරන්න.

මෙම පෙළපොත් ප්‍රවේසමෙන් හා වුවමනාවෙන් පරිහරණය කරන්න; දැනුමෙන් පෝෂණය වන්න; විභාග සමත් වන්න. මේ රටට ආදරය කරන ලෝකයේ ජීවත් වන සැම කෙරෙහි කරුණා මෛත්‍රියෙන් යුක්ත සත්පුරුෂයකු වීමට ඔබත් අධිෂ්ඨාන කරගන්න.

**මහාචාර්ය පූජ්‍ය නාබිරිත්තන්කඩවර ඤාණරතන හිමි,**
අධ්‍යාපන අධ්‍යක්ෂ (පිරිවෙන්),
අධ්‍යාපන අමාත්‍යාංශය.

# පෙරවදන

ශ්‍රී ලංකාව තුළ බුද්ධ ධර්මය ස්ථාපිත වීමත් සමග ම වාගේ විහාරාරාම ගොඩනැංවීම ආරම්භ විය. දිවයිනේ ප්‍රධාන විහාරස්ථාන කේන්ද්‍ර කර ගනිමින් "පිරිවෙණ" නැමැති විද්‍යායතනය බිහි වී ඇත. ගිහි පැවිදි දෙපක්ෂයට ම අවශ්‍ය වූ කලා ශිල්ප, භාෂා හා සමය සමයාන්තර ඥනයත්, යහපත්, ගුණගරුක සමාජයක් බිහි කිරීමට අවශ්‍ය සාරධර්ම අධ්‍යාපනයත් බෙදා දුන්නේ පිරිවෙණ මගිනි. එම සාම්ප්‍රදායික අනන්‍යතාව රැක ගනිමින් ම, කාලීන අවශ්‍යතා ද සපුරාලමින් යහපත් සමාජයක් ගොඩනැගීමේ කාර්යය ඉදිරියට ගෙන යාමට පිරිවෙණ ඉටු කරන කාර්යභාරය සුළු කොට තැකිය නො හැකි ය.

සම්භාවනීය අධ්‍යාපන සම්ප්‍රදායයන් රැක ගනිමින් ශිෂ්‍ය භික්ෂූන් වහන්සේලාගේ මෙන් ම ගිහි සිසුන්ගේත් අවශ්‍යතා සැලකිල්ලට ගෙන අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව පිරිවෙන් සඳහා මෙම පාඨග්‍රන්ථය සම්පාදනය කර ඇත. එම කාර්යය සඳහා දායකත්වය සැපයූ උපදේශක, ලේඛක හා සංස්කාරක මණ්ඩල සාමාජිකයන් සියලු දෙනාට ද අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ නිලධාරීන්ට ද මාගේ ස්තුතිය පිරිනමනු කැමැත්තෙමි.

**අයි.එම්.කේ.බී. ඉලංගසිංහ**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2017.05.02

**නියාමනය හා අධීක්ෂණය :-**

| | |
|---|---|
| අයි.එම්.කේ.බී. ඉලංගසිංහ මයා | - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**මෙහෙයවීම :-**

| | |
|---|---|
| මහාචාර්ය පූජ්‍ය නාබිරිත්තන්කඩවර ඥාණරතන හිමි | - අධ්‍යාපන අධ්‍යක්ෂ (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |
| ඩබ්ලිව්.ඩී. පද්මිණි නාලිකා මිය | - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස්<br>(නිෂ්පාදන හා බෙදාහැරීම්)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි මිය | - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**උපදේශකත්වය :-**

| | |
|---|---|
| මහාචාර්ය පූජ්‍ය මකුරුප්පේ ධම්මානන්ද හිමි | - පාලි හා බෞද්ධ අධ්‍යයන අංශය<br>කැලණිය විශ්වවිද්‍යාලය |

**සම්බන්ධීකරණය :-**

| | |
|---|---|
| පූජ්‍ය බණ්ඩාරවෙල රතනසාර හිමි | - පාලි විෂය උපදේශක (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |
| ඩී.එම්.ජේ. පුෂ්පකුමාර මයා | - නියෝජ්‍ය කොමසාරිස් (පාලන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| කේ.ඒ. සුමිත් ධර්ම ශ්‍රී මයා | - පාලි විෂය උපදේශක (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |

**සංස්කරණය :-**

| | |
|---|---|
| මහාචාර්ය පූජ්‍ය මකුරුප්පේ ධම්මානන්ද හිමි | - පාලි හා බෞද්ධ අධ්‍යයන අංශය<br>කැලණිය විශ්වවිද්‍යාලය |

**ලේඛක මණ්ඩලය :-**

| | |
|---|---|
| කේ.ඒ. සුමිත් ධර්ම ශ්‍රී මයා (සභාපති) | - පාලි විෂය උපදේශක (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |
| පූජ්‍ය බණ්ඩාරවෙල රතනසාර හිමි | - පාලි විෂය උපදේශක (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |

පූජ්‍ය වල්පොල පියරතන හිමි - පරිවේණාචාර්ය
විද්‍යොදය පිරිවෙණ, මාලිගාකන්ද පාර,
කොළඹ 10

පූජ්‍ය කොස්ගොඩ විමලවංසතිස්ස හිමි - පරිවේණාචාර්ය
සුගතසාසනෝදය පිරිවෙණ
වැලිතර
බලපිටිය

**සෝදුපත් කියවීම** :-

පූජ්‍ය මුවපැටිගේවෙල පඤ්ඤාලෝක හිමි - ආරාධිත කථිකාචාර්ය
පාලි හා බෞද්ධ අධ්‍යයන අංශය
කැලණිය විශ්වවිද්‍යාලය
කැලණිය

**පිටු නිර්මාණය සහ පිට කවරය** :-

ක්‍රිෂ්නි සමුද්ධිකා නවරත්නගේ මෙය - පරිගණක අංශය
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**පරිගණකගත කිරීම** :-

ක්‍රිෂ්නි සමුද්ධිකා නවරත්නගේ මෙය - පරිගණක අංශය
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

ඉසුරංගි කනකරත්න මෙය - පරිගණක අංශය
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

# ලඝු සඤ්ඤා

| | |
|---|---|
| නා | - නාම පදයකි |
| සං | - සන්ධි පදයකි |
| කි | - කිතක පදයකි |
| ස | - සමාස පදයකි |
| ත | - තද්ධිත පදයකි |
| නි | - නිපාත පදයකි |
| ක්‍රි | - ක්‍රියා පදයකි |
| තු | - තුමන්ත ක්‍රියාවකි |
| පූ.ක්‍රි | - පූර්වක්‍රියා පදයකි |
| ස.නා | - සර්වනාම පදයකි |

**පඨමො පාඨො**

# නමො මහාකාරුණිකස්ස තස්ස !!!

යො කප්පකොටීහිපි අප්පමෙය්‍යං
කාලං කරොන්තො අතිදුක්කරානි,
ඛෙදං ගතො ලොකහිතාය නාථො
නමො මහාකාරුණිකස්ස තස්ස.

අසම්බුධං බුද්ධනිසෙවිතං යං
භවාභවං ගච්ඡති ජීවලොකො
නමො අවිජ්ජාදිකිලෙසජාල
විද්ධංසිනො ධම්මවරස්ස තස්ස.

ගුණෙහි යො සීලසමාධිපඤ්ඤා
විමුත්තිඤාණප්පභුතීහි යුත්තො
ඛෙත්තං ජනානං කුසලත්ථිකානං
තමරියසඞ්ඝං සිරසා නමාමි.

**(සමන්තපාසාදිකා)**

**පදමාලාව**

| | | | |
|---|---|---|---|
| **කප්පකොටීහි'පි** | (ස) | - | කල්ප කෝටියකිනුත් |
| **අප්පමෙය්‍යං** | (ස) | - | ප්‍රමාණ කළ නොහැකි |
| **කරොන්තො** | (කි) | - | කරන්නේ |
| **අතිදුක්කරානි** | (ස) | - | ඉතා දුෂ්කර වූ |
| **ඛෙදං** | (නා) | - | සංවේගයට |
| **ගතො** | (කි) | - | ගිය |
| **ලොකහිතාය** | (ස) | - | ලෝකයාට හිත පිණිස |
| **නාථො** | (නා) | - | පිහිට වූ |
| **මහාකාරුණිකස්ස** | (ස) | - | මහාකාරුණිකයන් වහන්සේට |
| **අසම්බුධං** | (කි) | - | මැනවින් අවබෝධ නොකළ |
| **බුද්ධනිසෙවිතං** | (ස) | - | බුදුරදුන් විසින් ඇසුරු කරන ලද |
| **භවාභවං** | (නා) | - | භවයෙන් භවයට |
| **විද්ධංසිනො** | (කි) | - | විද්ධංසනය (නැසීම) කරන්නා වූ |
| **කුසලත්ථිකානං** | (ස) | - | කුසල් කැමැත්තවුන්ට |
| **තමරියසඞ්ඝං** | (සං) | - | (තං + අරියසඞ්ඝං) ඒ ආර්ය සංඝයා |
| **ජීවලොකො** | (ස) | - | ජීවලෝකයා |
| **අවිජ්ජාදි** | (සං) | - | අවිද්‍යාව ආදි |
| **කිලෙසජාල** | (ස) | - | කෙලෙස් දැල |

**අභ්‍යාස**

01. ''නමො මහාකාරුණිකස්ස තස්ස'' යටතේ ඇති ගාථා සිංහලට නගන්න.

02. පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. මහාකාරුණිකො කිත්තකං කාලං අතිදුක්කරානි අකාසි?
ii. නාථො කස්මා බෙදං ගතො?
iii. කස්මා ජීවලොකො භවාභවං ගච්ඡති?
iv. අරියසඞ්ඝා පන කස්ස පුත්තා හොන්ති?
v. අරියසාවකා කීදිසෙහි ගුණෙහි සමන්නාගතා භවන්ති?

03. ගාථා ඇසුරෙන් පිළිතුරු සපයන්න.

i. 'කප්ප' යන පදය විවරණය කරන්න.
ii. ඇඳිලි බැඳ නමස්කාර කිරීම යනු කුමක් ද?
iii. අවිද්‍යාව අන්ධකාරයකට සමාන කොට ඇත්තේ කුමක් හෙයින් ද?
iv. ත්‍රිශික්ෂා නම් කරන්න.
v. සංසරත්නය කෙතකට සමාන වන්නේ කෙසේ ද?

## අක්ෂර

'අක්ෂර' එනමින් හැඳින්වෙන්නේ අවසන් වීමක් හෝ ක්ෂය වීමක් නොවන හෙයින් බව සාම්ප්‍රදායික පිළිගැනීම යි. **(නක්ඛරන්තී'ති අක්ඛරා)** පාලි භාෂාවේ අකුරු **අක්ඛර, වණ්ණ, ව්‍යඤ්ජන** යන පදවලින් ද හඳුන්වනු ලබන අතර කච්චායන ව්‍යාකරණ සම්ප්‍රදායට අනුව පාලි භාෂාවේ අකුරු 41 කි. **(අක්ඛරාපාදයො එකචත්තාළීසං)** ඒවා ස්වර 08 කින් හා ව්‍යඤ්ජන 33 කින් සමන්විත වේ.

මොග්ගල්ලායන ව්‍යාකරණ සම්ප්‍රදායට අනුව වර්ණ (අකුරු) 43 කි. **(අආදයො තිතාළීස වණ්ණා)** 'එ', 'ඔ' ස්වර දෙක හ්‍රස්ව හා දීර්ඝ යන දෙවිධියෙන් ම පිළිගැනීම නිසා ස්වර 10 ක් වීම මීට හේතුව වේ. එහෙත් දීර්ඝ ලෙස උච්චාරණය කළ ද ලිවීමේ දී 'ඒ', 'ඕ' වශයෙන් දීර්ඝව ලිවීමක් සිදු නො වේ.

ඕනෑම භාෂාවක් නිවැරැදිව ලිවීමට හා උච්චාරණය කිරීමට හුරු පුරුදු වීම ඉතා වැදගත් ය. පාලි භාෂාව හැදෑරීමේ දී මෙය නිතර සිහි තබාගත යුතු වැදගත් කරුණකි. භාෂාවක මූලික ඒකකය අක්ෂර යි. අක්ෂර කීපයකින් පදයක් සෑදෙන අතර, පද කීපයකින් අර්ථවත් වාක්‍යයක් සෑදේ. පදයක අර්ථය නිවැරැදි ව හඳුනාගත හැකි වනුයේ අක්ෂර මගිනි. **(අත්ථො අක්ඛරසඤ්ඤාතො)** අක්ෂර නිවැරැදි ව නො යෙදුවහොත් අර්ථය වරදී. 'ශාස්තෘ' යන අර්ථය දැනවීමට **'සත්තා'** ලෙස ලියුවහොත් ඉන් අදහස් වනුයේ 'ශාස්තෘ' නොව 'සතුරා' හෝ 'සත්ත්වයෝ' යන්න යි.

සන්ධි, නාම, සමාස, තද්ධිත, කිතක, ආඛ්‍යාත ආදි ව්‍යාකරණාංග හැදෑරීමේ දී ද අක්ෂරාවබෝධය අත්‍යවශ්‍ය වේ. ඇතැම් විට පාලියේ තනි අක්ෂරය අර්ථවත් පදයක් වන අවස්ථා ද ඇත.

**උදා:- සා** (ඇය, සුනඛයා), **ක** (ජලය), **ජෙ** (බොල), **හො** (පින්වත), **මා** (එපා)

පාලි භාෂාවෙන් යමක් ලිවීමට භාවිත කරන සුවිශේෂ වූ සංකේත විශේෂයක් නොමැති බව ද සිහි තබා ගත යුතු ය. අප සිංහල අකුරෙන් පාලි හෝඩිය ලියා දක්වන අතර සියම්, බුරුම, ඉංග්‍රීසි, ජපන් ආදි රටවල වැසියෝ තම තමන්ගේ භාෂාවල අක්ෂරවලින් පාලි හෝඩිය ලියනු ලැබේ.

**පාලි අක්ෂර මාලාව**

**ස්වර** - 08

**අ, ආ, ඉ. ඊ, උ, ඌ, එ, ඔ**

**ව්‍යඤ්ජන** - 33

**ක, ඛ, ග, ඝ, ඞ,**
**ච, ඡ, ජ, ඣ, ඤ,**
**ට, ඨ, ඩ, ඪ, ණ,**
**ත, ථ, ද, ධ, න**
**ප, ඵ, බ, භ, ම,**
**ය, ර, ල, ව,**
**ස, හ, ළ,**
**(අ)ං**

**ස්වර**

තමා ම බැබළේ යන අදහසින් ස්වර නම් වේ. (**සයං රාජන්තී'ති සරා**) එසේ ම ව්‍යඤ්ජනාක්ෂරයන් උසුරුවීමට ආධාර වන හෙයින් ද ස්වර නම් වේ. (**ව්‍යඤ්ජනෙ සාරාපෙන්තී'ති සරා**)

ස්වර අට අතුරින් තුනක් (**අ, ඉ, උ**) හ්‍රස්ව වන අතර, ඉතිරි ඒවා දීර්ඝ ස්වර වේ. **(ආ, ඊ, ඌ, එ, ඔ)**

- සංයෝගයකට මුලින් ඇති 'එ', 'ඔ' දෙක හ්‍රස්වව උච්චාරණය වේ.

**උදා:- එත්ථ, සෙය්‍යථීදං, ඔට්ඨො, සොත්ථි**

■ සංයෝගයක් නැති විට දීර්ඝව උච්චාරණය වේ.

උදාඃ- **එවං, එකං, සොතං, ඔදනං, දෙවො**

■ 'එ', 'ඔ' අකුරු දෙක අසවර්ණ නම් වේ.

## ව්‍යඤ්ජන

ව්‍යක්ත අර්ථ දැනවීමෙහි සමත් අකුරු '**ව්‍යඤ්ජන**' නම් වේ. (**ව්‍යඤ්ජයති අත්‍ථො එතෙහී'ති ව්‍යඤ්ජනා**)

## වර්ගාක්ෂර

පහත දැක්වෙන පරිදි 'ක' සිට 'ම' දක්වා පහ පහ බැගින් ඇති අකුරු 25 වර්ගාක්ෂර නම් වේ. (**බ්‍යඤ්ජනානං කාදයො මකාරන්තා පඤ්ච පඤ්චවසො අක්ඛරවන්තො වග්ගා**)

| | | |
|---|---|---|
| 'ක' වග්ග | - | **ක, ඛ, ග, ඝ, ඞ** |
| 'ච' වග්ග | - | **ච, ඡ, ජ, ඣ, ඤ** |
| 'ට' වග්ග | - | **ට. ඨ, ඩ, ඪ, ණ** |
| 'ත' වග්ග | - | **ත, ථ, ද, ධ, න** |
| 'ප' වග්ග | - | **ප, ඵ, බ, භ, ම** |

මේවා අක්ෂර උපදින ස්ථානවල හා දිව මැද මැනවින් ස්පර්ශ වන හෙයින් '**ස්පර්ශාක්ෂර**' ලෙස ද නම් කෙරේ.

අනෙක් අක්ෂර '**ක**' වර්ග, '**ච**' වර්ග ආදි ලෙස කිසියම් වර්ගයකට නොවැටෙන හෙයින් '**අවර්ගාක්ෂර**' නම් වේ.

## අඝෝෂාක්ෂර

වර්ගයන්ගේ පළමු දෙවන අකුරු 10 ද 'ස' කාරය ද අඝෝෂ නම් වේ. (**වග්ගානං පඨමදුතියා සො චාඝොසා**)

**ක, ඛ, ච, ඡ, ට, ඨ, ත, ථ, ප, ඵ, ස**

### ඝෝෂාක්ෂර

අඝෝෂ අකුරු 11 හා නිග්ගහීතය හැර 'ළ'කාරය අන්ත කොට ඇති ඉතිරි අකුරු 21 ඝෝෂාක්ෂර වේ. **(ළන්තාඤ්ඤෙ ඝෝසා)**

**ග, ඝ, ඞ, ජ, ඣ, ඤ, ඩ, ඪ, ණ, ද, ධ, න, බ, භ, ම, ය, ර, ල, ව, හ, ළ**

### නිග්ගහීත

'(අ)ං' බින්දුව නිග්ගහීතය ලෙස හැඳින්වේ. මුල්කාලයේ අකුරු උඩින් බිංදුව ලියන ලද බැවින් සිළුමිණක ආකාරය උසුලන අතර තනිව උසුරුවිය නොහැකි බැවින් ඊට මුලින් 'අ' කාරයක් යොදා කියනු ලැබේ.

**බින්දු චූළාමණාකාරො - නිග්ගහීතන්ති වුච්චතෙ**
**කෙවලස්සාප්පයොගත්තා - අකාරො සන්නිධීයතෙ**

### අන්තඃස්ථාක්ෂර

ය, ර, ල, ව යන අකුරු 04 ස්වර ස්වභාවයත්, ව්‍යඤ්ජන ස්වභාවයත් අතර පවතින හෙයින් මෙනමින් හැඳින් වේ. මේවා **ද්වීයාක්ෂර** ලෙස ද, අක්ෂර උත්පත්ති ස්ථානවල සම්පූර්ණයෙන් ස්පර්ශ නොවන හෙයින් **ඊසම්ඵුට්ඨ** ලෙස ද හැඳින් වේ.

### අක්ෂර උත්පත්ති ස්ථාන



## අක්ෂරයන්ගේ ප්‍රභේද

<table>
<tr><td rowspan="2">ස්වර</td><td>හ්‍රස්ව ස්වර</td><td>අ, ඉ, උ<br>(ලහුමත්තා තයො රස්සා)</td><td rowspan="2">අඝෝෂ</td><td rowspan="2">ක, ඛ, ච, ඡ, ට, ඨ, ත, ථ,ප, ඵ, ස<br>(වග්ගානං පඨමදුතියා සො චාඝොසා)</td></tr>
<tr><td>දීර්ඝ ස්වර</td><td>ආ, ඊ, ඌ, ඒ, ඕ<br>(අඤ්ඤෙ දීඝා)</td></tr>
<tr><td colspan="2">වර්ගාක්ෂර</td><td>ක, ඛ, ග, ඝ, ඞ<br>ච, ඡ, ජ, ඣ, ඤ<br>ට. ඨ, ඩ, ඪ, ණ<br>ත, ථ, ද, ධ, න<br>ප, ඵ, බ, භ, ම<br>(වග්ගා පඤ්චපඤ්චසො මන්තා)</td><td>ඝෝෂ</td><td>ග, ඝ, ඞ, ජ, ඣ, ඤ, ඩ, ඪ, ණ, ද, ධ, න, බ, භ, ම, ය, ර, ල, ව, හ, ළ,<br><br>(ළන්තාඤ්ඤෙ ඝොසා)</td></tr>
<tr><td colspan="2">අවර්ගාක්ෂර</td><td>ය, ර, ල, ව, ස, හ, ළ, (අ)ං</td><td>නිග්ගහීත</td><td>(අ)ං<br>(අං ඉති නිග්ගහීතං)</td></tr>
<tr><td colspan="2">අන්තඃස්ථාක්ෂර</td><td>ය, ර, ල, ව</td><td>අල්පප්‍රාණ</td><td>ක, ග, ච, ජ, ට, ඩ, ත, ද, ප, බ,</td></tr>
<tr><td colspan="2">ඌෂ්මාක්ෂර</td><td>ස, හ</td><td>මහාප්‍රාණ</td><td>ඛ, ඝ, ඡ, ඣ, ඨ, ඪ, ථ, ධ, ඵ, භ,</td></tr>
</table>

### අභ්‍යාස

01. සිංහලට නඟන්න.

i. අකාරාදයො නිග්ගහීතන්තා එකචත්තාළීසක්ඛරා භවන්ති.
ii. එකො මනුස්සො අක්ඛරානි දිස්වා 'කිං හො ඉද'න්ති අක්ඛරඤ්ඤුං මනුස්සං පක්කොසාපෙත්වා දස්සෙසි.
iii. යො නිරුත්තිං න ජානාති - ජානාති පිටකත්තයං
පදෙ පදෙ විකඞ්ඛෙය්‍ය - වනෙ අන්ධගජො විය.
iv. අක්ඛරචින්තකා (ව්‍යාකරණඥයෝ) සුග්ගහිතසුත්තා නං අත්ථඤ්ච පාළිඤ්ච පටිබුජ්ඣන්ති.
v. ඉදානි පන මුද්දිතපොත්ථකානං සුලභතාය තාලපණ්ණෙසු ලිඛිතා දුල්ලභා හොන්ති.

02. පාලියට නඟන්න.

i. සාමණේර තෙමේ පැන (අකඛරචඤ්ඤු) ගෙන පොතෙහි අකුරු ලියා ගුරුවරයාට පෙන්වීය.
ii. පාලි භාෂාවේ ව්‍යඤ්ජනාක්‍ෂරයෝ තිස්තුනක් වෙති.
iii. ඇතමෙක් බිංදුවට නිග්ගහීත යැයි කියත්.
iv. පුස්කොළ පොත්වල අකුරු රටා 03ක් දක්නට ලැබේ.
v. මුගලන් ඇදුරෝ අකුරුවලට වර්ණ යැයි ව්‍යවහාර කරත්.

03. අර්ථවත් ඒකාක්‍ෂර පද 20ක් ලියන්න.

04. හිස්තැන් පුරවන්න.

| අක්‍ෂර | උපදින ස්ථානය | බාලාවතාර සූත්‍ර පාඨය |
|---|---|---|
| ව | දත් සහ තොල් | වො දන්තොට්ඨජො |
| ඉ, ඡ | | |
| ග, හ, | | |
| උ, ඵ | | |
| ල, ස | | |
| ට, ළ | | |

05. පහත දැක්වෙන පදවල අක්‍ෂර වින්‍යාසය නිවැරැදි කොට ලියන්න.

i. අණනො
ii. අට්ටාරස
iii. විශෙෂං
iv. මා නිවත්ථ
v. අජ්ජබාසි
vi. නිබ්භත්තති
vii. පුරිසධම්මසාරථී
viii. චත්තාලීසති
ix. උච්ඡාරණ
x. සම්බත්තං

දුතියො පාඨො

# ඒතු ඛො භන්තෙ භගවා සවාගතං භන්තෙ

එකං සමයං භගවා වෙසාලියං විහරති මහාවනෙ කූටාගාරසාලායං. තෙන ඛො පන සමයෙන වච්ඡගොත්තො පරිබ්බාජකො එකපුණ්ඩරීකෙ පරිබ්බාජකාරාමෙ පටිවසති. අථ ඛො භගවා පුබ්බණ්හසමයං නිවාසෙත්වා පත්තචීවරමාදාය වෙසාලියං පිණ්ඩාය පාවිසි. අථ ඛො භගවතො එතදහොසි. අතිප්පගො ඛො තාව වෙසාලියං පිණ්ඩාය චරිතුං. යන්නූනාහං යෙන එකපුණ්ඩරීකො පරිබ්බාජකාරාමො, යෙන වච්ඡගොත්තො පරිබ්බාජකො තෙනුපසඞ්කමෙය්‍යන්ති. අථ ඛො භගවා යෙන එකපුණ්ඩරීකො පරිබ්බාජකාරාමො යෙන වච්ඡගොත්තො පරිබ්බාජකො තෙනුපසඞ්කමි. අද්දසා ඛො වච්ඡගොත්තො පරිබ්බාජකො භගවන්තං දූරතොව ආගච්ඡන්තං. දිස්වාන භගවන්තං එතදවොච. ඒතු ඛො භන්තෙ, භගවා. සවාගතං භන්තෙ, භගවතො, චිරස්සං ඛො භන්තෙ භගවා ඉමං පරියායමකාසි යදිදං ඉධාගමනාය. නිසීදතු, භන්තෙ, භගවා ඉදමාසනං පඤ්ඤත්තන්ති. නිසීදි භගවා පඤ්ඤත්තෙ ආසනෙ. වච්ඡගොත්තොපි ඛො පරිබ්බාජකො අඤ්ඤතරං නීචං ආසනං ගහෙත්වා එකමන්තං නිසීදි.

**(තෙවිජ්ජවච්ඡගොත්ත සුත්ත - මජ්ඣිමනිකාය)**

පදමාලාව

| | | | |
|---|---|---|---|
| භගවා | (ත) | - | භාග්‍යවතුන් වහන්සේ |
| වෙසාලියං | (නා) | - | විශාලාවෙහි |
| විහරති | (ක්‍රි) | - | වාසය කරයි |
| මහාවනෙ | (ස) | - | මහ වනයෙහි |
| කූටාගාරසාලායං | (ස) | - | කූටාගාර ශාලාවේ |
| වච්ඡගොත්තො | (ස) | - | වච්ඡගොත්ත තෙමේ |
| එකපුණ්ඩරීකෙ | (ස) | - | ඒක පුණ්ඩරික නම් වූ |
| පටිවසති | (ක්‍රි) | - | වාසය කරයි |
| පුබ්බණ්හසමයං | (ස) | - | උදය කාලයේ / පෙරවරුවෙහි |
| නිවාසෙත්වා | (පූ.ක්‍රි) | - | හැඳ පොරවා |
| ආදාය | (පූ.ක්‍රි) | - | ගෙන |
| පාවිසි | (ක්‍රි) | - | පිවිසියේ ය |
| අතිප්පගො | (නි) | - | කල්වැඩිය / ඉතා වේලාසනය |
| තාව | (නි) | - | තවම, ඒතාක් |
| චරිතුං | (තුං) | - | හැසිරෙන්නට |
| යන්නූන | (සං) | - | මැනවි / ඉතා යෙහෙකි |
| අද්දසා | (ක්‍රි) | - | දුටුවේය |
| දූරතොව | (සං) | - | දුරින් ම |

| | | | |
|---|---|---|---|
| **එතු** | (ක්‍රි) | - | පැමිණේවා, වඩිනු මැනවි |
| **සවාගතං** | (නි) | - | යහපත් පැමිණීමක් වේවා |
| **පරියායමකාසි** | (සං) | - | පියවර කළේය |
| **යදිදං** | (සං) | - | යම් මේ |
| **ඉධාගමනාය** | (සං) | - | මෙහි පැමිණීම පිණිස |
| **නිසීදතු** | (ක්‍රි) | - | හිඳගනීවා |
| **ඉදමාසනං** | (සං) | - | මේ අසුන |
| **පඤ්ඤත්තං** | (කි) | - | පනවන ලද |
| **නීචං** | (නා) | - | මිටි / පහත් |

**අභ්‍යාස**

01. 'එතු ඛො භන්තෙ භගවා සවාගතං භන්තෙ' යන ඡේදය සිංහලට නගන්න.

02. පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. තදා භගවා කුහිං විහරි?
ii. වච්ඡගොත්තො පරිබ්බාජකො කත්ථ පටිවසති?
iii. අතිප්පගො ඛො තාව වෙසාලියං පිණ්ඩාය චරිතුන්ති කො චින්තෙසි?
iv. කො දූරතොව ආගච්ඡන්තං භගවන්තං අද්දස?
v. වච්ඡගොත්තො පරිබ්බාජකො භගවන්තං දිස්වා කිං කථෙසි?

03. පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. වච්ඡගොත්ත පරිබ්‍රාජක තෙමේ කුමන නගරයක වාසය කළේ ද?
ii. බුදුරදුන් වඩින බව දුටු වච්ඡගොත්ත පරිබ්‍රාජක තෙමේ උන්වහන්සේ පිළිගත්තේ කෙසේ ද?
iii. "නීචං ආසනං" යනුවෙන් හැඳින්වූයේ කුමක් ද?
iv. බුදුහිමියන්ගේ දිනචරියාවේ කවර අංගයක් මෙම ඡේදයෙන් විස්තර වේ ද?
v. මෙම ඡේදයෙන් බුදුහිමියන්ගේ කිනම් ගුණයක් ප්‍රකාශ වේ ද?

## නාම වරනැඟීම

**හැඳින්වීම**

පාලි භාෂාවේ **නාම** හා **ආඛ්‍යාත** යයි පද වර්ග දෙකකි. **ස්‍යාද්‍යන්ත** යනු නාම පද යි. **ත්‍යාද්‍යන්ත** යනු ආඛ්‍යාත පදයි. නාම පද හා ආඛ්‍යාත පද ප්‍රකෘති - ප්‍රත්‍යය යෝග යෙන් තැනේ. නාමවලට "**සි**" ආදි (ස්‍යාදි) ප්‍රත්‍යය එක් වී නාමපද ද ධාතුවලට "**ති**" ආදි (ත්‍යාදි) ප්‍රත්‍යය එක් වී ක්‍රියාපද ද සෑදේ.

නාම පද යනු ලිංගයට හෙවත් නාමයට පසුව සි ආදි විභක්ති ප්‍රත්‍යයන් යෙදී සෑදෙන පද විශේෂයකි.

| | | | | | |
|---|---|---|---|---|---|
| ඒක වචන | - | බුද්ධ + සි | බහුවචන | - | බුද්ධ + යො |
| | | බුද්ධ + (සි >) ඔ | | | බුද්ධ + (යො >) ආ |
| | | බුද්ධ් + ඔ | | | බුද්ධ් + ආ |
| | | බුද්ධො | | | බුද්ධා |

යනා දි වශයෙන් පද සිද්ධ වේ.

**නාම විභක්ති**

පාලි භාෂාවේ නාම විභක්ති නවය (09) කි. ලිංගය හෙවත් ශබ්දප්‍රකෘතිය කර්ම, කර්තෘ ආදි වශයෙන් හා ඒකවචන, බහුවචන වශයෙන් ඒ ඒ අර්ථයන්ට බෙදන නිසා '**විභක්ති**' නම් වේ. පහත දැක්වෙන ඒකී විභක්ති අතර ආලපන විභක්තිය පඨමා විභක්තියේ ම කොටසක් ලෙස ද කරණ විභක්තිය තතියා විභක්තියේ ම කොටසක් ලෙස ද සැලකේ. විභක්ති නමය (09) පහත දැක්වේ.

i. **පඨමා විභත්ති**
ii. **ආලපන විභත්ති**
iii. **දුතියා විභත්ති**
iv. **තතියා විභත්ති**
v. **කරණ විභත්ති**
vi. **චතුත්ථී විභත්ති**
vii. **පඤ්චමී විභත්ති**
viii. **ඡට්ඨී විභත්ති**
ix. **සත්තමී විභත්ති**

**නාම විභක්ති ප්‍රත්‍යය**

ශබ්ද ප්‍රකෘතියකට පසුව නාම විභක්ති ප්‍රත්‍යය යෙදී ඒකවචන, බහුවචන භේදයත් පඨමා, දුතියා ආදි විභක්ති භේදයත් ප්‍රකාශ කරන්නේ නාම විභක්ති ප්‍රත්‍යය යි. පාලියේ එබඳු ප්‍රත්‍යය තුදුසක් (14) පෙන්වා දී ඇත. ඒ ඒ විභක්තිවලට ඒවා අයත් වන ආකාරය හා එහි භාවිතය පහත වගුවෙන් තේරුම් ගන්න.

| විභක්තිය | සූත්‍රපාඨය | ඒකවචන | බහුවචන |
|---|---|---|---|
| පඨමා | සි යො ඉති පඨමා | සි | යො |
| දුතියා | අං යො ඉති දුතියා | අං | යො |
| තතියා | නා හි ඉති තතියා | නා | හි |
| චතුත්ථී | ස නං ඉති චතුත්ථී | ස | නං |
| පඤ්චමී | ස්මා හි ඉති පඤ්චමී | ස්මා | හි |
| ඡට්ඨී | ස නං ඉති ඡට්ඨී | ස | නං |
| සත්තමී | ස්මිං සු ඉති සත්තමී | ස්මිං | සු |

**(තතොච විභත්තියො සි යො අං යො නා හි ස නං ස්මා හි ස නං ස්මිං සූති විභත්තියො)**

**පඨමා විභක්තිය . ලිඞ්ගත්ථෙ පඨමා**

නාම විභක්ති නවයෙහි පළමු විභක්තිය පඨමා විභක්තිය යි. පඨමා විභක්තිය උක්තාර්ථයේ යෙදේ. අවසාන ආඛ්‍යාතයෙන් කියවෙන අර්ථය උක්තාර්ථය යි. කර්තෘකාරක වාක්‍යවල උක්ත කර්තෘ හා කර්මකාරක වාක්‍යවල උක්ත කර්මය පඨමා විභක්තියෙන් සිටී.

**පුරිසො ගාමං ගච්ඡති.** (කර්තෘකාරක)
**කඤ්ඤාය ඔදනො පච්චතෙ.** (කර්මකාරක)

**ආලපන විභක්තිය - අභිමුඛීකරණමාලපනං**

ආලපන යනු ඉදිරියේ සිටින කෙනෙකුට ඇමතීම යි. ආමන්ත්‍රණවාචී පද ආලපන විභක්තියෙන් යෙදේ.

**හෙ පුත්ත, ඉහාගච්ඡ.** (පින්වත් පුත්‍රය, මෙහි එන්න)
**අනුජානාමි භික්ඛවෙ, වස්සං උපගන්තුං** (මහණෙනි, වස් එළඹෙන්නට අනුදනිමි)

**දුතියා විභක්තිය - කම්මත්ථෙ දුතියා**

දුතියා විභක්තිය කර්මාර්ථයේ යෙදේ. කර්තෘගේ ක්‍රියාවට යටත් වන්නේ කර්මය යි. යමක් කරයි ද එය කර්මය යි.

**කුමාරො භත්තං භුඤ්ජති.** (කුමාරයා බත් අනුභව කරයි)
**සාමණෙරො ලෙඛනං ලිඛති.** (සාමණේරයන් වහන්සේ ලියුමක් ලියති)

**තතියා විභක්තිය - කත්තරි ච**

කර්තෘ අර්ථය සඳහා තතියා විභක්තිය යෙදේ. ක්‍රියාව කරන්නා කර්තෘ නම් වේ. එය උක්ත කර්තෘ, අනුක්ත කර්තෘ යයි දෙපරිදි වේ. ඉන් අනුක්ත කර්තෘ පදය තතියාවෙන් සිටී. කර්තෘ අනුක්ත වන්නේ කර්මකාරක හා භාවකාරක ආඛ්‍යාත යෝගයේ දී ය. විසින් යන අර්ථය ලැබෙනුයේ මෙම විභක්තිය යෙදීමෙනි.

**සූදෙන** ඔදනො පචචතෙ. (**අරක්කැමියා විසින්** බත් පිසනු ලැබේ) **(කර්මකාරක)**
**තුමෙහහි** කතතබබං කුසලං. (**නුඹලා විසින්** කුසල් කළ යුතු ය) **(භාවකාරක)**

**කරණ විභක්තිය - කරණෙ තතියා - යෙන වා කයිරතෙ තං කරණං**

කරණයේ දී තතියා විභක්තිය වෙයි. යමකින් කරණු ලැබේ ද එය කරණය යි. ක්‍රියාව සිදු කිරීම සඳහා කර්තෘහට අතිශයින් උපකාර වනුයේ කරණය යි. යමක් කිරීමට උපකාර වන්නේ කරණය යි. පොරෝ කරණකොට ගෙන ගස කපයි, නැතහොත් **පොරොවෙන්** ගස කපයි. (**ඵරසුනා** රුකඛං ඡිනදති) යන නිදසුනෙන් කරණ විභක්තියේ භාවිතය තේරුම් ගන්න.

සො **පාදෙන** කුනදුකං පහරති. (ඔහු **පයින්** බෝලයට ගසයි)
**සුනඛො** මුඛෙන ඩසති. (බල්ලා **කටින්** හපයි)

**චතුත්ථී විභක්තිය - සමපදානෙ චතුත්ථී**

සම්ප්‍රදානාර්ථයේ චතුත්ථී විභක්තිය වේ. කර්තෘ පූජා බුද්ධියෙන් හෝ අනුග්‍රහ බුද්ධියෙන් යමෙකුට දීමට කැමති වේ ද, දීමට රුචි වේ ද යමක් දරා ද මෙම දීම්, දැරීම්, හෝ රුචි කිරීම් ලබන්නා සම්ප්‍රදාන හෙවත් චතුත්ථී විභක්තියෙන් යෙදේ. **ට, හට, පිණිස, සඳහා** යන අරුත් ලැබෙනුයේ මෙම විභක්තිය යෙදීමෙනි.

උපාසකො **සංඝසස** චීවරං දදාති. (උපාසක තෙමේ **සංඝයාට** සිවුර දෙයි)
**සමණසස** සචචං රොචතෙ. (**ශ්‍රමණයාට** සත්‍යය රුචි වේ)

**පඤ්චමී විභක්තිය - අපාදානෙ පඤ්චමී**

අපාදාන අර්ථයේ පඤ්චමී විභක්තිය යෙදේ. යමකු කෙරෙන් ඉවත් වේ ද, බිය වේ ද, ගන්නේ වේ ද, කර්තෘගේ පහවීම් ආදියට නිමිති වූ දේ පඤ්චමී විභක්තියෙන් යෙදේ. **කෙරෙන්, ගෙන්** යන අරුත් ලැබෙනුයේ මෙම විභක්තිය යෙදීමෙනි.

සුනඛා **ගාමා** අපෙනති. (බල්ලෝ **ගමින්** පිට වෙත්)
මනුසසා **චොරා** භායනති. (මිනිස්සු **සොරා කෙරෙන්** බිය වෙත්)
සිසෙසා **උපජඣායා** සිකඛං ගණහාති. (ශිෂ්‍යයා **ගුරුවරයා කෙරෙන්** ශික්ෂාව ගනියි)

**ඡට්ඨී විභක්තිය** - **සාමිසම්ං ඡට්ඨී**

ස්වාමි අර්ථයේ ඡට්ඨී විභක්තිය යෙදේ. යමෙකුගේ අයිතියක් වේ ද, එය සාමි නම් වේ. යමෙකු හෝ යමකට අයත්ය, **ගේ** (මගේ, ඔහුගේ) යන අර්ථය ප්‍රකාශ කිරීම සඳහා මෙය භාවිත වේ.

| | |
|---|---|
| **භික්ඛුනො** චීවරං | (භික්ෂුවගේ සිවුර) |
| **නරානං** ඉස්සරො | (මිනිසුන්ගේ අධිපතියා) |
| **රුක්ඛස්ස** සාඛා | (ගසේ අත්ත) |

**සත්තමී විභක්තිය** - **ඔකාසෙ සත්තමී**

සත්තමී විභක්තිය අවකාශ හෝ ආධාරාර්ථයේ යෙදේ. යම් ක්‍රියා සිද්ධියක පැවැත්මට යමක්, යමෙක්, දෙයක් හෝ තැනක් හෝ ආධාර වේ ද එය සත්තමී විභක්තියෙන් තබනු ලැබේ.

| | |
|---|---|
| **රාජා ආසනෙ නිසීදති.** | (රජ තෙමේ අසුනෙහි හිඳියි) |
| **දාරකො මඤ්චෙ සෙති.** | (දරුවා ඇඳෙහි නිදයි) |
| **මාතා පුත්තෙසු පසීදති.** | (මව දරුවන් කෙරෙහි පහදී) |

**සර්වනාම හා සංඛ්‍යානාම**

පොදුවේ යෙදිය හැකි නාම සර්වනාම නම් වේ. මේවා ලිංගත්‍රයේ වරනැගිය හැකිය. සර්වනාම ශබ්ද සමූහයක් බාලාවතාරයේ දැක්වේ.

**සබ්බ, කතර, කතම, උභය, ඉතර, අඤ්ඤ, අඤ්ඤතර, අඤ්ඤතම, පුබ්බ, පර, දක්ඛිණ, උත්තර, එක, ය, ත, එත, ඉම, අමු, කිං, තුම්හ, අම්හ ඉති සබ්බනාමානි** යනුවෙනි.

සර්වනාම වෙනත් නාමයක් වෙනුවට භාවිත කරනු ලැබේ.

නිදः සොමපාලො පරිවෙණං ගච්ඡති. **සො** තත්ථ ගන්ත්වා සිප්පං උග්ගණ්හාති

තවද සර්වනාම ශබ්ද විශේෂණ පද ලෙස ද භාවිත වේ.

- අථ ඛො **තෙසං භික්ඛූනං** එතදහොසි.
  (ඉක්බිති ඒ භික්ෂූන් වහන්සේලාට මෙබඳු අදහසක් විය)

- නමො **තස්ස භගවතො අරහතො** **සම්මා සම්බුද්ධස්ස.**
  (ඒ භාග්‍යවත් වූ අර්හත් වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේට නමස්කාරය වේවා)

- පරිනිබ්බුතො **සො භගවා** පරිනිබ්බාණාය ධම්මං දෙසෙති.
  (පිරිනිවියා වූ ඒ භාග්‍යවතුන් වහන්සේ පිරිනිවීම උදෙසා ධර්මය දේශනා කරන සේක)

**සංඛ්‍යා නාම**

**එක, ද්වි, ති, චතු, පඤ්ච, ඡ, සත්ත, අට්ඨ, නව, දස,** ආදි ශබ්ද සංඛ්‍යා වාචක නාම යි.

පහත වගුවෙන් දැක්වෙනුයේ ඒ ඒ සංඛ්‍යානාමය අයත් වන ලිංගය හා වරනැගෙන වචනයයි. එය ✓ ලකුණෙන් දක්වා ඇත.

| සංඛ්‍යානාමය | පුල්ලිංග | ඉත්ථි ලිංග | නපුංසකලිංග | ත්‍රිලිංගික | ඒක වචන | බහු වචන |
|---|---|---|---|---|---|---|
| එක | ✓ | ✓ | ✓ | - | ✓ | - |
| ද්වි | - | - | - | ✓ | - | ✓ |
| ති | ✓ | ✓ | ✓ | - | - | ✓ |
| චතු | ✓ | ✓ | ✓ | - | - | ✓ |
| පඤ්ච | - | - | - | ✓ | - | ✓ |
| ඡ සිට අට්ඨාරස තෙක් | - | - | - | ✓ | - | ✓ |
| එකූනවීසති පටන් අට්ඨනවුති තෙක් | - | ✓ | | | ✓ | - |
| එකූනසත පටන් ලක්ඛ තෙක් | - | - | ✓ | - | ✓ | - |
| කොටි | - | ✓ | - | - | ✓ | - |

සංඛ්‍යානාම වරනැගීමේ ප්‍රභේද කීපයකි.

'එක' ශබ්දය සංඛ්‍යා අර්ථයේ දී ලිංගත්‍රයේ ම ඒකවචනයහි පමණක් වරනැගේ.

| විභත්ති | පුල්ලිංග | ඉත්ථිලිංග | නපුංසකලිංග |
|---|---|---|---|
| පඨමා | එකො | එකා | එකං |
| දුතිය | එකං | එකං | එකං |
| තතියා | එකෙන | එකාය | එකෙන |
| චතුත්ථී | එකස්ස | එකිස්සා/එකිස්සාය/එකාය | එකස්ස |
| පඤ්චමී | එකම්හා/එකස්මා | එකාය | එකම්හා/එකස්මා |
| ඡට්ඨී | එකස්ස | එකිස්සා/එකිස්සාය/එකාය | එකස්ස |
| සත්තමී | එකම්හි/එකස්මිං | එකිස්සං/එකස්සං/එකායං | එකම්හි/එකස්මිං |

● සංඛ්‍යාවාචී 'ද්වි' ශබ්දය ලිංගත්‍රයෙහි බහු වචනයෙහි පමණක් වරනැගේ.

| විභක්ති | ලිංගත්‍රයෙහි සමානය |
|---|---|
| පඨමා | ද්වෙ / දුවෙ |
| දුතියා | ද්වෙ / දුවෙ |
| තතියා | ද්වීහි/ද්වීභි |
| චතුත්ථී | ද්වින්නං/දුවින්නං |
| පඤ්චමී | ද්වීහි/ද්වීභි |
| ඡට්ඨී | ද්වින්නං/දුවින්නං |
| සත්තමී | ද්වීසු |

● ති, චතු ශබ්දයන් ලිංගත්‍රයෙහි බහු වචනයෙහි පමණක් වරනැගේ.

| විභක්ති | පුලලිංග | ඉත්ථිලිංග | නපුංසක ලිංග |
|---|---|---|---|
| පඨමා | තයො | තිස්සො | තීණි |
| දුතියා | තයො | තිස්සො | තීණි |
| තතියා | තීහි/තීභි | තීහි/තීභි | තීහි/තීභි |
| චතුත්ථී | තිණ්ණං/තිණ්ණන්නං | තිස්සන්නං | තිණ්ණං/තිණ්ණන්නං |
| පඤ්චමී | තීහි/තීභි | තීහි/තීභි | තීහි/තීභි |
| ඡට්ඨී | තිණ්ණං/තිණ්ණන්නං | තිස්සන්නං | තිණ්ණං/තිණ්ණන්නං |
| සත්තමී | තීසු | තීසු | තීසු |

| විභක්ති | පුල්ලිංග | ඉත්ථිලිංග | නපුංසක ලිංග |
|---|---|---|---|
| පඨමා | චත්තාරො/චතුරො | චතස්සො | චත්තාරි |
| දුතියා | චත්තාරො/චතුරො | චතස්සො | චත්තාරි |
| තතියා | චතූහි/චතූභි | චතූහි/චතූභි | චතූහි/චතූභි |
| චතුත්ථී | චතුන්නං | චතස්සන්නං | චතුන්නං |
| පඤ්චමී | චතූහි/චතූභි | චතූහි/චතූභි | චතූහි/චතූභි |
| ඡට්ඨී | චතුන්නං | චතස්සන්නං | චතුන්නං |
| සත්තමී | චතූසු | චතූසු | චතූසු |

● **පඤ්චච** ශබ්දයේ සිට **අට්ඨාරස** ශබ්දය තෙක් ඇති ශබ්ද ලිංගත්‍රයෙහි බහු වචනයෙහි පමණක් වරනැගේ.

| **විභක්ති** | **ලිංගත්‍රයෙහි සමානය** |
|---|---|
| **පඨමා** | පඤ්චච |
| **දුතියා** | පඤ්චච |
| **තතියා** | පඤ්චචහි |
| **චතුත්ථී** | පඤ්චචන්නං |
| **පඤ්චමී** | පඤ්චචහි |
| **ඡට්ඨී** | පඤ්චචන්නං |
| **සත්තමී** | පඤ්චචසු |

● **එකූනවීසති** ශබ්දයේ සිට **අට්ඨනවුති** ශබ්දය තෙක් ඇති ශබ්ද ඉත්ථිලිංගයේ ඒක වචනයෙහි පමණක් වරනැගේ.

| **විභක්ති** | **ඉත්ථිලිංග** |
|---|---|
| **පඨමා** | එකූනවීසති |
| **දුතියා** | එකූනවීසතිං |
| **තතියා** | එකූනවීසතියා |
| **චතුත්ථී** | එකූනවීසතියා |
| **පඤ්චමී** | එකූනවීසතියා |
| **ඡට්ඨී** | එකූනවීසතියා |
| **සත්තමී** | එකූනවීසතියං |

● **එකූනසත** ශබ්දයේ සිට **සතසහස්ස** ශබ්දය තෙක් ඇති ශබ්ද නපුංසකලිංග ඒක වචනයෙහි පමණක් වරනැගේ. එකූනසත ශබ්දය පහත වගුවෙන් දක්වා ඇත.

| **විභක්ති** | **ඉත්ථිලිංග** |
|---|---|
| **පඨමා** | එකූනසතං |
| **දුතියා** | එකූනසතං |
| **තතියා** | එකූනසතෙන |
| **චතුත්ථී** | එකූනසතස්ස |
| **පඤ්චමී** | එකූනසතා/ එකූනසතම්හා/ එකූනසතස්මා |
| **ඡට්ඨී** | එකූනසතස්ස |
| **සත්තමී** | එකූනසතෙ/ එකූනසතම්හි/ එකූනසතස්මිං |

සංඛ්‍යා ශබ්දයන්ගෙන් කොටසක් පහත දක්වා ඇත.

| | | | |
|---|---|---|---|
| 01 | එක | 31 | එකතිංසති |
| 02 | ද්වි | 32 | ද්වත්තිංසති |
| 03 | ති | 33 | තෙත්තිංසති |
| 04 | චතු | 34 | චතුත්තිංසති |
| 05 | පඤ්ච | 35 | පඤ්චතිංසති |
| 06 | ඡ | 36 | ඡත්තිංසති |
| 07 | සත්ත | 37 | සත්තතිංසති |
| 08 | අට්ඨ | 38 | අට්ඨතිංසති |
| 09 | නව | 39 | එකුනචත්තාළීසති |
| 10 | දස | 40 | චත්තාළීසති |
| 11 | එකාදස | 41 | එකචත්තාළීසති |
| 12 | ද්වාදස - බාරස | 42 | ද්විචත්තාළීසති |
| 13 | තෙරස - තෙළස | 43 | තිචත්තාළීසති |
| 14 | චුද්දස - චතුද්දස -චොද්දස | 44 | චතුචත්තාළීසති |
| 15 | පඤ්චදස - පණ්ණරස | 45 | පඤ්චචත්තාළීසති |
| 16 | සොළස - සොරස | 46 | ඡචත්තාළීසති |
| 17 | සත්තදස - සත්තරස | 47 | සත්තචත්තාළීසති |
| 18 | අට්ඨාදස - අට්ඨාරස | 48 | අට්ඨචත්තාළීසති |
| 19 | එකුනවීසති | 49 | එකුනපඤ්ඤාසති |
| 20 | වීසති - වීස | 50 | පඤ්ඤාසති |
| 21 | එකවීසති | 51 | එකපඤ්ඤාසති |
| 22 | දෙවවීසති - ද්වාවීසති -බාවීසති | 52 | ද්විපඤ්ඤාසති |
| 23 | තෙවීසති - තෙවීස | 53 | තිපඤ්ඤාසති |
| 24 | චතුවීසති | 54 | චතුපඤ්ඤාසති |
| 25 | පඤ්චවීසති | 55 | පඤ්චපඤ්ඤාසති |
| 26 | ඡබ්බීසති | 56 | ඡපඤ්ඤාසති |
| 27 | සත්තවීසති | 57 | සත්තපඤ්ඤාසති |
| 28 | අට්ඨවීසති | 58 | අට්ඨපඤ්ඤාසති |
| 29 | එකුනතිංසති | 59 | එකුනසට්ඨි |
| 30 | තිංසති | 60 | සට්ඨි |

| | |
|---|---|
| 61 | එකසට්ඨි |
| 62 | ද්විසට්ඨි |
| 63 | තිසට්ඨි |
| 64 | චතුසට්ඨි |
| 65 | පඤ්චසට්ඨි |
| 66 | ඡසට්ඨි |
| 67 | සත්තසට්ඨි |
| 68 | අට්ඨසට්ඨි |
| 69 | එකූනසත්තති |
| 70 | සත්තති |
| 71 | එකසත්තති |
| 72 | ද්විසත්තති |
| 73 | තිසත්තති |
| 74 | චතුසත්තති |
| 75 | පඤ්චසත්තති |
| 76 | ඡසත්තති |
| 77 | සත්තසත්තති |
| 78 | අට්ඨසත්තති |
| 79 | එකූනාසීති |
| 80 | අසීති |
| 81 | එකාසීති |
| 82 | ද්වාසීති |
| 83 | ත්‍යාසීති |
| 84 | චතුරාසීති |

| | |
|---|---|
| 85 | පඤ්චාසීති |
| 86 | ඡාසීති |
| 87 | සත්තාසීති |
| 88 | අට්ඨාසීති |
| 89 | එකූනනවුති |
| 90 | නවුති |
| 91 | එකනවුති |
| 92 | ද්වෙනවුති |
| 93 | තිනවුති |
| 94 | චතුනවුති |
| 95 | පඤ්චනවුති |
| 96 | ඡනවුති / ඡන්නවුති |
| 97 | සත්තනවුති |
| 98 | අට්ඨනවුති |
| 99 | එකූනසතං |
| 100 | සතං |
| 200 | ද්විසතං |
| 300 | තිසතං |
| 400 | චතුසතං |
| 500 | පඤ්චසතං |
| 1000 | සහස්සං |
| 100,000 | සතසහස්සං - ලක්ඛං |
| 10,000,0000 | දසකොටි |

සංඛ්‍යා ශබ්දයන් වාක්‍යයන්හි යෙදෙන අයුරු පහත දැක්වේ.

i. දසසු පුරිසෙසු පඨමො ඡෙකො භවති.
(පුරුෂයන් දස දෙනාගෙන් පළමු වැන්නා දක්ෂයෙක් වෙයි)

ii. අක්ඛරාපාදයො එකචත්තාළිසං හොන්ති.
(අ ආදි අකුරු හතළිස් එකක් වේ)

iii. භගවා චත්තාරි අරියසච්චානි පකාසෙසි.
(භාග්‍යවතුන් වහන්සේ චතුරාර්ය සත්‍යය ප්‍රකාශ කළ සේක)

**අභ්‍යාස**

පහත වගුව සම්පූර්ණ කරන්න.

| නාමය | චතුර්ථී විභක්ති ඒකවචන | | පංචමී විභක්ති ඒකවචන | | ෂෂ්ඨී විභක්ති ඒකවචන | |
|---|---|---|---|---|---|---|
| | පාලි පදය | සිංහල අර්ථය | පාලි පදය | සිංහල අර්ථය | පාලි පදය | සිංහල අර්ථය |
| වානර | | | | | | |
| කවි | | | | | | |
| වනිතා | | | | | | |
| රුක්ඛ | | | | | | |
| අග්ගි | | | | | | |
| ජම්බු | | | | | | |
| ගො | | | | | | |
| ඵල | | | | | | |
| ඉම | | | | | | |

2. පහත දැක්වෙන පාලි වාක්‍යයන්හි හිස්තැන්වලට සුදුසු සංඛ්‍යා ශබ්දයන් වරහන් තුළින් තෝරා යොදන්න.
(දසහි, අසීති, ද්වත්තිංස, සහස්සං, තිස්සො)

i. භගවතො ............ මහාපුරිසලක්ඛණා හොන්ති.
ii. තස්ස කායෙ ............ අනුබ්‍යඤ්ජනානි දිස්සන්ති.
iii. ............ ඉමා භික්ඛවෙ ධාතුයො.
iv. සො ............ මානුසෙ සංගාමෙ ජිනාති.
v. ............ අඞ්ගෙහි සමන්නාගතො අරහාති වුච්චති.

3. සිංහලට නගන්න.

i. එකං සමයං භගවා වෙසාලියං විහරති මහාවනෙ කූටාගාරසාලායං.
ii. තීණිමානි භික්ඛවෙ අකුසලමූලානි.
iii. යත්ථ සීලවන්තා භික්ඛවො වසන්ති තත්ථ මනුස්සා සප්පුරිසා හොන්ති.
iv. භගවා පඨමං වස්සං බාරාණසියං ඉසිපතනාරාමෙ විහරි.
v. මාතා දස අම්බානි කිණිත්වා ධීතරානං දදිස්සති.

4. පාලියට නගන්න.

i. රජතුමා බුදුරජාණන් වහන්සේ දකියි.
ii. වෙළෙන්දෝ ගොවීන් සමග ගස් කපති.
iii. මසුන් මරන්නෝ කරත්තවලින් ගමට මාළු ගෙනෙත්.
iv. මාගේ සහෝදරයා මිත්‍රයන් දෙදෙනෙකු සමග අනුරාධපුරයට ගියේ ය.
v. මහණෙනි, පැවිද්දා විසින් සේවනය නොකළ යුතු අන්ත දෙකකි.

5. සුදුසු සර්වනාම පද යොදා වාක්‍ය සම්පූර්ණ කර තේරුම ද ලියන්න.

(කො, යො, සො, සා, අහං, සබ්බං, තෙ)

i. ....... ගාවං න විජානාති ....... ගොගණං න රක්ඛති.
ii. ....... කිර එකදිවසං විනෙතසි ....... අපි පබ්බජිස්සාමි.
iii. ....... අන්ධවනං අජ්ඣොගාහෙසුං.
iv. වාණිජො ....... ධනං යාචකානං දත්වා අඤ්ඤං රට්ඨං අගමි.
v. ....... නදියා වාපියා ච අන්තරා ධෙනුං හරන්ති?

## තතියො පාඨො

# අක්කොසමෙව අලත්ථ.

අථ ඛො ආයස්මා රට්ඨපාලො උට්ඨායාසනා භගවන්තං අභිවාදෙත්වා පදක්ඛිණං කත්වා සෙනාසනං සංසාමෙත්වා පත්තචීවරං ආදාය යෙන ථුල්ලකොට්ඨිතං තෙන චාරිකං පක්කාමි. අනුපුබ්බෙන චාරිකං චරමානො යෙන ථුල්ලකොට්ඨිතං තදවසරි. තත්‍ර සුදං ආයස්මා රට්ඨපාලො ථුල්ලකොට්ඨිතෙ විහරති රඤ්ඤො කොරව්‍යස්ස මිගාචීරෙ. අථ ඛො ආයස්මා රට්ඨපාලො පුබ්බණ්හසමයං නිවාසෙත්වා පත්තචීවරං ආදාය ථුල්ලකොට්ඨිතං පිණ්ඩාය පාවිසි. ථුල්ලකොට්ඨිතෙ සපදානං පිණ්ඩාය චරමානො යෙන සකපිතුනිවෙසනං තෙනුපසංකමි. තෙන ඛො පන සමයෙන ආයස්මතො රට්ඨපාලස්ස පිතා මජ්ඣිමාය ද්වාරසාලාය උල්ලිඛාපෙති. අද්දසා ඛො ආයස්මතො රට්ඨපාලස්ස පිතා ආයස්මන්තං රට්ඨපාලං දූරතොව ආගච්ඡන්තං, දිස්වාන එතදවොච. “ඉමෙහි මුණ්ඩකෙහි සමණකෙහි අම්හාකං එකපුත්තකො පියො මනාපො පබ්බජිතො”ති. අථ ඛො ආයස්මා රට්ඨපාලො සකපිතුනිවෙසනෙ නෙව දානං අලත්ථ, න පච්චක්ඛානං, අඤ්ඤදත්ථු අක්කොසමෙව අලත්ථ. තෙන ඛො පන සමයෙන ආයස්මතො රට්ඨපාලස්ස ඤාතිදාසී ආභිදොසිකං කුම්මාසං ඡඩ්ඩෙතුකාමා හොති. අථ ඛො ආයස්මා රට්ඨපාලො තං ඤාතිදාසිං එතදවොච. “සචෙ තං භගිනි, ඡඩ්ඩනීයධම්මං ඉධ මෙ පත්තෙ ආකිරා’ ති.

(රට්ඨපාල සුත්ත - මජ්ඣිමනිකාය)

පදමාලාව

| | | | |
|---|---|---|---|
| උට්ඨායාසනා | (සං) | - | අසුනෙන් නැගිට |
| පදක්ඛිණං | (නා) | - | පැදකුණු |
| සංසාමෙත්වා | (පූ.ක්‍රි) | - | තැන්පත් කොට තබා/ සකසා තබා |
| ථුල්ලකොට්ඨිතං | (ස) | - | ථුල්ලකොට්ඨිත නම් නගරය |
| පක්කාමි | (ක්‍රි) | - | ගියේ ය |
| අනුපුබ්බෙන | (ස) | - | පිළිවෙළින් |
| චරමානො | (කි) | - | හැසිරෙන්නේ |
| තදවසරි | (සං) | - | එතැනට පැමිණියේ ය |
| තත්‍ර සුදං | (නි) | - | එහි දී |
| කොරව්‍යස්ස | (ත) | - | කොරව්‍ය ගේ |
| මිගාචීරෙ | (ස) | - | මිගාචීරයෙහි |
| සපදානං | (ස) | - | ගෙපිළිවෙළින් |
| සකපිතුනිවෙසනං | (ස) | - | තම පියාගේ නිවසට |
| මජ්ඣිමාය | (නා) | - | මැද |
| ද්වාරසාලාය | (ස) | - | ගෙහි සාලයෙහි |
| උල්ලිඛාපෙති | (ක්‍රි) | - | කොණ්ඩය පීරවයි |
| අද්දසා | (ක්‍රි) | - | දුටුවේ ය |

| | | | |
|---|---|---|---|
| **දූරතොව** | **(සං)** | - | දුර දී ම |
| **මුණ්ඩකෙහි සමණකෙහි** | **(ත)** | - | හිස මුඩු කරන ලද ශ්‍රමණයන් විසින් |
| **අලත්ථ** | **(ක්‍රි)** | - | ලැබුවේ ය. |
| **පච්චක්ඛානං** | **(සං)** | - | එපා යැයි කීම |
| **අඤ්ඤදත්ථු** | **(නි)** | - | ඒකාන්තයෙන් |
| **අක්කොසමෙව** | **(සං)** | - | බැනුම් ම |
| **ආභිදොසිකං** | **(නා)** | - | පිළුණු වූ |
| **කුම්මාසං** | **(නා)** | - | පිට්ටු |
| **ඡඩ්ඩෙතුකාමා** | **(කි)** | - | බැහැර කරනු කැමැත්තේ |
| **ආකිර** | **(ක්‍රි)** | - | දමන්න |

**අභ්‍යාස**

1. 'අක්කොසමෙව අලත්ථ' ඡේදය සිංහලට නගන්න.

2. පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. ආයස්මා රට්ඨපාලො කුහිං චාරිකං පක්කාමි?
ii. රඤ්ඤො කොරව්‍යස්ස මිගාචීරෙ කො වසති?
iii. ආයස්මා රට්ඨපාලො කතරස්මිං කාලෙ පිණ්ඩාය චරි?
iv. ථෙරස්ස පිතා කස්මා අක්කොසි?
v. සො ථෙරො තං ඤාතිදාසිං කිං කථෙසි?

3. පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. රට්ඨපාල රහතන් වහන්සේගේ ගම කුමක් ද?
ii. කොරව්‍ය රජුගේ උයනේ නම කුමක් ද?
iii. රට්ඨපාල හිමියන් දුටු පියතුමා පැවසුවේ කුමක් ද?
iv. රට්ඨපාල රහතන් වහන්සේට තම ගෙදරින් නොලැබුණේ මොනවා ද?
v. "ආභිදොසිකං කුම්මාසං" යන්න විස්තර කරන්න.

## කාරක

හැඳින්වීම

**කරොති කිරියං නිප්ඵාදෙතීති කාරකං, කිරියානිප්ඵත්තිනිමිත්තනත්‍ථො.**

ක්‍රියා නිෂ්පත්තියට නිමිති වීමෙන් ක්‍රියාව නිපදවනුයේ '**කාරක**' නම් වේ. ක්‍රියා නිෂ්පත්තියේ දී ප්‍රධාන වශයෙන් කාරක වන්නේ කර්තෘ ය. අනෙකුත් කාරක අප්‍රධාන වශයෙන් කාරක වන අතර ඒවා ක්‍රියා නිෂ්පත්තියට නිමිත්ත වේ. පාලි භාෂාවේ කර්ම, කර්තෘ, කරණ, සම්ප්‍රදාන, අපාදාන, ආධාර යනුවෙන් කාරක හයක් දැක්වේ.

**කත්තුකරණං ච කම්මං - සම්පදානමථාපරං,**
**අපාදානඤ්ච ඔකාසං - කාරකං ඡබ්බිධං මතං.**

(බාලාවතාරය)

ෂෂ්ඨී විභක්තිය හා ආලපන විභක්තිය ක්‍රියාසිද්ධියට උපකාර නොවන නිසා කාරක නොවේ. ඒ ඒ විභක්ති මගින් කාරකාර්ථ හෙවත් ක්‍රියාව හා සම්බන්ධ වීම ප්‍රකාශ කෙරෙන අයුරු පහත දැක්වේ.

| විභක්ති | කාරක අර්ථය | සූත්‍රය | උදාහරණ |
|---|---|---|---|
| දුතියා | කර්මාර්ථය | කම්මත්‍ථෙ දුතියා | පුරිසො **රුක්ඛං** ඡින්දති. |
| තතියා | කර්තෘ අර්ථය | කත්තරි තතියා | **බුද්ධෙන** ධම්මො දෙසිතො. |
| කරණ | කරණාර්ථය | කරණෙ තතියා | සො **සකටෙන** ගච්ඡති. |
| චතුත්‍ථී | සම්ප්‍රදානාර්ථය | සම්පදානෙ චතුත්‍ථී | කඤ්ඤා **යාචකස්ස** භත්තං දෙති. |
| පඤ්චමී | අපාදානාර්ථය | අපාදානෙ පඤ්චමී | **රුක්ඛම්හා** ඵලං පතති. |
| සත්තමී | ආධාරාර්ථය | ඔකාසෙ සත්තමී | භූපාලො **පීඨෙ** නිසීදති. |

## උපපද විභක්ති

කිසියම් පදයක් කාරකාර්ථය හැර සමීපව සිටි නිපාත, උපසර්ග, ධාතු ආදි අන්‍ය පදයක් නිසා වෙනත් විභක්ති ස්වරූපයක් ගනී නම් ඒ **'උපපද විභක්ති'** නම් වේ. පාලියෙහි ඇති සාම්ප්‍රදායික වාක් ප්‍රයෝග තේරුම් ගැනීමටත් නිවැරදි හා අර්ථවත්ව වාක්‍ය නිර්මාණයටත් කාරක හා උපපද විභක්ති ඉගෙනීම ප්‍රයෝජනවත් වේ.

**නිපාත යෝගය** - **පිතා පුත්තෙන සහ ගච්ඡති.** (පියා පුතා සමග යයි)
**උපසර්ග යෝගය** - **භික්ඛු ගාමං උපවසති.** (භික්ෂුව ගමේ වෙසේ)
**ධාතු යෝගය** - **පිතා පුත්තං මුද්ධනි චුම්බිත්වා පාඨාලයං පෙසෙසි.** (පියා පුතාගේ මුදුන සිඹ පාසලට යැවීය)

## දුතියා විභක්තිය

**කම්මත්ථෙ දුතියා - යං කරොති තං කම්මං**

දුතියා විභක්තිය කර්මාර්ථයේ යෙදේ. කර්තෘගේ ක්‍රියාවට යටත් වන්නේ කර්මය යි. යමක් කරයි ද එය කර්මය යි. දුතියා විභක්තිය යෙදෙන කර්මාර්ථ ප්‍රභේද සතරක් බාලාවතාරයෙහි විස්තර කොට තිබේ.

### ඉච්ඡිත කම්ම

කර්තෘගේ කැමැත්තෙන් සිදුකරන කර්ම ඉච්ඡිත කර්ම වේ.

කුමාරො **බුද්ධං** වන්දති (කුමාරයා බුදුන් වඳියි)
උපාසකො **සීලං** රක්ඛති (උපාසකයා සිල් රකියි)

### අනිච්ඡිත කම්ම

කර්තෘගේ අකැමැත්තෙන් සිදුකරන කර්ම අනිච්ඡිත කර්ම වේ.

දහරො **කණ්ඨකං** මද්දති. (දරුවා කටුව පාගයි)
කඤ්ඤා **විසං** ගිලති. (කන්‍යාව විෂ ගිලියි)

### ඉච්ඡිතානිච්ඡිත කම්ම

කර්තෘගේ කැමැත්තක් හෝ අකැමැත්තක් නැතිව ඉබේම සිදුවන කර්මය ඉච්ඡිතානිච්ඡිත කර්මය නම් වේ.

වාණිජො **ගාමං** ගච්ඡන්තො **රුක්ඛමූලං** උපසඞ්කමති.
(වෙළෙන්දා ගමට යන්නේ ගසක් මුලට පැමිණෙයි.)
බාලකො ගෙහං ධාවන්තො **සුසානභූමිං** දිස්සති.
(ළමයා ගෙදරට දුවන්නේ සුසාන භූමියක් දකියි.)

**අකථිත කම්ම**

ක්‍රියාවෙන් නොකියවෙන කර්ම පදය අකථිත කර්ම නම් වේ. මෙය ද්විකර්මක ධාතු යෝගයේ දී දැක ගත හැකිය. ද්විකර්මක ධාතු නම්, ✓**දුහ**, ✓**යාච**, ✓**රුධි**, ✓**පුච්ඡ**, ✓**භික්ඛ**, ✓**සාසු**, ✓**වච**, ආදිය වේ.

යාචකො **සෙට්ඨිං** ධනං යාචති.
පරාභවන්තං පුරිසං මයං පුච්ඡාම **ගොතමං**

**දුතියා විභක්ති කාරක ප්‍රයෝග**

**අච්චන්ත සංයෝගය**

කාල, මාර්ග ආදි ප්‍රමාණ වාචක පද ද්‍රව්‍ය, ගුණ, ක්‍රියාවාචි පද සමඟ ඇතිවන අත්‍යන්ත සම්බන්ධය අත්‍යන්ත සංයෝගයයි. අත්‍යන්ත සංයෝගයේ දී කාලවාචී පද හා මාර්ගවාචී පද දුතියා විභක්තියෙන් සිටි.

නිද : ථෙරො **තෙමාසං** පරිත්තං භණති.
**යොජනං** වනරාජි භවති.

**කර්මප්‍රවචනීයාර්ථය**

වෙනත් විභක්තියකින් තිබිය යුතු පදය කර්මයක් බවට පත් කොට කීම කර්මප්‍රවචනීයාර්ථයයි. එනම් **අනු, පති, අධි, උප, අන්තරා, සමන්තා** ආදි උපසර්ග, නිපාතයන් හා බැඳෙන පද කර්මප්‍රවචනීය වෙයි.

එකං සමයං භගවා අන්තරා ච **රාජගහං අන්තරා ච නාලන්දං** අද්ධානමග්ගං පටිපන්නො හොති.
භගවා **නෙරංජරං පති** විහරති.
සො අහම්පි ගමිස්සාමි **නගරං මිථිලං පති.**
තං ඛො පන **භගවන්තං ගොතමං** කල්‍යාණො කිත්තිසද්දො **අබ්භුග්ගතො.**
උපමා **මං** පටිභාති.

**ක්‍රියා විශේෂණය දුතියා විභක්තියෙන් තබනු ලැබේ.**

**සුඛං** සුපති **සුඛං** පටිබුජ්ඣති.
**දුක්ඛං** සෙති පරාජිතො.
උපසන්තො **සුඛං** සෙති.
අස්සො **සීඝං** ධාවති.

කාලවාචී පද දුතියා විභක්ති ගනී.

අථ ඛො ආයස්මා රට්ඨපාලො **පුබ්බණ්හසමයං** නිවාසෙත්වා පත්තචීවරං ආදාය ථුල්ලකොට්ඨිතං පිණ්ඩාය පාවිසි.
(ඉක්බිති ආයුෂ්මත් රට්ඨපාල භික්ෂුතෙම **පෙරවරු කාලයේ** හැඳ පාසිවුරු ගෙන පිඬු පිණිස ථුල්ලකොට්ඨිතයට පිවිසියේ ය)
සො **එකදිවසං** වනං පාවිසි. (හෙතෙම **එක්දිනක්** වනයට පිවිසියේ ය)

**තතියා විභත්තිය (කත්තරි ච)**

තතියා විභක්තියෙන් කර්තෘ අර්ථය පැවසේ. අනුක්ත කර්තෘ පදය තතියාවෙන් යෙදේ. කර්තෘ අනුක්ත වන්නේ කර්මකාරක හා භාවකාරක වාක්‍යය වලදී ය.

■ **අනුක්ත කර්තෘ**

අනුක්ත කර්තෘ පදය තතියාවෙන් සිටී.

**සූදෙන** ඔදනො පච්චතෙ. (**අරක්කැමියා විසින්** බත් පිසනු ලැබේ)
**බුද්ධෙන** ධම්මො දෙසිතො (**බුදුරදුන් විසින්** ධර්මය දෙසන ලදී)

■ **ප්‍රයෝජ්‍ය කර්තෘ (හෙත්වත්ථෙ ච)**

ප්‍රයෝජ්‍ය කර්තෘ පදය තතියා විභක්තියෙන් ද සිටියි. අනුන්ගේ මෙහෙයවීමෙන් ක්‍රියාව කරන්නා ප්‍රයෝජ්‍ය කර්තෘ නම් වේ.

සාමි **දාසෙන** කම්මං කාරෙති. (ස්වාමි තෙමේ **දාසයා** ලවා වැඩ කරවයි)
සාමණෙරො **බාලකෙන** ථෙරං පඤ්හං පුච්ඡාපෙති.
(සාමණේර තෙම **ළමයා** ලවා තෙරුන්ගෙන් ප්‍රශ්න අස්වයි)

■ **කිච්ච ප්‍රත්‍යයාන්ත හා යෙදුණු කර්තෘ**

කිච්ච ප්‍රත්‍යාන්ත හා යෙදුණු කර්තෘ පදය ද කර්මකාරක හා භාවකාරකයන්හි වන නිසා තතියාවෙන් යෙදේ.

**පබ්බජිතෙන** අභිණ්හං **පච්චවෙක්ඛිතබ්බං.**
(**පැවිදි වූවහු විසින්** නිතර ප්‍රත්‍යවෙක්ෂා කළ යුතු ය)
කරණීයං **අත්ථකුසලෙන** (**දියුණුවේ දක්ෂයා විසින්** කළ යුතු ය)

## තතියා විභක්ති කාරක ප්‍රයෝග

■ **ක්‍රියාපවර්ගාර්ථය**

ක්‍රියාපවර්ගාර්ථය තතියා විභක්තියෙන් යෙදේ. ක්‍රියාවක් නිමවීමට ගතවන කාලය ක්‍රියාපවර්ගාර්ථය නම් වේ.

ථෙරා **නවහි මාසෙහි** සංගීතිං අකංසු.
(තෙරුන්වහන්සේලා **මාස නවයකින්** සංගායනාව කළහ)
නරිස්සරො **තීහි වස්සෙහි** විහාරං නිට්ඨපෙසි.
(රජතෙමේ **වසර තුනකින්** විහාරය නිමකරවීය)

■ **අංගවිකාර අවයවාර්ථය**

යම් ශරීර අවයවයක රෝගී ස්වභාවයක් පෙනේ නම් ඒ විකල අවයවවාචී පදය තතියා විභක්තියෙන් සිටියි.

- සො **අක්ඛිණා** කාණො (ඔහු **ඇසකින්** කණෙකි)
- සො **පාදෙන** ඛඤ්ජො (ඔහු **පයින්** කොර ය)
- සො **සොතෙන** බධිරො (ඔහු **කනෙන්** බිහිරි ය)

■ **කාලාර්ථය**

කාලාර්ථයෙහි තතියා විභක්තිය යෙදේ.

**කාලෙන** ධම්මසවණං - එතං මංගලමුත්තමං
(**සුදුසු කාලයේ** දහම් ඇසීම යන මෙය මංගල කරුණකි)
**තෙන සමයෙන** භගවා විහාරං පාවිසි.
(**එසමයෙහි** භාග්‍යවතුන් වහන්සේ විහාරයට වැඩි සේක)

■ **සහාදි යෝගය**

**සහ, සද්ධිං, සමං,** යන සහාර්ථවත් නිපාත යෝගයේ ද, **විනා, නානා, අඤ්ඤත්‍ර, අලං, කිං** ආදි නිපාත යෝගයේ ද තතියා විභක්තිය වේ.

**සහ භණ්ඩකෙන** චොරං චූළාය ගණ්හන්තී විය මං විප්පකාරං පාපෙය්‍ය.
(**බඩු සමග** සොරා කෙස්වැටියෙන් අල්වා ගන්නියක් මෙන් මා විකාරයට පමුණුවන්නීය)
පඤ්චසතා භික්ඛූ **තෙන සද්ධිං** මග්ගං පටිපජ්ජිංසු.
(පන්සියක් භික්ෂූහු **ඔහු සමග** මගට පිළිපන්හ)

යං කරොමසෙ බ්‍රහ්මුණො සමං දෙවෙහි මාරිස තදජ්ජ තුය්හං කරිස්සාම.
(පින්වත දෙවියන් සමග අපි බ්‍රහ්මයාට යම් වැඳීමක් කරමු ද එය අද පින්වතාට කරන්නෙමු)

## කරණ විභක්තිය

**කරණෙ තතියා - යෙන වා කයිරතෙ තං කරණං**

ක්‍රියාව සිදු කිරීම සඳහා කර්තෘහට අතිශයින් උපකාර වනුයේ කරණය යි.

කරණාර්ථයේ ද තතියා විභක්තිය වෙයි. යමකින් ක්‍රියාව කරණු ලැබේ ද එය කරණය යි.

නෙත්තෙහි චන්දං ඉක්ඛතෙ. (ඇස්වලින් සඳ බලනු ලබයි)
හත්ථෙන අඞ්ගුලිං මද්දතෙ (අතින් ඇඟිලි මඩිනු ලබයි)
දාත්තෙන වීහිං ලුනාති. (දෑකැත්තෙන් ගොයම් කපයි)

## චතුත්ථී විභක්තිය (සම්පදානෙ චතුත්ථී)

සම්ප්‍රදානාර්ථයේ චතුත්ථී විභක්තිය වේ. කර්තෘ පූජා බුද්ධියෙන් හෝ අනුග්‍රහ බුද්ධියෙන් යමෙකුට දීමට කැමති වේ ද, දීමට රුචි වේ ද යමක් දරා ද මෙම දීම්, දැරීම්, හෝ රුචි කිරීම් ලබන්නා දැක්වෙන පදය සම්ප්‍රදාන නම් වේ.

සංඝස්ස චීවරං දදාති. (සංඝයාට චීවරය දෙයි)
සමණස්ස සච්චං රොචතෙ. (ශ්‍රමණයාට සත්‍ය රුචි වේ)
යඤ්ඤදත්තස්ස ඡත්තං ධාරයතෙ. (යඤ්ඤදත්තට කුඩය දරනු ලැබේ)

**අනිරාකතත්තානුමන්තාරාධකං සම්පදානියං**
**තිධා යථා ජලං දෙති රුක්ඛස්ස භික්ඛුනො'ත්ථිනො**

ආරාධක, අනිරාකත්තු, අනුමන්තු යනුවෙන් චතුත්ථී විභක්තිය තෙවැදෑරුම් වේ.

- ආරාධක

යමක් ඉල්ලාගෙන ලබාගන්නා තැනැත්තා ආරාධක නම් වේ.

අතිථිනො ජලං දෙති. (ආගන්තුකයාට ජලය දෙයි)

■ අනුමනතු

නොඉල්ලා ලැබෙන දේ මැනවැයි පිළිගන්නේ අනුමන්තු නම් වේ.

**භික්ඛුනො** ජලං දෙති. (**භික්ෂුවට** ජලය දෙයි)

■ අනිරාකතතු

නොඉල්ලා දෙන ලද දේ යහපතයැයි අනුමත නො කරයි ද, එහෙත් ප්‍රතික්ෂේප ද නො කරයි නම්, එය අනිරාකත්තු නම් වේ.

**රුක්ඛස්ස** ජලං දෙති. (ගසට ජලය දෙයි)

■ තාදර්ථය

**පිණිස, සඳහා යන අර්ථය ප්‍රකාශ කරනුයේ තාදර්ථය නම්. එහිදී චතුත්ථී විභක්තිය භාවිත වේ.**

බුද්ධො **ලොකානුකම්පාය** ධම්මං දෙසෙති
(බුදුරජ ලොවට අනුකම්පා පිණිස ධර්මය දෙසයි)
අහං සීතස්ස **පටිඝාතාය** චීවරං පටිසෙවාමි
(මම සීතල නැති කිරීම සඳහා සිවුර සේවනය කරමි)

■ **නමො, සොත්ථි නිපාත පද සමඟ චතුත්ථී විභක්තිය වේ.**

**නමො තස්ස භගවතො.** (ඒ භාග්‍යවතුන් වහන්සේට නමස්කාර වේවා)
**සොත්ථි තෙ හොතු සබ්බදා.** (සැමදා ඔබට යහපතක් වේවා)

**පඤ්චමී විභක්තිය (අපාදානෙ පඤ්චමී)**

අපාදාන අර්ථයේ පඤ්චමී විභක්තිය යෙදේ.

**යස්මාදපෙති භයමාදත්තෙ වා තදපාදානං.**

යමකු කෙරෙන් පහ වේ ද, බිය වේ ද, ගන්නේ වේද, කර්තෘගේ පහවීම ආදියට නිමිති වූ පදය පඤ්චමී විභක්තියෙන් යෙදේ.

**ගාමා** අපෙන්ති. (ගමින් පිට වෙත්)
**චොරම්හා** භායන්ති. (සොරා කෙරෙන් බිය වෙත්)
**උපජ්ඣායා** සික්ඛං ගණ්හාති. (ගුරුවරයා කෙරෙන් ශික්ෂාව ගනියි)

අපාදානාර්ථයේ ප්‍රභේද දෙකකි.

**අචල අපාදානය**
**චල අපාදානය**

- **අචල අපාදානය**

නොසැලෙන වස්තුවකින් යමක් ඉවත් වේ ද, ඒ අචල අපාදානය යි.

**රුක්ඛම්හා** ඵලං පතති. (**ගසෙන්** ගෙඩිය වැටෙයි)

- **චල අපාදානය**

සැලෙන වස්තුවකින් යමක් ඉවත් වේ ද, ඒ චල අපාදානය යි.

**ධාවතා අස්සා** පුරිසො පතති. (දුවන්නා වූ **අශ්වයා කෙරෙන්** පුරුෂයා වැටෙයි)

**පඤ්චමී විභක්ති ප්‍රයෝග**

- **උපසග්ග යෝගය**

**අප, ආ, පරා** යන උපසර්ගයන් හා යෝග වූ නාම පඤ්චමී විභක්තියෙන් යෙදේ.

**අපසාලාය** ආයන්ති වාණිජා (වෙළෙන්දෝ **ශාලාව හැරයත්**)
**ආබ්‍රහ්මලොකා** සද්දො අබ්භුග්ගච්ඡති. (**බ්‍රහ්මලෝකය දක්වා** ශබ්දය උස්ව නැගේ)

- **නිපාත යෝගය**

**අඤ්ඤත්‍ර, ආරකා, උද්ධං, අධො, රහිතා, රිතෙ, විනා** ආදි නිපාත යෝගයේ ඒ හා සම්බන්ධ වන පදය පඤ්චමී විභක්තියෙන් යෙදේ.

**උද්ධං පාදතලා** අධො කෙසමත්ථකා තචපරියන්තං පූරං නානාප්පකාරස්ස අසුචිනො පච්චවෙක්ඛති.
**අරුණුග්ගමණතො පට්ඨාය** කම්මං කරොති.
**යාව බ්‍රහ්මලොකා** සද්දො අබ්භුග්ගච්ඡි.
මාතුජා රහිතා (සහෝදරයා හැර)
රිතෙ සද්ධම්මා (සද්ධර්මය හැර)
විනා සද්ධම්මා (සද්ධර්මය හැර)

■ **හේත්වර්ථය**

හේත්වර්ථයෙහි පඤ්චමී විභක්තිය යෙදේ.

> කාමතො ජායතී සොකො.
> කසමා තුමෙහ ඉධ වසථ?

**සත්තමී විභක්තිය (ඔකාසෙ සතතමී)**

සත්තමී විභක්තිය ආධාරාර්ථයේ යෙදේ. යමෙක් ක්‍රියා සිද්ධියට උපකාර වූ කර්තෘ, කර්මයන්ට පිහිට (ආධාර) වේ ද, ඒ ඔකාස නම් වේ.

**ඔපසිලෙසික විසයාභ්‍යාස - බ්‍යාපිකභෙදා චතුධාධාරො**
**වාරිසටෙසු ච සලිලෙ මචඡා - සසසං නදියං තිලෙසු තෙලං**

ආධාරය සතර වැදෑරුම් වේ. ඔපසිලේසික, විසය, අභ්‍යාස, ව්‍යාපික ආධාරය වශයෙනි.

■ **ඔපසිලේසික ආධාරය**

යම් ආධාරක වස්තුවක් ආධෙය වස්තුවෙහි ගැටී පවතී ද, එය ඔපසිලේසික ආධාරය නම් වේ.

| | |
|---|---|
| වාරි සටෙසු | (කළයෙහි දිය) |
| රාජා ආසනෙ නිසීදති. | (රජ තෙමේ අසුනෙහි හිඳියි) |

■ **විසයික ආධාරය**

යම් ආධාරක වස්තුව ආධෙය වස්තුවට විෂය වේ ද, විෂයාධාර නම් වේ.

| | |
|---|---|
| සලිලෙ මචඡා | (ජලයෙහි මත්ස්‍යයෝ) |
| ආකාසෙ සකුණා චරනති. | (අහසේ පක්ෂීහු හැසිරෙත්) |

■ **අභ්‍යාස ආධාරය**

ආධාර වස්තුව ආධෙය වස්තුවට සමීපයෙහි පවතී නම් එය අභ්‍යාසාධාර නම් වේ.

නදියං සස්සං (ගඟ සමීපයෙහි ගොයම)
ගංගායං ඝොසො (ගඟ සමීපයෙහි ඝෝෂාව)

■ ව්‍යාපික ආධාරය

යම් ආධාරයක් ආධෙය වස්තුවේ පැතිර පවත්නේ වේද එය ව්‍යාපිකාධාරය නම් වේ.

තිලෙසු තෙලං (තලවල තෙල්)
උච්ඡුසු රසො (උක්වල රස)

**සත්තමී විභක්ති ප්‍රයෝග**

■ ගහ ආදි ධාතු යෝගය

කර්මාර්ථයෙහි ✓ගහ -උපාදානෙ (ගැනීම් අර්ථයෙහි), ✓චුබි (සිඹීමෙහි), අභි+ ✓වදි - අභිවාදනෙ (වැඳීමෙහි) යන මේ ධාතුන්ගේ යෝගයක් ඇති කල්හි සත්තමී විභක්තිය වේ.

බාහාසු ගහෙත්වා (අත් ගෙන)
භික්ඛුසු අභිවාදෙන්ති (භික්ෂූන් වඳිත්)
මුද්ධනි චුම්බිත්වා (හිස සිඹ)

■ සම්ප්‍රදානාර්ථය

සම්ප්‍රදානාර්ථයෙහි ද සත්තමී විභක්තිය වේ.

සංඝෙ දින්නං (සංඝයාට දෙන ලද දේ)
සංඝෙ ගොතමී දෙහි (ගෝතමියනි, සංඝයාට දෙන්න)

■ කාලාර්ථය

කාලවාචක ශබ්ද සත්තමී විභක්තියෙන් ද සිටියි. එය '**කාලසත්තමී**' යනුවෙන් හැඳින්වේ.

පුබ්බණ්හසමයෙ ගතො. (පෙරවරුයෙහි ගියේ ය)
තස්මිං සමයෙ භගවා අවොච. (එකල භාග්‍යවතුන් වහන්සේ කී සේක)

■ භාවාර්ථය

භාව නම් වීමයි. සිංහල භාෂාවේ පැවසෙන 'කල්හි, විට (වසින කල්හි . පැමිණි විට) යනාදි අරුත් පැවසීම සඳහා සත්තමී විභක්තිය යෙදේ. මෙහිදී වාක්‍යයාංශයේ කර්තෘ පදය ඒ හා සම්බන්ධ කිතක පදය ද සත්තමී විභක්තියෙන් තැබීම පාලි රීතිය යි.

බ්‍රහ්මදත්තෙ රජ්ජං කාරෙන්තෙ (බ්‍රහ්මදත්ත රාජ්‍යය කරවන කල්හි)
චොරෙසු ආගතෙසු (සොරු පැමිණි විට)

- නිර්ධාරණාර්ථය

නිර්ධාරණාර්ථයේ හෙවත් ගොඩකින් යමක් වෙන්කර ගැනීමේදී සත්තමී විභක්තිය වේ.

බ්‍රාහ්මණෙසු දෙවදත්තො පණ්ඩිතො (බ්‍රාහ්මණයන් අතර දේවදත්ත පණ්ඩිතයෙක්)

**අභ්‍යාස**

1. සිංහලට නගන්න.

i. සෙනාපති යොධෙහි සද්ධිං නගරම්හා නික්ඛමති.
ii. මුනි සද්ධෙහි ගහපතීහි සද්ධිං ගිරිම්හිරූහති.
iii. තෙන ඛො පන සමයෙන ආයස්මතො රට්ඨපාලස්ස පිතා මජ්ඣිමාය ද්වාරසාලාය උල්ලිඛාපෙති.
iv. ආයස්මතො රට්ඨපාලස්ස ඤාතිදාසී ආභිදොසිකං කුම්මාසං ඡඩ්ඩෙතුකාමා හොති.
v. අථ ඛො ආයස්මා රට්ඨපාලො තං ඤාතිදාසිං එතදවොච.

2. පාලිට නගන්න.

i. පින් කරන පුද්ගලයා නිතර නිතර පින් කරයි.
ii. මාලාකාරයා මල් රැස් කර මල් දම් ගොතා විකුණා ජීවත් වෙයි.
iii. මගේ මව උදෙන් ම දානය පිළියෙල කර විහාරයට ගොස් භික්ෂු සංඝයාට පූජා කළාය.
iv. ඔහු ධර්මයේ හැසිරෙන්නේ ය. දුශ්චරිතයෙහි නො හැසිරෙන්නේ ය.
v. බෝධිසත්ත්වයන් වහන්සේ ඇසතු රුකමුල වැඩහිඳ වෙසක් පුන් පොහෝ දින අභිසම්බෝධියට පත්වූහ.

3. කෙටි පිළිතුරු සපයන්න.

i. කාරක යනු මොනවාද?
ii. කාරක වර්ග 06 ලියන්න.
iii. උපපද විභක්ති යනු මොනවාද?
iv. "අච්චන්ත සංයෝගය" යන්න විස්තර කරන්න.
v. "සම්පදානෙ චතුත්ථී" ප්‍රයෝගය සඳහා උදාහරණ 2ක් දෙන්න.

4. පහත සඳහන් වාක්‍යයන්හි කළු අකුරින් මුද්‍රිත පදවල විභක්ති ප්‍රයෝගය ලියා සිංහලට නගන්න.

i. **තෙන ඛො පන සමයෙන** ආයස්මා සංගාමජි අඤ්ඤතරස්මිං රුක්ඛමූලෙ දිවාවිහාරං නිසින්නො හොති.
ii. භගවා **තායං වෙලායං** ඉමං උදානං උදානෙසි.
iii. **පඤ්චහි භික්ඛුනීසතෙහි** සහ ගොතමී නිබ්බානං යාති.
iv. පුත්ත, **හාසකාලෙ උපට්ඨිතෙ** සොචිතුං න යුත්තං.
v. අහං **තාසං සබ්බසං** ජෙට්ඨා අහොසිං.
vi. අඤ්ඤතරො සො පනායස්මා නන්දො **අරහතං** අහොසි.

5. A හි දී ඇති විභක්ත්‍යර්ථයට උචිත යෙදුම් B කොටසින් තෝරාගෙන ලියා දක්වන්න.

| | A කොටස | B කොටස |
|---|---|---|
| i | ක්‍රියා ප්‍රවර්ගාර්ථයේ තතියා | උපාසකා අල්ලවත්ථෙහි අල්ලකෙසෙහි භගවන්තං උපසංකමිංසු. |
| ii | නිර්ධාරණාර්ථයේ සත්තමී | ථෙරා නවහි මාසෙහි සංගීතිං අකංසු. |
| iii | අත්‍යන්ත සංයෝගාර්ථයේ දුතියා | උපසන්තො සුඛං සෙති. |
| iv | සහාදි යෝගයෙහි තතියා | ආචරියො සහ සිස්සෙහි ගච්ඡති. |
| v | ක්‍රියා විශේෂණාර්ථයේ දුතියා | භගවා සත්තාහං එකපල්ලංකෙන නිසීදි. |
| vi | නිර්ධාරණාර්ථයේ ඡට්ඨී | පඤ්චවග්ගියෙසු භික්ඛුසු කොණ්ඩඤ්ඤො පඨමො අරහා අහොසි. |
| vii | ඉත්ථම්භූතාර්ථයේ තතියා | උපාසකො තෙසං අඤ්ඤතරො අහොසි. |
| viii | ද්විකර්මක ධාතුයෝගයෙහි දුතියා | පරාභවන්තං පුරිසං මයං පුච්ඡාම ගොතමං. |
| ix | නමො යොගයෙහි චතුත්ථී | යාචකො කසිරෙන ඝාසච්ඡාදං ලභති. |
| x | ක්‍රියාවිශේෂණාර්ථයෙහි තතියා | නමො තෙ බුද්ධවීරත්ථු. |

# චතුත්‍ථො පාඨො

# උපාසකං මං භවං ගොතමො ධාරෙතු

එවං වුත්තෙ කූටදන්තො බ්‍රාහ්මණො භගවන්තං එතදවොච. අභික්කන්තං භො ගොතම, අභික්කන්තං භො ගොතම. සෙය්‍යථාපි භො ගොතම නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය, පටිච්ඡන්නං වා විවරෙය්‍ය, මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය, අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය, චක්ඛුමන්තො රූපානි දක්ඛින්තීති. එවමෙව භොතා ගොතමෙන අනෙකපරියායෙන ධම්මො පකාසිතො, එසාහං භවන්තං ගොතමං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛුසඞ්ඝඤ්ච. උපාසකං මං භවං ගොතමො ධාරෙතු අජ්ජතග්ගෙ පාණුපෙතං සරණං ගතං. එසාහං භො ගොතම සත්ත ච උසභසතානි, සත්ත ච වච්ඡතරසතානි, සත්ත ච වච්ඡතරීසතානි, සත්ත ච අජසතානි සත්ත ච උරබ්භසතානි මුඤ්චාමි, ජීවිතං දෙමි. හරිතානි චෙව තිණානි ඛාදන්තු, සීතානි ච පානීයානි පිවන්තු, සීතො ච නෙසං වාතො උපවායතූති. අථ ඛො භගවා කූටදන්තස්ස බ්‍රාහ්මණස්ස ආනුපුබ්බිකථං කථෙසි. සෙය්‍යථීදං? දානකථං සීලකථං සග්ගකථං කාමානං ආදීනවං ඔකාරං සංකිලෙසං නෙක්ඛම්මෙ ච ආනිසංසං පකාසෙසි. යදා භගවා අඤ්ඤාසි කූටදන්තං බ්‍රාහ්මණං කල්ලචිත්තං මුදුචිත්තං විනීවරණචිත්තං උදග්ගචිත්තං පසන්නචිත්තං. අථ යා බුද්ධානං සාමුක්කංසිකා ධම්මදෙසනා, තං පකාසෙසි. දුක්ඛං සමුදයං නිරොධං මග්ගං. සෙය්‍යථාපි නාම සුද්ධං වත්ථං අපගතකාළකං සම්මදෙව රජනං පටිග්ගණ්හෙය්‍ය, එවමෙව කූටදන්තස්ස බ්‍රාහ්මණස්ස තස්මිං යෙව ආසනෙ විරජං වීතමලං ධම්මචක්ඛුං උදපාදි. යං කිඤ්චි සමුදයධම්මං සබ්බං තං නිරොධධම්මන්ති.

**(කූටදන්තසුත්ත - දීඝනිකාය)**

පදමාලාව

| | | | |
|---|---|---|---|
| **භගවන්තං** | **(ත)** | - | භාග්‍යවතුන් වහන්සේට |
| **එතදවොච** | **(සං)** | - | මෙය කීයේ ය |
| **අභික්කන්තං** | **(කි)** | - | මැනවි / මනවඩයි |
| **සෙය්‍යථාපි** | **(නි)** | - | යම්සේ |
| **නික්කුජ්ජිතං** | **(කි)** | - | යටිකුරු කළ |
| **උක්කුජ්ජෙය්‍ය** | **(කි)** | - | උඩුකුරු කරන්නේ ය |
| **පටිච්ඡන්නං** | **(කි)** | - | වැසුණු |
| **විවරෙය්‍ය** | **(ක්‍රි)** | - | විවෘත කරන්නේ ය |
| **මූළ්හස්ස** | **(කි)** | - | මං මුළා වූවෙකුට |
| **ආචික්ඛෙය්‍ය** | **(ක්‍රි)** | - | කියන්නේ ය |
| **තෙලපජ්ජොතං** | **(ස)** | - | තෙල් පහනක් |

| | | | |
|---|---|---|---|
| ධාරෙයාය | (ක්‍රි) | - | ධරන්නේ ය |
| **අනෙකපරියායෙන** | **(ස)** | - | නොයෙක් අයුරින් |
| **පකාසිතො** | **(ක්‍රි)** | - | ප්‍රකාශ කරන ලද්දේ |
| **අජ්ජතගෙග** | **(නි)** | - | අද පටන් |
| **පාණුපෙතං** | **(ස)** | - | දිවි ඇති තාක් |
| **උසභසතානි** | **(ස)** | - | ගොනුන් සියයක් |
| **සත්ත** | **(නා)** | - | හත (7) |
| **වචඡතරසතානි** | **(ස)** | - | වස්සන් සියයක් |
| **වචඡතරීසතානි** | **(ස)** | - | වැස්සියන් සියයක් |
| **අජසතානි** | **(ස)** | - | එළුවන් සියයක් |
| **උරබ්භසතානි** | **(ස)** | - | බැටළුවන් සියයක් |
| **හරිතානි** | **(නා)** | - | කොළ පැහැ |
| **ඛාදන්තු** | **(ක්‍රි)** | - | කත්වා |
| **පිවන්තු** | **(ක්‍රි)** | - | බොත්වා |
| **උපවායන්තු** | **(ක්‍රි)** | - | හමාවා |
| **ආනුපුබ්බීකථං** | **(ස)** | - | පිළිවෙළ කථාව |
| **සෙයාථීදං** | **(නි)** | - | කෙසේ ද යත් |
| **ආදීනවං** | **(නා)** | - | දුර්විපාක/ ආදීනව |
| **ඔකාරං** | **(ක්‍රි)** | - | ලාමක බව |
| **සංකිලෙසං** | **(නා)** | - | කෙලෙස් සහිත බව |
| **නෙක්ඛම්මෙ** | **(ක්‍රි)** | - | ගිහිගෙන් නික්මීමෙහි |
| **අඤ්ඤාසි** | **(ක්‍රි)** | - | දැනගත්තේ ය |
| **කල්ලචිත්තං** | **(ස)** | - | යහපත් සිත |
| **මුදුචිත්තං** | **(ස)** | - | මෘදු වූ සිත |
| **විනීවරණ චිත්තං** | **(ස)** | - | නීවරණයන්ගෙන් තොර සිත/ පැහැදිලි සිත |
| **උදග්ග චිත්තං** | **(ස)** | - | ඔදවැඩී ගිය සිත |
| **පසන්න චිත්තං** | **(ස)** | - | පහන් සිත |
| **සාමුක්කංසිකා** | **(නා)** | - | සාමුක්කංසික දේශනාව |
| **අපගතකාලකං** | **(ස)** | - | පහ වූ කළු පැහැ ඇති |
| **සම්මදෙව** | **(සං)** | - | මනාව |
| **රජනං** | **(නා)** | - | වර්ණ |
| **පටිග්ගණ්හෙයාය** | **(ක්‍රි)** | - | පිළිගන්නේ/ වැදගන්නේ |

**අභ්‍යාස**

01. 'උපාසකං මං භවං ගොතමො ධාරෙතු' ඡේදය සිංහලට නගන්න.

02. පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කො භගවන්තං පාණුපෙතං සරණං ගතො හොති?
ii. අන්ධකාරෙ කිමත්ථාය තෙලපජ්ජොතං ධාරෙති?
iii. පුරිසො කෙ සත්තෙ බන්ධනා මුඤ්චි?
iv. කො නාමෙසා සාමුක්කංසිකා ධම්මදෙසනා?
v. කස්ස බ්‍රාහ්මණස්ස තස්මිංයෙව ආසනෙ විරජං වීතමලං ධම්මචක්ඛුං උදපාදි?

03. ඡේදය ඇසුරෙන් පිළිතුරු සපයන්න.

i. බුදුරදුන්ගේ ධර්මදේශනාවෙන් පැහැදුණු පුද්ගලයා බුදුන්ට ප්‍රශංසා කළ අයුරු ලියන්න.
ii. යාගය සඳහා යාගස්ථම්භය වෙත පැමිණ වූ සත්තු කවරහු ද?
iii. අනුපිළිවෙළ කථාව ලියන්න.
iv. චතුරාර්ය සත්‍යය නම් කරන්න.
v. මෙහි එන උපමා දෙකක් උපුටා ලියන්න.

04. ඡේදයේ වාක්‍ය රටාව අනුව පාලියට නගන්න.

i. අපගේ ගුරුවරයා විසින් නොයෙක් ආකාරයෙන් කරුණු ප්‍රකාශ කරන ලදී.
ii. අද පටන් දිවි ඇති තාක් මම සතුන් නො මරමි.
iii. වසා තිබූවක් විවෘත කරන්නාක් මෙන් ගුරුවරයා අපගේ මනස ප්‍රබෝධ කරවීය.
iv. ඔහුට එවෙලේ ම සියලු සංස්කාර අනිත්‍යය යන දහම් ඇස පහළ විය.

**ධාතු, ධාතුගණ හා ආඛ්‍යාත**

ධාතුවක් යනු ක්‍රියාමූලයකි. කාල පුරුෂාදියකට අයත් නොවන ක්‍රියාවක මූලික ස්වරූපය ධාතුව නම් වේ. ක්‍රියාව දරණ බැවින් ධාතු නම් වෙයි. බාලාවතාරයේ **"භූවාදයො ධාතවො"** යනුවෙන් **භූ** ආදිය ධාතු නම් වන බව කියා ඇත. ධාතු ප්‍රධාන වශයෙන් කොටස් 2 කි.

i. අකර්මක ධාතු
ii. සකර්මක ධාතු

**අකර්මක ධාතු** :- එනම් ක්‍රියාවෙන් කර්මයක් අපේක්ෂා නො කරන ධාතූන් ය.

| | | | |
|---|---|---|---|
| **හස** | > | **හසති** | - සිනාසෙයි |
| **කන්ද** | > | **කන්දති** | - හඬයි |
| **ජර** | > | **ජීරති** | - දිරයි |
| **රුජ** | > | **රුජති** | - රිදෙයි |

මේවා කර්තෘ පදය පමණක් යෙදීමෙන් පූර්ණ අදහසක් ලැබේ.

**සකර්මක ධාතු**:- ක්‍රියාවෙන් කර්මයක් අපේක්ෂා කරන ධාතූන් ය. එම ධාතුවලින් සෑදෙන ක්‍රියාපද සහිත වාක්‍ය කර්ම පදයක් (**දුතියා**) යෙදීමෙන් ම අර්ථවත් වේ.

| | | | |
|---|---|---|---|
| **ලිඛ** | > | **ලිඛති** | - ලියයි |
| **පූජ** | > | **පූජෙති** | - පුදයි |
| **ඡින්ද** | > | **ඡින්දති** | - සිඳිය |

"**කුමාරො ලිඛති.**" යයි කී විට "**කුමාරො කිං ලිඛති?**" යන ප්‍රශ්නය පැන නඟී. "**කුමාරො අක්ඛරං ලිඛති.**" යැයි කර්ම පදයක් යෙදූ විට එය පූර්ණ අදහසක් බවට පත්වේ.

ධාතුගණ

ධාතුගණයක් යනු පද සිද්ධියෙන් සමාන වන ධාතු සමූහයකි. ඒවා වරනැගෙන ආකාරය ද සමාන ය. '**විකරණය**' නම් ධාතුවටත් ආඛ්‍යාත ප්‍රත්‍යයටත් අතර එකතුවන විශේෂ ප්‍රත්‍යයකි.

තවද ඒ ඒ ගණවලට අයත් ක්‍රියාපදවල පද සිද්ධියේ වෙනස සිදුවන්නේ විකරණ ප්‍රත්‍යවල බලපෑම නිසා ය.

ධාතුගණ 8ක් පාලියෙහි දැක්වේ. ඒ ඒ ධාතුගණ, ධාතුගණයට අයත් විකරණ හා ක්‍රියාපද පහත වගුවෙහි දැක්වේ.

| | ධාතු ගණය | බාලාවතාර සූත්‍රය | විකරණ ප්‍රත්‍යය | පද සිද්ධිය | පදය |
|---|---|---|---|---|---|
| 01. | භුවාදි | භුවාදිතො අ | අ | භූ+අ+ති | භවති |
| 02. | රුධාදි | රුධාදිතො නිග්ගහීතපුබ්බං ච | අං | රුධ+අං+ති | රුන්ධති |
| 03. | දිවාදි | දිවාදිතො යො | ය | දිව්+ය+ති | දිබ්බති |
| 04. | ස්වාදි | සවාදිතො ණා උණා ච | ණා | සු+ණා+ති | සුණාති |
| | | | උණා | සක්ක+උණා+ති | සක්කුණාති |
| 05. | කියාදි | කියාදිතො ණා | ණා | කී+ණා+ති | කිණාති |
| 06. | තනාදි | තනාදිතො ඔ යිරා | ඔ | තන+ඔ+ති | තනොති |
| | | | යිර | කර+යිර+ති | කයිරති |
| 07. | චුරාදි | චුරාදිතො ණෙ ණයා | ණෙ | චුර+ණෙ+ති | චොරෙති |
| | | | ණය | චුර+ණය+ති | චොරයති |
| 08. | ගහාදි | ගහාදිතො ප්පණ්හා | ප්ප/ණ්හ | ගහ+ප්ප+ති<br>ගහ+ණ්හ+ති | ගෙප්පති<br>ගණ්හාති |

**ආඛ්‍යාත**

ආඛ්‍යාත නම් ධාතු කෙරෙන් පරව ප්‍රත්‍යය යොදා සාදාගනු ලබන පද විශේෂයකි. ආඛ්‍යාතයෙන් යම් ක්‍රියා සිද්ධියක් ප්‍රකාශ වෙයි. ආඛ්‍යාත පදයක් පහත ලක්ෂණවලින් යුක්ත ය.

**"යං තිකාලං තිපුරිසං - ක්‍රියාවාචී තිකාරකං,**
**අත්තිලිඞ්ගං ද්විවචනං - තදාඛ්‍යාතන්ති වුච්චති."**

යනුවෙන් බාලාවතාරයෙහි කාලත්‍රයක්, පුරුෂත්‍රයක්, කාරකත්‍රයක් වචන දෙකක් ඇති ලිංගභේදයක් නොමැති ක්‍රියා අර්ථයක් පවසන යමක් වේ ද, එය ආඛ්‍යාත යයි කියනු ලැබේ.

කාලත්‍රයඃ- **වත්තමාන, අතීත, අනාගත**
පුරුෂත්‍රයඃ- **පඨමපුරිස, මජ්ඣිමපුරිස, උත්තමපුරිස**
කාරකත්‍රයඃ- **කර්තෘකාරක, කර්මකාරක, භාවකාරක**
වචනද්වයඃ- **ඒකවචන හා බහුවචන**

මෙම ප්‍රභේදවලින් යුතු ආඛ්‍යාත පද වරනැඟෙන ක්‍රියා විභක්ති 8කි. පහත වගුව බලන්න.

| | ක්‍රියා විභක්තිය | බාලාවතාර සූත්‍රය | අර්ථය |
|---|---|---|---|
| 01. | වත්තමානා | වත්තමානා පච්චුප්පන්නෙ | පවත්නා කාලය |
| 02. | පඤ්චමී | ආණත්‍යාසිට්ඨෙ'නුත්තකාලෙ පඤ්චමී | අණ කිරීම හා ආශිර්වාද කිරීම |
| 03. | සත්තමී | අනුමතිපරිකප්පත්‍ථෙසු සත්තමී | අනුමතිය හා පරිකල්පනය |
| 04. | හීයත්තනී | හීයොප්පභුති පච්චක්ඛෙ හීයත්තනී | ඊයේ පටන් ප්‍රත්‍යක්ෂ අතීතය |
| 05. | පරොක්ඛා | අපච්චක්ඛෙ පරොක්ඛාතීතෙ | අප්‍රත්‍යක්ෂ වූ අතීතය |
| 06. | අජ්ජතනී | සමීපෙජ්ජතනී | සමීප අතීතය |
| 07. | භවිස්සන්ති | අනාගතෙ භවිස්සන්ති | අනාගත කාලය |
| 08. | කාලාතිපත්ති | ක්‍රියාතිපන්නෙතීතෙ කාලාතිපත්ති | සිදු නොවූ අතීත සිද්ධි |

ක්‍රියාපදය සැමවිට ම උක්ත පදයක් සමග යෙදේ. උක්තය සහ ආඛ්‍යාතය පුරුෂයෙන් වචනයෙන් සමාන විය යුතුය.

### වත්තමාන විභක්ති

පරස්සපද හා අත්තනොපදවල යෙදෙන වර්තමාන ක්‍රියාරූප උක්තපද හා යෙදෙන අයුරු පහත දැක්වේ.

**වත්තමානා - ති, අන්ති, සි, ථ, මි, ම, තෙ, අන්තෙ, සෙ, ව්හෙ, එ, මෙහ**

| | පරස්සපද | | අත්තනොපද | |
|---|---|---|---|---|
| **පුරිස** | **එකවචන** | **බහුවචන** | **එකවචන** | **බහුවචන** |
| **පඨමපුරිස** | කුමාරො වන්දති | කුමාරා වන්දන්ති | කුමාරො වන්දතෙ | කුමාරා වන්දන්තෙ |
| **මජ්ඣිමපුරිස** | ත්වං වන්දසි | තුම්හෙ වන්දථ | ත්වං වන්දසෙ | තුම්හෙ වන්දව්හෙ |
| **උත්තමපුරිස** | අහං වන්දාමි | මයං වන්දාම | අහං වන්දෙ | මයං වන්දාමෙහ |

### පඤ්චමී විභක්ති

**පංචමී - තු, අන්තු, හි, ථ, මි, ම, තං, අන්තං, ස්සු, ව්හො, එ, ආමසෙ.**

පඤ්චමී ආඛ්‍යාතය අණ කිරීම, විධාන කිරීම හා ආශීර්වාද කිරීම සඳහා උපයෝගී කර ගැනේ. පඤ්චමී ආඛ්‍යාතයේ පරස්සපද මධ්‍යම පුරුෂ ඒකවචනයෙහි "හි" ප්‍රත්‍ය ලොප් වී විශේෂ රූපයක් ලැබේ. "වන්ද" ධාතුව පඤ්චමීයේ වරනැඟෙන අයුරු පහත දැක්වේ.

|  | පරස්සපද |  | අත්තනොපද |  |
|---|---|---|---|---|
| **පුරිස** | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| **පඨමපුරිස** | වන්දතු | වන්දන්තු | වන්දතං | වන්දන්තං |
| **මජ්ඣිමපුරිස** | වන්ද / වන්දාහි | වන්දථ | වන්දස්සු | වන්දව්හො |
| **උත්තමපුරිස** | වන්දාමි | වන්දාම | වන්දෙ | වන්දාමසෙ |

පාලි භාෂාවේ බෙහෙවින් භාවිත ක්‍රියාරූපයක් වන මෙය විධානාර්ථ, ආශීර්වාදාර්ථ දෙක්හි යෙදී ඇති අයුරු පහත නිදසුන්වලින් ප්‍රකට වේ.

- දෙවො **වස්සතු** කාලෙන.
- සබ්බෙ'ව භූතා සුමනා **භවන්තු.**
- **නික්ඛම** සමණ, **පවිස** සමණ.
- යන්තෙ කරණීයං තං **කරොහි.**
- එථ **ගණ්හථ** බන්ධථ.
- සමන්තා **පරිවාරෙථ.**
- සො සුඛී **භවතං.**
- තෙ සුඛිතා **භවන්තං.**
- ත්වම්පි සමණ **කස්සස්සු** ච **වපස්සු** ච.
- තුම්හෙ සුඛිතා **භවව්හො.**
- අහං අවෙරො **හොමි.**
- අහං සුඛී **භවෙ.**

## සත්තමී විභක්ති

**සත්තමී** - **එය්‍ය, එය්‍යුං, එය්‍යාසි, එය්‍යාථ, එය්‍යාමි, එය්‍යාම,**
**එථ, එරං, එථො, එය්‍යව්හො, එය්‍යං, එය්‍යාම්හෙ.**

යන ප්‍රත්‍යය සත්තමී විභක්තියෙහි යෙදේ. "**අනුමති පරිකප්පත්ථෙසු සත්තමී**" යනුවෙන් විස්තර වන පරිදි සත්තමී ක්‍රියා විභක්තිය අනුමති අර්ථයේ හා පරිකල්පාර්ථයේ යෙදේ. අනුමති අර්ථය නම් අනුමතියක් අපේක්ෂාවෙන් කරනු ලබන ප්‍රකාශය හෝ සත්පුරුෂයන් විසින් අනුමත කළ දෙය යි. පරිකල්පාර්ථය නම් උපකල්පනය කරන අදහස යි. පාලියෙහි පරිකල්පාර්ථය යෙදෙන විට බොහෝ තන්හි **සචෙ, චෙ, සෙය්‍යථාපි, යදි, යන්නූන** වැනි නිපාත පද යෙදී ඇත. සත්තමීයෙහි පරස්සපද පඨමපුරිස ඒකවචනයෙහි '**එ**' යන ප්‍රත්‍යය ද යෙදේ. "**වන්ද**" ධාතුව සත්තමීයෙන් වරනැඟෙන අයුරු පහත දැක්වේ.

| | පරස්සපද | | අත්තනොපද | |
|---|---|---|---|---|
| පුරිස | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| පඨමපුරිස | වන්දෙ / වන්දෙය්‍ය | වන්දෙය්‍යුං | වන්දෙථ | වන්දෙරං |
| මජ්ඣිමපුරිස | වන්දෙය්‍යාසි | වන්දෙය්‍යාථ | වන්දෙථො | වන්දෙය්‍යව්හො |
| උත්තමපුරිස | වන්දෙය්‍යාමි | වන්දෙය්‍යාම | වන්දෙය්‍යං | වන්දෙය්‍යාම්හෙ |

සත්තමී ක්‍රියාරූප යෙදෙන අර්ථයන් පහත වාක්‍ය අධ්‍යයනයෙන් උගනිමු.

- න **භජෙ** පාපකෙ මිත්තෙ, න **භජෙ** පුරිසාධමෙ.
- සෙය්‍යථාපි මහාරාජ පුරිසො ඉණං ආදාය කම්මන්තෙ **පයොජෙය්‍ය** තස්ස තෙ කම්මන්තා **සමිජ්ජෙය්‍යුං.**
- ඉදානි මයං ධම්මං ච විනයං ච **සංගායෙය්‍යාම.**
- අහං උපාලිං විනයං **පුච්ඡෙය්‍යං.**
- සචෙ සො පඨමවයෙ **පබ්බජෙය්‍ය** අරහා **භවෙය්‍ය.**
- කින්නු ඛො මයං දෙවලොකං **ගවෙසෙය්‍යාම** උදාහු අපායං.

**අභ්‍යාස**

01. පහත වාක්‍ය සිංහලට නඟන්න.

i. සෙය්‍යථාපි නාම බලවා පුරිසො සම්මිඤ්ජිතං වා බාහං පසාරෙය්‍ය පසාරිතං වා බාහං සම්මිඤ්ජෙය්‍ය.
ii. සබ්බීතියො විවජ්ජන්තු සබ්බරොගො විනස්සතු.
iii. වන්දෙ තෙ පිතරං භද්දෙ, තිම්බරුං සුරියවච්චසෙ.
iv. ලභෙය්‍යාහං භන්තෙ භගවතො සන්තිකෙ පබ්බජ්ජං.
v. අහං අවෙරො හොමි, අබ්‍යාපජ්ජො හොමි.

02. පහත සඳහන් අංකිත ක්‍රියාපදයන්හි ක්‍රියා විභක්ති, වචන හා පුරුෂය ලියා දක්වන්න.

<u>වන්දෙ</u> තං බොධිපාදපං.
<u>පටිජග්ගෙය්‍ය</u> පණ්ඩිතො.
<u>භජෙථ</u> මිත්තෙ කල්‍යාණෙ.
අථ පජාපතිස්ස දෙවරාජස්ස ධජග්ගං <u>උල්ලොකෙය්‍යාථ</u>.
සත්තධා මෙ ඵලෙ මුද්ධා ජීවන්තො න සුඛං <u>ලභෙ</u>.
රාහු චන්දං <u>පමුච්චස්සු</u>.
තෙ මෙ නමො තෙ ච මං <u>පාලයන්තු</u>.
න හි සො භික්ඛවෙ අභිනා දට්ඨො කාලං <u>කරෙය්‍ය</u>.
සබ්බෙ සත්තා <u>භවන්තු</u> සුඛිතත්තා.
අමනුස්සා රිත්තම්පි පත්තං සීසෙ <u>නික්කුජ්ජෙය්‍යුං</u>.

03. සත්තමී ක්‍රියා උපයෝගී කරගෙන පාලියට නඟන්න

i. ඉදින් ඔහු පැවිදි වන්නේ නම් රහත් බව ලබන්නේ ය.
ii. මම ගමට යන්නෙම් නම් මව්පියන් දකින්නෙමි.
iii. කිමෙක් ද ඔබ ධර්මය උගත්තෙහි ද? නැතහොත් (උදාහු) විනය ඉගෙන ගත්තෙහි ද?
iv. ඉදින් ඔබ බුදුන් සිහි කරන්නේ නම් භයක් නොවන්නේ ය.
v. පව්ටු මිතුරන් ඇසුරු නොකරන්නේ නම් මැනවි.

04. පහත වගුව සම්පූර්ණ කරන්න.

| ක්‍රියාපදය | පරස්සපද, පඤ්චමී, | පරස්සපද, සත්තමී, | අත්තනොපද, වත්තමානා, | අත්තනොපද, සත්තමී, |
|---|---|---|---|---|
| | පඨමපුරිස, ඒකවචන | පඨමපුරිස, ඒකවචන | පඨමපුරිස, ඒකවචන | උත්තමපුරිස, ඒකවචන |
| ලභති<br>ජානාති<br>සුණාති<br>නිසීදති<br>කිලමති<br>පස්සති<br>බන්ධති<br>වින්දති<br>විහරති<br>පවිසති<br>ආචික්ඛති | ලභතු | ලභෙය්‍ය | ලභතෙ | ලභෙය්‍යං |

05. ''උපාසකං මං භවං ගොතමො ධාරෙතු'' ඡේදයේ එන ක්‍රියාපද උපුටා දක්වා පහත වගුවෙහි යොදන්න.

| ක්‍රියාපදය | ක්‍රියා විභක්තිය | පුරුෂය | පදය | වචනය |
|---|---|---|---|---|
| | | | | |

පඤ්චමො පාඨො

# උට්ඨෙහි සම්ම සුදින්න

අථ ඛො සුදින්නස්ස කලන්දකපුත්තස්ස සහායකා යෙන සුදින්නස්ස කලන්දපුත්තස්ස මාතාපිතරො තෙනුපසඞ්කමිංසු. උපසඞ්කමිත්වා සුදින්නස්ස කලන්දකපුත්තස්ස මාතාපිතරො එතදවොචුං. “අම්ම, තාත, එසො සුදින්නො අනන්තරහිතාය භූමියා නිපන්නො ‘ඉධෙව මෙ මරණං භවිස්සති පබ්බජ්ජා වා’ති. සචෙ තුම්හෙ සුදින්නං නානුජානිස්සථ අගාරස්මා අනගාරියං පබ්බජ්ජාය, තත්ථෙව මරණං ආගමිස්සති. සචෙ පන තුම්හෙ සුදින්නං අනුජානිස්සථ අගාරස්මා අනගාරියං පබ්බජ්ජාය, පබ්බජිතම්පි නං දක්ඛිස්සථ. සචෙ සුදින්නො නාභිරමිස්සති අගාරස්මා අනගාරියං පබ්බජ්ජාය, කා තස්ස අඤ්ඤා ගති භවිස්සති? ඉධෙව පච්චාගමිස්සති. අනුජානාථ සුදින්නං අගාරස්මා අනගාරියං පබ්බජ්ජායා”ති. “අනුජානාම, තාත, සුදින්නං අගාරස්මා අනගාරියං පබ්බජ්ජායා”ති. අථ ඛො සුදින්නස්ස කලන්දකපුත්තස්ස සහායකා යෙන සුදින්නො කලන්දකපුත්තො තෙනුපසඞ්කමිංසු. උපසඞ්කමිත්වා සුදින්නං කලන්දකපුත්තං එතදවොචුං. “උට්ඨෙහි සම්ම සුදින්න, අනුඤ්ඤාතො’සි මාතාපිතූහි අගාරස්මා අනගාරියං පබ්බජ්ජායා”ති. අථ ඛො සුදින්නො කලන්දකපුත්තො “අනුඤ්ඤාතො’ම්හි කිර මාතාපිතූහි අගාරස්මා අනගාරියං පබ්බජ්ජායා”ති හට්ඨො උදග්ගො පාණිනා ගත්තානි පරිභුඤ්ජන්තො උට්ඨාසි. අථ ඛො සුදින්නො කලන්දකපුත්තො කතිපාහං බලං ගාහෙත්වා යෙන භගවා, තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නො ඛො සුදින්නො කලන්දකපුත්තො භගවන්තං එතදවොච. “අනුඤ්ඤාතො’ම්හි අහං භන්තෙ මාතාපිතූහි අගාරස්මා අනගාරියං පබ්බජ්ජාය. පබ්බාජෙතු මං භගවා”ති. අලත්ථ ඛො සුදින්නො කලන්දකපුත්තො භගවතො සන්තිකෙ පබ්බජ්ජං, අලත්ථ උපසම්පදං. අචිරූපසම්පන්නො ච පනායස්මා සුදින්නො එවරූපෙ ධුතගුණෙ සමාදාය වත්තති. ආරඤ්ඤිකො හොති, පිණ්ඩපාතිකො, පංසුකූලිකො, සපදානචාරිකො. අඤ්ඤතරං වජ්ජිගාමං උපනිස්සාය විහරති.

( පඨමපාරාජිකං - පාරාජිකපාළි)

පදමාලාව

| | | | |
|---|---|---|---|
| **කලන්දකපුත්තස්ස** | (ස) | - | කලන්ද පුත්‍ර වූ |
| **මාතාපිතරො** | (ස) | - | මව්පියෝ |
| **එතදවොචුං** | (සං) | - | මෙය කීවාහු ය |
| **අනන්තරහිතාය** | (ස) | - | කිසිවක් නො ඇතිරූ |
| **භූමියා** | (නා) | - | බිමෙහි |
| **ඉධෙව** | (සං) | - | මෙහි ම |
| **නිපන්නො** | (කි) | - | හොත්තේ (වෙයි) |
| **සචෙ** | (නි) | - | ඉදින් |
| **අනුජානිස්සථ** | (ක්‍රි) | - | අනුදනිවු |
| **දක්ඛිස්සථ** | (ක්‍රි) | - | දක්නාහු ය |

| | | | |
|---|---|---|---|
| අභිරමිස්සති | (ක්‍රි) | - | ඇලෙන්නේ ය |
| පච්චාගමිස්සති | (ක්‍රි) | - | ආපසු එන්නේ ය |
| උට්ඨෙහි | (ක්‍රි) | - | නැගිටින්න |
| අනුඤ්ඤාතො | (කි) | - | අනුදන්නා ලදී |
| හට්ඨො | (කි) | - | සතුටු වූයේ |
| උදග්ගො | (කි) | - | ඔදවැඩි සිත් ඇත්තේ |
| පාණිනා | (නා) | - | අතින් |
| ගත්තානි | (නා) | - | ගාත්‍රා, ශරීරාංග |
| පරිපුඤ්ජන්තො | (කි) | - | පිරිමදින්නේ |
| උට්ඨාසි | (ක්‍රි) | - | නැඟී සිටියේ ය |
| කතිපාහං | (ස) | - | කීපදවසක් |
| (බලං) ගාහෙත්වා | (පූ.ක්‍රි) | - | බලගන්වා |
| අලත්ථ | (ක්‍රි) | - | ලැබී ය |
| අචිරූපසම්පන්නො | (කි) | - | උපසපන් වී  නොබෝ දිනකින් |

**අභ්‍යාස**

1. ''උට්ඨෙහි සම්ම සුදින්න'' යන ඡේදය සිංහලට නගන්න.

2. පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කෙ කිං නිස්සාය සුදින්නස්ස පබ්බජ්ජාය අනුජානථාති මාතාපිතරං යාචිංසු?
ii. සචෙ සුදින්නස්ස මාතාපිතරො පබ්බජ්ජං නානුජානෙය්‍යුං තස්ස කිං හවෙය්‍යුං?
iii. පබ්බජ්ජාය අනුඤ්ඤාතභාවං ඤත්වා කො කං උපසඞ්කමි?
iv. චිත්තාපෙක්ඛා හින්නො සුදින්නො කස්මිං නිපන්නො අහොසි?
v. පබ්බජිතො සුදින්නො කීවරූපෙ ධුතගුණෙ සමාදාය වත්තති?

3. ඡේදයෙහි එන වාක්‍ය රටාව අනුගමනය කොට පාලියට නඟන්න.

i. දකුණු දිසාවෙහි මහඇමතිගේ යහළුවෝ ජනාධිපතිතුමා වෙත එළඹ මෙසේ කීවාහු ය.
ii. මේ දරුවා කිසිවක් නො ඇතිරූ බිම වැතිර සිටී.
iii. ඇමතිවරුනි, යැපීම සඳහා වැටුප(වේතන) අනුමත කරන්න.
iv. යහළුවනි, නැගිටිවු, ඇමතිවරුන් විසින් තොපගේ වැටුප(වේතන) අනුමත කරන ලදී.
v. ගුරුවරයා යම් තැනක ද අපි සියල්ලෝ ම එතනට යමු.

4. ඡේදය ඇසුරෙන් පිළිතුරු සපයන්න.

i. බලාපොරොත්තු ඉටුකර ගැනීමට පුද්ගලයකුට තිබිය යුතු සම්පත් මොනවා ද?
ii. මව්පියන් දරුවන් කෙරෙහි දක්වන ආකල්පය කුමක් ද?
iii. පැවිදි වීමට අත්‍යවශ්‍ය වන සාධකය කුමක් ද?
iv. සුදින්නගේ පැවිද්දට අනුමැතිය ගැනීමට යහළුවන් ඉදිරිපත් කළ තර්කය කුමක් ද?
v. පැවිදි වූ තැනැත්තා තුළ තිබිය යුතු උතුම් ගුණාංග මොනවා ද?

## ආඛ්‍යාත භාවිතය II

### හැඳින්වීම

හතරවන පාඩමේ දී ආඛ්‍යාත පිළිබඳ මූලික ලක්ෂණ අපි උගත්තෙමු. තව ද වත්තමාන, පඤ්චමී, සත්තමී ආඛ්‍යාත භාවිතය හඳුනාගත්තෙමු. මෙහි දී **හීයත්තනී, අජ්ජතනී, පරොක්ඛා, කාලාතිපත්ති** හා **භවිස්සන්ති** ආඛ්‍යාත භාවිතය පිළිබඳ ව හදාරමු.

### හීයත්තනී ආඛ්‍යාතය

මෙය අතීතකාල ආඛ්‍යාතයකි. බාලාවතාරයේ "**හීයත්තනී ආ, ඌ, ඔ, ත්ථ, අ, ම්හා, ත්ථ, ත්‍ථුං, සෙ, ව්හං, ඉං, ම්හසෙ**" යන සූත්‍රයෙන් එහි ප්‍රත්‍යයමාලාව දක්වේ. පච (පිසීමේ) ධාතුවට හීයත්තනී ප්‍රත්‍යය යෙදී පහත සඳහන් පරිදි පද සිද්ධිය වේ.

| පුරිස | පරස්සපද | | | | අත්තනොපද | | | |
|---|---|---|---|---|---|---|---|---|
| | එකවචන | | බහුවචන | | එකවචන | | බහුවචන | |
| | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය |
| පඨමපුරිස | ආ | අපචා | ඌ | අපචූ | ත්ථ | අපචත්ථ | ත්‍ථුං | අපචත්‍ථුං |
| මජ්ඣිමපුරිස | ඔ | අපචො | ත්ථ | අපචත්ථ | සෙ | අපචසෙ | ව්හං | අපචව්හං |
| උත්තමපුරිස | අ | අපච | ම්හා | අපචම්හා | ඉං | අපචිං | ම්හසෙ | අපචම්හසෙ |

හීයත්තනී ආඛ්‍යාතය අතීතකාලය සඳහා යෙදේ. ඊයේ පටන් අතීතය යෙදෙන බව "**හීයොපපභුති පච්චක්ඛෙ හීයත්තනී**" යනුවෙන් සාම්ප්‍රදායික ව්‍යාකරණයේ උගන්වයි. ජාතකපාළියේ හීයත්තනී ක්‍රියා බහුලව යෙදී ඇත. **අජ්ජතනී, හීයත්තනී** හා **කාලාතිපත්ති** යන විභක්තිවල පද සාධනයේ දී ක්‍රියාපදයේ මුලට 'අ' කාරයක් විකල්පයෙන් ආගම වේ.

උදාහරණ:-

අහං උද්දකං රාමපුත්තං **එතදවොචං.**
පඤ්චාලරට්ඨං අහං **පසාදයිං.**
**අගා** ජේතවනං ජිනො.
සබ්බාරිවිජයං **අකා.**
භාරද්වාජො බ්‍රාහ්මණො භගවතො සන්තිකෙ පබ්බජ්ජං **අලත්ථ.**
තෙ සහායකා භගවතො සන්තිකෙ පබ්බජ්ජං **අලත්ථුං** උපසම්පදං’ති.

## පරොක්ඛා ආඛ්‍යාතය

ඉන්ද්‍රිය විෂයගත නොවූ අතීත සිද්ධියක් වාර්තා කිරීමේ දී ‘**පරොක්ඛා**’ ආඛ්‍යාතය භාවිත වේ. “**අපච්චක්ඛෙ පරොක්ඛාතීතෙ**” යන බාලාවතාර සූත්‍රයෙන් ඒ බව දැක්වේ. එහි යෙදෙන ප්‍රත්‍යයමාලාව මෙසේ ය. “**පරොක්ඛා ආ, ඌ, එ, ත්ථ, අ, ම්හ, ත්ථ, රෙ, ත්ථො, ව්හො, ඉ, ම්හෙ**” යනු යි. ‘**පච**’ ධාතුව ප්‍රත්‍යය ගැන්වීම පහත සඳහන් පරිදි වේ.

| පුරිස | පරස්සපද | | | | අත්තනොපද | | | |
|---|---|---|---|---|---|---|---|---|
| | එකවචන | | බහුවචන | | එකවචන | | බහුවචන | |
| | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය |
| **පඨමපුරිස** | අ | පපච | උ | පපචු | ත්ථ | පපචිත්ථ | රෙ | පපචිරෙ |
| **මජ්ඣිමපුරිස** | එ | පපචෙ | ත්ථ | පපචිත්ථ | ත්ථො | පපචිත්ථො | ව්හො | පපචිව්හො |
| **උත්තමපුරිස** | අ | පපච | ම්හ | පපචිම්හ | ඉ | පපචි | ම්හෙ | පපචිම්හෙ |

මෙය පාලි භාෂාවේ එතරම් ම භාවිත නොවූ ක්‍රියා රූපයකි. මෙය ‘ලු’, ‘ල’ යන ශ්‍රැති සූචනාර්ථය සඳහා භාවිත වේ. ධාතුවේ මුල අකුර ද්විත්ව වීම පද සාධනයේ දී සිදු වේ.

උදාහරණ:-

කුමාරො හීයො ගාමං **ජගාම.**
ගන්තුං සයං අපදතාය **සුසොච** නූනං.
තුම්හෙ පඨමවයෙ සාමණෙරා **බභූවිත්ථ.**

## අජ්ජතනී ආඛ්‍යාතය

පාලි භාෂාවේ භාවිත සාමාන්‍ය අතීත ක්‍රියා විභක්තිය යි. “**සමීපෙජ්ජතනී**” යන බාලාවතාර සූත්‍රයට අනුව සමීප අතීතය අජ්ජතනීයෙන් කියවේ. අජ්ජතනීයෙහි යෙදෙන ප්‍රත්‍යය වන්නේ “**අජ්ජතනී ඊ, උං, ඔ, ත්ථ, ඉං, ම්හා, ආ, ඌ, සෙ, ව්හං, අ, ම්හෙ**” යනුවෙනි. ‘ගමු’ ධාතුවට අජ්ජතනී ප්‍රත්‍යය යෙදෙන අයුරු පහත දැක්වේ.

| පුරිස | පරස්සපද | | | | අත්තනොපද | | | |
|---|---|---|---|---|---|---|---|---|
| | එකවචන | | බහුවචන | | එකවචන | | බහුවචන | |
| | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය |
| පඨමපුරිස | ඊ | අගමී, ගමි අගමී, ගමී | උං | අගමිංසු, ගමිංසු | ආ | අගමා | ඌ | අගමූ |
| මජ්ඣිමපුරිස | ඔ | අගමො, ගමො | ත්ථ | අගමිත්ථ, ගමිත්ථ | සෙ | අගමිසෙ | ව්හං | අගමිව්හං |
| උත්තමපුරිස | ඉං | අගමිං, ගමිං | මහා | අගමිමහා, ගමිමහා | අ | අගම | මෙහ | අගමිමෙහ |

අජ්ජතනී ආඛ්‍යාතය බහුල වශයෙන්ම අතීතකාලය සඳහා භාවිත වූ ක්‍රියාපදය යි.

උදාහරණ:-

අඤ්ඤතරා දෙවතා එකමන්තං **අට්ඨාසි**.
බ්‍රාහමණා යෙන භගවා **තෙනුපසඞ්කමිංසු**.
බ්‍රහමබන්ධු පුරෙ **ආසිං**.
මයං භගවතො සන්තිකෙ පබ්බජ්ජං **අලභිමහ**.
ආවුසො මා සොචිත්ථ මා **පරිදෙවිත්ථ**.
ත්වං හීයො ගාමං **ගචෙඡා**.

## කාලාතිපත්ති ආඛ්‍යාතය

"**ක්‍රියාතිපනෙනතීතෙ කාලාතිපත්ති**" යනුවෙන් බාලාවතාරයේ දැක්වෙන පරිදි සිදු නොවූ අතීත ක්‍රියාව කාලාතිපත්ති නම් වේ. නැතහොත් වැරදී ගිය ක්‍රියාව යි. සිදුවිය හැකිව තිබූ, එහෙත් සිදු නොවූ ක්‍රියාව කාලාතිපත්ති නම් වේ. මෙහි දී '**සචෙ**', '**යදි**' ආදි නිපාත පද යෙදී තිබෙනු දැකිය හැකි ය. එහි ප්‍රත්‍යයෝ වනාහි "**කාලාතිපත්ති ස්සා, ස්සංසු, ස්සෙ, ස්සථ, ස්සං, ස්සමෙහ, ස්සථ, ස්සිංසු, ස්සසෙ, ස්සවෙහ, ස්සං, ස්සාමහසෙ**" යනු යි.

"**සචෙ සො පඨමවයෙ පබ්බජිස්සා අරහා අභවිස්සා.**"
(ඉදින් හෙතෙම පළමු වියෙහි පැවිදි වූවා නම් රහත් වන්නට තිබුණි)

මෙබඳු ක්‍රියා භාවිතයේ දී පුරුෂත්‍රයෙහි පහත ආඛ්‍යාත පද නිපද වේ.

| පුරිස | පරස්සපද | | | | අත්තනොපද | | | |
|---|---|---|---|---|---|---|---|---|
| | එකවචන | | බහුවචන | | එකවචන | | බහුවචන | |
| | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය |
| පඨම පුරිස | ස්සා | අපචිස්සා | ස්සංසු | අපචිස්සංසු | ස්සථ | අපචිස්සථ | ස්සිංසු | අපචිස්සිංසු |
| මජ්ඣිම පුරිස | ස්සෙ | අපචිස්සෙ | ස්සථ | අපචිස්සථ | ස්සසෙ | අපචිස්සසෙ | ස්සව්හෙ | අපචිස්සව්හෙ |
| උත්තම පුරිස | ස්සං | අපචිස්සං | ස්සම්හා | අපචිස්සම්හා | ස්සං | අපචිස්සං | ස්සාම්හසෙ | අපචිස්සාම්හසෙ |

කාලාතිපත්ති ආඛ්‍යාතය භාවිත වන්නේ ක්‍රියාසිද්ධියේ අභාවය දැක්වීමට යි.

උදාහරණ:-

සචෙ සො අගාරං **අජ්ඣාවසිස්සා** චක්කවත්ති රාජා **අභවිස්සා**.
සචාහං පඨමවයෙ අනලසො **අභවිස්සං** සබ්බසිප්පෙසු කොවිදො **අභවිස්සං**.
සචෙ භගවා අඞ්ගුලිමාලස්ස පුරතො න **අගමිස්සා** මහාජානිකරො **අභවිස්සා**.
සචාහං තණ්ඩුලං **අලභිස්සං** ඔදනං **අපචිස්සං**.
සචාහං යානං **අලභිස්සං** ත්වයා සද්ධිං **අගමිස්සං**.

## භවිස්සන්ති ආඛ්‍යාතය

"**අනාගතෙ භවිස්සන්ති**" යන බාලාවතාර සූත්‍රයට අනුව අනාගත කාලය භවිස්සන්ති ආඛ්‍යාතයෙන් යෙදේ. එහි යෙදෙන ප්‍රත්‍යයමාලාව මෙසේ ය. "**භවිස්සන්ති ස්සති, ස්සන්ති, ස්සසි, ස්සථ, ස්සාමි, ස්සාම, ස්සතෙ, ස්සන්තෙ, ස්සසෙ, ස්සව්හෙ, ස්සං ස්සාම්හෙ.**"

'පච' ධාතුවට ප්‍රත්‍යයමාලාව ගැන්වූ විට පහත රූප සෑදේ.

| | පරස්සපද | | | | අත්තනොපද | | | |
|---|---|---|---|---|---|---|---|---|
| පුරිස | එකවචන | | බහුවචන | | එකවචන | | බහුවචන | |
| | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය | ප්‍රත්‍යය | පදය |
| පඨම පුරිස | ස්සති | පචිස්සති | ස්සන්ති | පචිස්සන්ති | ස්සතෙ | පචිස්සතෙ | ස්සන්තෙ | පචිස්සන්තෙ |
| මජ්ඣිම පුරිස | ස්සසි | පචිස්සසි | ස්සථ | පචිස්සථ | ස්සසෙ | පචිස්සසෙ | ස්සව්හෙ | පචිස්සව්හෙ |
| උත්තම පුරිස | ස්සාමි | පචිස්සාමි | ස්සාම | පචිස්සාම | ස්සං | පචිස්සං | ස්සාම්හෙ | පචිස්සාම්හෙ |

මෙම ක්‍රියාරූප අනාගතාර්ථය දීම සඳහා භාවිත වේ. වර්තමාන ප්‍රත්‍යයමාලාවට "ස්ස" කොටස මුලට එකතු කිරීමෙන් මේ ප්‍රත්‍යය ලැබෙන බව වරනැඟීමෙන් ප්‍රකට වේ. උත්තම පුරුෂ අත්තනොපද ඒකවචනය පමණක් වර්තමාන රූපයෙන් වෙනස් වේ.

උදාහරණ:-

කිලන්තොස්මි ආනන්ද නිපජ්ජිස්සාමි.
කිං කරිස්සාමි අරඤ්ඤවාසෙන.
ආයාම ආනන්ද යෙන කුසිනාරා තෙනුපසඞ්කමිස්සාම.
සුපටිච්ඡන්නෙනා අන්තරඝරෙ ගමිස්සාමීති සික්ඛා කරණීයා.

**අභ්‍යාස**

01. පහත ක්‍රියාපදයන්හි ආඛ්‍යාත විභක්තිය, පදය, පුරුෂය, වචනය ලියන්න.

i. උපසඞ්කමිංසු
ii. අවොචුං
iii. භවිස්සති
iv. අනුජානිස්සථ
v. අනුජානාම
vi. උට්ඨෙහි
vii. උට්ඨාසි
viii. නිසීදි
ix. අවොච
x. අලත්ථ

02. පහත සඳහන් ක්‍රියාපද ආඛ්‍යාත විභක්ති හතෙහි (7) පරස්සපදයෙහි ප්‍රථම පුරුෂයේ වරනඟන්න.

| | පඤ්චමී | සත්තමී | හීයත්තනී | අජ්ජතනී | පරොක්ඛා | කාලාතිපත්ති | භවිස්සන්ති |
|---|---|---|---|---|---|---|---|
| නිද:- වන්දති | වන්දතු / වන්දන්තු | වන්දෙය්‍ය / වන්දෙය්‍යුං | අවන්දා/ අවන්දූ | අවන්දි, වන්දි / අවන්දිංසු /වන්දිංසු | වවන්ද වවන්දු | අවන්දිස්සා අවන්දිස්සංසු | වන්දිස්සති වන්දිස්සන්ති |
| චරති | | | | | | | |
| කසති | | | | | | | |
| නමති | | | | | | | |
| සුපති | | | | | | | |
| තිට්ඨති | | | | | | | |
| ලභති | | | | | | | |
| පස්සති | | | | | | | |
| හසති | | | | | | | |
| නන්දති | | | | | | | |

03. දී ඇති ආඛ්‍යාතපද සුදුසු පරිදි යොදා හිස්තැන් පුරවන්න.

(ආගඤ්ඡුං/පරියාපුණාථ/උපට්ඨහස්සු/නික්කුජ්ජෙය්‍යුං/යන්තු/කරොහි/සමෙමාදිංසු/භාවෙය්‍ය)

i. ඉති ඉමා චතුරාරක්ඛා භික්ඛු ............. සීලවා.
ii. අසෙසා විලයං ............ අනන්තගුණතෙජසා.
iii. ........................ භික්ඛවෙ ආටානාටියං රක්ඛං.
iv. අමනුස්සා රිත්තම්පි පත්තං සීසෙ ................
v. අප්පෙකච්චෙ භගවතා සද්ධිං ........................
vi. ................ තස්සුපට්ඨානං ඛත්තියා බ්‍රාහමණා බහු.
vii. ඛීණාසවා අනෙනන පානෙන .......................
viii. යං තෙ කරණීයං තං ......................................

04. හිස්තැන් පුරවන ලද 3 ප්‍රශ්නයෙහි එන වාක්‍ය සිංහලට නඟන්න.

05. පහත ආඛ්‍යාතයන්හි බහුවචන රූපය, ආඛ්‍යාත විභක්තිය, පදය හා පුරුෂය ලියන්න.

| | | | |
|---|---|---|---|
| i. | පක්කමිස්සං | ii. | වසී |
| iii. | ගවෙෂය්‍යං | iv. | අනුජානාහි |
| v. | ඛමස්සු | vi. | වදෙද |
| vii. | අඤ්ඤාසි | viii. | ජගාම |
| ix. | අලභිස්සා | x. | අට්ඨාසි |
| xi. | අද්දසා | | |

06. ඒකවචන රූප ලියන්න.

| | | | |
|---|---|---|---|
| i. | පවත්තයුං | ii. | අබ්‍රවුං |
| iii. | ආහංසු | v. | නිබ්බායිස්සාම |
| v. | පරිදෙවිංසු | vi. | අලත්ථුං |
| vii. | යාචාම | viii. | පමජ්ජන්ති |
| ix. | පරිභවිංසු | x. | කුබ්බන්ති |
| xi. | සමාගච්ඡන්තු | xii. | සමගගහුං |
| xiii. | අහු | xiv. | අලභිම්හ |
| xv. | ලභෙය්‍යාම | | |

ජටෙඨා පාඨො

# තථාගතස්ස ආළාහනං

අථ ඛො ආයස්මා මහාකස්සපො යෙන කුසිනාරා මකුටබන්ධනං නාම මල්ලානං චෙතියං, යෙන භගවතො චිතකො තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා එකංසං චීවරං කත්වා අඤ්ජලිං පණාමෙත්වා තික්ඛත්තුං චිතකං පදක්ඛිණං කත්වා පාදතො විවරිත්වා භගවතො පාදෙ සිරසා වන්දි. තානිපි ඛො පඤ්චභික්ඛුසතානි එකංසං චීවරං කත්වා අඤ්ජලිං පණාමෙත්වා තික්ඛත්තුං චිතකං පදක්ඛිණං කත්වා භගවතො පාදෙ සිරසා වන්දිංසු. වන්දිතෙසු ච පනායස්මතා මහාකස්සපෙන තෙහිපි පඤ්චහි භික්ඛුසතෙහි සයමෙව චිතකො පජ්ජලි. ඣායමානස්ස ඛො පන භගවතො සරීරස්ස, යං අහොසි ඡවීති වා චම්මන්ති වා මංසන්ති වා නහාරූති වා ලසිකාති වා තස්ස නෙව ඡාරිකා පඤ්ඤායිත්ථ, න මසි, සරීරානෙව අවසිස්සිංසු. සෙය්‍යථාපි නාම සප්පිස්ස වා තෙලස්ස වා ඣායමානස්ස න ඡාරිකා පඤ්ඤායිත්ථ, න මසි. සරීරානෙව අවසිස්සිංසු. තෙසඤ්ච පඤ්චන්නං දුස්සයුගසතානං ද්වෙ ච දුස්සානි න ඩය්හිංසු. යඤ්ච සබ්බබ්භන්තරිමං, යඤ්ච බාහිරං. දඩ්ඪෙ ච ඛො පන භගවතො සරීරෙ අන්තලික්ඛා උදකධාරා පාතුභවිත්වා භගවතො චිතකං නිබ්බාපෙසි. උදකං සාලතොපි අබ්භුන්නමිත්වා චිතකං නිබ්බාපෙසි. කොසිනාරකාපි මල්ලා සබ්බගන්ධොදකෙන භගවතො චිතකං නිබ්බාපෙසුං.

**(මහාපරිනිබ්බාණසුත්ත - දීඝනිකාය)**

## පදමාලාව

| | | | |
|---|---|---|---|
| **ආයස්මා** | (ත) | - | ආයුෂ්මත් |
| **මකුටබන්ධනං** | (ස) | - | එනම් නාමය (ඔටුනු බැඳීම) |
| **මල්ලානං** | (නා) | - | මල්ල රජදරුවන්ගේ |
| **එකංසං** | (ස) | - | ඒකාංශ |
| **අඤ්ජලිං** | (නා) | - | ඇඳිලි |
| **පණාමෙත්වා** | (පූ.ක්‍රි) | - | නමස්කාර කොට |
| **තික්ඛත්තුං** | (ත) | - | තුන්වරක් |
| **චිතකං** | (නා) | - | සෑය |
| **පදක්ඛිණං** | (නා) | - | පැදකුණු |
| **පාදෙ** | (නා) | - | පාද |
| **පඤ්චහි භික්ඛුසතෙහි** | (ස) | - | පන්සියයක් භික්ෂූන් විසින් |
| **සයමෙව** | (සං) | - | තෙමේ ම |
| **පජ්ජලි** | (ක්‍රි) | - | දැල්වුනි |
| **ඣායමානස්ස** | (කි) | - | දැල්වෙන්නා වූ |
| **ඡවීති** | (සං) | - | සිවිය යැයි |
| **චම්මන්ති** | (සං) | - | සම යැයි |
| **නහාරූති** | (සං) | - | නහර යැයි |

| | | | |
|---|---|---|---|
| **ලසිකාති** | **(සං)** | - | සඳමිඳුලු යැයි |
| **ඡාරිකා** | **(නා)** | - | අලු |
| **මසි** | **(නා)** | - | දැලි |
| **සරීරානෙව** | **(සං)** | - | ශාරීරික (ධාතූහු) ම |
| **අවසිස්සංසු** | **(ක්‍රි)** | - | ඉතිරි වූහ |
| **සෙය්‍යථාපි** | **(නි)** | - | යම් සේ |
| **සප්පි** | **(නා)** | - | ගිතෙල් |
| **තෙල** | **(නා)** | - | තල තෙල් |
| **ඣායිංසු** | **(ක්‍රි)** | - | දැවී ගියහ |
| **යඤ්ච** | **(සං)** | - | යමක් |
| **සබ්බබ්භන්තරිමං** | **(ස)** | - | සැමට යටින් |
| **අන්තලික්ඛා** | **(නා)** | - | අහසින් |
| **උදකධාරා** | **(ස)** | - | දිය දහරා |
| **පාතුභවිත්වා** | **(පු.ක්‍රි)** | - | පහළ වී |
| **නිබ්බාපෙසි** | **(ක්‍රි)** | - | නිවීය |
| **සාලතොපි** | **(සං)** | - | සල් ගසේ (අතු පතරින්) ද |
| **අබ්භුන්නමිත්වා** | **(පූ.ක්‍රි)** | - | මතු වී |
| **සබ්බගන්ධොදකෙන** | **(ස)** | - | සියලු සුවඳින් යුතු සුවඳ දියෙන් |

**අභ්‍යාස**

01. 'තථාගතස්ස ආළාහනං' ඡේදය සිංහලට නඟන්න.

02. පාලියෙන් පිළිතුරු සපයන්න.

i. තථාගතස්ස ආළාහනං කත්ථ අහොසි?
ii. ආයස්මා මහාකස්සපො කතික්ඛත්තුං භගවතො චිතකං පදක්ඛිණං අකාසි?
iii. සො කිත්තකෙහි භික්ඛූහි සද්ධිං තත්ථ අගමාසි?
iv. ඣායමානස්ස භගවතො සරීරෙ කෙ පන අවසිස්සිංසු?
v. කොසිනාරකා පන කෙන භගවතො චිතකං නිබ්බාපෙසුං?

03. පිළිතුරු සපයන්න.

i. තථාගත දේහය ආදාහනයේ දී අලු නොවී ඉතිරි වූ වස්ත්‍ර දෙක කුමක් ද?
ii. මහකසුප් මාහිමි තථාගත ශ්‍රී දේහයට අවසන් බුහුමන් දැක්වීමට ප්‍රමාදවීමට හේතුව කුමක් ද?
iii. තථාගත දේහය දැවීමේ දී අලු හෝ දැලි ඉතිරි නොවී දැවුනේ කුමන කොටස් ද?
iv. මහකසුප් හිමි අවසන් බුහුමන් දක්වන තෙක් තථාගත දේහයට ගිනි නො ඇවිළී තිබුණේ කුමක් නිසා ද?
v. චිතකයේ ගිනි නිවීමට ජලධාරාවන් පැමිණියේ කොතැනින් ද?

04. ඡේදයේ එන වාක්‍ය රටා අනුගමනය කරමින් පාලියට නගන්න.

i. සාමණේරවරු උදෑසන ම සිවුර ඒකාංශ කොට ඇඳිළිබැඳ තුන්වරක් චෛත්‍යය පැදකුණු කොට හිසින් වඳිති.
ii. ජනාධිපති තෙම ඇමතිවරුන් පන්සියයක් සමඟ අනුරාධපුරයට ගියේ ය.
iii. ළමුන් පන්සියයක් අතුරෙන් දෙසියපනහක් (අඩ්ඪතෙය්‍යසතං) විභාගය සමත් වූහ.
iv. අප නගරයට ගිය කල්හි බොහෝ මිනිස්සු එහි රැස්වූහ.

## වාක්‍ය රචනය I

සම්පූර්ණ අදහසක් ප්‍රකාශ කරන පද සමූහය වාක්‍ය නම් වේ. වාක්‍යයක් නිපදවීමට කරන්නෙක් ද (කර්තෘ) ක්‍රියාවක් ද (ආඛ්‍යාත) තිබිය යුතු ය. එසේ නොමැතිව අර්ථවත් වාක්‍යයක් තැනිය නොහැකි ය.

**බාලකො ධාවති - (ළමයා දුවයි)**

මෙහි **බාලකො** යන කර්තෘ පදය පඨමපුරිස ඒකවචන වේ. එනිසා ම ක්‍රියා පදය ද පඨමපුරිස ඒකවචනයෙන් ම තබා ඇත. මෙසේ උක්තපදයට (කර්තෘ) ගැළපෙන සේ ආඛ්‍යාතය තැබීම ව්‍යාකරණ රීතිය යි. මෙවැනි ආඛ්‍යාත පදවලින් තැනුණු වාක්‍යයන්හි කර්ම පදයක් නැතත් වාක්‍යයේ අදහස ප්‍රකාශ වීමට එය බාධාවක් නො වේ.

එහෙත් සකර්මක වාක්‍යවල ක්‍රියාව කර්මපදයක් අපේක්ෂා කරයි. මෙය **මනුස්සො භුඤ්ජති** - (මිනිසා අනුභව කරයි) යන්න ඇසූවෙකුට මිනිසා අනුභව කරන්නේ මොනවා ද? යන ප්‍රශ්නය පැන නගී. එබැවින් අනුභව කරන දෙය ප්‍රකාශ වන කර්ම පදය වාක්‍යවල යොදනුයේ කර්මය ප්‍රකාශවන දුතියා විභක්ති නාමපදය යෙදීමෙනි. එනිසා කර්ම පදයක් මීට ඇතුළත් කොට **මනුස්සො භත්තං භුඤ්ජති** ( මිනිසා බත් අනුභව කරයි ) යැයි කී විට වාක්‍යය සම්පූර්ණ වේ. පහත දැක්වෙන නිදසුන් බලන්න.

බුද්ධො **ධම්මං** දෙසෙති.
භික්ඛවො **තං** සුණන්ති.
උපාසිකා **කුසුමසන්තතිං** ආහරි.
උපාසකා **පදීපානි** උජ්ජාලෙන්ති.

කර්තෘ හා ක්‍රියාව ඒකවචන වූ පමණින් කර්ම පදය ද ඒකවචනයෙන් ම තැබිය යුතු නො වේ. එය ඒකවචනයෙන් හෝ බහුවචනයෙන් තැබිය හැකි ය.

පහත දැක්වෙන වාක්‍ය රටාවන් නිරීක්ෂණය කිරීමෙන් මෙය වටහා ගන්න.

| | |
|---|---|
| රාජා රට්ඨං පාලෙති. | (රජු රට පාලනය කරයි) |
| මයං අනුරාධපුරං ගච්ඡාම. | (අපි අනුරාධපුරයට යමු) |
| ත්වං සීලං රක්ඛ. | (ඔබ ශීලය රකින්න) |
| තුම්හෙ පුඤ්ඤානි කරොථ. | (තෙපි පින් කරවු) |
| අහං ලෙඛනං ලිඛාමි. | (මම ලිපියක් ලියමි) |
| සා පඤ්චසීලං සමාදියති. | (ඇය පංචශීලය සමාදන් වෙයි) |

**විශේෂණ පද භාවිත කොට වාක්‍යය දිගු කිරීම.**

මුල දී ඉගෙන ගත් සරල වාක්‍යවලට විශේෂණ පද එක් කිරීම තුළින් වාක්‍යය දිගු කර ගත හැකි අතර ඉන් පරිපූර්ණ බවක් ද ව්‍යක්ත බවක් ද ඇති වේ. ඒ සඳහා 'නාම විශේෂණ, ක්‍රියා විශේෂණ, කර්ම විශේෂණ, සංඛ්‍යා විශේෂණ, නිපාත හා උපසර්ග' ආදිය උපයෝගී කර ගත හැකි ය.

**නාම විශේෂණ**

වාක්‍යයක නාම පදයක් කිසියම් පදයක් හෝ කීපයක් යොදා විශේෂණය කෙරේ නම්, එය නාම විශේෂණ නම් වේ. මෙහි දී විශේෂ්‍ය ලෙස යෙදෙන පදයට විශේෂණව යෙදෙන පද සමානව විභක්ති, ලිංග, වචනවලින් තැබිය යුතු ය.

**භික්ඛු ධම්මං සුණාති.**

**ධිතිමා** භික්ඛු ධම්මං සුණාති.
**ධිතිමා** භික්ඛු **බුද්ධස්ස** ධම්මං සුණාති.
**ධිතිමා** භික්ඛු **දසබලස්ස සම්මාසම්බුද්ධස්ස** තං ධම්මං සුණාති.
**ධිතිමා** භික්ඛු **දසබලස්ස සම්මාසම්බුද්ධස්ස මධුරං** ධම්මං සුණාති.

මේ අයුරින් වාක්‍යක නාමපදවලට විශේෂණ ලෙස පද එක් කර ගනිමින් අලංකාරවත් ලෙස දිගු වාක්‍ය ලියා දැක්විය හැකි ය.

**ක්‍රියා විශේෂණ**

පාලි භාෂාවේ ක්‍රියා විශේෂණ බොහෝ විට නපුංසක ලිංගිකව දුතියා විභක්ති ඒක වචනයෙන් සිටී. මෙහි දී **මුහුත්තං, අභිණ්හං, ඛිප්පං** ආදි නිපාත පද යෙදේ. ඇතැම් විටෙක තතියා විභක්ති ඒකවචන ද ක්‍රියා විශේෂණ ලෙස යෙදේ.

| | | |
|---|---|---|
| සක්කච්චං | - | සකසා, පිළිවෙළට |
| සුඛං, සුඛෙන | - | සැපසේ |
| සනිකං | - | හෙමින් |
| සීඝෙන | - | වේගයෙන් |
| නිබද්ධං | - | නිරන්තරයෙන් |
| සාධුකං | - | මනාකොට |

පුරිසො පණ්ඩිතං පයිරුපාසති.
විඤ්ඤූපුරිසො පණ්ඩිතං පයිරුපාසති.
විඤ්ඤූපුරිසො සීලවන්තං පණ්ඩිතං පයිරුපාසති.
විඤ්ඤූපුරිසො සීලවන්තං පණ්ඩිතං මුහුත්තං පයිරුපාසති.

මෙසේ කර්තෘ කර්ම ක්‍රියා සහිත වාක්‍යයක නාම පද හා ක්‍රියා පදය නාම විශේෂණ හා ක්‍රියා විශේෂණයක් යොදා දිගු කොට ලිවිය හැකි ය. මේ ආකාරයට වාක්‍යවලට විශේෂණ පද යොදා දිගු වාක්‍ය ලිවීමට පුරුදු වන්න.

## උපසර්ග හා නිපාත පද යෙදීම

උපසර්ග හා නිපාත පද යොදා ගනිමින් ද අලංකාරවත් දිගු වාක්‍ය නිර්මාණය කළ හැකි ය.

බුද්ධා ජෙතවනෙ වසති.
සම්බුද්ධො ජෙතවනෙ වසති.
සම්මා සම්බුද්ධො ජෙතවනෙ වසති.
ඉදානි සම්මාසම්බුද්ධො ජෙතවනෙ වසති.
ඉදානි පන සම්මාසම්බුද්ධො ජෙතවනං අජ්ඣාවසති.

ඉහත දැක්වෙන ආකාරයට උපසර්ග හා නිපාත පද යොදාගනිමින් දිගු වාක්‍ය නිර්මාණය කිරීමට පුරුදු වන්න.

**සංඛ්‍යා නාම භාවිතය**

වාක්‍ය රචනයේ දී එක්කෙනෙක්, දෙන්නෙක්, එක්වරක්, දෙවරක් ආදි ලෙස සංඛ්‍යාවාචී ශබ්ද ද එකතු කිරීමට සිදුවේ. සංඛ්‍යාවාචී ශබ්ද වාක්‍යයකට එකතු කිරීමේ දී අනුගමනය කළ යුතු සුවිශේෂී ක්‍රමවේදයන් ඇත.

- සංඛ්‍යා ශබ්ද අතුරෙන් '**එක**' (1) '**ති**' (3) '**චතු**' (4) යන ශබ්දත්‍රය ලිංගත්‍රයෙහි ම වරනැඟෙන බැවින් සර්වනාමවලට ඇතුළත් කොට ඇත. 'එක' ශබ්දය සංඛ්‍යාවාචී වූ විට එක් සත්ත්වයකු ගැන යෙදෙන බැවින් සියලු විභක්තීන්හි ඒකවචනයේ පමණක් වරනැඟේ. 'එක' ශබ්දය සර්වනාම පදයක් ලෙස **ඇතැම්, සමහර** යනාදි අරුත් දෙමින් ලිංගත්‍රයේ ම 'ය' ශබ්දය මෙන් වරනැඟේ. 'ද්වි' ශබ්දය බහුවචනයේ පමණක් වරනැගෙන අතර, එය ලිංගත්‍රයේ ම සමාන වේ.

දෙවන පාඩමෙහි දැක්වූ පරිදි **ති, චතු** ශබ්ද ලිංගත්‍රයෙහි අසමාන රූප සහිතව බහුවචනයේ පමණක් වරනැගේ. වාක්‍යයක් රචනා කිරීමේදී මෙම වෙනස හඳුනාගෙන භාවිත කළ යුතු ය. පහත නිදසුන් බලන්න.

උදා:-
- **එකො** පුරිසො **එකෙන** ඵරසුනා **එකං** රුක්ඛං ඡින්දති.
- **එකා** ඉත්ථි **එකම්හා** ගාමම්හා නික්ඛමිත්වා **එකං** නගරං පාවිසි.
- **දෙව** වනිතායො දෙව පුත්තෙ විජායිංසු.
- සො **ද්වීහි** හත්ථෙහි තං පහරති.

- **තිස්සන්නං** වනිතානං **චත්තාරො** පුත්තා ච **තිස්සො** ධීතරො ච සන්ති.
- **චත්තාරො** මනුස්සා ච **චතස්සො** නාරියො ච **චතූහි** මග්ගෙහි වනං පවිසිංසු.

- පාලියේ ද්වි (2) ශබ්දයේ පටන් අට්ඨාරස (18) ශබ්දය අවසන් කොට ඇති ශබ්දයෝ (ති (3) චතු (4) හැර) බහුවචනයේ පමණක් යෙදෙන අතර ලිංගත්‍රයේ ම සමාන වෙති.

- එකූනවීසති (19) පටන් අට්ඨනවුති (98) දක්වා සංඛ්‍යාවෝ ද කොටි පටන් කොටිප්පකොටි දක්වා සංඛ්‍යාවෝ ද ස්ත්‍රීලිංග ඒකවචනයෙන් යුක්ත වෙති.

- එකූනසත (99) පටන් සතසහස්ස (ලක්‍ෂය) දක්වා සංඛ්‍යා ශබ්දයෝ නපුංසක ලිංග ඒකවචනයෙන් යුක්ත වෙති.

උදා:-
- **පඤ්ච** වාණිජා **දසහි** සකටෙහි භණ්ඩානි ආහරිංසු.
- ඡ බාලකා ඡට්ඨමං පාඨං පඨන්ති.
- ඉමෙහි **සත්තහි** ධම්මෙහි සමන්නාගතා භික්ඛු පණ්ඩිතො හොති.
- අට්ඨසු ගෙහෙසු **පඤ්චතිංසති** ජනා වසන්ති.
- **එකිස්සං** සාලායං **සතං** පුරිසා **පඤ්ඤාසා** ඉත්ථියො ච නිසීදන්ති.

**අභ්‍යාස**

01. සිංහලට නගන්න.

i. ඉදානි පන එකච්චෙ සමණපතිරූපකා පීතානි වත්ථානි පාරුපිත්වා සාසනවිලොමං කරොන්ති.
ii. ධිතිමන්තො සො පාතොව උට්ඨාය කූජන්තෙ සකුණෙ පස්සති.
iii. කතවේදී සුනඛො අත්තනො සාමිකං ගොපනත්ථාය භුඞ්කාරං අකාසි.
iv. පණ්ඩිතා සප්පුරිසා මනුස්සා අත්තානං උපකාරකානං පච්චුපකාරං කරොන්ති.
v එකො මක්කටො දිවසෙ දිවසෙ තථාගතස්ස උපට්ඨානං කරොති.

02. පාලියට නගන්න.

i. ධර්මය දන්නා වූ නුවණැත්තෝ නොයෙක් කුසල් දහම් පුරා තමන් ම දමනය කරති.
ii. ගුණවත් උපාසිකාවෝ විහාරයට ගොස් එකත්පසෙක හුන්නාහ.
iii. ගම්වැසි මනුෂ්‍යයෙක් එක් මුගටිපැටියෙක් (නකුලො) ගෙනවිත් මහත් සෙනෙහසින් පෝෂණය කරයි.
iv. දුම්රියෙන් (ධූමරථ) යන්නා වූ ඔවුහු කුඩා ගෙවල් බොහෝ සෙයින් (භියොයාසොමත්තාය) දැක්කාහ.
v. එක් බළලෙක් ලොකු මීයකු අල්ලා ගනු පිණිස වේගයෙන් දිව්වේ ය.

03. පහත සඳහන් පද ලිංගත්‍රයට අනුව බෙදා දක්වන්න.

තිසෙසා, පඤ්චහි, වීසති, ඡබ්බීසති, එකූනවීසති, තයො, ද්වෙ, ද්වත්තිංසති, එකපඤ්ඤාසා, එකිස්සං, චතසෙසා, තෙරස, නවුති, ඡ, සත්තති, ඡත්තිංසති, තිස්සන්නං, සට්ඨි, පඤ්චවීසති, දස, තීණි, සතං, ද්වීසු, පඤ්චහි, තිණ්ණං, අසීති, ඡාසීති, ඡන්නවුති, නවුති,

04. වරහන් තුළ දක්වා ඇති ඉලක්කමට ගැළපෙන සංඛ්‍යාවාචී වචන යොදා වාක්‍ය සම්පූර්ණ කරන්න.

i. ................................ (03) ගාවියො බෙතෙන ආහිණ්ඩන්ති.
ii. මයං ගාමං ගච්ඡන්තා .............................. (29) මිගෙ පස්සිමහ.
iii. දසපුරිසා .............................. (05) අම්බෙ බාදිංසු.
iv. ඉමස්මිං ගාමෙ .............................. (102) ගෙහා සන්ති.
v. මයං ඉතො ............................ (08) දිවසෙහි නගරං ගමිස්සාම.

05. පහත මාතෘකා සඳහා වචන පහකට නො අඩු පාලි වාක්‍යය 5 බැගින් ලියන්න.

i. වානරො
ii. නගරං
iii. මහාවාලුකානදී
iv. සොවණ්ණමාලිමහාචෙතියං

# සත්තමො පාඨො

# පස්සථ අය්‍යා උපසන්තාය කම්මං

භූතපුබ්බං භික්ඛවෙ, ඉමිස්සායෙව සාවත්ථියා වෙදෙහිකා නාම ගහපතානී අහොසි. වෙදෙහිකාය භික්ඛවෙ ගහපතානියා එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතොඃ සොරතා වෙදෙහිකා ගහපතානි, නිවාතා වෙදෙහිකා ගහපතානි, උපසන්තා වෙදෙහිකා ගහපතානීති. වෙදෙහිකාය ඛො පන භික්ඛවෙ ගහපතානියා කාළී නාම දාසී අහොසි, දක්ඛා අනලසා සුසංවිහිතකම්මන්තා. අථ ඛො භික්ඛවෙ කාළියා දාසියා එතදහොසිඃ මය්හං ඛො අය්‍යාය එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතොඃ සොරතා වෙදෙහිකාය ගහපතානී, නිවාතා වෙදෙහිකා ගහපතානී, උපසන්තා වෙදෙහිකා ගහපතානීති. කින්නු ඛො මෙ අය්‍යා සන්තංයෙව නු ඛො අජ්ඣත්තං කොපං න පාතුකරොති? උදාහු අසන්තං? උදාහු මය්හමෙවෙත්ථ කම්මන්තා සුසංවිහිතා, යෙන මෙ අය්‍යා සන්තංයෙව අජ්ඣත්තං කොපං න පාතුකරොති? නො අසන්තං? යන්නූනාහං අය්‍යං වීමංසෙය්‍යන්ති. අථ ඛො භික්ඛවෙ කාළී දාසී දිවා උට්ඨාසි. අථ ඛො භික්ඛවෙ වෙදෙහිකා ගහපතානී කාළිං දාසිං එතදවොච. හෙ ජෙ කාළීති. කිං අය්‍යෙති? කිං ජෙ දිවා උට්ඨාසීති? 'න ඛො අය්‍යෙ කිඤ්චීති.' නො වත රෙ කිඤ්චි පාපී දාසී දිවා උට්ඨාසී'ති කුපිතා අනත්තමනා භාකුටිං අකාසි.

අථ ඛො භික්ඛවෙ කාළියා දාසියා එතදහොසිඃ සන්තංයෙව ඛො මෙ අය්‍යා අජ්ඣත්තං කොපං න පාතුකරොති නො අසන්තං මය්හමෙවෙත්ථ කම්මන්තා සුසංවිහිතා, යෙන මෙ අය්‍යා සන්තංයෙව අජ්ඣත්තං කොපං න පාතුකරොති නො අසන්තං. යන්නූනාහං භිය්‍යොසොමත්තාය අය්‍යං විමංසෙය්‍යන්ති අථ ඛො භික්ඛවෙ කාළී දාසී දිවාතරං උට්ඨාසි. අථ ඛො භික්ඛවෙ වෙදෙහිකා ගහපතානි කාළිං දාසිං එතදවොචඃ හෙ ජෙ කාළීති. 'කිං අය්‍යෙ'ති? කිං ජෙ දිවාතරං උට්ඨාසීති? 'න ඛො අය්‍යෙ කිඤ්චී'ති. නො වත රෙ කිඤ්චි පාපී දාසී, දිවාතරං උට්ඨාසීති කුපිතා අනත්තමනා අනත්තමනවාචං නිච්ඡාරෙසි. අථ ඛො භික්ඛවෙ කාළියා දාසියා එතදහොසිඃ සන්තංයෙව ඛො මෙ අය්‍යා අජ්ඣත්තං කොපං න පාතුකරොති නො අසන්තං, මය්හමෙවෙත්ථ කම්මන්තා සුසංවිහිතා යෙන මෙ අය්‍යා සන්තංයෙව අජ්ඣත්තං කොපං න පාතුකරොති, නො අසන්තං. යන්නූනාහං භිය්‍යොසොමත්තාය අය්‍යං වීමංසෙය්‍යන්ති. අථ ඛො භික්ඛවෙ කාළී දාසී දිවාතරංයෙව උට්ඨාසි. අථ ඛො භික්ඛවෙ වෙදෙහිකා ගහපතානි කාළිං දාසිං එතදවොච. හෙ ජෙ කාළීති. 'කිං අය්‍යෙති? කිං ජෙ දිවාතරං උට්ඨාසීති? න ඛො අය්‍යෙ කිඤ්චීති. නො වත රෙ කිඤ්චි පාපී දාසී, දිවාතරං උට්ඨාසීති කුපිතා අනත්තමනා අග්ගළසූචිං ගහෙත්වා සීසෙ පහාරං අදාසි. සීසං වොභින්දි. අථ ඛො භික්ඛවෙ කාළී දාසී භින්නෙන සීසෙන ලොහිතෙන ගළන්තෙන පටිවිස්සකානං උජ්ඣාපෙසිඃ 'පස්සථය්‍යා සොරතාය කම්මං, පස්සථය්‍යා නිවාතාය කම්මං, පස්සථය්‍යා උපසන්තාය කම්මන්ති.

(කකචූපම සුත්ත - මජ්ඣිමනිකාය)

පදමාලාව

| | | | |
|---|---|---|---|
| භූතපුබ්බං | (කි) | - | පෙර වූවකි |
| ඉමිස්සායෙව | (සං) | - | මෙහි ම |
| සාවත්ථියා | (නා) | - | සැවත්නුවර |
| කල්‍යාණො | (ත) | - | යහපත් |
| කිත්තිසද්දො | (ස) | - | කීර්ති ඝෝෂාවක් |
| අබ්භුග්ගතො | (කි) | - | පැන නැගුණි |
| සොරතා | (ත) | - | දැමුණු ඉඳුරන් ඇති තැනැත්තියක් |
| නිවාතා | (ත) | - | සන්සුන් තැනැත්තියක් |
| උපසන්තා | (ත) | - | උපශාන්ත තැනැත්තියක් |
| දක්ඛා | (ත) | - | දක්ෂ තැනැත්තියක් |
| අනලසා | (ස) | - | කම්මැලි නැති තැනැත්තියක් |
| සුසංවිහිතකම්මන්තා | (ස) | - | පිළිවෙළට කටයුතු කරන |
| අය්‍යාය | (නා) | - | ආර්යාවගේ |
| කින්නු | (සං) | - | කිමෙක් ද? |
| සන්තංයෙව | (සං) | - | ඇත්තා වූ ම |
| අජ්ඣත්තං | (නි) | - | ඇතුළාන්තයේ වූ |
| පාතුකරොති | (ක්‍රි) | - | එළිදක්වයි, ප්‍රකට කරයි |
| උදාහු | (නි) | - | නැතහොත් |
| අසන්තං | (ස) | - | නැත්තා වූ |
| මය්හමෙවෙතෙ | (සං) | - | මා විසින් ම මේ |
| සුසංවිහිතා | (ස) | - | මැනවින් කටයුතු සම්පාදනය කරන්නී |
| වීමංසෙය්‍යං | (ක්‍රි) | - | විමසන්නෙමි |
| උට්ඨාසි | (ක්‍රි) | - | නැගිට්ටාය, අවදි වූවා ය |
| හෙ ජෙ | (නි) | - | ඈ බොල |
| අනත්තමනා | (ස) | - | නොසතුටු සිත් ඇත්තී |
| භාකුටිං අකාසි | (ක්‍රි) | - | බැම හැකිලුවා ය |
| භියොසොමත්තාය | (නි) | - | බෙහෝ සෙයින් |
| දිවාතරං | (ත) | - | වඩා දහවල් වී |
| වත | (නි) | - | ඒකාන්තයෙන් |
| රෙ | (නි) | - | කොල, බොල |
| නිච්ඡාරෙසි | (ක්‍රි) | - | පිටකළාය |
| අග්ගළසූචිං | (නා) | - | දොරපොල්ල |
| වොභින්දි | (ක්‍රි) | - | බින්දාය, පැළුවාය |
| භින්නෙන සීසෙන | (නා) | - | පැළුණු හිසින් |
| ලොහිතෙන ගළන්තෙන | (නා) | - | ලේ ගලමින් |
| පටිවිස්සකානං | (ස) | - | අසල්වැසියන්ට |
| උජ්ඣාපෙසි | (ක්‍රි) | - | කෑ ගැසීය, දොස් නැගීය |
| පස්සථ | (ක්‍රි) | - | බලවු |

**අභ්‍යාස**

01. 'පසසථ අය්‍යා උපසන්තාය කම්මං' ඡේදය සිංහලට නගන්න.

02. පාලියෙන් පිළිතුරු සපයන්න.

- i. වෙදෙහිකාය ගහපතානියා දාසී කා නාම අහොසි?
- ii. සා කිර දාසී කීදිසා අහොසි?
- iii. සා අත්තනො චෙතසා කිං චින්තෙසි?
- iv. අත්තනො අය්‍යං වීමංසිතුං සා කිං අකාසි?
- v. කුපිතා අනත්තමනා වෙදෙහිකා තං දාසිං කිං අකාසි?

03. පිළිතුරු සපයන්න.

- i. බුද්ධකාලීන භාරතයේ දාසීන්ගේ ස්වරූපය පිළිබඳ කරුණු 02 ක් ලියන්න.
- ii. වේදේහිකාවගේ ඉවසීම පරීක්ෂා කිරීමට දාසිය කළේ කුමක් ද?
- iii. ඇතුළාන්ත කෝපය දුරුකිරීමට අනුගමනය කළ යුතු ප්‍රතිපදාව කුමක් ද?
- iv. මෙම පාඩමෙන් උගත හැකි ආදර්ශ 03 ක් ලියන්න.
- v. නිලීනව (සැඟව) පවත්නා කෙළෙස් හඳුනාගත හැක්කේ කෙසේ දැයි පැහැදිලි කරන්න.

## වාක්‍ය රචනය - II

ඉහත පාඩමේ දී කර්තෘ, කර්ම, ක්‍රියා යන මූලිකාංගවලින් සමන්විත වාක්‍යයකට නාම විශේෂණ, ක්‍රියා විශේෂණ, සංඛ්‍යා ශබ්ද ආදිය යොදා ක්‍රම ක්‍රමයෙන් එම වාක්‍ය දිගු කර ගන්නා ආකාරය ඉගෙන ගතිමු. මෙම පාඩමේ දී තුමන්ත ක්‍රියා, කිතක, පූර්ව ක්‍රියා, ප්‍රයෝජ්‍ය ක්‍රියා ආදි පද එක්කොට අර්ථවත් හා පරිපූර්ණ වාක්‍යයක් සකසන ආකාරය තවදුරටත් ඉගෙන ගනිමු.

### තුමන්ත ක්‍රියා

'යන්ට', 'කරන්ට' යනාදි අර්ථ ලබාගැනීම සඳහා ධාතුව අගට '**තුං**' '**තවෙ**' යන ප්‍රත්‍යය එක් කොට සාදාගන්නා පද විශේෂය **තුමන්ත ක්‍රියා** පද ලෙස හැඳින්වේ. මේවා ඇතැම් තැනෙක නිපාත ලෙසින් ද හඳුන්වා ඇති කිතක පද විශේෂයකි.

- '**අ**' කාරාන්ත හා '**උ**' කාරාන්ත ධාතු සඳහා ධාතුවටත් ප්‍රත්‍යයටත් අතරෙහි '**ඉ**' කාරයක් ආගම කොට තුමන්ත ක්‍රියා පද සාදා ගනී.

| | | | |
|---|---|---|---|
| උදා:- | පච + ඉ + තුං | පචිතුං | (පිසන්නට) |
| | ඛාද + ඉ + තුං | ඛාදිතුං | (කන්නට) |
| | හර + ඉ + තුං | හරිතුං | (ගෙන යන්නට) |
| | ධාව + ඉ + තුං | ධාවිතුං | (දුවන්නට) |

- 'ආ' කාරාන්ත ධාතුන්ට සෘජුව ම තුමන්ත ප්‍රත්‍යය එක් කොට තුමන්ත ක්‍රියා පද සාදා ගනී.

| | | | |
|---|---|---|---|
| උදා:- | දා + තුං | දාතුං | (දෙන්නට) |
| | පා + තුං | පාතුං | (බොන්නට) |
| | ඨා + තුං | ඨාතුං | (සිටින්නට) |
| | ඤා + තුං | ඤාතුං | (දැන ගන්නට) |

- ඇතැම් ධාතුන්ගේ අන්තයේ ඇති ව්‍යඤ්ජනාක්ෂරයට හා ප්‍රත්‍යයට අනුරූප ලෙසත් අකුරක් ආදේශ කොට තුමන්ත ක්‍රියා පද සාදා ගනී.

| | | | |
|---|---|---|---|
| උදා:- | ගමු + තුං | ගන්තුං, ගන්තුං | (යන්නට) |
| | කර + තුං | කත්තුං | (කරන්නට) |
| | වද + තුං | වත්තුං | (කියන්නට) |
| | භුජ + තුං | භොත්තුං | (අනුභව කරන්නට) |

- ඇතැම් විට ධාතුවේ පූර්ව ස්වරය වෘද්ධි කොට තුමන්ත ක්‍රියා පද සාදා ගනී.

| | | | |
|---|---|---|---|
| උදා:- | න + තුං | නෙතුං | (පමුණුවන්ට) |
| | ජී + තුං | ජෙතුං | (දිනන්නට) |
| | සු + තුං | සොතුං | (අසන්නට) |
| | හු + තුං | හොතුං | (වන්නට) |

මීට ඉහත පාඩමකදී විශේෂණ පද හා උපසර්ග, නිපාත පද යොදාගනිමින් අලංකාරවත් දිගු වාක්‍ය නිර්මාණය කරන්නට උගත්තෙමු. දැන් තුමන්ත ක්‍රියා පද යොදා වාක්‍ය දිගු කොට ලිවීමට පුරුදු වෙමු.

ජනා විහාරං ගච්ඡන්ති.
සජ්ජනා විහාරං ගච්ඡන්ති.
සජ්ජනා විහාරං නිබද්ධං ගච්ඡන්ති.
සජ්ජනා විහාරං ධම්මං සොතුං නිබද්ධං ගච්ඡන්ති.
තස්මිං සමයෙ සජ්ජනා විහාරං ධම්මං **සොතුං** ගච්ඡන්ති.

ඉහත දැක්වෙන ආකාරයට විශේෂණ නිපාත, උපසර්ග පද හා තුමන්ත ක්‍රියා යොදා ගනිමින් වාක්‍ය දිගු කොට ලිවීමට හුරුවන්න.

## පූර්ව ක්‍රියා

අවසාන ක්‍රියාවට පෙර සිදු කොට අවසන් වූ ක්‍රියා පූර්වක්‍රියා ලෙස හැඳින්වේ. පූර්වක්‍රියා සාදාගනුයේ ධාතුවේ අගට **ත්වා, ත්වාන, තූන** යන ප්‍රත්‍යය එක්කර ගැනීමෙනි. **(පුබ්බකාලෙකකත්තුකානං තූන ත්වාන, ත්වා වා)** යනුවෙන් බාලාවතාරයේ මේ බව දැක්වේ. ඇතැම් විට **'ය'** ප්‍රත්‍යය එක් කිරීමෙන් ද පූර්වක්‍රියා පද සෑදේ. තනි තනිව කිව යුතු වාක්‍ය කීපයක් පූර්වක්‍රියා පද යෙදීම තුළින් තනි වාක්‍යයකින් පැවසිය හැකි ය. පහත දැක්වෙන වාක්‍ය කිහිපය සහ ඉන් අනතුරුව ඒ ආශ්‍රයෙන් දක්වා ඇති තනි වාක්‍යය දෙස බැලීමෙන් උක්ත අදහස පහසුවෙන් අවබෝධ කොට ගත හැකි ය.

- ධාතුවට පරව ත්වා, ත්වාන, තූන යන ප්‍රත්‍යය එක් කොට පූර්වක්‍රියා පද තනා ගත හැකි ය.

**උදා:-** කර + ත්වා - කත්වා
කර + ත්වාන - කත්වාන
කර + තූන - කත්තූන

- ඇතැම් විට ධාතුවට පූර්වයෙන් උපසර්ගයක් යෙදුණු විට විකල්පයෙන් 'ය' ප්‍රත්‍යය ආදේශ වේ.

**උදා:-** අභි + √භූ + ය - අභිභූය
නි + √කමු + ය - නික්ඛම්ම
ආ + √ගමු + ය - ආගම්ම
උ + √ඨා + ය - උට්ඨාය

පූර්ව ක්‍රියා නිපාත ආදිය ද යොදාගනිමින් වාක්‍ය දිගුකොට ලියන ආකාරය බලන්න.

දාරකො පාඨසාලං ගච්ඡති.
ගුණවා දාරකො පාඨසාලං ගච්ඡති.
අථ බො ගුණවා දාරකො තං පාඨසාලං ගච්ඡති.
අථ බො ගුණවා දාරකො අක්ඛරානි උග්ගණ්හිතුං පාඨසාලං ගච්ඡති.
අථ බො ගුණවා දාරකො පාතොව **උට්ඨාය** පාතරාසං **භුඤ්ජිත්වා** අක්ඛරානි උග්ගණ්හිතුං සහසා පාඨසාලං ගච්ඡති.

**අභ්‍යාස**

01. සිංහලට නගන්න.

i. සො කාලසෙසව උට්ඨාය උපාහනා ඔමුඤ්චිත්වා දන්තකට්ඨං දාතබ්බං, ආසනං පඤ්ඤාපෙතබ්බං හොති.

ii. උපජ්ඣායස්ස පච්ඡාසමණෙන හොතබ්බං. නාතිදූරෙ ගන්තබ්බං. පත්තපරියාපන්නං පටිග්ගහෙතබ්බං හොති.

iii. සචෙ උපජ්ඣායො ජන්තාඝරං පවිසිතුකාමො හොති චුණ්ණං සන්නෙතබ්බං හොති.

iv. පතිකුලෙ වසන්තියා නාම අන්තො අග්ගි බහි න නීහරිතබ්බො. බහි අග්ගි අන්තො න පවෙසෙතබ්බො

v. ඛජ්ජභොජ්ජලෙය්‍යපෙය්‍යවසෙන චතුබ්බිධා හොන්ති මනුස්සානං ආහාරා.

02. පහත දැක්වෙන වාක්‍ය නාම විශේෂණ හා ක්‍රියා විශේෂණ යොදා දිගු කොට ලියන්න.

i. බාලකො ගාමං ගච්ඡති.
ii. වාණිජා භණ්ඩානි වික්කිණන්ති.
iii. පුරිසො විහාරං ගච්ඡති.
iv. කස්සකා ඛෙත්තං කසන්ති.
v. මයං ධම්මං සුණාම.

03. පහත දැක්වෙන වාක්‍ය නිපාත හා උපසර්ග පද ද යොදා ගනිමින් දිගු කොට ලියන්න.

i. භික්ඛු පිණ්ඩාය පාවිසි.
ii. චොරා අස්සෙ චොරෙන්ති.
iii. දාරිකා විහාරං ගච්ඡති.
iv. භගවා ධම්මං දෙසෙසි.
v. පුරිසා අස්සෙ කිණන්ති.

04. පහත දැක්වෙන වාක්‍ය තුමන්ත ක්‍රියා හා පූර්ව ක්‍රියා ද යොදමින් දිගුකොට ලියන්න

i. මාතා භත්තං පචි.
ii. පිතා නගරං ගච්ඡති.
iii. දාසා ගොණෙ හරන්ති.
iv. බාලකො පොත්ථකං පඨති.
v. බාලිකා දාරුණි ආහරති.

## අට්ඨමො පාඨො

# බ්‍රහ්මාති මාතාපිතරො

සබ්‍රහ්මකානි භික්ඛවෙ තානි කුලානි යෙසං පුත්තානං මාතාපිතරො අජ්ඣාගාරෙ පූජිතා හොන්ති. සපුබ්බදෙවතානි භික්ඛවෙ තානි කුලානි යෙසං පුත්තානං මාතාපිතරො අජ්ඣාගාරෙ පූජිතා හොන්ති. සපුබ්බාචරියකානි භික්ඛවෙ තානි කුලානි යෙසං පුත්තානං මාතාපිතරො අජ්ඣාගාරෙ පූජිතා හොන්ති. සාහුණෙය්‍යකානි භික්ඛවෙ තානි කුලානි යෙසං පුත්තානං මාතාපිතරො අජ්ඣාගාරෙ පූජිතා හොන්ති. බ්‍රහ්මාති භික්ඛවෙ මාතාපිතූනං එතං අධිවචනං. පුබ්බදෙවතාති භික්ඛවෙ මාතාපිතූනං එතං අධිවචනං. පුබ්බාචරියාති භික්ඛවෙ මාතාපිතූනං එතං අධිවචනං. ආහුණෙය්‍යාති භික්ඛවෙ මාතාපිතූනං එතං අධිවචනං. තං කිස්ස හෙතු? බහූපකාරා භික්ඛවෙ මාතාපිතරො පුත්තානං, ආපාදකා පොසකා ඉමස්ස ලොකස්ස දස්සෙතාරොති. එතමත්ථං භගවා අවොච. තත්ථෙතං ඉති වුච්චති.

බ්‍රහ්මාති මාතාපිතරො - පුබ්බාචරියාති වුච්චරෙ
ආහුණෙය්‍යා ච පුත්තානං - පජාය අනුකම්පකා

තස්මා හි නෙ නමස්සෙය්‍ය - සක්කරෙය්‍යාථ පණ්ඩිතො
අන්නෙන අථ පානෙන - වත්ථෙන සයනෙන ච
උච්ඡාදනෙ නහාපනෙ - පාදානං ධොවනෙන ච

තාය නං පාරිචරියාය - මාතාපිතූසු පණ්ඩිතා
ඉධෙව නං පසංසන්ති - පෙච්ච සග්ගෙ ච මොදති.

**(ඉතිවුත්තකපාළි)**

පද මාලාව

| | | | |
|---|---|---|---|
| **සබ්‍රහ්මකානි** | (නා) | - | බ්‍රහ්මයන් සහිත |
| **තානි** | (ස.නා) | - | ඒ |
| **කුලානි** | (නා) | - | කුල, පවුල්, ගෙවල් |
| **යෙසං** | (ස.නා) | - | යමෙකුගේ |
| **අජ්ඣාගාරෙ** | (සං) | - | තම ගෙයි |
| **සපුබ්බදෙවතානි** | (ස) | - | පූර්ව දේවතාවන් සහිත |
| **ආහුණෙය්‍යකානි** | (ත) | - | පිදියයුත්තන් සහිත |
| **අධිවචනං** | (ස) | - | අපර නාමයකි |
| **කිස්ස** | (ස.නා) | - | කුමක්ද |
| **හෙතු** | (නා) | - | හේතුව |
| **ආපාදකා** | (ත) | - | මඟ පෙන්වන්නෝ |

| | | | |
|---|---|---|---|
| **පොසකා** | (ත) | - | පෝෂණය කරන්නෝ |
| **දසෙසතාරො** | (කි) | - | දක්වන්නෝ |
| **එතමත්ථං** | (සං) | - | මේ කරුණ |
| **අවොච** | (ක්‍රි) | - | වදාළ සේක |
| **වුච්චරෙ** | (ක්‍රි) | - | කියනු ලැබෙත් |
| **බ්‍රහ්මාති** | (සං) | - | බ්‍රහ්මයා යනු |
| **පුබ්බාචරියාති** | (සං) | - | පූර්වාචාර්ය යනු |
| **පජාය** | (නා) | - | ප්‍රජාවට |
| **නමස්සෙය්‍ය** | (ක්‍රි) | - | වඳින්නේ ය/ වැඳිය යුතු ය |
| **සක්කරෙය්‍යා** | (ක්‍රි) | - | සත්කාර කරන්නේ ය/ සත්කාර කළ යුතු ය |
| **අන්නෙන** | (නා) | - | කෑමෙන් |
| **පානෙන** | (කි) | - | බීමෙන් |
| **වත්ථෙන** | (නා) | - | වස්ත්‍රයෙන් |
| **සයනෙන** | (කි) | - | ඇඳ ඇතිරිලිවලින් |
| **උච්ඡාදනෙ** | (කි) | - | ඇඟ ඉලීමෙන් |
| **නහාපනෙ** | (කි) | - | නැවීමෙන් |
| **පාදානං** | (නා) | - | පාදයන් |
| **ධොවනෙන** | (කි) | - | සේදීමෙන් |
| **පාරිචරියාය** | (කි) | - | මෙහෙවර කිරීමෙන් |
| **ඉධෙව** | (සං) | - | මෙලොව දී ම |
| **පසංසන්ති** | (ක්‍රි) | - | ප්‍රශංසා කරති |
| **පෙච්ච** | (නි) | - | පරලොව |
| **මොදති** | (ක්‍රි) | - | සතුටු වෙයි |

**අභ්‍යාස**

01. ''බ්‍රහ්මාතිමාතාපිතරො'' පාලි ඡේදය සිංහලට නගන්න.

02. ඡේදය ඇසුරෙන් අසා ඇති ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. ඉමස්මිං සුත්තෙ කෙසං ගුණං පාකටං කරොති?
ii. කතමානි තානි ගුණානි?
iii. පුත්තෙහි මාතාපිතුන්නං කිං කාතබ්බං?
iv. මාතාපෙත්තිභරං ජන්තු කානි ආනිසංසානි ලභති?
v. මාතාපිතුන්නං කානි අධිවචනානි භවන්ති?

3. ඡේදය කියවා පහත සඳහන් ප්‍රශ්නවලට සිංහලෙන් පිළිතුරු සපයන්න.

i දෙමව්පියෝ හැඳින්වීමට යොදා ඇති පර්යාය පද 03ක් ලියන්න.
ii. ආහුණෙය්‍ය ගුණය පහදන්න.
iii. දෙමව්පියෝ දරුවන්ට දක්වන උපකාර මොනවා ද?
iv. නුවණැති පුද්ගලයෝ මව්පියන්ට සිදු කරන යුතුකම් මොනවා ද?
v. මව්පිය - දූදරු සම්බන්ධයේ වටිනාකම ඡේදය ඇසුරින් පහදන්න.

## වාක්‍ය පරිවර්තනය

### හැඳින්වීම

වාක්‍ය පරිවර්තනයේ දී හා නිර්මාණයේ දී ඉතා වැදගත් වන අංග කීපයක් වේ. එහි දී නිපාත, උපසර්ග, පූර්වක්‍රියා, තුමන්ත ආදි වියරණ විධි ප්‍රධාන වේ. භාෂාවේ ජීව ගුණය වර්ධනය කිරීමට හා භාෂා සුබනම්‍යතාව දක්වීමට මෙමගින් ලැබෙන ආලෝකය අතිමහත් ය. වාක්‍යය පරිවර්තනයේදී නිපාතාර්ථ පිළිබඳ අවබෝධය වැදගත් වන බැවින්, මෙහි ලා නිපාත සමූහයක අර්ථ දක්වමු.

### විභක්ති අර්ථ සහිත නිපාත පද

### පඨමා විභක්තිය

අත්‍ථි - ඇත     සක්කා - හැකි ය     ලබ්භා - ලැබිය හැකි ය

### ආලපන විභක්තිය

ආවුසො - ඇවැත්නි
අමෙහා - එම්බා/පින්වත
හමෙහා - එම්බා/ පින්වත්නි
අරෙ - බොල, කොල
හරෙ - බොල
රෙ - බොල
ජෙ - බොල

### තතියා විභක්ති අර්ථය

සයං - තමා     සමං - සමාන     සම්මා - මනා සේ

### චතුත්‍ථි විභක්ති අර්ථය

කාතවෙ - කරන්නට
දාතවෙ - දෙන්නට
කාතුං - කරන්නට
දාතුං - දෙන්නට
දාපෙතුං - දෙන්නට

### පඤ්චමී විභක්ති අර්ථය

| | | | |
|---|---|---|---|
| රාජතො | - රජුගෙන් | චොරතො | - සොරුගෙන් |
| පිට්ඨිතො | - පසු පසින් | පාදතො | - පාදයෙන් |
| සීසතො | - හිසෙන් | | |

### සත්තමී විභක්ති අර්ථය

| | | | |
|---|---|---|---|
| සමන්තා | - හාත්පස | සාමන්තා | - සමීපයේ වූ |
| පරිතො | - හාත්පස | අභිතො | - හාත්පසින් |
| එකමන්තං | - එකත්පසෙක | හෙට්ඨා | - යට |
| උපරි | - මත්තෙහි | සම්මුඛා | - ඉදිරියෙහි |
| ඔරං | - යට, මෙහා | පෙච්ච | - පරලොව |

### කාල සත්තමී අර්ථය

| | | | |
|---|---|---|---|
| සුවෙ | - හෙට | භූතපුබ්බං | - පෙර වූවක් |
| උත්තර සුවෙ | - අනිද්දා | පාතො | - උදෑසන |
| නිච්චං | - නිතර | සතතං | - නිතර |
| අභිණ්හං | - නිතර | අභික්ඛණං | - නිතර |

පාලි භාෂාවේ යෙදෙන විවිධ අර්ථ ඇති නිපාත පද සමූහයක් පහත දැක්වේ.

| | | | |
|---|---|---|---|
| කච්චි | - කිමෙක් ද? | න | - නොවේ |
| කථං | - කෙසේ ද? | කිං | - කිමෙක් ද? |
| ඉති | - යනුවෙනි | යාව | - යම්තාක් |
| තාව | - ඒ තාක් | යාවතා | - යම්තාක් |
| තාවතා | - ඒ තාක් | කිත්තාවතා | - කොපමණකින් |
| එත්තාවතා | - මෙපමණකින් | එවං | - මෙසේ |
| සාහු | - යෙහෙකි | ඔපායිකං | - සුදුසු |
| ආම | - එසේ ය | සාධු | - මැනවි |
| යථා | - යම් සේ | තථා | - එසේ |
| එවං | - මෙසේ | යථාපි | - යම්සේ ද |
| එවමපි | - මෙසේ ද | විය | - මෙන් |
| සෙය්‍යථාපි | - යම් සේ | යථරිව | - යම්සේ |
| ඉව | - වාගේ / මෙන් | ඉංඝ | - එහෙනම් |
| සාධු | - මැනවි | සචෙ | - ඉදින් |

| | | | |
|---|---|---|---|
| හඤ | - ඒකාන්තයෙන් | නූන | - ඒකාන්තයෙන් |
| කසමා | - කවර හෙයකින් | සහ,සද්ධිං,සමං | - සමඟ |
| විනා | - හැර | රිතෙ | - හැර |
| නානා | - නොයෙක් | පුථු | - බොහෝ |
| පුථු | - වෙන්ව | විසුං | - වෙන්ව |
| දුට්ඨු | - නොමනා සේ | කු | - නින්දිත, අල්ප |
| සකිං | - එක් වරක් | ඊසකං | - ස්වල්පයක් |
| සනිකං | - හෙමින් | ඛිප්පං | - වහා/ඉක්මනින් |
| ආසු | - වහා | අචිරං | - නොබෝ කලකින් |
| චිරං | - බොහෝ කලක් | චිරස්සං | - දිගු කලකින් |
| චෙ | - ඉදින් | යදි | - ඉදින් |
| හා | - අහෝ | සච්ඡි | - ප්‍රත්‍යක්ෂය |
| මුසා | - මුසාව | මිච්ඡා | - මිථ්‍යාව |
| අලිකං | - අසත්‍ය | සුවත්ථි | - සෙත්වේවා |
| අථ | - ඉක්බිති | බලු | - වනාහි |
| වත | - ඒකාන්තයෙන් | අථො | - ඉක්බිති |
| සෙය්‍යථීදං | - කෙසේ ද යත් | හි | - ඒකාන්තයෙන් |
| එරහි | - දැන්, එසේනම් | හවෙ | - ඒකාන්තයෙන් |
| ච | - ද | චෙ | - ඉදින් |

මෙබඳු නිපාත යෙදුණු වාක්‍ය කීපයක පරිවර්තනය මෙසේ ය.

**අචිරං වතයං** කායො පඨවිං අධිසෙස්සති **-** වැඩි කලක් යන්නට පෙර මේ සිරුර ඒකාන්තයෙන් පොළොවෙහි හොවින්නේ ය.
**මා** මං අපාදකො හිංසි. - පා නැත්තා මට හිසා නො කරන්න.
**පුනප්පුනං** දානපතී දදන්ති **-** දානපතීහු නැවත නැවත දෙති.
**කහං පන** භික්ඛු **එතරහි** සො භගවා විහරති **-** භික්ෂුව දැන් ඒ භාග්‍යවතුන් වහන්සේ කොහි වාසය කරන සේක් ද?

## උපසර්ග පද

''**උපෙච්ච අත්ථං සජ්ජන්තීති උපසග්ගා**'' ධාතු මූලික ශබ්දයන්ට මුලින් යෙදී අර්ථය සරසන 'ප' ආදි පද 'උපසර්ග' නම් වෙයි. තව ද උපසර්ග පද සියල්ල ම අන්‍ය ශබ්දයක් සමග මිස හුදෙකලාව නො යෙදේ. (''**උපසග්ගා සබ්බෙපි සද්දන්තරෙන සහ පයුජ්ජන්තෙ)** එබඳු උපසර්ග පද විස්සක් (20) පාලි භාෂාවේ දක්නට ලැබේ. මේවා ද වරනොනැඟෙන බැවින් **අව්‍යය පද** ගණයට වැටේ.

**ප, පරා, නි, නී, උ, දු, සං, වි, අව, අනු, පරි, අධි, අභි, පති, සු, ආ, අති, අපි, අප, උප එතෙ වීසත්‍යුපසග්ගා** පාලි භාෂා වියරණ ඇඳුරෝ උපසර්ග පදවල ක්‍රියාකාරීත්වය පිළිබඳ අගනා විවරණයක් කර ඇත.

**ධාත්වත්ථං බාධතෙ කොචි - කොචි තං අනුවත්තතෙ**
**තමෙවඤ්ඤො විසෙසෙති - උපසග්ගගතී තිධා**

උපසර්ග පදයන්ගේ ක්‍රියාකාරිත්වය තුන් ආකාරයකට සිදු වේ.

ධාතුවේ අර්ථයට බාධා කරයි.
ධාතුවේ අර්ථයට අනුකූල වෙයි.
ධාතුවේ අර්ථය විසිතුරු කරයි.

උපසර්ග නිසා ධාතුවකින් නිපදවෙන ක්‍රියා පද විවිධාර්ථවත් වන අයුරු පහත නිදසුනෙන් පැහැදිලි වේ.
කමු (ගතියං) ධාතුවට උපසර්ග පද එක්වීමෙන් පද සැදෙන්නේ මෙසේ ය.

| | | | |
|---|---|---|---|
| ප + කමු + ති | - | පක්කමති | - යයි |
| පරා + කමු + ති | - | පරක්කමති | - වීර්ය කරයි |
| නි + කමු + ති | - | නික්ඛමති | - නික්මෙයි |
| සං + කමු + ති | - | සංකමති | - සංක්‍රමණය වෙයි |
| අව + කමු + ති | - | ඔක්කමති | - බසියි |
| අනු + කමු + ති | - | අනුක්කමති | - අනුව යයි |
| පරි + කමු + ති | - | පරික්කමති | - වටේ යයි |
| අභි + කමු + ති | - | අභික්කමති | - ඉදිරියට යයි |
| පටි + කමු + ති | - | පටික්කමති | - ආපසු යයි |
| ආ + කමු + ති | - | අක්කමති | - පාගයි |
| අති + කමු + ති | - | අතික්කමති | - ඉවත් වෙයි |

ඒ අනුව උපසර්ග නිසා ක්‍රියාපදයක් විවිධාර්ථවත් බවට පත්වන අයුරු ප්‍රකට වේ. පරිවර්තන කාර්යයේදී උපසර්ගයක් මගින් අර්ථ වෙනස් වන අයුරු අවබෝධ කරගත යුතු ය.

සන්ධි කාර්ය නිසා උපසර්ග පද අප්‍රකට වන අවස්ථා පාලි භාෂාවෙහි දැකිය හැකි ය. පහත නිදසුන් එබඳු අවස්ථා තේරුම් ගැනීමට ඉවහල් වේ.

| | | | |
|---|---|---|---|
| අව > ඔ වීම | අව + නද්ධා | - | ඔනද්ධා |
| | අව + කාස | - | ඔකාස |
| පරි > පළි වීම | පරි + බොධො | - | පළිබොධො |
| | පරි + බුජ්ඣති | - | පළිබුජ්ඣති |
| අභි > අබ්භ වීම | අභි + ඔකාසං | - | අබ්භොකාසං |
| | අභි + උග්ගච්ඡති | - | අබ්භුග්ගච්ඡති |
| පති > පච්ච වීම | පති + එකං | - | පච්චෙකං |

| | | | |
|---|---|---|---|
| | පති + අක්ඛාති | - | පච්චක්ඛාති |
| අති > අච්ච වීම | අති + අන්ත | - | අච්චන්ත |
| | අති + අගා | - | අච්චගා |
| අධි > අජ්ඣ වීම | අධි + අභාසි | - | අජ්ඣභාසි |
| | අධි + අවහරති | - | අජ්ඣෙධාහරති |
| පති > පටි වීම | පති + ලභති | - | පටිලභති |
| | පති + කමති | - | පටික්කමති |
| අපි > පි වීම | අපි + දහති | - | පිදහති |

වාක්‍ය පරිවර්තනයේදී පූර්වක්‍රියා තුමන්ත ක්‍රියාවන්හි කාර්ය වැදගත් වන බැවින් මෙහි ලා ඒවා සංක්ෂිප්තව දක්වමු.

## පූර්ව ක්‍රියා

**පුබ්බකාලෙකකත්තුකානං තුන ත්වාන ත්වා වා** පූර්ව ක්‍රියා පද සාධනයේ දී තුන ත්වාන, ත්වා යන ප්‍රත්‍යය යෙදේ. එකකර්තෘක වාක්‍ය කීපයක් පූර්වක්‍රියා යෙදීමෙන් එක් වාක්‍යයක් බවට පත් කෙරේ.

පුරිසො පාතොව පබුජ්ඣති.
සො මුඛං ධොවති.
සො ගෙහෙ කම්මං කරොති.
සො භත්තං භුඤ්ජති.

පුරිසො පාතොව **පබුජ්ඣිත්වා** මුඛං **ධොවිත්වාන** ගෙහෙ කම්මං **කාතුන** භත්තං භුඤ්ජති.

මේ වාක්‍යයේ එක ම කර්තෘවරයෙක් නිසා පූර්වක්‍රියා පදවලින් තනි වාක්‍යයක් බවට පත් කර ඇති අයුරු පෙනේ.

## පූර්වක්‍රියා පද සාධනය

කර + **ත්වා** - කත්වා
කර + **ත්වාන** - කත්වාන
කර + **තුන** - කාතුන

| | |
|---|---|
| කත්වා, කත්වාන, කාතුන | (කොට) |
| පචිත්වා, පචිත්වාන | (පිස) |
| වසිත්වා, වසිත්වාන | (වාසය කොට) |

පූර්වක්‍රියා පද සාධනයේ දී තුන ආදි ප්‍රත්‍යයවලට පාලියෙහි **ය, ඣා, මම, ජ්ජ, ච්ච, ය්හ** යනාදී ආදේශ වේ. බොහෝ විට මෙම ආදේශයන් සිද්ධ වනුයේ උපසර්ග පූර්ව ධාතු පූර්වක්‍රියා බවට පත්වීමේ දී ය.

| | | |
|---|---|---|
| අභි + භූ + ය | - අභිභූය | (මැඩ) |
| දිස + ඣා | - දිස්වා | (දැක) |
| නි + කමු + මම | - නික්කමම | (නික්ම) |
| වී + භජ + ජ්ජ | - විභජ්ජ | (බෙදා) |
| වි + විච + ච්ච | - විවිච්ච | (වෙන්ව) |
| ආ + රුහ + ය්හ | - ආරුය්හ | (නැග) |
| | | යනු නිදසුන් ය. |

**තුමන්ත ක්‍රියා**

**ඉච්ඡත්ථෙසු සමානකත්තුකෙසු තවෙ තුං** වා තුමර්ථය නම්, කිරීමට ඇති කැමැත්තයි. කර්තෘ යම් ක්‍රියාවක් කිරීමට අපේක්‍ෂා කරන විට එම ක්‍රියාව තුමර්ථයෙන් යෙදේ. තුමර්ථයේ දී පාලියෙහි **තවෙ, තුං** යන ප්‍රත්‍යයයෝ යෙදෙත්. **තවෙ, තුං** යන ප්‍රත්‍යයන්ට අතිරේකව **'තායෙ'** යනුවෙන් ප්‍රත්‍යයක් ද වේ. උදාහරණ පහත දැක්වේ.

සො ධම්මං සොතුං ඉච්ඡති.
සො ධම්මං සොතවෙ ඉච්ඡති.
දක්ඛිතායෙ අපරාජිතසංඝං.

**අභ්‍යාස**

01. උදාහරණය සැලකිල්ලට ගෙන පහත වගුව සම්පූර්ණ කරන්න.

| නිපාත පදය | සිංහල අර්ථය | පාලි වාක්‍යය |
|---|---|---|
| ආවුසො | ඇවැත්නි | මා ආවුසො සොචිත්ථ |
| අමෙභා | | |
| ජෙ | | |
| සෙය්‍යථීදං | | |
| හි | | |
| චෙ | | |
| යදි | | |

02. නිපාත පදවල අර්ථය ලියන්න.

| | |
|---|---|
| අතිප්පගොබො | |
| කුහිං | |
| මිච්ඡා | |
| මුධා | |
| සුවෙ | |
| හුරං | |
| කීවචිරං | |
| කතිධා | |
| කතික්ඛත්තුං | |
| තිරියං | |

03. පූර්ව ක්‍රියා පද යොදා පහත වාක්‍ය තනි වාක්‍ය සේ ලියන්න

උදාහරණ :- අහං විහාරං ගච්ඡාමි / අහං බුද්ධං වන්දාමි
අහං විහාරං ගන්ත්වා බුද්ධං වන්දාමි.

i. කුමාරො නගරං ගච්ඡති / සො ආපණා භණ්ඩානි කිණාති.
ii. මාතා පුප්ඵං ඔචිනාති / සා බුද්ධං වන්දති.
iii. දෙවො ධම්මං සුණාති / සො ආකාසෙන ගච්ඡති.
iv. මිගො සීහං පස්සති / සො වෙගෙන ධාවති.
v. ථෙරා පිණ්ඩාය චරන්ති / තෙ විහාරං පවිසන්ති.

04. තුමන්ත ක්‍රියා පද යොදා පහත වාක්‍ය තනි වාක්‍ය සේ ලියන්න. අර්ථය ද ලියන්න.

උදාහරණ :- අහං විහාරං ගච්ඡාමි / අහං බුද්ධං වන්දාමි
අහං බුද්ධං වන්දිතුං විහාරං ගච්ඡාමි.

i. සාමණෙරො පරිවෙණං ගච්ඡති. / සො තත්ථ පාලිභාසං උග්ගණ්හාති.
ii. පුරිසො පාතොව ධූමරථෙන නගරං ගච්ඡති / සො නගරෙ කම්මං කරොති
iii. භික්ඛවො පණ්ණරසියං උපොසථාගාරං ගච්ඡන්ති / තෙ තත්ථ විනයං වාචෙන්ති.
iv. කම්මකාරා වෙසාඛෙ පාටිපදියං සන්නිපතන්ති /තෙ තෙසං කම්මකාරදිවසං සමනුස්සරන්ති.

05. පහත වාක්‍යයන්හි කළු අකුරින් මුද්‍රිත පදවල උපසර්ග වෙන් කර ලියන්න. සිංහලට පරිවර්තනය කරන්න.

i. කෙවලකප්පං ගිජ්ඣකූටං **ඔභාසෙත්වා** යෙන භගවා තෙනුපසංකමිංසු.
ii. යෙභුය්‍යෙන ඛො පන භන්තෙ යක්ඛා **අප්පටිවිරතායෙව** පාණාතිපාතා.
iii. තෙ යානෙ **අභිරුහිත්වා** සබ්බා දිසා **අනුපරියන්ති.**
iv. **පච්චෙසන්තො පකාසෙන්ති** තතොලා තත්තලා තතොතලා
v. **නිපජ්ජ** පාදමූලම්හි තං ඨානං **අභිපත්ථයිං.**

06. වගුව සම්පූර්ණ කරන්න.

| ක්‍රියාපදය | අර්ථය | පූර්ව ක්‍රියාව | තුමන්ත ක්‍රියාව |
|---|---|---|---|
| ඔතරති | බසියි | ඔතරිත්වා | ඔතරිතුං |
| නිරුජ්ඣති | | | |
| ආරුහති | | | |
| නීහරති | | | |
| අබ්භුග්ගච්ඡති | | | |
| උපසංකමති | | | |

07. පහත වාක්‍ය සිංහලට නගන්න.

i. අජ්ජ උපාසකා විහාරං ගන්ත්වා ධම්මං සුණන්තු.
ii. මයං සුවෙ ගගනයානෙන ජම්බුදීපං ගච්ඡිස්සාම.
iii. හෙ මිත්ත, අජ්ජෙව සීලානි සමාදියාහි, අකුසලං පජහිත්වා කුසලං භාවෙහි.
iv. අහං ආහාරං පටියාදෙතුං ගෙහං පවිසාමි.
v. යක්ඛිනී සහායිකාය වණ්ණණ්ණනාගන්ත්වා ගෙහං පාවිසි.

08. පහත වාක්‍ය පාලියට නගන්න

i. අනේපිඬු සිටුතුමා දවසට දෙවරක් බුදුහිමියන් බලන්නට ජේතවනාරාමයට යයි.
ii. පින් කරන පුද්ගලයෝ නිතර නිතර පින් කරන්නට සිත යොමු කරති.
iii. මහා ප්‍රජාපතී ගෝතමිය පැවිදි වීමට බුදුහිමියන්ගෙන් අවසර ඉල්ලුවා ය.
iv. පිරිවෙන් ශිෂ්‍යයෝ සැමදා පිරිවෙනට ගොස් පාලි භාෂාව ඉගෙනීමට සිතා ගත්හ.
v. නැණවත් බුද්ධිමත් දරුවෝ නිතර බුදුන් වඳින්නට වෙහෙරට යත්.

09. දී ඇති නිපාත පද සුදුසු තැන්හි යොදා පහත වාක්‍ය පාලියට නගන්න.
**(ආවි වා රහො වා / අද්ධා / අබහුමෙම / කිං / ජෙ / දීඝරත්තං)**

i. **එම්බල** කාලිය **කුමක් හෙයින්** දවල් වී නැගිට්ටා ද?
ii. **එළිපිට හෝ රහසින් හෝ** පව් නොකළ යුතු ය.
iii. මෙය මට **දීර්ඝ කාලයක්** අහිත පිණිස පවතියි.
iv. **ඒකාන්තයෙන්** මේ ප්‍රතිපත්තිය නිවන් පිණිස ම පවතී.
v. **හපොයි අම්මේ,** මේ කුමන විපතක් ද?

10. පහත ආඛ්‍යාත පදයන්ගෙන් නිපදවෙන පූර්ව ක්‍රියාපද හා තුමන්ත ක්‍රියාපද දැක්වෙන වගුව සම්පූර්ණ කරන්න.

| කරොති | කත්වා | කත්වාන | කාතුන | කාතුං | කාතවෙ |
|---|---|---|---|---|---|
| භුඤ්ජති | | | | | |
| සයති | | | | | |
| වන්දති | | | | | |
| චරති | | | | | |
| ධාවති | | | | | |

# නවමො පාඨො — කස්මා ලිච්ඡවීති වදන්ති?

තෙන ච සමයෙන අඤ්ඤතරො තාපසො ගොපාලකුලං නිස්සාය ගඞ්ගාතීරෙ විහරති. සො පාතොව ගඞ්ගං ඔතරන්තො භාජනං ආගච්ඡන්තං දිස්වා පංසුකූලසඤ්ඤාය අග්ගහෙසි. තතො තත්ථ තං අක්ඛරපට්ටකං රාජමුද්දිකාලඤ්ඡනඤ්ච දිස්වා මුඤ්චිත්වා තං මංසපෙසිං අද්දස. දිස්වානස්ස එතදහොසි. 'සියා ගබ්භො. තථා හිස්ස දුග්ගන්ධපූතිභාවො නත්ථී'ති. තං අස්සමං නෙත්වා සුද්ධෙ ඔකාසෙ ඨපෙසි. අථ අඩ්ඪමාසච්චයෙන ද්වෙ මංසපෙසියො අහෙසුං. තාපසො දිස්වා සාධුතරං ඨපෙසි. තතො පුන අඩ්ඪමාසච්චයෙන එකමෙකිස්සා පෙසියා හත්ථපාදසීසානමත්ථාය පඤ්ච පඤ්ච පීළකා උට්ඨහිංසු. තාපසො දිස්වා පුන සාධුතරං ඨපෙසි. අථ අඩ්ඪමාසච්චයෙන එකා මංසපෙසි සුවණ්ණබිම්බසදිසො දාරකො. එකා දාරිකා අහොසි. තෙසු තාපසස්ස පුත්තසිනෙහො උප්පජ්ජි. අඞ්ගුට්ඨකතො චස්ස ඛීරං නිබ්බත්ති. තතොප්පභුති ච ඛීරභත්තං ලභති. සො භත්තං භුඤ්ජිත්වා ඛීරං දාරකානං මුඛෙ ආසිඤ්චති. තෙසං යං යං උදරං පවිට්ඨං, තං සබ්බං මණිභාජනගතං විය දිස්සති. එවං ලිච්ඡවී අහෙසුං. එවං තෙ නිච්ඡවිතාය ලිච්ඡවීති පඤ්ඤායිංසු.

(ඛුද්දකපාඨට්ඨකථා)

පදමාලාව

| | | | |
|---|---|---|---|
| අඤ්ඤතරො | (ස,නා) | - | එක්තරා |
| ගොපාලකුලං | (ස) | - | ගොපලු කුලය |
| ඔතරන්තො | (කි) | - | බසින්නේ |
| පාතොව | (සං) | - | උදෑසන ම |
| නිස්සාය | (නි) | - | නිසා |
| අග්ගහෙසි | (ක්‍රි) | - | අල්ලා ගත්තේ ය |
| අක්ඛරපට්ටකං | (ස) | - | අකුරු ලියූ රෙදි කැබැල්ල |
| රාජමුද්දිකාලඤ්ඡනං | (ස) | - | රාජ්‍ය මුද්‍රා තැබූ ලාංඡනය |
| මුඤ්චිත්වා | (පූ.ක්‍රි.) | - | මුදා |
| දිස්වානස්ස | (සං) | - | (දිස්වාන + අස්ස) දැක ඔහුට |
| සියා | (ක්‍රි) | - | වන්නේ ය |
| ගබ්භො | (නා) | - | දරු ගැබ |
| දුග්ගන්ධපූතිභාවො | (ස) | - | දුර්ගන්ධ හා නරක් වූ |
| සුද්ධෙ | (කි) | - | පිරිසිදු |
| ඔකාසෙ | (නා) | - | එළිමහනෙහි |
| අහෙසුං | (ක්‍රි) | - | වූහ |
| අඩ්ඪමාසච්චයෙන | (ස) | - | අඩමසක් ඇවෑමෙන් |
| සුවණ්ණබිම්බසදිසො | (ස) | - | රන් ප්‍රතිමාවක් සමාන |

| | | | |
|---|---|---|---|
| **දාරකො** | (ත) | - | පිරිමි දරුවා |
| **පීළකා** | (නා) | - | බිබිලි |
| **උට්ඨහති** | (ක්‍රි) | - | පැන නඟී |
| **පුත්තසිනෙහො** | (ස) | - | පුත්‍ර ස්නේහය |
| **අඞ්ගුට්ඨකතො** | (නා) | - | මාපට ඇඟිල්ලෙන් |
| **තතොපපභුති** | (සං) | - | එතැන් පටන් |
| **ඛීරභත්තං** | (ස) | - | කිරිබත් |
| **මණිභාජනගතං** | (ස) | - | මැණික් බඳුනකට ගිය |
| **විය** | (නි) | - | මෙන් |
| **දිස්සති** | (ක්‍රි) | - | පෙනෙයි |
| **ආසිඤ්චති** | (ක්‍රි) | - | ඉසියි |
| **නිච්ඡවිතාය** | (න) | - | සිවිය නැති හෙයින් |

**අභ්‍යාස**

01. 'කස්මා ලිච්ඡවී'ති වදන්ති' ඡේදය සිංහලට නඟන්න.

02. පහත දැක්වෙන ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. තාපසො කුහිං වසති?
ii. තාපසො අක්ඛරපට්ටකං රාජමුද්දිකලඤ්ඡනං ච දිස්වා කිං චින්තෙසි?
iii. කස්මා මංසපෙසියා පඤ්ච පඤ්ච පීළකා උට්ඨහිංසු?
iv. දාරිකං ච දාරකං ච දිස්වා තාපසො කිං අකාසි?
v. කස්මා ලිච්ඡවීනං ඉත්ථං නාමං අහෙසුං?

03. පිළිතුරු සපයන්න.

i. තාපස දිනචර්යාවේ ඇති මූලික ලක්ෂණයක් ලියන්න.
ii. රාජ්‍යමුද්‍රා තැබීමෙහි ගූඪාර්ථය (සැඟවුණු අර්ථය) කුමක් ද?
iii. තවුස් දිවියේ අල්පේච්ඡත්වය ප්‍රකට වන කරුණු දෙකක් දක්වන්න.
iv. දරු සෙනෙහස පිළිබඳ බුදුරදුන්ගේ ඉගැන්වීම කෙබඳු ද?
v. ලිච්ඡවීන්ගේ රාජ්‍ය පාලන ක්‍රමයේ පැවති සුවිශේෂත්වය කුමක් ද?

## සන්ධි

වෙන් වෙන්ව ඇති ලී කැබලි දෙකක් ගෙන එකට ගළපා එක ලීයක් කරන්නාක් මෙන් වෙන් වෙන්ව ළංව සිටි අකුරු දෙකක් **ලෝප, ආදේශ, ආගම, හ්‍රස්ව, දීර්ඝ, ද්විත්ව** ආදි සන්ධි කාර්යයන්ගේ ආධාරයෙන් එකට ගැළපීම සන්ධි නම් වේ.

උදා:- පාතො + එව - පාතොව
දිසවාන + අසස - දිසවානසස
එතං + අහොසි - එතදහොසි
තතො + පහුති - තතොපපහුති

පාලි භාෂාවේ ප්‍රධාන සන්ධි ප්‍රභේද 04ක් ඉගැන්වේ.

**1. ස්වර සන්ධි**
**2. ව්‍යඤ්ජන සන්ධි**
**3. නිග්ගහීත සන්ධි**
**4. වොමිස්සක සන්ධි**

පද සන්ධි කිරීමෙන් පසු සුඛොච්චාරණය, පද කෙටි වීම, භාෂාවේ ව්‍යක්ත බව ඇතිවීම හා ඡන්දස් ශාස්ත්‍රයේ දී විරිත ආරක්ෂා වීම ආදි ප්‍රයෝජන රැසක් ලැබේ.

## ස්වර සන්ධි

පෙර පදයේ අග හා පර පදයේ මුල ස්වරයක් ඇති විට ලොප් කිරීමකින් හෝ අන්‍ය ක්‍රමයකින් එම අකුරු ගැළපීමෙන් සිදු වෙන සන්ධි විධිය **ස්වර සන්ධි** නම් වේ.

| | |
|---|---|
| මාතු උපට්ඨානං | විසන්ධි පදය |
| මාත් + උ + උපට්ඨානං | ස්වර ව්‍යඤ්ජන වෙන් කිරීම **(පුබ්බමධොඨිතමස්සරං සරෙන වියොජයෙ)** |
| මාත් + උපට්ඨානං | පූර්ව ස්වර ලෝපය **(සරා සරෙ ලොපං)** |
| මාතුපට්ඨානං | අකුරු ගැළපීම **(නයෙ පරං යුත්තෙ)** |

| ස්වර සන්ධි | | | |
|---|---|---|---|
| | **විස්තර** | **උදාහරණ** | **බාලාවතාර සූත්‍ර** |
| **ලෝපය** | පූර්ව ස්වර ලෝපය | ලොක + අගෙගා - ලොකගෙගා | **සරා සරෙ ලොපං** |
| | පර ස්වර ලෝපය | ඡායා + ඉව - ඡායාව | **වා පරො අසරූපා** |
| **දීර්ඝ** | පූර්ව ස්වර දීර්ඝය | කිංසු + ඉධ - කිංසූධ | **පුබ්බො ච** |
| | පර ස්වර දීර්ඝය | යානි + ඉධ - යානීධ | **දීඝං** |

| | | | |
|---|---|---|---|
| ආදේශ | **අසවර්ණාදේශය**<br>ඉ, ඊ > එ<br>උ, ඌ > ඔ | බන්ධුස්ස + ඉව > බන්ධුස්සෙව<br>ගංගා + උදය > ගංගොදය | **ක්වචාසවණ්ණං ලුත්තෙ** |
| | **යකාරාදේශය**<br>එ > ය | තෙ + අජ්ජ > ත්‍යජ්ජ | **යමෙදන්තස්සාදෙසො** |
| | ඉ, ඊ > ය | වුත්ති + අස්ස > වුත්‍යස්ස | **ඉවණ්ණො යං නවා** |
| | **වකාරාදේශය**<br>ඔ, උ > ව | සො + අස්ස > ස්වස්ස<br>අනු + එති > අන්වෙති | **වමොදුදන්තානං** |
| | **දකාරාදේශය**<br>ධ > ද<br>ඇතැම් විට ව්‍යඤ්ජන අකුරක් පර කල්හි ද මෙය වේ. | ඉධ + අහං > ඉදාහං<br>ඉධ භික්ඛවෙ > ඉදභික්ඛවෙ | **දො ධස්ස ච** |
| | **රිකාරාදේශය**<br>ස්වරයා කෙරෙන් පර වූ එව ශබ්දයේ එ > රි වේ. ගැළපෙන සේ පූර්වස්වර ලෝපය ද වේ. | යථා + එව > යථරිව | **එවාදිස්සරි පුබ්බො ච රස්සො** |
| | **අබ්භාදේශය**<br>අභි > අබ්භ | අභි + උග්ගතො > අබ්භුග්ගතො | **අබ්භො අභි** |
| ආගම | අතරට 'ය' ආදි අකුරක් පැමිණීම යි.<br>'ය' ආගම<br>'ව' ආගම<br>'ම' ආගම<br>'ද' ආගම<br>'න' ආගම<br>'ත' ආගම<br>'ර' ආගම<br>'ළ' ආගම<br>'ග' ආගම | පරි + එසති - පරියෙසති<br>භූ + ආදයො - භූවාදයො<br>කසා + ඉව - කසාමිව<br>බහු + එව - බහුදෙව<br>ඉතො + ආයති - ඉතොනායති<br>තස්මා + ඉහ - තස්මාතිහ<br>චතු + ආරක්ඛා - චතුරාරක්ඛා<br>ඡ + අභිඤ්ඤා - ඡළභිඤ්ඤා<br>පුථ + එව - පුථගෙව | **යවමදනතරලා චාගමා** |

| | | | |
|---|---|---|---|
| ද්විත්ව | ස්වරයා පර කල්හි පූර්වයේ ඇති අක්ෂරය ද්විත්ව වේ. | පති+අනන්තං = විසන්ධිය<br>පත්+ය්+අනන්තං = ඉවණ්ණො යං නවා<br>පච්+අනන්තං = සබ්බොචන්ති<br>පච්ච්+අනන්තං - පරද්වෙභාවොඨානෙ<br>පච්චනන්තං - නයෙපරං යුත්තෙ | පරද්වෙභාවො ඨානෙ |
| හ්‍රස්ව | ව්‍යඤ්ජනයක් පර කල්හි පූර්වයේ ඇති දීර්ඝ ස්වරය හ්‍රස්ව වේ. | පා + එව<br>ප් + ආ + ග් + එව - යවමදනතරලාචාගමා<br>පගෙව | රස්සං |
| ප්‍රකෘති | වෙනසකට පත් නොකොට තිබෙන පද දෙක එක පදයක් සේ ලිවීම | පා + එව - පාඑව | සරෙ ක්වචි |

| ව්‍යඤ්ජන සන්ධි | | | |
|---|---|---|---|
| | විස්තර | උදාහරණ | බාලාවතාර සූත්‍ර |
| ලෝපාගම | ව්‍යඤ්ජනයක් පර කල්හි පූර්වයේ ඇති ස්වරය ඇතැම් විට ලොප් වී එතනට 'අ' ආගම වේ.<br><br>සූත්‍රයේ ඇති චකාරයේ බලයෙන් ඇතම් විට 'උ', 'ඔ' ද ආගම වේ. | සො + භික්ඛු - සභික්ඛු<br>ජානෙම + තං - ජානෙමුතං<br>කච්චිනු + ත්වං - කච්චිනොත්වං | ලොපං ච තත්‍රාකාරො |
| අසමාන ද්විත්වය | වර්ගාක්ෂරයන්ගේ 2, 4 අකුරුවලට පිළිවෙළින් 1, 3 අකුරු ආදේශය වේ<br><br>(මහප්‍රාණ අකුරුවලට අල්පප්‍රාණ අකුරු වීම) | ආ + ඛාතං - අක්ඛාතං<br>උ + ඝොසො - උග්ඝොසො<br>සෙත + ඡත්ත - සෙතච්ඡත්ත<br>පඨම + ඣාන - පඨමජ්ඣාන<br>පද + ඨාන - පදට්ඨාන<br>පුණ්ණ + ථෙර - පුණ්ණත්ථෙර<br>ඡ + ධා - ඡද්ධා<br>මහා + භය - මහබ්භය | වග්ගෙ ඝොසා'ඝොසානං තතියපඨමා |

| | | | |
|---|---|---|---|
| ඔකාරාගම | බ්‍යඤ්ජනයක් පර කල්හි ඇතැම් විට 'ඔ' ආගම වේ. | පර + සහස්සං - පරොසහස්සං<br>අතිප්ප + බො - අතිප්පගොබො | ක්වචි ඔ බ්‍යඤ්ජනෙ |
| ඔකාරාදේශ | බ්‍යඤ්ජනයක් පර කල්හි 'අව' උපසර්ගයට 'ඔ' ආදේශ වේ. | අව + නද්ධා - ඔනද්ධා | ඔ අවස්ස |

| නිග්ගහීත සන්ධි | | | |
|---|---|---|---|
| | විස්තර | උදාහරණ | බාලාවතාර සූත්‍ර |
| ආදේශය | **වර්ගාන්තාදේශය**<br><br>පූර්වපදයේ බිංදුවක් තිබී පර පදයේ වර්ගාක්ෂරයක් ඇති විට එම වර්ගයේ වර්ගාන්තාක්ෂරය බිංදුවට ආදේශ වේ.<br><br>සූත්‍රයේ ඇති චකාරයේ බලයෙන් ලකාරය පර කල්හි ද බිංදුවට 'ල' කාරයක් වේ. | කිං + කතො > කිඞ්කතො<br>සං + ජාතො > සඤ්ජාතො<br>සං + ඨිතො > සණ්ඨිතො<br>තං + ධනං > තන්ධනං<br>තං + මිත්තං > තම්මිත්තං<br><br>පුං + ලිංග > පුල්ලිඞ්ග | වග්ගන්තං වා වග්ගෙ |
| | **'ම'කාර, 'ද'කාර ආදේශය**<br><br>ස්වරයක් පරකල්හි පූර්වයේ ඇති බිංදුවට 'ම' හා 'ද' ආදේශ වේ. | එවං + ඉමං > එවමිමං<br>එතං + අවොච > එතදවොච | මදාසරෙ |
| | **'ඤ'කාරාදේශය**<br><br>'එ' හෝ 'හ' පරව සිට මුලින් නිග්ගහීතයක් ඇති විට 'ඤ' ආදේශ වේ. | තං + එව > තඤ්ඤෙව<br>තං + හි > තඤ්හි | එහෙඤ්ඤං |
| | 'ය' පර කල්හි ද මුලින් ඇති බිංදුවට 'ය' සමඟ 'ඤ'කාරයක් ආදේශ වේ. | සං + යොගො > සඤ්ඤොගො | සයෙච |

| | | | |
|---|---|---|---|
| ආගම | **නිග්ගහීත ආගම**<br><br>ස්වර හෝ ව්‍යඤ්ජන අකුරක් පර කල්හි නිග්ගහීතයක් ආගම වේ. | චක්ඛු + අනිච්චං > චක්ඛුංඅනිච්චං<br>අව + සිරො > අවංසිරො | **නිගගහීතඤ්ච** |
| ලෝපය | **නිග්ගහීත ලෝපය**<br><br>ස්වරයක් පර කල්හි මුලින් ඇති බිංදුව ලොප් වේ.<br><br>ව්‍යඤ්ජනාක්ෂරයක් පර කල්හි ද මුලින් ඇති බිංදුව ලොප් වේ. | විදූනං + අගගං > විදූනගගං<br><br>බුද්ධානං + සාසනං > බුද්ධානසාසනං | **ක්වචි ලොපං**<br><br>**ව්‍යඤ්ජනෙ ච** |
| | **ස්වරලෝපය**<br><br>බිංදුවෙන් පර වූ ස්වරය විකල්පයෙන් ලොප් වේ. | බීජං + ඉව > බීජංව | **පරො වා සරො** |
| විසංයෝග | බිංදුවෙන් පර ස්වරය ලොප් කළ විට සංයෝග ව්‍යඤ්ජන විසංයෝග වේ. | එවං + අස්ස > එවංස | **ව්‍යඤ්ජනො ච විසඤ්ඤොගො** |

## වොමිස්සක සන්ධි

වොමිස්සක සන්ධි යනු ඉහත දැක්වූ ස්වර, ව්‍යඤ්ජන, නිග්ගහීත යන සන්ධි ක්‍රම තුනේ ම මිශ්‍රණයක් ලෙස සරලව හඳුන්වාදිය හැකි ය. සංස්කෘත, ප්‍රාකෘත ආදි භාෂාවන්ගෙන් පාලි භාෂාවට පැමිණි වචනවලට පාලි ස්වරූපය ලබාදීමේ අදහසින් බාලාවතාර කතුවරයා මෙම සන්ධි ක්‍රමය හඳුන්වා දී ඇත. සන්ධි පද පිළිබඳ ගැඹුරින් කෙරෙන හැදෑරීමක දී මේ ගැන පුළුල් අවබෝධයක් ලබා ගත හැකි ය. වොමිස්සක සන්ධි කාණ්ඩයේ භාවිත වන මූල සූත්‍රය මෙසේ ය.

## අනුපදිට්ඨානං වුත්තයොගතො

★ ස්වර ව්‍යඤ්ජන නිග්ගහීත සන්ධි කාණ්ඩවල නො දැක්වූ යම් පද සිද්ධි මේ සූත්‍රයේ බලයෙන් සිද්ධ කළ යුතුය. වොමිස්සක කාණ්ඩයේ එන පද කීපයක් සූත්‍රානුසාරයෙන් මෙසේ සන්ධි කොට දැක්විය හැක.

| | |
|---|---|
| යදි + එවං | - විසන්ධි පදය |
| යද් + ඉ + එවං | - පුබ්බමධොඨිතමස්සරං සරෙන වියොජයෙ |
| යද් + ය් + එවං | - ඉවණ්ණො යං නවා |
| යජ් + එවං | - අනුපදිට්ඨානං වුත්තයොගතො |
| යජ් + ජ් + එවං | - පරද්වෙභාවො ඨානෙ |
| යජ්ජෙවං | - නයෙ පරං යුත්තෙ |

| | |
|---|---|
| බොධි + අඞ්ග | - විසන්ධි පදය |
| බොධ් + ඉ + අඞ්ග | - පුබ්බමධොඨිතමස්සරං සරෙන වියොජයෙ |
| බොධ් + ය් + අඞ්ග | - ඉවණ්ණො යං නවා |
| බො ඣ් + අඞ්ග | - අනුපදිට්ඨානං වුත්තයොගතො |
| බො + ජ් + ඣ් + අඞ්ග | - වග්ගෙ ඝොසාඝොසානං තතියපඨමා |
| බොජ්ඣඞ්ග | - නයෙ පරං යුත්තෙ |

| | |
|---|---|
| ස + රති | - විසන්ධි පදය |
| ස් + අ + රති | - පුබ්බමධොඨිතමස්සරං සරෙන වියොජයෙ |
| ස් + අ + ම + රති } | - අනුපදිට්ඨානං වුත්තයොගතො |
| ස් + උ + ම + රති } | - නයෙ පරං යුත්තෙ |
| සුමරති | |

| | |
|---|---|
| සා + ඉත්ථී | - විසන්ධි පදය |
| ස් + ආ + ඉත්ථී | - පුබ්බමධොඨිතමස්සරං සරෙන වියොජයෙ |
| ස් + ආ + ත්ථී | - වා පරො අසරූපා |
| ස් + ඔ + ත්ථී | - අනුපදිට්ඨානං වුත්තයොගතො |
| සොත්ථී | - නයෙ පරං යුත්තෙ |

| | |
|---|---|
| ඉති + එවං | - විසන්ධි පදය |
| ඉත් + ඉ + එවං | - පුබ්බමධොඨිතමස්සරං සරෙන වියොජයෙ |
| ඉත් + ව් + එවං | - අනුපදිට්ඨානං වුත්තයොගතො |
| ඉත්වෙවං | - නයෙ පරං යුත්තෙ |

**අවධානයට**

බාලාවතාරයේ ඇතැම් සූත්‍රවල **ක්වචි, වා, ච, නවා** යන නිපාත පද දැක්වේ. ඉන් කියවෙනුයේ එම සූත්‍ර නියමය ඇතැම් විට විකල්පයෙන් සිදු වන බව යි.

**අභ්‍යාස**

01. සිංහලට නගන්න.

i. ආචරියො සිස්සෙ 'සන්ධි' නාම පාඨං පාඨයති.
ii. පුත්තාමත්ථි ධනම්මත්ථි ඉති බාලො විහඤ්ඤති.
iii. මයං සබ්බෙව ධම්මං සුත්වා තං සාධුකං මනසිකරොම.
iv. දාරකා පුප්ඵානො'චිනිතුං වනං ගන්ත්වා සෙතානි'පි නීලානි'පි පුප්ඵානා'හරිංසු.
v. උග්ගණ්හිතුකාමා භික්ඛූ පාතො'වුට්ඨාය බාලාවතාරඤ්ච නිඝණ්ඩුඤ්ච වාචෙන්ති.

02. සන්ධි කළ හැකි තැන් සන්ධි කොට පාලියට නගන්න.

i. දේවතාවා භාග්‍යවතුන් වහන්සේ යම් තැනක ද එතනට එළඹියේ ය.
ii. මහණෙනි, පෙර මේ සැවැත්නුවර ම වේදේහිකා නම් ගෘහපතිනියක් වූවා ය.
iii. 'අපි ද පැවිදි වන්නෙමු'යි යන සිතුවිල්ල යසකුල පුත්‍රයාට ද ඔහුගේ යහළුවන්ට ද ඇතිවිය.
iv. අනේපිඬු සිටුතුමා ද විශාඛා මහා උපාසිකාව ද නිතර තථාගතයන් වහන්සේට උපස්ථානයට යති.
v. පෙර රජවරු සතුරන් නසා ලක්දිව එක්සේසත් කළහ.

03. පහත දැක්වෙන විසන්ධි පද සූත්‍රානුසාරයෙන් සන්ධි කරන්න.

i. ධනම්මෙ + අත්ථි
ii. සබ්බෙ + එව
iii. ඉති + ආදි
iv. දෙව + ඉති
v. බුද්ධානං + එව
vi. පරි + අන්තං
vii. චක්කං + ඉව
viii. ගච්ඡාමි + ඉති
ix. පාතු + අහොසි
x. කිඤ්චි + එව
xi. කසා + ඉව
xii. ප + උච්චති
xiii. පති + එති
xiv. මධු + උදකං
xv. අ + කමති
xvi. සං + ලෙඛ
xvii. යං + අනිච්චං
xviii. චක්ඛු + උදපාදි
xix. පඤ්ච + ඛන්ධා
xx. තං + ජාතං

04. ''කසමා ලිච්ඡවීති වදනති'' යන ඡේදයේ සන්ධි පද උද්ධෘත කොට විසන්ධිය සමග අදාළ සූත්‍රය දක්වන්න.

| **උද්ධෘත පදය** | **විසන්ධිය** | **අදාළ සූත්‍ර** |
|---|---|---|
| උදා :- පාතොව | පාතො + එව | වා පරො අසරූපා |
| | | |

## දසමො පාඨො

# සබ්බං කිර පහාය ගන්තබ්බං

සෙතව්‍යවාසිනො හි චූළකාලො මජ්ඣිමකාලො මහාකාලොති තයො භාතරො කුටුම්බිකා. තෙසු ජෙට්ඨකනිට්ඨා දිසාසු විචරිත්වා සකටෙහි භණ්ඩං ආහරන්ති. මජ්ඣිමකාලො ආහතං වික්කිණාති. අථෙකස්මිං සමයෙ තෙ උභොපි භාතරො පඤ්චහි සකටසතෙහි නානා භණ්ඩං ගහෙත්වා සාවත්ථිං ගන්ත්වා සාවත්ථියා ච ජෙතවනස්ස ච අන්තරෙ සකටානි මොචයිංසු. තෙසු මහාකාලො සායණ්හසමයං මාලාගන්ධාදිහත්ථෙ සාවත්ථිවාසිනො අරියසාවකෙ ධම්මසවණත්ථාය ගච්ඡන්තෙ දිස්වා "කුහිං ඉමෙ ගච්ඡන්තී"ති පුච්ඡිත්වා තමත්ථං සුත්වා 'අහම්පි ගමිස්සාමී'ති චින්තෙත්වා කනිට්ඨං ආමන්තෙත්වා, "තාත සකටෙසු අප්පමත්තො හොහි. අහං ධම්මං සොතුං ගච්ඡාමී"ති වත්වා තථාගතං වන්දිත්වා පරිසපරියන්තෙ නිසීදි. සත්ථා තං දිස්වා අජ්ඣාසයවසෙන ආනුපුබ්බිකථං කථෙන්තො දුක්ඛක්ඛන්ධසුත්තාදිවසෙන අනෙකපරියායෙන කාමානං ආදීනවං ඔකාරං සංකිලෙසං ච කථෙසි. තං සුත්වා මහාකාලො සබ්බං කිර පහාය ගන්තබ්බං, පරලොකං ගච්ඡන්තං නෙව භොගා න ඤාතයො අනුගච්ඡන්ති. කිමෙම සරාවාසෙන, පබ්බජිස්සාමීති චින්තෙසි.

(චූළකාලමහාකාලවත්ථු - ධම්මපදට්ඨකථා)

### පදමාලාව

| | | | |
|---|---|---|---|
| **සෙතව්‍යවාසිනො** | (ස) | - | සේතව්‍ය නුවර වැසි |
| **තයො** | (ස.නා) | - | තිදෙනෙක් |
| **භාතරො** | (නා) | - | සහෝදරයෝ |
| **කුටුම්බිකා** | (ත) | - | කෙළඹියෝ |
| **තෙසු** | (ස.නා) | - | ඔවුන් අතරින් |
| **ජෙට්ඨකනිට්ඨා** | (ස) | - | වැඩිමහල්ලා හා බාලයා |
| **දිසාසු** | (නා) | - | දිශාවන්හි |
| **විචරිත්වා** | (පූ.ක්‍රි) | - | හැසිර |
| **සකටෙහි** | (නා) | - | කරත්තවලින් |
| **භණ්ඩං** | (නා) | - | බඩු |
| **ආහරන්ති** | (ක්‍රි) | - | ගෙනෙති |
| **ආහතං** | (කි) | - | රැගෙන ආ දේ |
| **වික්කිණාති** | (ක්‍රි) | - | විකුණයි |
| **අථ** | (නි) | - | ඉක්බිති |
| **උභොපි** | (සං) | - | දෙදෙනා ම |
| **පඤ්චහි සකටසතෙහි** | (ස) | - | ගැල් පන්සියයකින් |
| **නානාභණ්ඩං** | (ස) | - | නොයෙක් බඩු |
| **ගහෙත්වා** | (පූ.ක්‍රි) | - | ගෙන |

| | | | |
|---|---|---|---|
| ගන්ත්වා | (පූ.ක්‍රි) | - | ගොස් |
| අනන්තරෙ | (නි) | - | අතර |
| මොචයිංසු | (ක්‍රි) | - | මුදා හළහ |
| සායණ්හසමයෙ | (ස) | - | සවස් කල |
| මාලාගන්ධාදිහත්ථෙ | (ස) | - | මල්මාලා සුවඳ ආදිය ගත් අත් ඇති |
| අරියසාවකෙ | (ස) | - | ආර්ය ශ්‍රාවකයන් |
| ධම්මසවණත්ථාය | (ස) | - | බණ ඇසීම පිණිස |
| දිස්වා | (පූ.ක්‍රි) | - | දැක |
| කුහිං | (නි) | - | කොහි |
| තමත්ථං | (සං) | - | ඒ කරුණ |
| අහම්පි | (සං) | - | මම ද |
| චින්තෙත්වා | (පූ.ක්‍රි) | - | සිතා |
| කනිට්ඨං | (ත) | - | බාලයා |
| ආමන්තෙත්වා | (පූ.ක්‍රි) | - | අමතා |
| හොහි | (ක්‍රි) | - | වන්න |
| පරිසපරියන්තෙ | (ස) | - | පිරිස කෙළවර |
| අජ්ඣාසයවසෙන | (ස) | - | අදහස්වලට අනුව |
| ආනුපුබ්බීකථං | (ස) | - | පිළිවෙළ කථාව |
| අනෙකපරියායෙන | (ස) | - | නොයෙක් ආකාරයෙන් |
| කාමානං | (නා) | - | කාමයන්ගේ |
| ආදීනවං | (නා) | - | ආදීනව |
| ඔකාරං | (නි) | - | ලාමක බව |
| සංකිලෙසං | (ස) | - | කෙලෙස් සහිත බව |
| පහාය | (පූ.ක්‍රි) | - | හැර |
| ගන්තබ්බං | (කි) | - | යා යුතු ය |
| ඤාතයො | (නා) | - | ඥාතීහු |

**අභ්‍යාස**

01. ‘සබ්බං කිර පහාය ගන්තබ්බං’ ජේදය සිංහලට නගන්න.

02. ජේදය ඇසුරෙන් පාලියෙන් පිළිතුරු සපයන්න.

i. තයො භාතරො කත්ථ වසිංසු?
ii. කෙ භණ්ඩානි ආහරන්ති?
iii. කො භණ්ඩානි වික්කිණාති?
iv. මහාකාලො ධම්මං සොතුං කත්ථ නිසීදි?
v. ධම්මං සොතුං ගච්ඡන්තා කස්මිං සමයෙ ගච්ඡන්ති?
vi. මහාකාලො කිං නිස්සාය පබ්බජිතුං චින්තෙසි?

03. ඡේදයේ එන වාක්‍ය රටාව අනුව පහත වාක්‍යය පාලියට නගන්න.

i. අපගේ පිරිවෙණෙහි ධම්මජොති, සුමනජොති, විමලජොති යනුවෙන් යහළු සාමණේරවරු තිදෙනෙක් වෙති.
ii. ඔවුන් අතුරින් විමලජොති සාමණේර තෙම උදෑසන පිණ්ඩපාතය පිණිස යයි.
iii. ධම්මජොති, සුමනජොති සාමණේරවරු දහවල් පිණ්ඩපාතයේ යති.
iv. සවස් කාලයේ තිදෙනා ම පිරිවෙණට ගොස් පාලි භාෂාව උගනිති.
v. ගුරුවරයා ඔවුන්ගේ අදහස්වලට ගැළපෙන ලෙස පාඩම උගන්වයි.

04. ඡේදය ඇසුරෙන් සිංහලෙන් පිළිතුරු සපයන්න.

i. පෙර සැවැත්නුවර වැසියෝ සවස් කාලයෙහි කුමක් කළාහු ද?
ii. අතීතයෙහි පැවති වෙළඳාම පිළිබඳ ඡේදයේ එන තොරතුරු මොනවා ද?
iii. පරලොව යන්නෝ ගෙන නොයන දේ මොනවා ද?
iv. අනුපිළිවෙළ කථාව යනු කුමක් ද?
v. සැදැහැ සිත් ඇතිවන හේතු දෙකක් ඡේදය ඇසුරෙන් පෙන්වා දෙන්න.

**සමාස**

## හැඳින්වීම

'සමාස' යනු පාලි භාෂාවේ මූලික ව්‍යාකරණ ප්‍රවර්ගයකි. සමාසයෙන් සිදු වන්නේ පද සංක්ෂිප්ත කිරීම යි. **"සමාසො පද සංඛෙපො"** යන පාඨයෙන් ඒ බව තහවුරු වෙයි. සමාස නිසා භාෂාවේ සංක්ෂිප්ත බව, අර්ථ ගම්භීරත්වය, ඕජෝගුණය ඇති වේ. සමාසපද බහුලව යෙදීමෙන් භාෂා අලංකාරය, ශ්‍රැතිරම්‍යතාව හා අනුප්‍රාස රසය ද ඇති වේ. එනිසා ලේඛන කාර්යය සාර්ථකව පවත්වාගෙන යාමටත්, පාලි වාක්‍ය ප්‍රයෝගයන් නිවැරදිව තේරුම් ගැනීමටත්, සමාස ඉගෙන ගැනීම උපයුක්ත වේ.

**"නාමානං සමාසො යුත්තත්ථො - සමාසොති භින්නත්ථානං පදානමෙකත්ථතා"** යන බාලාවතාර සූත්‍ර වෘත්තියට අනුව, වෙන් වෙන් අර්ථ ඇති, අන්‍යෝන්‍ය සම්බන්ධය සහිත පද කීපයක් තනිපදයක් වන සේ ගැළපීම සමාසය යි. සමාසපද සිද්ධියේ දී මුල් පදයන්හි විභක්තිය ලොප් වී ශබ්ද ප්‍රකෘතිය පමණක් ශේෂ වීම විශේෂ කරුණකි.

නිදː- රඤ්ඤො පුරිසො = රාජපුරිසො
බ්‍රාහමණී දාරිකා = බ්‍රාහමණදාරිකා

පද සංක්ෂිප්ත වන ස්වරූපය හා සමාස අර්ථවත් වන ස්වරූපය සැලකිල්ලට ගෙන සමාස ප්‍රභේද 6ක් බාලාවතාරයේ දැක්වේ.

| | | | |
|---|---|---|---|
| i. | කම්මධාරය සමාසය | ii. | දිගු සමාසය |
| iii. | තප්පුරිස සමාසය | iv. | බහුබ්බීහි සමාසය |
| v. | ද්වන්ද සමාසය | vi. | අව්‍යයීභාව සමාසය. |

**සමාසපද ලිංග ලබන අයුරු**

"කම්මධාරයො ද්වන්දො ච - තප්පුරිසො ච ලාභිනො,
තයො පරපදෙ ලිඞ්ගං - බහුබ්බීහි පදන්තරෙ"

ඒ අනුව

**i. කම්මධාරය සමාසය :- පරපදයේ ලිංගය ලබයි.**

මහන්තො පුරිසො - මහාපුරිසො (පුල්ලිංග)
මහතී සද්ධා - මහාසද්ධා (ස්ත්‍රීලිංග)
මහන්තං ඵලං - මහප්ඵලං (නපුංසකලිංග)

**ii. දිගු සමාසය**

**සමාහාරදිගු සමාසය :- නපුංසකලිංග ඒකවචන වේ.**
තයො දණ්ඩා - තිදණ්ඩං
චත්තාරි සච්චානි - චතුසච්චං

**අසමාහාරදිගු සමාසය :- පරපදයේ ලිංගය ලබයි.**
චතස්සො දිසා - චතුද්දිසා (පුල්ලිංග)
තයො භවා - තිභවා (ස්ත්‍රීලිංග)
පුත්තා සතං - පුත්තසතානි (නපුංසකලිංග)

**iii. තප්පුරිස සමාසය :- පරපදයේ ලිංග ලබයි.**

දෙවානං රාජා - දෙවරාජා (පුල්ලිංග)
ධඤ්ඤානං රාසි - ධඤ්ඤරාසි (ස්ත්‍රීලිංග)
ජිනස්ස වචනං - ජිනවචනං (නපුංසකලිංග)

**iv.** **ද්වන්ද්ව සමාසය**

**සමාහාර ද්වන්ද්වය :- නපුංසක ලිංග ඒකවචන වේ.**

මුඛං ච නාසිකා ච = මුඛනාසිකං

ඵාලො ච පාචනො ච = ඵාලපාචනං

**ඉතරීතරයෝග ද්වන්ද්ව සමාසය :- පරපදයේ ලිංග ලබයි.**

සීහා ච ව්‍යග්ඝා ච තරච්ඡා ච = සීහව්‍යග්ඝතරච්ඡා

රත්ති ච දිවා ච = රත්තින්දිවා

හිරඤ්ඤං ච සුවණ්ණං ච = හිරඤ්ඤසුවණ්ණානි

**v.** **බහුබ්බීහි සමාසය :- අන්‍ය පදයේ ලිංගය ගනියි.**

| | | |
|---|---|---|
| විජිතමාරා අනෙනාති | = විජිතමාරො (භගවා) | (පුල්ලිංග) |
| ආරූළ්හා වාණිජා යං | = ආරූළ්හවාණිජා (නාවා) | (ස්ත්‍රීලිංග) |
| බහවො මාතඞ්ගා අස්මිං | = බහුමාතඞ්ගං (වනං) | (නපුංසකලිංග) |

**vi.** **අව්‍යයීභාව සමාසය :- නපුංසකලිංග ඒකවචන වේ.**

භත්තස්ස පුරෙ = පුරෙභත්තං

බලස්ස යථා = යථාබලං

සමාසයන්ගේ ප්‍රභේද බාලාවතාර සූත්‍රානුසාරයෙන් පහත විස්තර කෙරේ.

## කම්මධාරය සමාසය

තුල්‍යාධිකරණ වූ හෙවත් ලිංග, විභක්ති, වචන වශයෙන් සමාන වූ විශේෂණ - විශේෂ්‍ය පද දෙකක් පූර්ව පදයන්හි විභක්ති ලොප් කොට ගැළපීම කම්මධාරය සමාසය යි. "**ද්විපදෙ තුල්‍යාධිකරණෙ කම්මධාරයො**" යන සූත්‍රයෙන් එය විස්තර වේ. කම්මධාරය සමාසයේ පද යෝජනය අනුව එහි ප්‍රභේද 9 කි.

i. **විශේෂණ පූර්වපද කම්මධාරය සමාසය**

මහන්තො සො වීරො = මහාවීරො

නාගා සා මාණවිකා = නාගමානවිකා

මහන්තං තං බලං = මහාබලං (මහබ්බලං)

ii. **විශේෂණ උත්තරපද කම්මධාරය සමාසය**

සාරිපුත්තො සො ථෙරො = සාරිපුත්තත්ථෙරො

මහොසධො සො පණ්ඩිතො = මහොසධපණ්ඩිතො

iii. **විශේෂණොභය (පද දෙක ම) පද කම්මධාරය සමාසය**
ඛඤ්ජො සො ඛුජ්ජො = ඛඤ්ජඛුජ්ජො
ඡින්නං තං හින්නං = ඡින්නහින්නං

iv. **උපමානුත්තරපද කම්මධාරය සමාසය**
සීහො විය මුනි = මුනිසීහො
නාගො විය බුද්ධො = බුද්ධනාගො

v. **සම්භාවනා පූර්වපද කම්මධාරය සමාසය**
ධම්මො ඉති සඤ්ඤා = ධම්මසඤ්ඤා
අනිච්චං ඉති සඤ්ඤා = අනිච්චසඤ්ඤා

vi. **අවධාරණ පූර්වපද කම්මධාරය සමාසය**
ගුණො එව ධනං = ගුණධනං
පඤ්ඤා එව රතනං = පඤ්ඤාරතනං

vii. **න නිපාත පූර්වපද කම්මධාරය සමාසය**
න බ්‍රාහ්මණො = අබ්‍රාහ්මණො
න සුරො = අසුරො

viii. **කු නිපාත පූර්වපද කම්මධාරය සමාසය**
කුච්ඡිතො පුරිසො = කුපුරිසො / කාපුරිසො
කුච්ඡිතා දිට්ඨි = කුදිට්ඨි

ix. **පාදි පූර්වපද කම්මධාරය සමාසය**
පධානං වචනං = පාවචනං
සුන්දරො ගන්ධො = සුගන්ධො

## දිගු සමාසය

**"සඞ්ඛ්‍යා පුබ්බො දිගු"** යන බාලාවතාර සූත්‍රයට අනුව සංඛ්‍යාවාචී පදයක් විශේෂණයක් පූර්වපදය ලෙස සිට සිදුවන සමාසය දිගු සමාසය යි. සංඛ්‍යාවේ අර්ථයට ප්‍රමුඛත්වය හිමි වීම මෙහි ලක්ෂණය යි. සංක්ෂිප්ත වන ස්වරූපය අනුව මෙහි ප්‍රභේද 2 කි.

i. **සමාහාර දිගු සමාසය** :- සමාස පදය නිත්‍යයෙන් එකවචන හා නපුංසකලිංග වේ.
තයො ලොකා = තිලොකං
චත්තාරි සච්චානි = චතුසච්චං
චතස්සො දිසා = චතුද්දිසං

ii. **අසමාහාර දිගු සමාසයඃ-** පරපදයේ ලිංගය ලබයි.

එකො පුගගලො = එකපුගගලො
තයො භවා = තිභවා

## තපපුරිස සමාසය

**"අමාදයො පරපදෙහි"** අං ආදි (දුතියා) විභක්ත්‍යන්ත නාම පදයක් පරපදයක් හා සමාස වීම මෙහි ලක්‍ෂණය යි. විභක්ත්‍යර්ථයට ප්‍රමුඛතාවක් හිමි වේ. එහි පදයෝජනය අනුව ප්‍රභේද 7 කි.

**දුතියා තපපුරිස සමාසය**

සරණං ගතො = සරණගතො
දුකඛං පතෙතා = දුකඛපපතෙතා

**තතියා තපපුරිස සමාසය**

සීලෙන සමපනෙනා = සීලසමපනෙනා
සතථාරා වණණිතො = සතථුවණණිතො

**චතුතථි තපපුරිස සමාසය**

කඨිනසස දුසසං = කඨිනදුසසං
ආගනතුකානං භතතං = ආගනතුකභතතං

**පඤචමී තපපුරිස සමාසය**

රාජතො භයං = රාජභයං
පිණඩපාතා පටිකකනෙතා = පිණඩපාතපටිකකනෙතා

**ඡට්ඨී තපපුරිස සමාසය**

ජිනසස චරිතං = ජිනචරිතං
රුකඛසස මූලං = රුකඛමූලං

**සතතමී තපපුරිස සමාසය**

විකාලෙ භොජනං = විකාලභොජනං
වනෙ වාසො = වනවාසො

**අලොප තපපුරිස සමාසය** (විභක්ති ලොප් නොවී පද සිද්ධ වේ)

අතතනො පදං = අතතනොපදං
අනෙත වාසිකො = අනෙතවාසිකො

## ද්වන්ද සමාසය

**"නාමානං සමුච්චයො ද්වන්ද්‍වො"** ඒකවිභක්තික නාම පදයන් සමූහයක් තනිපදයක් සේ ගළපන සමාසය යි. **"ච"** යන නිපාතයෙන් ගළපන පද සමූහයක් වීම නිපාතය ඉවත් කොට තනි පදයක් සේ ගැළපීම මෙහි ලක්‍ෂණය යි. සමාස පදයේ ස්වරූපය අනුව මෙහි ප්‍රභේද 2 කි.

1. **සමාහාර ද්වන්ද සමාසය** :- සමාස පදය හැමවිට ම නපුංසකලිංග ඒකවචනයෙන් යෙදේ.

ඩංසා ච මකසා ච = ඩංසමකසං
යුගං ච නඞ්ගලං ච = යුගනඞ්ගලං
ජාතරූපං ච රජතං ච = ජාතරූපරජතං

2. **ඉතරීතරයෝග ද්වන්ද සමාසය** :- මෙහි දී සමාසපදය අග ම පදයේ ලිංගය භජනය කරන අතර බහුවචනයෙන් යෙදේ.

සමණා ච බ්‍රාහමණා ච = සමණබ්‍රාහමණා
මාතා ච පිතා ච = මාතාපිතරො
පත්තො ච චීවරං ච = පත්තචීවරානි

## බහුබ්බීහි සමාසය

**"අඤ්ඤපදත්ථෙසු බහුබ්බීහි"** සමාස වූ පදයන්ගේ අර්ථය හැර වෙනත් අර්ථයක් ප්‍රකාශ කරන සමාසය බහුබ්බීහි සමාසය යි. සමාස පදයේ ලක්‍ෂණ අනුව මෙහි ප්‍රභේද 2 කි.

1. **තද්ගුණ සංවිඤ්ඤාණ බහුබ්බීහි සමාසය**:- සමාස වන පදයන්හි අදහස සමාසාර්ථයෙහි එනම් අන්‍ය පදයෙහි දක්නට ලැබීම යි.

චත්තාරො පාදා යෙසං තෙ = චතුප්පදා
ලම්බකණ්ණා යස්ස සො = ලම්බකණ්ණො (බත්තියො)

2. **අතද්ගුණ සංවිඤ්ඤාණ බහුබ්බීහි සමාසය**:- සමාස වූ පදයන්හි ලක්‍ෂණ අන්‍ය පදයෙහි දක්නට නොමැති සමාසය යි.

ආරූළ්හා වාණිජා යං සා = ආරූළ්හවාණිජා (නාවා)
විජිතා මාරා යෙන සො = විජිතමාරො (භගවා)

සමාස පදයේ අර්ථය සැලකිල්ලට ගෙන මෙය ද්විතියාදි අර්ථවල යෙදෙන අයුරු පහත දැක්වේ.

**දුතියා විභක්ත්‍යර්ථ බහුබ්බීහි සමාසය**

ආගතා සමණා යං සො = ආගතසමණො (විහාරො)
පටිපන්නා අද්ධිකා යං තං = පටිපන්නද්ධිකං (මග්ගං)

**තතියා විභක්ත්‍යර්ථ බහුබ්බීහි සමාසය**

ජිතානි ඉන්ද්‍රියානි යෙන සො = ජිතින්ද්‍රියො (භගවා)
දිට්ඨො ධම්මො යෙන සො = දිට්ඨධම්මො (අරියසාවකො)

**චතුත්ථී විභක්ත්‍යර්ථ බහුබ්බීහි සමාසය**

උපහටො බලි යස්ස සො = උපහටබලි (යක්ඛො)
දින්නො සුඛකො යස්ස සො = දින්නසුඛකො (රාජා)

**පංචමී විභක්ත්‍යර්ථ බහුබ්බීහි සමාසය**

අපෙතං විඤ්ඤාණං යස්මා සො = අපෙතවිඤ්ඤාණො (මතකායො)
නිග්ගතො අයො යස්මා සො = නිරයො

**ඡට්ඨී විභක්ත්‍යර්ථ බහුබ්බීහි**

ඛීණා ආසවා යස්ස සො = ඛීණාසවො (අරහා)
දසබලානි යස්ස සො = දසබලො (භගවා)

**සත්තමී විභක්ත්‍යර්ථ බහුබ්බීහි**

බහවො තාපසා යස්මිං සො = බහුතාපසො (අස්සමො)
ආකිණ්ණා මනුස්සා යස්මිං තං = ආකිණ්ණමනුස්සං (නගරං)

බහුබ්බීහි සමාසය ප්‍රභේදගත වන්නේත් අර්ථවත් වන්නේත් ප්‍රකාශ වන අන්‍යාර්ථය සැලකිල්ලට ගෙන බව ප්‍රකට වේ.

**අව්‍යයීභාව සමාසය**

**"උපසග්ගනිපාතපුබ්බකො අබ්‍යයීභාවො"** උපසර්ගයක් හෝ නිපාතයක් පෙර පදය ලෙස යෙදී සිදු වන සමාසය අව්‍යයීභාව සමාසය යි. මෙමගින් නිර්මාණය වන සමාස පද නිපාත පදයක් ලෙස යෙදීම සාමාන්‍ය ලක්ෂණය යි. අකාරාන්ත අව්‍යයීභාව සමාස පද නපුංසකලිංග ඒකවචනයේ වරනැගේ. අකාරාන්ත නොවන පද නිපාත ස්වරූපයෙන් ම සිටී.

නගරස්ස සමීපං = උපනගරං
රථස්ස පච්ඡා = අනුරථං
වාතස්ස අනු = අනුවාතං
අද්ධමාසං අනු = අන්වද්ධමාසං
ජීවස්ස යාව = යාවජීවං

අකාරාන්ත නොවන පද (අනකාරාන්ත පද)

ඉත්ථීසු අධිකිච්ච = අධිත්ථි
සත්ති යථා = යථාසත්ති
කුමාරියා අධිකිච්ච = අධිකුමාරි

**මිශ්‍ර සමාස පද**

මිශ්‍ර සමාස යනු එක් සමාස පදයක තවත් සමාස පදයක් ඇතුළත් ඒවා ය. මේවා ගර්භ සමාස ලෙස ද හැඳින්වේ. 'රාහුලමාතාදේවී' යනු නිදසුනකි.

රාහුලස්ස මාතා = රාහුලමාතා තප්පුරිස සමාසයකි
රාහුලමාතා සා දේවී = රාහුලමාතාදේවී කම්මධාරය සමාසයකි.

මේ සමාස පදය හැඳින්විය යුත්තේ **තප්පුරිස සමාස ගැබ් වූ කම්මධාරය සමාස** යන නමිනි.

පහත දැක්වෙන්නේ එවැනි සමාස පද කීපයකි.

| සමාස පදය | විග්‍රහ වාක්‍ය | සමාස පදය හා නාමය |
|---|---|---|
| සද්ධම්මදෙසනං | ධම්මස්ස දෙසනා | ධම්මදෙසනා - තප්පුරිස සමාස |
| | සද්ධුනො ධම්මදෙසනා | සද්ධුම්මදෙසනා - තප්පුරිස සමාස |
| එකගන්ධකුටියං | ගන්ධා සා කුටි | ගන්ධකුටි - කම්මධාරය සමාස |
| | එකා සා ගන්ධකුටි | එකගන්ධකුටි - දිගුසමාස |
| ජෙතවනමග්ගං | ජෙතස්ස වනං | ජෙතවනං - තප්පුරිස සමාස |
| | ජෙතවනස්ස මග්ගං | ජෙතවනමග්ගං - තප්පුරිසසමාස |
| සත්තමනුස්සකොටියො | මනුස්සානං කොටි | මනුස්සකොටි - තප්පුරිස සමාස |
| | සත්තනනං මනුස්සකොටි | සත්තමනුස්සකොටි - දිගුසමාස |

මෙසේ විවිධ සමාස අන්තර්ගත වී සෑදෙන සමාස ගර්භ සමාස හෙවත් මිශ්‍ර සමාස ලෙස හැඳින්වේ.

**අභ්‍යාස**

01. වරහන් තුළ ඇති සමාසපද යොදමින් පහත සඳහන් වාක්‍යය පාලියට නඟන්න.

(ගෙහද්වාරානි / අප්පමත්තො / දක්ඛිණදෙසං / රථසතෙහි / නගරවාසී / පුරෙභත්තං / සායණ්හසමයෙ / උපොසථදිවසෙ / මාලාපදීපානි / මහාවීථියා)

i. රථය කොළඹත් කැලණියත් අතර මහපාරේ නතර විය.
ii. මව ගෙවල් දොරවල් ගැන සැලකිලිමත් වන්න යයි දියණියට කියා බණ අසන්නට ගියා ය.
iii. මන්ත්‍රීතුමා වාහන සියයකින් දකුණු ප්‍රදේශයට ගියේ ය.
iv. නගරවාසීන් අතුරෙන් ඇතැමෙක් උදෑසන දන් දී සවස්කාලයේ බණ අසති.
v. අපි පසළොස්වක පොහොය දා මල්පහන් පිදීමට පන්සලට යමු.

02. පහත සඳහන් අසමස්ත පද සමාස කර ලියන්න.

i. ජෙට්ඨො ච කනිට්ඨො ච
ii. රඤ්ඤො ධීතා
iii. රාහුලො කුමාරො
iv. මාතා ච පිතා ච
v. තිස්සො විජ්ජා
vi. සතං යොජනානි
vii. චන්දො ච සූරියො ච
viii. විධුරො පණ්ඩිතො
ix. වාතස්ස පටි
x. කම්මං යථා
xi. අස්සානං වාණිජා
xii. ධම්මස්ස දෙසනා

03. වරහන් තුළින් සුදුසු වචන යොදා වාක්‍යය සම්පූර්ණ කර, සිංහලට නඟන්න.

(නදීසතෙහි/ සත්තාහං/ මහාවනෙ/ නරාදිච්චං/ භික්ඛුනීනිලයා/ දෙවනාගාසුරා)

i. නරසාරථී වෙසාලියං ........... කූටාගාරසාලායං වසති.
ii. සා ගොතමී සබ්බාහි භික්ඛුනීහි ........... ජෙතවනං අගමාසි.
iii. පඤ්චවගඞ්ගායො ........... භූමිං අලඞ්කරොන්තී සාගරං යන්ති.
iv. අහං ආදිච්චකුලකෙතුකං ........... සිරසා පණමාමි.
v. තෙ සඞ්ඝස්ස නරනායකස්ස ........... මහාදානං අදංසු.
vi. ........... පුප්ඵවුට්ඨී ගගනා අභිවස්සාපෙසුං.

04. පහත වගුව සම්පූර්ණ කරන්න.

| සමාස පදය | සමාස නාමය | අසමස්ත පදය |
|---|---|---|
| නිදඃ- චූළකාලො | කම්මධාරය සමාසය | චූළො කාලො |
| පුරාණදුතියිකා | | |
| රුක්ඛමූලෙ | | |
| බුද්ධපුත්තා | | |
| දහරමාණවිකා | | |
| බ්‍රහ්මචරියං | | |
| මෙරුරාජා | | |
| සත්ථුසාසනං | | |
| බුද්ධමාතා | | |
| යථාබලං | | |
| යථාසත්ති | | |
| දෙවමනුජා | | |
| මෙඝදුන්දුභි | | |
| මහාමුනි | | |
| ආයතපණ්හි | | |
| නරුත්තමො | | |

05. පහත දැක්වෙන ගර්භ සමාසයන්හි ඇති සමාස වර්ග වෙන් කර දක්වන්න.

i. සත්ථුසාසනකාරිකා
ii. බුද්ධසාසනවච්ඡලා
iii. ලොකගගනායකො
iv. ඔක්කාකකුලසම්භවො
v. චතුසාගරතොයානි

## එකාදසමො පාඨො

# ආහඤ්ඤං අමතදුන්දුභිං

තස්ස මය්හං රාජකුමාර; එතදහොසි කස්ස නු ඛො අහං පඨමං ධම්මං දෙසෙය්‍යං? කො ඉමං ධම්මං ඛිප්පමෙව ආජානිස්සතීති? තස්ස මය්හං; රාජකුමාර; එතදහොසි. බහුකාරා ඛො මෙ පඤ්චවග්ගියා භික්ඛූ යෙ මං පධානපහිතත්තං උපට්ඨහිංසු. යන්නූනාහං පඤ්චවග්ගියානං භික්ඛූනං පඨමං ධම්මං දෙසෙය්‍යන්ති. තස්ස මය්හං; රාජකුමාර, එතදහොසි; කහං නු ඛො එතරහි පඤ්චවග්ගියා භික්ඛූ විහරන්තීති. අද්දසං ඛ්වාහං; රාජකුමාර, දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන පඤ්චවග්ගියෙ භික්ඛූ බාරාණසියං විහරන්තෙ ඉසිපතනෙ මිගදායෙ. අථ ඛ්වාහං, රාජකුමාර, උරුවෙලායං යථාභිරන්තං විහරිත්වා යෙන බාරාණසී තෙන චාරිකං පක්කමිං. අද්දසා ඛො මං; රාජකුමාර, උපකො ආජීවකො අන්තරා ච ගයං අන්තරා ච බොධිං අද්ධානමග්ගපටිපන්නං. දිස්වාන මං එතදවොච. විප්පසන්නානි ඛො තෙ; ආවුසො, ඉන්ද්‍රියානි, පරිසුද්ධො ඡවිවණ්ණො පරියොදාතො. කංසි ත්වං, ආවුසො, උද්දිස්ස පබ්බජිතො? කො වා තෙ සත්ථා? කස්ස වා ත්වං ධම්මං රොචෙසීති? එවං වුත්තෙ; අහං; රාජකුමාර, උපකං ආජීවකං ගාථාහි අජ්ඣභාසිං.

සබ්බාභිභූ සබ්බවිදූහමස්මි, සබ්බෙසු ධම්මෙසු අනූපලිත්තො
සබ්බඤ්ජහො තණ්හක්ඛයෙ විමුත්තො, සයං අභිඤ්ඤාය කමුද්දිසෙය්‍යං.

න මෙ ආචරියො අත්ථි, සදිසො මෙ න විජ්ජති
සදෙවකස්මිං ලොකස්මිං, නත්ථි මෙ පටිපුග්ගලො.

අහඤ්හි අරහා ලොකෙ, අහං සත්ථා අනුත්තරො
එකොම්හි සම්මාසම්බුද්ධො, සීතිභූතොස්මි නිබ්බුතො.

ධම්මචක්කං පවත්තෙතුං, ගච්ඡාමි කාසිනං පුරං
අන්ධභූතස්මිං ලොකස්මිං, ආහඤ්ඤං අමතදුන්දුභින්ති.

**(බොධිරාජකුමාරසුත්ත - මජ්ඣිමනිකාය)**

**පදමාලාව**

| | | | |
|---|---|---|---|
| **කස්ස** | **(ස.නා)** | - | කවරෙකුට |
| **දෙසෙය්‍යං** | **(ක්‍රි)** | - | දෙසන්නෙම් ද |
| **ඛිප්පං** | **(නි)** | - | වහා |
| **ආජානිස්සති** | **(ක්‍රි)** | - | දැනගන්නේ ය |
| **බහුකාරා** | **(ස)** | - | බොහෝ උපකාර වූවාහු |
| **පධානපහිතත්තං** | **(ස)** | - | ප්‍රධන් වීර්යය පිණිස මෙහෙය වූ සිත් ඇති |
| **උපට්ඨහිංසු** | **(ක්‍රි)** | - | උවටැන් කළහ |
| **කහං** | **(නි)** | - | කොහි |

| | | | |
|---|---|---|---|
| එතරහි | (නි) | - | දැන් |
| අද්දසං | (ක්‍රි) | - | දුටිමි |
| දිබ්බෙන චක්ඛුනා | (නා) | - | දිවැසින් |
| විසුද්ධෙන | (ස) | - | පිරිසිදු |
| අතික්කන්තමානුසකෙන | (ස) | - | මිනිස්බව ඉක්ම සිටි |
| අථඛ්වාහං | (සං) | - | ඉක්බිති මම |
| යථාභිරන්තං | (නි) | - | කැමති තාක් |
| අන්තරා | (නි) | - | අතර දී |
| අද්ධානමග්ගං | (ස) | - | දීර්ඝ වූ මාර්ගය |
| දිස්වාන | (පූ.ක්‍රි) | - | දැක |
| විප්පසන්නානි | (කි) | - | බෙහෙවින් ප්‍රසන්නය |
| ඡවිවණ්ණො | (ස) | - | සමෙහි වර්ණය |
| කං | (නා) | - | කවරෙකු |
| සබ්බවිදූහමස්මි | (සං) | - | මම සියල්ල දන්නෙක් වෙමි |
| සබ්බාභිභූ | (ස) | - | සියලු ධර්ම මැඩගෙන (සිටිමි) |
| අනූපලිත්තො | (ස) | - | කෙලෙස් හා නොගැටුණේ (වෙමි) |
| සබ්බඤ්ජහො | (ස) | - | සියල්ල අත් හළේ |
| තණ්හක්ඛයෙ | (ස) | - | තෘෂ්ණාව නැති කිරීමෙහි |
| අභිඤ්ඤාය | (පූ.ක්‍රි) | - | වෙසෙසින් දැන |
| උද්දිසෙය්‍යං | (ක්‍රි) | - | උදෙසම් ද |
| අමතදුන්දුභිං | (ස) | - | අමාබෙර |
| ආහඤ්ඡං | (ක්‍රි) | - | වයන්නෙමි |

**අභ්‍යාස**

01. 'ආහඤ්ඡං අමතදුන්දුභිං' පාඨය සිංහලට නගන්න.

02. පාලි භාෂාවෙන් පිළිතුරු සපයන්න.

i. බුද්ධො කෙසානං පඨමං ධම්මං දෙසෙසි?
ii. කහං නු ඛො පඤ්චවග්ගියා භික්ඛූ විහරිංසු?
iii. උපකො ආජීවකො කිං අභාසි?
iv. කස්ස පටිපුග්ගලො නත්ථි?
v. බුද්ධො ධම්මචක්කං පවත්තෙතුං කිං නාම පුරං ගච්ඡි?

03. පාලියට නගන්න.

i. කවරෙක් මේ දහම වහා ම දැනගන්නේ ද?
ii. පස්වග මහණුහු දැන් කොහි වෙසෙත් ද?
iii. පළමුව පස්වගමහණුන්ට ධර්මය දෙසන්නේ නම් මැනවි.
iv. ඔබ කවරකුගේ ධර්මය රුචි කෙරෙහි ද?
v. දම්සක් පැවැත්වීමට කාසි පුරයට යමි.

04. පිළිතුරු ලියන්න.

i. බුදුන් වහන්සේ පළමුව පස්වග මහණුන්ට දහම් දෙසන්නට සිතුවේ කුමක් නිසා ද?
ii. පළමු දහම් දේශනාවට යන අතරමඟ දී හමු වූ ආජීවකයා කවු ද?
iii. බුද්ධත්වය ලබා ගැනීමට හේතු වන කරුණු 03ක් ලියන්න.
iv. බුදුන් වහන්සේ පළමුව දේශනා කළ සූත්‍රය කුමක් ද?
v. මිනිසත් බව ඉක්මා සිටි දිවැස යනු කුමක් ද?

## තද්ධිත නාම

### හැඳින්වීම

නාමයන්ගේ අගට විශේෂ අර්ථ පැවසෙන තද්ධිත ප්‍රත්‍යය එක්කර සාදා ගන්නා ලද නාම තද්ධිත නාම නම් වේ. තද්ධිත පද සාධනයෙන් පහසුවෙන් උච්චාරණය කිරීමේ හැකියාව, ක්‍රමානුකූල බව, සංක්ෂිප්ත බව, ව්‍යක්ත බව හා අලංකාරවත් බව ඇති වේ.

### තද්ධිත පද සාධනය

- නාම පදයට පසුව තද්ධිත ප්‍රත්‍යය යෙදීම.
- නාම පදයේ විභක්ති ප්‍රත්‍යය ලොප් කිරීම. **(තෙසං විභත්තියො ලොපා ච)**
- සංයුක්ත නොවූ පදයන්හි ආදි ස්වරය වෘද්ධි කිරීම. **(වුද්ධාදිසරස්ස වා සංයොගන්තස්ස සණෙ ච)**
- සුදුසු පරිදි සන්ධි කාර්යය කොට පද සිද්ධ කිරීම.

### වෘද්ධි කිරීම

**''අයුවණ්ණානං චායො වුද්ධි''**

අ, ඉ, උ වර්ණ වෘද්ධි වේ. ඒ පහත සඳහන් පරිදි ය.

| | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|
| අ | > | ආ | > | සමණ | + | ණෙර | > | සාමණෙර |
| ඉ ඊ | > | ඒ | > | විනතා | + | ණෙය්‍ය | > | වෙනතෙය්‍ය |
| | | | | වීණා | + | ණික | > | වෙණික |
| උ ඌ | > | ඔ | > | උළුම්ප | + | ණික | > | ඔලුම්පික |

වෘද්ධිය කළ පසු එම 'ණ' කාරය ලොප් කිරීම. **(තෙසං ණො ලොපං)** වේ.

| | | | | |
|---|---|---|---|---|
| උදා :- | වසිට්ඨස්ස | + ණ - | තද්ධිත ප්‍රත්‍යය යෙදීම | **- වාණප්පච්චෙ** |
| | වසිට්ඨ | + ණ - | විභක්ති ලෝපය | **- තෙසං විභත්තියො ලොපා ච** |
| | වාසිට්ඨ | + ණ - | ආදි ස්වර වෘද්ධිය | **- අයුවණ්ණානං චායො වුද්ධි** |
| | වාසිට්ඨ | + අ - | ණකාර ලෝපය | **- තෙසං ණො ලොපං** |
| | වාසිට්ඨ් | + අ - | සන්ධි කාර්යය | **- සරා සරෙ ලොපං** |
| | වාසිට්ඨ | - | පද සාධනය | **- නයෙ පරං යුත්තෙ** |

**තද්ධිත ප්‍රභේද**

තද්ධිත ප්‍රධාන ප්‍රභේද 03 කි.

1. **සාමඤ්ඤ තද්ධිත නාම**
2. **භාව තද්ධිත නාම**
3. **අව්‍ය තද්ධිත නාම**

**සාමඤ්ඤ තද්ධිත නාම**

අපච්ච ආදි සාමාන්‍ය අර්ථ පැවසෙන තද්ධිත නාම සාමඤ්ඤ තද්ධිත නාම ගණයට අයත් වේ. සාමඤ්ඤ තද්ධිත නාම කොටස් 04 කට බෙදේ. මෙම බෙදීම් සිදු කර ඇත්තේ ප්‍රත්‍යයවල දක්නට ලැබෙන අර්ථ සැලකිල්ලට ගෙන ය.

1. **අපච්චත්ථ තද්ධිත නාම**
2. **අනෙකත්ථ තද්ධිත නාම**
3. **අත්ථ්‍යත්ථ තද්ධිත නාම**
4. **සංඛ්‍යා තද්ධිත නාම**

අර්ථ අනුව තද්ධිත 06 කි.

1. **අපච්චත්ථ තද්ධිත නාම**
2. **අනෙකත්ථ තද්ධිත නාම**
3. **අත්ථ්‍යත්ථ තද්ධිත නාම**
4. **සංඛ්‍යා තද්ධිත නාම**
5. **භාව තද්ධිත නාම**
6. **අව්‍යය තද්ධිත නාම**

**1. අපච්චත්ථ තද්ධිතය**

පුත්‍රාර්ථයක් ප්‍රකාශ කරණ ''ණ'' ආදි ප්‍රත්‍යය එක්වී සෑදෙන තද්ධිත නාම අපච්චත්ථ තද්ධිත නාම නම් වේ. අපච්චත්ථ තද්ධිතයෙන් දුව, පුතා, මිනිබිරී, මුණුබුරු ආදි දරු පරම්පරාව ප්‍රකාශ වේ. ඡට්ඨි විභක්ත්‍යර්ථවත් නාමවලට පසුව අපච්චත්ථ තද්ධිත ප්‍රත්‍යය යෙදේ.

## අපච්චත්ථ තද්ධිත ප්‍රත්‍යය

**''ණ, ණායන, ණාන, ණෙය්‍ය, ණි, ණික, ණව, ණෙර, ණ්‍ය''** යනුවෙනි.

''**ණ**'' ප්‍රත්‍යය - ''**වාණපච්චෙ**'' ඡට්ඨී විභක්ත්‍යන්ත නාමයන් කෙරෙන් පුත්‍රාර්ථයේ 'ණ' යන ප්‍රත්‍යය යෙදේ.

උදා :- වසිට්ඨස්ස අපච්චං වසිට්ඨ + ණ > වාසිට්ඨ - (වසිට්ඨයගේ පුතු)
වසුදෙවස්ස අපච්චං වසුදෙව + ණ > වාසුදෙව - (වසුදෙවගේ පුතු)

''**ණායන, ණාන**'' ප්‍රත්‍යය - ''**ණායනණානා වච්ඡාදිතො**'' වච්ඡාදි ශබ්දවලින් පසු 'ණායන, ණාන' යන ප්‍රත්‍යය යෙදේ

උදා :- වච්ඡස්ස අපච්චං > වච්ඡ + ණායන - වච්ඡායන (වත්සගේ පුතා)
කච්චස්ස අපච්චං > කච්ච + ණායන - කච්චායන (කච්චගේ පුතා)
වච්ඡස්ස අපච්චං > වච්ඡ + ණාන - වච්ඡාන (වත්සගේ පුතා)
කච්චස්ස අපච්චං > කච්ච + ණාන - කච්චාන (කච්චගේ පුතා)

''**ණෙය්‍ය**'' ප්‍රත්‍යය - ''**ණෙය්‍යො කත්තිකාදීහි**'' කත්තිකාදි ශබ්දවලින් පසුව පුත්‍රාර්ථයෙහි 'ණෙය්‍ය' යන ප්‍රත්‍යය යෙදේ.

උදා :- කත්තිකාය අපච්චං > කත්තික + ණෙය්‍ය - කත්තිකෙය්‍ය (කාර්තිකාගේ පුතු)
විනතාය අපච්චං > විනතා + ණෙය්‍ය - වෙනතෙය්‍ය (විනතාගේ පුතු)

''**ණි, ණික**'' ප්‍රත්‍යය - ''**අතො ණි වා**'' අකාරාන්ත නාමවලින් පසුව පුත්‍රාර්ථයේ 'ණි' ප්‍රත්‍යය යෙදේ. වා නිපාතයේ බලයෙන් 'ණික' ප්‍රත්‍යය ද යෙදේ.

උදා :- දක්ඛස්ස අපච්චං > දක්ඛ + ණි - දක්ඛි (දක්ඛයාගේ පුතු)
සක්‍යපුත්තස්ස අපච්චං > සක්‍යපුත්ත + ණික - සක්‍යපුත්තික (සාක්‍ය පුත්තගේ පුතු)

''**ණව**'' ප්‍රත්‍යය - ''**ණවො'පගවාදීහි**'' උපගු ආදි ශබ්දවලින් පසුව පුත්‍රාර්ථයෙහි 'ණව' ප්‍රත්‍යය යෙදේ.

උදා :- මනුනො අපච්චං > මනු + ණව - මානව - (මනුහුගේ පුතු)
උපගුනො අපච්චං > උපගු + ණව - ඔපගව - (උපගුගේ පුතු)

''**ණෙර**'' ප්‍රත්‍යය - ''**ණෙර විධවාදිතො**'' විධවා ආදි ශබ්දවලින් පසුව පුත්‍රාර්ථයේ 'ණෙර' ප්‍රත්‍යය යෙදේ.

උදා :- විධවාය අපච්චං > විධවා + ණෙර - වෙධවෙර (විධවාගේ පුතු)
සමණස්ස අපච්චං > සමණ + ණෙර - සාමණෙර (ශ්‍රමණහුගේ පුතු)

''ණ්‍ය'' ප්‍රත්‍යය - ''**ණ්‍ය කුරු සිවීහි**'' කුරු ආදි ශබ්දවලින් පසුව 'ණ්‍ය' ප්‍රත්‍යය යෙදේ.

උදා :- කුරුනො අපච්චං > කුරු + ණ්‍ය - කොරව්‍ය (කුරු පරපුරට අයත්)

> ණො ණායනො ච ණානො ච
> ණෙය්‍යො ණි ච ණිකො තථා
> ණවො ණෙරො ච ණෙයො චාති
> නව ගොත්තෙ පතිට්ඨිතා.

## 2. අනේකාර්ථ තද්ධිත නාම

ඇතැම් තද්ධිත ප්‍රත්‍යයවල බොහෝ අර්ථ ඇත. එහෙයින් ඒවා අනේකාර්ථ තද්ධිත ප්‍රත්‍යය නම් වේ. විවිධ අර්ථවල මෙම ප්‍රත්‍යය යෙදී තද්ධිත නාම සෑදේ.

**අනේකාර්ථ තද්ධිත ප්‍රත්‍යය.**

**ණික, ණ, ඉම. ඉය, ර්ය, එය්‍යක, ණක**

**''ණික ප්‍රත්‍යය''** - **''යෙන වා සංසට්ඨං තරති චරති වහති ණිකො''**
**''තමධීතෙ තෙන කථා සන්නිධාන නියොග සිප්පභණ්ඩ ජීවිකත්ථෙසුච''**

යන බාලාවතාර සූත්‍රවලින් 'ණික' ප්‍රත්‍යය යෙදෙන අර්ථ කියැවේ. ඒවා පහත දැක්වේ.

**යෙන වා සංසට්ඨං** - යමකින් මිශ්‍ර වූයේ ය යන අර්ථයෙහි

| | | | | | |
|---|---|---|---|---|---|
| සත | + | ණික | > | සාතික | (ගිතෙලින් මිශ්‍ර වූ දෙය) |
| තිල | + | ණික | > | තෙලික | (තෙලින් මිශ්‍ර වූ දෙය) |

**යෙන වා තරති** - යමකින් එතර වූයේ ය යන අර්ථයෙහි

| | | | | | |
|---|---|---|---|---|---|
| නාවා | + | ණික | > | නාවික | (නැවින් එතෙර වූයේ) |
| උළුම්ප | + | ණික | > | ඔළුම්පික | (පහුරෙන් එතෙර වූයේ) |

**යෙන වා චරති** - යමකින් හැසිරේ ය යන අර්ථයෙහි

| | | | | | |
|---|---|---|---|---|---|
| සකට | + | ණික | > | සාකටික | (කරත්තයෙන් හැසිරෙන) |
| ධම්ම | + | ණික | > | ධම්මික | (ධර්මයෙහි හැසිරෙන) |

**යෙන වා වහති** - එයින් උසුලයි යන අර්ථයෙහි

| | | | | | |
|---|---|---|---|---|---|
| සීස | + | ණික | > | සීසික | (හිසින් උසුලන්නා) |
| හත්ථ | + | ණික | > | හත්ථික | (අතින් උසුලන්නා) |

**තං අධීතෙ** - එය හදාරයි යන අර්ථයෙහි

| | | | | |
|---|---|---|---|---|
| විනය | + ණික | > | වෙනයික | (විනය හදාරන්නා) |
| අභිධම්ම | + ණික | > | ආභිධම්මික | (අභිධර්මය හදාරන්නා) |

**තෙන කතං** - එයින් කරන ලද්දේ ය යන අර්ථයෙහි

| | | | | |
|---|---|---|---|---|
| කාය | + ණික | > | කායික | (කයින් කරන ලද) |
| මනස | + ණික | > | මානසික | (මනසින් කරන ලද) |

**තස්මිං නියුත්තො** - එහි නියුක්ත වූයේ යන අර්ථයෙහි

| | | | | |
|---|---|---|---|---|
| ද්වාර | + ණික | > | දොවාරික | (දොරෙහි නියුක්ත වූ) |

**අස්ස සිප්පං** - ඔහුගේ ශිල්පය යන අර්ථයෙහි

| | | | | |
|---|---|---|---|---|
| වීණා | + ණික | > | වෙණික | (වීණා වාදනය ඔහුගේ ශිල්පය යි) |

**අස්ස භණ්ඩං** - ඔහුගේ භාණ්ඩ යන අර්ථයෙහි

| | | | | |
|---|---|---|---|---|
| තණ්ඩුල | + ණික | > | තණ්ඩුලික | (සහල් බඩු ඇත්තා) |

**තෙන ජීවිකත්ථෙ** - එයින් ජීවත් වේ.

| | | | | |
|---|---|---|---|---|
| මගව | + ණික | > | මාගවික | (මුවන් මරා ජීවත් වන්නා) |

ප්‍රත්‍යය - ''**ණ, රාග තෙන රත්තං තස්සෙදමඤ්ඤත්ථෙසු ච**'' යන සූත්‍රයෙන් 'ණ' ප්‍රත්‍යය පහත සඳහන් අර්ථවල යෙදෙන බව කියවේ.

**තෙන රත්තං** - එයින් පැහැගැන්වුණු යන අර්ථයෙහි

| | | | | |
|---|---|---|---|---|
| කසාව | + ණ | > | කාසාව | (කහ පැහැ ගැන්වූ) |

**තස්ස ඉදං** - මෙය මොහුගේ ය යන අර්ථයෙහි

| | | | | |
|---|---|---|---|---|
| මහිස | + ණ | > | මාහිස | (මීමාගේ අඟ) |

**ඉම, ඉය** ප්‍රත්‍යය-''**ජාතාදීනමිමියා ච**'' එයින් උපන්නේ ය යන අර්ථයෙහි 'ඉම, ඉය' ප්‍රත්‍යය යෙදේ.

| | | | | | |
|---|---|---|---|---|---|
| **ඉම** ප්‍රත්‍යය | - පච්ඡ | + ඉම | > | පච්ඡිම | (පසුව වූයේ ය) |
| **ඉය** ප්‍රත්‍යය | - මනුස්ස ජාති | + ඉය | > | මනුස්ස ජාතියා | (මිනිස් බවේ උපන්) |
| | කප්ප | + ඉය | > | කප්පිය | (මොහුට කැප ය) |

ඊය ප්‍රත්‍යය ''**තදස්සට්ඨානමීයො ච**'' එය එයට කරුණු ය යන අර්ථයෙහි 'ඊය' ප්‍රත්‍යය යෙදේ.

බන්ධ + ඊය > බන්ධනීය (බැම්මට කරුණු ය)
පසාදන + ඊය > පසාදනීය (පැහැදීමට කරුණු)

**එය්‍ය, ණික** ප්‍රත්‍යය -''**ඉත්ථිලිංගතො එය්‍යකො ණිකො ච**'' ස්ත්‍රීලිංග ශබ්දයන්ගෙන් පසුව එහි උපන් යන අර්ථයෙහි 'එය්‍යක' හා 'ණික' ප්‍රත්‍යය යෙදේ.

චම්පා + එය්‍යක > චම්පෙය්‍යක (චම්පාවෙහි උපන්)
කුසිනාරා + ණික > කොසිනාරක (කුසිනාරාවේ උපන්)

★ මෙසේ ප්‍රත්‍යය එක්වී නොයෙක් අර්ථ නිපදවෙන පද අනේකත්ථ තද්ධිතයට අයත් වේ.

**අභ්‍යාස**

01. තද්ධිත පද භාවිත කරමින් පාලියට නගන්න.

i. ඒ මානවකයා වහා ධර්මය අවබෝධ කර ගනී.
ii. මේ දොරටුපාලකයා මා රජු බව දැනත් මහහඬින් සිනාසෙයි.
iii. තෙරුන් වහන්සේ මානසික සුව විඳින සේක.
iv. ගැල් පදවන්නා කරත්තයෙන් ගොස් බඩු විකුණයි.
v. කුසිනාරාවෙහි උපන් මිනිස්සු පින්වත් වූහ.

02. පහත වගුව සම්පූර්ණ කරන්න.

| නාමය | අර්ථය | තද්ධිත පදය |
|---|---|---|
| උදා: කත්තික | කාර්තිකාවගේ පුතු | කත්තිකෙය්‍යා |
| සමණ | ශ්‍රමණහුගේ පුතු | |
| ධම්ම | ධර්මයෙහි හැසිරෙන්නා | |
| මනුස්සජාති | මිනිස් බවේ උපන් | |
| මහිස | මීමාගේ අඟ | |
| කසාව | කහ පැහැ ගැන්වූ | |
| මනු | මනුහුගේ පුත් | |
| තිල | තෙලෙන් මිශ්‍ර වූ දෙය | |
| තණ්ඩුල | සහල් බඩු ඇත්තා | |
| උළුම්ප | පහුරෙන් එතර වූයේ | |
| උපගු | උපගුගේ පුතු | |

03. පහත සඳහන් තද්ධිත පද සෑදුණු ආකාරය පියවරෙන් පියවර දක්වන්න.

i. වාසිට්ඨ ii. වච්ඡායන iii. සාමණේර iv. ඖපගව v. ආභිධම්මික

04. පහත දැක්වෙන වගුව සම්පූර්ණ කරන්න.

| තද්ධිත පදය | ප්‍රකෘති ප්‍රත්‍යය වෙන් කිරීම | අර්ථය |
|---|---|---|
| උදා: වාසුදෙව | වසුදෙව + ණ | වසුදේවගේ පුතු |
| සාකටික | | |
| මානසික | | |
| වෙණික | | |
| ඖළුම්පික | | |
| වෙනතෙය්‍ය | | |
| කොසිනාරක | | |
| ආභිධම්මික | | |
| මොග්ගල්ලායන | | |
| නාවික | | |
| පච්ඡිම | | |

05. පහත දැක්වෙන වගුව සම්පූර්ණ කරන්න.

| තද්ධිත පදය | සිදුව ඇති වෘද්ධිය |
|---|---|
| උදා : සාකටික | අ > ආ වෘද්ධි වීම |
| කොසිනාරක | |
| මානව | |
| වෙනතෙය්‍ය | |
| ඖලුම්පික | |
| වෙණික | |

## ද්වාදසමො පාඨො

# තථාගතස්ස මහිද්ධිකතා මහානුභාවතා

එකං සමයං භගවා මල්ලෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසංඝෙන සද්ධිං යෙන ථූනං නාම මල්ලානං බ්‍රාහ්මණගාමො තදවසරි. අස්සොසුං ඛො, ථූනෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා 'සමණො ඛලු භො ගොතමො සක්‍යපුත්තො සක්‍යකුලා පබ්බජිතො මල්ලෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසංඝෙන සද්ධිං ථූනං අනුප්පත්තො'ති. උදපානං තිණස්ස ච භුසස්ස ච යාව මුඛතො පූරෙසුං 'මා තෙ මුණ්ඩකා සමණකා පානීයං අපංසූ'ති. අථ ඛො භගවා මග්ගා ඔක්කම්ම යෙන රුක්ඛමූලං තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා පඤ්ඤත්තෙ ආසනෙ නිසීදි. නිසජ්ජ ඛො භගවා ආයස්මන්තං ආනන්දං ආමන්තෙසි. 'ඉඞ්ඝ මෙ ත්වං ආනන්ද, එතම්හා උදපානා පානීයං ආහරා'ති. එවං වුත්තෙ, ආයස්මා ආනන්දො භගවන්තං එතදවොච. ඉදානි සො, භන්තෙ, උදපානො ථූනෙය්‍යකෙහි බ්‍රාහ්මණගහපතිකෙහි තිණස්ස ච භුසස්ස ච යාව මුඛතො පූරිතො 'මා තෙ මුණ්ඩකා සමණකා පානීයං අපංසූ'ති. දුතියම්පි ඛො........... අපංසූ'ති. තතියම්පි ඛො භගවා ආයස්මන්තං ආනන්දං ආමන්තෙසි. ඉඞ්ඝ මෙ ත්වං ආනන්ද, එතම්හා උදපානා පානීයං ආහරා'ති. එවං, භන්තෙති ඛො ආයස්මා ආනන්දො භගවතො පටිස්සුත්වා පත්තං ගහෙත්වා යෙන සො උදපානො තෙනුපසඞ්කමි. අථ ඛො සො උදපානො ආයස්මන්තෙ ආනන්දෙ උපසඞ්කමන්තෙ සබ්බං තං තිණඤ්ච භුසඤ්ච මුඛතො ඔවමිත්වා අච්ඡස්ස උදකස්ස අනාවිලස්ස විප්පසන්නස්ස යාව මුඛතො පූරිතො විස්සන්දෙන්තො මඤ්ඤෙ අට්ඨාසි. අථ ඛො ආයස්මතො ආනන්දස්ස එතදහොසි. අච්ඡරියං වත! භො, අබ්භුතං වත! භො, තථාගතස්ස මහිද්ධිකතා මහානුභාවතා. අයං හි සො උදපානො මයි උපසඞ්කමන්තෙ සබ්බං තං තිණඤ්ච භුසඤ්ච මුඛතො ඔවමිත්වා අච්ඡස්ස උදකස්ස අනාවිලස්ස විප්පසන්නස්ස යාව මුඛතො පූරිතො විස්සන්දෙන්තො මඤ්ඤෙ අට්ඨාසීති. පත්තෙන පානීයං ආදාය යෙන භගවා තෙනුපසඞ්කමි.

(උදපානසුත්ත - උදානපාළි )

### පදමාලාව

| | | | |
|---|---|---|---|
| චරමානො | (කි) | - | හැසිරෙන්නේ |
| තදවසරි | (සං) | - | එතනට පැමිණියේ ය |
| අස්සොසුං | (ක්‍රි) | - | ඇසූහ |
| ථූනෙය්‍යකා | (ත) | - | ථූන ගම්වැසි |
| පබ්බජිතො | (කි) | - | පැවිදි වූ |
| අනුප්පත්තො | (කි) | - | පැමිණියේ |
| උදපානං | (නා) | - | ළිඳ |
| තිණස්ස | (නා) | - | තෘණවලින් |
| භුසස්ස | (නා) | - | පිදුරුවලින් |
| යාව මුඛතො | (නි) | - | (ළිං) කට දක්වා |
| පූරෙසුං | (ක්‍රි) | - | පිරවූහ |

| | | | |
|---|---|---|---|
| **මුණ්ඩකා** | (ත) | - | මුඬු |
| **(මා) අපංසූ** | (ක්‍රි) | - | (නො) බොත්වා |
| **මගගා** | (නා) | - | මාර්ගයෙන් |
| **ඔකකමම** | (පූ.ක්‍රි) | - | ඉවත්ව |
| **අඤ්ඤතරං** | (ස.නා) | - | එක්තරා |
| **නිසජ්ජ** | (පූ.ක්‍රි) | - | හිඳ |
| **පටිස්සුත්වා** | (පූ.ක්‍රි) | - | පිළිවදන් දී |
| **ඔවමිත්වා** | (පූ.ක්‍රි) | - | බැහැරකොට |
| **අචඡසස** | (නා) | - | පිරිසිදු / පැහැදිලි |
| **අනාවිලසස** | (කි) | - | නොකැළඹුණු |
| **විපපසනනසස** | (කි) | - | පැදුණු |
| **විසසනෙදනෙතා** | (කි) | - | පිටතට නික්මෙන්නේ |
| **අචඡරියං** | (ත) | - | අශ්චර්යයකි |
| **මහිද්ධිකතා** | (ත) | - | මහත් සෘද්ධි ඇති බව |
| **මහානුභාවතා** | (ත) | - | මහත් අනුහස් ඇති බව |

**අභ්‍යාස**

01. 'තථාගතසස මහිද්ධිකතා මහානුභාවතා' ඡේදය සිංහලට නගන්න.

02. පාලියෙන් පිළිතුරු ලියන්න.

i. භගවා කෙන සද්ධිං කිං නාම බ්‍රාහමණගාමෙ තදවසරි?
ii. ථූනෙය්‍යකා බ්‍රාහමණගහපතිකා උදපානං කෙහි පූරෙසුං?
iii. භගවා ආනන්දං ආමනෙතත්වා කිං අභාසි?
iv. ආනනෙදා කෙන පානියං ආදාය භගවනතං උපසංකමි?
v. ආනනෙද උදපානං ගතෙ උදපානො කීදිසො අහවි?

02. ජේදයේ සඳහන් වාක්‍ය රටාව අනුගමනය කොට පාලියට නගන්න.

i. එක් කලෙක මලියදේව මහරහතන් වහන්සේ බොහෝ භික්ෂූන් සමඟ වට්ටාරම් විහාරයට (මණ්ඩලාරාම) පැමිණි සේක.
ii. ජනාධිපතිතුමා සෙංකඩගල නුවරට පැමිණියේ යැයි සෙන්කඩගල නුවර වැසියෝ ඇසූහ.
iii. නුවර වැසියෝ තෙරුන් වහන්සේලාගේ පාත්‍ර කට දක්වා කැයුතු පියයුතු දැයින් (ඛාදනීය/භොජනීය) පිරවූහ.
iv. ස්වාමීනි, එසේයයි ශිෂ්‍යයෝ ගුරුවරයාට පිළිතුරු දී පොත් රැගෙන බෝධිමණ්ඩපය වෙත එළඹුණහ.
v. ළිඳේ ජලය පිරිසිදුව නොකැළඹී පැදී කටතෙක් පිරී ඇත.

03. ඡේදය ඇසුරෙන් පිළිතුරු ලියන්න.

i. ථූන ජනපදය පිහිටා තිබුණේ කවර රාජධානියක ද?
ii. ආනන්ද තෙරුන් දැරූ තනතුරු මොනවා ද?
iii. බුදුරදුන්ගේ මහානුභාවය ප්‍රකට වූයේ කවර කරුණක් නිසා ද?
iv. බුද්ධ චරිතය සම්බන්ධ ඡේදයෙන් අනාවරණය වන කරුණු තුනක් ලියන්න.
v. බුදුරදුන්ගේ චාරිකාවට අකමැති වූවෝ කවරහු ද, ඔවුන් අකමැත්ත ප්‍රකාශ කළේ කෙසේ ද?

## තද්ධිත නාම II

### 1. අත්‍ථ්‍යත්‍ථ තද්ධිත නාම

ඇත යන අර්ථය දෙන තද්ධිත ප්‍රත්‍යය එක් වී සෑදෙන තද්ධිත නාම අත්‍ථ්‍යත්‍ථ තද්ධිත නමින් හැඳින්වේ.

**අත්‍ථ්‍යත්‍ථ තද්ධිත ප්‍රත්‍යය.**

**ආලු, තර, තම, ඉස්සික, ඉය, ඉට්ඨ, වී, සී, ඉක, ර්, වන්තු, මන්තු**

ආලු ප්‍රත්‍යය - "**ආලු තබ්බහුලෙ**"

බොහෝ කොට ඇත්තේ ය යන අර්ථයේ ආලු ප්‍රත්‍යය වේ.

උදා :- අභිජ්ඣා + ආලු - අභිජ්ඣාලු (දැඩි ලෝභය බොහෝ කොට ඇත්තේ)

**තර, තම, ඉස්සික, ඉය, ඉට්ඨ,** ප්‍රත්‍යය '**විසෙසෙ තරතමිස්සිකියිට්ඨා**'

| | | | | | |
|---|---|---|---|---|---|
| උදා:- පාප | + | තර | - | පාපතර | (අන්‍ය පාපීන්ට වඩා පාපි වූ) |
| පාප | + | තම | - | පාපතම | (පාපතරයාට වඩා පාපි වූ) |
| පාප | + | ඉස්සික | - | පාපිස්සික | (පාපතමයාට වඩා පාපි වූ) |
| පාප | + | ඉය | - | පාපිය | (පාපිස්සිකයාට වඩා පාපි වූ) |
| පාප | + | ඉට්ඨ | - | පාපිට්ඨ | (පාපියාට වඩා පාපි වූ) |

මෙහි **තර** ප්‍රත්‍යයට වඩා **තම** ප්‍රත්‍යය ද එයට වඩා **ඉස්සික** ප්‍රත්‍යය ද එයට වඩා **ඉය** ප්‍රත්‍යය ද එයට වඩා **ඉට්ඨ** ප්‍රත්‍යය ද අතිශයාර්ථ බව ප්‍රකාශ කරයි. අතිශයාර්ථය ප්‍රකාශ කිරීමට **ඉට්ඨ** ප්‍රත්‍යයට වඩා ඉහළ ප්‍රත්‍යයක් නොමැත.

**වී ප්‍රත්‍යය - තදස්සත්‍ථී ති වී ච**

එය මොහුට බොහෝ කොට ඇත්තේය යන අර්ථයෙහි
උදා :- මෙධා අස්ස අත්‍ථීති - මෙධාවී (ධාරණ ප්‍රඥාව මොහුට ඇත්තේය.)

**සී ප්‍රත්‍යය - තපාදිතො සී**

තප ආදී ශබ්ද වලින් පරව එය මොහුට ඇත්තේය යන අර්ථයෙහි සී ප්‍රත්‍යය වේ.
තපං අස්ස අත්‍ථීති - තපස්සි (තපස මොහුට ඇත්තේය.)

**ඉක, ඊ ප්‍රත්‍යය - දණ්ඩාදිතො ඉක ඊ**

දණ්ඩාදි ශබ්දවලින් පරව එය මොහුට ඇත්තේය යන අර්ථයෙහි ඉක, ඊ ප්‍රත්‍යය වේ.

උදා:- දණ්ඩ + ඉක - දණ්ඩික
දණ්ඩ + ඊ - දණ්ඩී

**වන්තු ප්‍රත්‍යය - ගුණාදිතො වන්තු**

ගුණ ආදි අකාරාන්ත ශබ්ද කෙරෙන් පරව එය මොහුට ඇත්තේ ය යන අර්ථයෙහි **වන්තු** ප්‍රත්‍යය යෙදේ.

උදා :- ගුණො අස්ස අත්‍ථීති - ගුණවන්තු

**මන්තු ප්‍රත්‍යය - සත්‍යාදිහි මන්තු**

ඉවර්ණාන්ත හා උවර්ණාන්ත ශබ්ද කෙරෙන පරව එය මොහුට ඇත්තේ ය යන අර්ථයෙහි **මන්තු** ප්‍රත්‍යය යෙදේ.

උදා :- සති + මන්තු - සතිමන්තු

**2. සංඛ්‍යා තද්ධිත නාම**

සංඛ්‍යා නාමවලට පසුව සංඛ්‍යා පූර්ණාර්ථ තද්ධිත ප්‍රත්‍ය එක් වී සංඛ්‍යා තද්ධිත නාම සෑදේ.

**සංඛ්‍යා තද්ධිත ප්‍රත්‍යය**

**තිය, ථ, ය, ම.**

''තිය'' ප්‍රත්‍යය - **''ද්විතීහි තියො''**

**ද්වි, ති** ශබ්ද කෙරෙන් පරව තිය ප්‍රත්‍ය යෙදේ.

ද්වි + තිය - දුතිය
ති + තිය - තතිය

ථ, ඨ ප්‍රත්‍යය - ''**චතුච්ඡෙහි ථ ඨා**''

චතු, ඡ කෙරෙන් පරව ථ, ඨ ප්‍රත්‍යය වේ.

උදා : චතු + ථ
චතු + ත් + ථ
චතුත්ථ

ඡ + ඨ
ඡ + ට් + ඨ
ඡට්ඨ

**<u>''තෙසමඩ්ඪුපපදෙනඩ්ඪුඩ්ඪදිවඩ්ඪදියඩ්ඪඩ්ඪතියා''</u>**

අඩ්ඪ යන උපපදය සහිත චතුත්ථ, දුතිය, තතිය යන මේවාට පිළිවෙළින් අඩ්ඪුඩ්ඪ දිවඩ්ඪඅඩ්ඪතිය යන ආදේශ වේ.

අඩ්ඪෙන චතුත්ථො > අඩ්ඪුඩ්ඪ (තුනහමාර)
අඩ්ඪෙන දුතියො > දිවඩ්ඪ (එකහමාර)
අඩ්ඪෙන තතියො > අඩ්ඪතියො (දෙකහමාර)

**ම ප්‍රත්‍යය - සංඛ්‍යාපූරණෙ මො**

පඤ්චවාදි ශබ්ද කෙරෙන් පරව ම ප්‍රත්‍යය වේ.

උදා :- පඤ්චව + ම - පඤ්චවම
සත්ත + ම - සත්තම
අට්ඨ + ම - අට්ඨම
දස + ම - දසම

## 3. භාව තද්ධිත නාම

ඔහුගේ ස්වභාවය යන අර්ථයෙහි භාවාර්ථවත් ණ්‍ය ආදි ප්‍රත්‍යය යෙදී සැදෙනුයේ භාව තද්ධිත නම් වේ.

**භාව තද්ධිත ප්‍රත්‍යය**

ණ්‍ය, ත්ත, තා ත්තන, - **''ණ්‍යත්තතා භාවෙතු''**

**ණ්‍ය ප්‍රත්‍යය**

කුසල + ණ්‍ය - කොසල්ල (හසුරු බව)
සමාන + ණ්‍ය - සාමඤ්ඤ (සමාන බව)
අරොග + ණ්‍ය - ආරොග්‍ය (නිරෝගි බව)

**ත්ත ප්‍රත්‍යය**

නීල + ත්ත - නීලත්ත (නිල්බව)
සෙට්ඨ + ත්ත - සෙට්ඨත්ත (ශ්‍රේෂ්ඨබව)

**තා ප්‍රත්‍යය**

මුදු + තා - මුදුතා (මෘදුබව)
කතඤ්ඤු + තා - කතඤ්ඤුතා (කෙළෙහිගුණ දන්නා බව)

**ත්තන ප්‍රත්‍යය**

පුථුජ්ජන + ත්තන - පුථුජ්ජනත්තන (පුහුදුන් බව)

## 4. අව්‍ය තද්ධිත නාම

වාර විභාග ආදි අර්ථ ප්‍රකාශ කරන තද්ධිත ප්‍රත්‍යය එක්ව අව්‍ය තද්ධිත නාම සැදේ. මෙහිදී තද්ධිත නාමය අව්‍යයක් බවට පත්වේ.

**අව්‍ය තද්ධිත ප්‍රත්‍යය**

**ක්ඛත්තුං, ධා, ථා, ත්ත**

**ක්ඛත්තුං ප්‍රත්‍යය**

එක + ක්ඛත්තුං - එකක්ඛත්තුං (එක්වරක්
ද්වි + ක්ඛත්තුං - ද්වික්ඛත්තුං (දෙවරක්

**ධා ප්‍රත්‍යය**

එක + ධා - එකධා (එක් අයුරකින්)
කති + ධා - කතිධා (කී අයුරකින්)

ථා ප්‍රත්‍යය

සබ්බ + ථා - සබ්බථා (සෑම අයුරකින්)

අඤ්ඤ + ථා - අඤ්ඤථා (අන් අයුරකින්)

ත්ත ප්‍රත්‍යය

අජ්ජ + ත්ත - අජ්ජත්ත (අද පටන්)

**අභ්‍යාස**

01. පාලියට නගන්න.

i. සඤ්ජය පිරිවැජියා පිරිවැජියන් දෙසිය පණහක් (අඩ්ඪතෙය්‍ය සතෙහි) සමග රජගහ නුවර වසයි.
ii. ගුණවන්ත කුමාරවරු සිල්වත් උපාසකවරුන්ට උවටැන් කරති.
iii. දිළිඳු බව වැඩි වූ කල්හි සොරකම විපුල බවට ගියේ ය.
iv. මම පළමුවත් දෙවනුවත් තෙවනුවත් බුදුන් සරණ යමි.
v. චුල්ලපන්ථක තෙර රහත්බව ලැබ තමා දහස්වරක් මවා අඹ වනයේ හුන්නේ ය.

02. සිංහලයට නගන්න.

i. ගුණවන්තා මනුස්සා පාණාතිපාතම්හා විරමන්ති.
ii. අපරභාගෙ සො ආරඤ්ඤකමහාභයත්ථෙරො’ ති පාකටො අහොසි.
iii. මෙධාවිනො සිස්සා ගරුනො ගාරවං කත්වා නානාසත්ථෙසු පාටවං ලභන්ති.
iv. සච්චවාදී තපස්සිනො වාචාලා න භවන්ති.
v. සත්තධා මෙ ඵලෙ මුද්ධා ජීවන්තො න සුඛං ලභෙ.

03. පහත වගුව සම්පූර්ණ කරන්න.

| තද්ධිත පදය | ප්‍රත්‍යය වෙන්කිරීම | තද්ධිතය ප්‍රභේදය | තද්ධිත පදයේ අදහස |
|---|---|---|---|
| උදා : -ධම්මික | ධම්ම + ණික | අනේකාර්ථ | ධර්මයෙහි හැසිරෙන්නා |
| ථූණෙය්‍යකා | | | |
| ගහපතිකා | | | |
| ගොතමො | | | |
| සමණකා | | | |
| මුණ්ඩකා | | | |
| තතියං | | | |
| දුතියං | | | |

| | | | |
|---|---|---|---|
| අච්ඡරියං | | | |
| මහිද්ධිකතා | | | |
| මහානුභාවතා | | | |

04. පහත වගුව සම්පූර්ණ කරන්න.

| නාමය | අර්ථය | තද්ධිත පදය |
|---|---|---|
| උදා : අරොග | නිරෝගිකම | ආරොග්‍ය |
| මෙධා | නුවණ ඇති | ........................... |
| රාජ | රජ පරපුරට අයත් | ........................... |
| මගධ | මගධයෙහි උපන් | ........................... |
| සමුද්ද | මුහුදට අයත් | ........................... |
| පඤ්ච | පස්වැනි | ........................... |
| සබ්බ | හැම අයුරකින් | ........................... |
| පුථුජ්ජන | පුහුදුන් බව | ........................... |
| කති | කීවරක් | ........................... |
| තප | තපස් ඇති | ........................... |
| මග | මුව වැද්දා | ........................... |

තෙරසමො පාඨො

# තෙ නමස්සාමි මාතලී

භූතපුබ්බං භික්ඛවෙ සක්කො දෙවානමින්දො මාතලිං සඞ්ගාහකං ආමන්තෙසි. යොජෙහි සම්ම, මාතලි, සහස්සයුත්තං ආජඤ්ඤරථං. උය්‍යානභූමිං ගච්ඡාම සුභූමිං දස්සනායාති. එවං භද්දන්තවාති ඛො භික්ඛවෙ මාතලි සඞ්ගාහකො සක්කස්ස දෙවානමින්දස්ස පටිස්සුත්වා සහස්සයුත්තං ආජඤ්ඤරථං යොජෙත්වා සක්කස්ස දෙවානමින්දස්ස පටිවෙදෙසි. යුත්තො ඛො තෙ, මාරිස, සහස්සයුත්තො ආජඤ්ඤරථො යස්සදානි කාලං මඤ්ඤසීති. අථ ඛො භික්ඛවෙ සක්කො දෙවානමින්දො වෙජයන්තපාසාදා ඔරොහන්තො පඤ්ජලිකො පුථුද්දිසා නමස්සති. අථ ඛො භික්ඛවෙ මාතලි සඞ්ගාහකො සක්කං දෙවානමින්දං ගාථාය අජ්ඣභාසි.

තං නමස්සන්ති තෙවිජ්ජා - සබ්බෙ භුම්මා ච ඛත්තියා,<br>
චත්තාරො ච මහාරාජා - තිදසා ච යසස්සිනො,<br>
අථ කො නාම සො යක්ඛො - යං ත්වං සක්ක නමස්සසීති.

අහඤ්ච සීලසම්පන්නෙ - චිරරත්තසමාහිතෙ,<br>
සම්මා පබ්බජිතෙ වන්දෙ - බ්‍රහ්මචරියපරායනෙ.

යෙ ගහට්ඨා පුඤ්ඤකරා - සීලවන්තො උපාසකා,<br>
ධම්මෙන දාරං පොසෙන්ති - තෙ නමස්සාමි මාතලී ති.

**( සක්කනමස්සන සුත්ත සංයුත්තනිකාය)**

පද මාලාව

| | | | |
|---|---|---|---|
| **භූතපුබ්බං** | (නි) | - | පෙර වූවකි |
| **සක්කො** | (නා) | - | ශක්‍රයා |
| **දෙවානමින්දො** | (සං) | - | දෙවියන්ගේ අධිපති |
| **මාතලිං** | (නා) | - | මාතලි දෙව්පුත් |
| **සඞ්ගාහකං** | (නා) | - | රියදුරු |
| **යොජෙහි** | (ක්‍රි) | - | යොදවව |
| **සම්ම** | (නි) | - | මිත්‍රය |
| **සහස්සයුත්තං** | (ස) | - | දහසක් යොදන ලද |
| **ආජඤ්ඤරථං** | (ස) | - | ආජානීය අශ්වරථය |
| **උය්‍යානභූමිං** | (ස) | - | උයන් බිම |
| **සුභූමිං** | (ස) | - | රමණීය භූමිය |
| **දස්සනායාති** | (සං) | - | දකිනු පිණිස |

| | | | |
|---|---|---|---|
| හද්දන්තවාති | (සං) | - | ඔබට යහපතක් වේවා යැයි |
| පටිස්සුත්වා | (පූ.ක්‍රි) | - | පිළිතුරු දී |
| පටිවෙදෙසි | (ක්‍රි) | - | දැන්වීය |
| මාරිස | (නා) | - | නිදුකාණෙනි |
| යස්සදානි | (සං) | - | යමකට දැන් |
| කාලං | (නා) | - | කාලය |
| මඤ්ඤසී | (ක්‍රි) | - | හඟිහි |
| වෙජයන්තපාසාදා | (ස) | - | විජයොත් පහයෙන් |
| ඔරොහන්තො | (කි) | - | බසින්නේ |
| පඤ්ජලිකො | (නා) | - | බඳින ලද ඇඟිලි ඇත්තේ |
| පුථුද්දිසා | (සං) | - | සියලු දිශා |
| නමස්සති | (ක්‍රි) | - | වඳියි |
| අජ්ඣභාසි | (ක්‍රි) | - | පැවසීය |
| තෙවිජ්ජා | (ත) | - | ත්‍රිවිද්‍යා ඇත්තේ |
| සබ්බෙ | (ස.නා) | - | සියල්ලෝ |
| හුම්මා | (නා) | - | බිම වසන |
| චත්තාරො | (නා) | - | සතර |
| තිදසා | (ස) | - | තව්තිසා වැසියෝ, දෙවියෝ |
| යසස්සිනො | (ත) | - | කීර්තිමත් වූ |
| චිරරත්ත | (නි) | - | බොහෝ කල් |
| සමාහිතෙ | (සං) | - | එකඟ කළ සිත් ඇති |
| බ්‍රහ්මචරියපරායනෙ | (ස) | - | බඹසර එක ම මඟ ගත් |
| ගහට්ඨා | (ත) | - | ගිහියෝ |
| පුඤ්ඤකරා | (කි) | - | පින්කරන |
| දාරං | (නා) | - | අඹුදරු |
| පොසෙන්ති | (ක්‍රි) | - | පෝශණය කරති |

**අභ්‍යාස**

1. 'තෙ නමස්සාමි මාතලී' ඡේදය සිංහලට නගන්න.

2. පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. සක්කො දෙවානමින්දො මාතලිං සංගාහකං කිං කථෙසි?
ii. මාතලි පන සක්කස්ස දෙවානමින්දස්ස කො අහවි?
iii. සක්කො දෙවානමින්දො කුතො ඔරොහි?
iv. ගහට්ඨානං කෙ ගුණා භවන්ති?
v. සක්කො කෙසං වන්දති?

3. ඡේදය ඇසුරෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. සක් දෙව්රජ මාතලි දිව්‍යපුත්‍රයාට පැවසුවේ කුමක් ද?
ii. මාතලි දිව්‍යපුත්‍රයා සක් දෙවිඳුන්ගේ කුමන කාර්යයක් ඉටු කරයි ද?
iii. මෙම ඡේදයේ සඳහන් සක් දෙව්රජුගේ සම්පත් මොනවා ද?
iv. සතරවරම් දෙව්රජවරුන්ගේ නම් ලියන්න
v. සක් දෙව්රජුගේ වන්දනා ගරු බුහුමනට පාත්‍රවන්නේ කුමන කටයුතු කරන පිරිස් ද?

**කිතක පද**

**හැඳින්වීම**

ධාතුවකට ප්‍රත්‍යයක් එක්කොට සාදාගනු ලබන නාම කිතක නම් වේ.

| | | | |
|---|---|---|---|
| ධාතුව | + ප්‍රත්‍යය | = | **කිතක නාමය** |
| වන්ද | + මාන | = | වන්දමාන |
| පාල | + අක | = | පාලක |

කිතක නාමය නාමපදයක් මෙන් විභක්තිවල වරනැගේ. ලිංග භජනය කෙරේ. සාම්ප්‍රදායික ව්‍යාකරණයෙහි කිතක පද විවිධ ස්වරූපයෙන් වර්ග කොට ඇත. පාලි භාෂාව තේරුම් ගැනීමට අත්‍යන්තයෙන් උපකාර වන කිතක පද කීපයක් මෙහි දී හඳුන්වා දෙමු.

**වර්තමාන කිතක**

**"වත්තමානෙ මානන්තා"** යන බාලාවතාර සූත්‍රයට අනුව වත්තමාන කාලයෙහි **"මාන"** හා **"අන්ත"** යන ප්‍රත්‍යය යෙදී වර්තමාන කිතක පද සෑදේ.

| ධාතුව | ප්‍රත්‍යය | කිතක නාමය |
|---|---|---|
| වන්ද | මාන | වන්දමාන |
| වන්ද | අන්ත | වන්දන්ත |
| ලභ | මාන | ලභමාන |
| ලභ | අන්ත | ලභන්ත |

වර්තමාන කෘදන්ත පද මිශ්‍රක්‍රියා වශයෙන් ද විශේෂණ වශයෙන් ද නාම පද වශයෙන් ද යෙදේ.

- දාරිකා **රොදන්තී** මාතරං උපසංකමි. (දැරිය හඬමින් මව වෙත ගියාය) (මිශ්‍රක්‍රියා)
- ථෙරො ධම්මං **සුණන්තො** රුක්ඛමූලෙ අට්ඨාසි. (තෙරුන් වහන්සේ ධර්මය අසමින් ගස මුල සිටි සේක)

වර්තමාන කෘදන්ත පද විශේෂණ පද ලෙස යෙදෙන විට විශේෂ්‍ය පදය ලිංගයෙන් විභක්තියෙන් සමාන වේ.

**වන්දන්තො සාමණෙරො**
**වන්දන්තෙහි සාමණෙරෙහි**
**නිසීදන්තී වනිතා**
**නිසීදන්තීනං නාරීනං**
**පතන්තානි ඵලානි**
**පතන්තෙසු ඵලෙසු**

ආදි වශයෙනි.

උදාහරණ:-

**වනං ගච්ඡන්තො පුරිසො විරවන්තං දීපිං පස්සති.**
(වනයට යන්නා වූ පුරුෂයා ගොරවන කොටියෙකු දකියි)
**ධම්මසාලායං නිසීදන්තියො වනිතායො දෙසෙන්තං ධම්මං සුණිංසු.**
(ධර්මශාලාවෙහි හුන්නා වූ කාන්තාවෝ දේශනා කරන්නා වූ ධර්මය ඇසූහ)

වර්තමාන කෘදන්ත පද වාක්‍ය දෙකක් එක් වාක්‍යයක් බවට පත්කිරීමට ද උපයෝගි කර ගැනේ.

**සීහො සයති - මිගො සීහං පස්සති**
**මිගො සයන්තං සීහං පස්සති.**

**ඵලානි පතන්ති - වනිතා ඵලානි ඔචිනාති**
**වනිතා පතන්තානි ඵලානි ඔචිනාති.**

**භික්ඛු පිණ්ඩාය චරති - උපාසකා භික්ඛුනො දානං දෙන්ති**
**පිණ්ඩාය චරන්තස්ස භික්ඛුනො උපාසකා දානං දෙන්ති.**

**අව්‍යය කිතක පද**

අව්‍යය කිතක පද ලෙස සැලකෙනුයේ වරනොනැගෙන කෘදන්ත පදයි. එනම්, පූර්ව ක්‍රියා හා තුමන්ත ක්‍රියාවන් ය. පූර්වක්‍රියා යනු කර්තෘගේ අවසාන ක්‍රියාවට මුලින් සිදුවෙන ක්‍රියාවන් ය. බාලාවතාරයේ "**පුබ්බකාලෙකකත්තුකානං තුනත්වානත්වා වා**" යන සූත්‍රයෙන් **තුන, ත්වාන, ත්වා** යන ප්‍රත්‍යය යෙදෙන බව දැක්වේ.

වන්ද + තුන = වන්දිතුන
වන්ද + ත්වාන = වන්දිත්වාන
වන්ද + ත්වා = වන්දිත්වා

වශයෙන් පද සිද්ධ වේ.

**"සබ්බෙහි තුනාදීනං යො"** යන සූත්‍රයෙන් තුනාදි ප්‍රත්‍යයවලට "ය" යන්න ආදේශ වේ.

බොහෝ විට උපසර්ග පූර්ව ධාතුවලට මෙම ආදේශය වේ.

අභි + වන්ද + ය > අභිවන්දිය
අපි + දහ + ය > පිදහිය
උප + නී + ය > උපනීය

ඇතැම් ධාතුන්ගෙන් පරව තුනාදි ප්‍රත්‍යයවලට ''**ච්ච, ම්ම, ය්හ, බ්භ, ද්ධ**'' යන ආදේශ වේ.

| | |
|---|---|
| පටි + ඉ + ච්ච | - පටිච්ච |
| වී + මුච + ච්ච | - විමුච්ච |
| ආ + ගමු + ම්ම | - ආගම්ම |
| අව + කමු + ම්ම | - ඔක්කම්ම |
| ප + ගහ + ය්හ | - පග්ගය්හ |
| සං + මුහ + ය්හ | - සම්මුය්හ |
| ප + මද + ජ්ජ | - පමජ්ජ |
| උ + පද + ජ්ජ | - උපජ්ජ |
| ආ + රභ + බ්භ | - ආරබ්භ |
| උප + ලභ +බ්භ | - උපලබ්භ |

එකම උක්තය සහිත වාක්‍ය රාශියක් පූර්වක්‍රියා මගින් තනි වාක්‍යයක් කළ හැකි ය.

කුලපුත්තො ධම්මං **සුණි**. සො කාමෙසු ආදීනවං **පස්සි**. සො **පබ්බජි**. සො **උපසම්පජ්ජි**.
කුලපුත්තො ධම්මං **සුත්වා** කමෙසු ආදීනවං **දිස්වා පබ්බජිත්වා** උපසම්පජ්ජි.

## තුමන්ත ක්‍රියා

**ඉච්ඡත්ථෙසු සමානකත්තුකෙසු තවෙ, තුං වා** යන සූත්‍රයට අනුව සමාන කර්තෘක කිරීමට කැමති යන අර්ථයෙහි **තවෙ**/ **තුං** ප්‍රත්‍යය යෙදේ.

| | | |
|---|---|---|
| වන්ද + තුං | - වන්දිතුං | - වඳින්නට |
| වන්ද + තවෙ | - වන්දිතවෙ | - වඳින්නට |
| කර + තුං | - කාතුං | - කරන්නට |
| කර + තවෙ | - කාතවෙ | - කරන්නට |

මෙය ද වාක්‍යය දෙකක් එක් කිරීමේ ප්‍රයෝජනයෙන් යුතු ය.

සාමණෙරො පරිවෙණං **ගච්ඡති** - සාමණෙරො තත්‍ථ පාලිභාසං **උග්ගණ්හාති.**
සාමණෙරො පාලිභාසං **උග්ගණ්හිතුං** පරිවෙණං ගච්ඡති.

කුමාරො විහාරං **ගච්ඡති** - කුමාරො බුද්ධං **වන්‍දති.**
කුමාරො බුද්ධං **වන්‍දිතුං** විහාරං **ගච්ඡති.**

**ත්‍රෛකාලික කෘදන්ත**

කාල තුනේ ම යෙදෙන කෘදන්ත පදයි. මේවා කොටස් දෙකකි.

i. **භාවකාරක, කර්මකාරක දෙකෙහි යෙදෙන කෘදන්ත (කිච්ච කෘදන්ත)**
ii. **කර්තෘකාරකයෙහි යෙදෙන කෘදන්ත (කිත් කෘදන්ත)** වශයෙනි.

භාවකාරක, කර්මකාරක අර්ථයන්හි යෙදෙන කෘදන්ත ප්‍රත්‍යය කීපයකි. **තබ්බ, අනීය ණ්‍ය, ණීය, රිච්ච** වශයෙනි. ඒවායින් සිද්ධ වන පද මෙසේ ය.

| | | | |
|---|---|---|---|
| **කර + තබ්බ** | - | **කත්තබ්බ** | (කළ යුතුයි) |
| **ගමු + තබ්බ** | - | **ගන්තබ්බ** | (යා යුතුයි) |
| **වන්‍ද+ තබ්බ** | - | **වන්‍දිතබ්බ** | (වැඳිය යුතුයි) |
| **කර + අනීය** | - | **කරණීය** | (කළ යුතුයි) |
| **වන්‍ද+ අනීය** | - | **වන්‍දනීය** | (වැඳිය යුතුයි) |
| **මර + අනීය** | - | **මරණීය** | (මැරිය යුතුයි) |
| **වද + ණ්‍ය** | - | **වජ්ජ** | (කිව යුතුයි) |
| **ගමු + ණ්‍ය** | - | **ගම්‍ය** | (යා යුතුයි) |
| **කර + ණීය** | - | **කාරිය** | (කළ යුතුයි) |
| **මර + ණීය** | - | **මාරිය** | (මැරිය යුතුයි) |
| **කර + රිච්ච** | - | **කිච්ච** | (කළ යුතුයි) |
| **භර + රිච්ච** | - | **භච්ච** | (පෝෂණය කළ යුතුයි) |

මේවා භාවකාරක, කර්මකාරක දෙකෙහි යෙදෙන නිසා කර්තෘ පදය තතියාවෙන් යෙදේ.

**අම්හෙහි** පුඤ්ඤං කත්තබ්බං.
**කස්සකෙහි** ඛෙත්තං කසිතබ්බං.
**තුම්හෙහි** කත්තබ්බං කුසලං චරිතබ්බං බ්‍රහ්මචරියං

ආදි වශයෙනි.

## කර්තෘකාරක කෘදන්ත

මෙහි යෙදෙන ප්‍රත්‍යය රාශියකි. ක්‍රියාමූලයකින් (ධාතුවෙන්) නිපදවෙන බොහෝ නාම මෙම ගණයෙහි ලා ඇතුළත් කෙරේ. එහි යෙදෙන ප්‍රත්‍යය කීපයක් හා කිතකපද කීපයක් පහත දැක්වේ.

ණ ප්‍රත්‍යය

කර + ණ - කාර / කර යනාදි පද යෙදෙන්නේ වෙනත් කර්ම පදයක් සමගය.

**කුම්භ** + **කර** + ණ - **කුම්භකාර**
**රථ** + **කර** + ණ - **රථකාර**
**ධම්ම** + **ධර** + ණ - **ධම්මධර**
**දින** + **කර** + ණ - **දිනකර**

"සබ්බතො ණ්වුත්වාවී වා" යන සූත්‍රයෙන් කර්තෘකාරකයේ දී "අ, ණ්වු, තු, ආවී" යන ප්‍රත්‍යය යෙදේ. මෙම ප්‍රත්‍යයන්ට "අන, අක" යන ආදේශ ද වේ.

අක ප්‍රත්‍යය

| | | | |
|---|---|---|---|
| දා | + **අක** | - **දායක** | (දෙන්නා) |
| **නී** | + **අක** | - **නායක** | (නායකයා) |
| **සු** | + **අක** | - **සාවක** | (අසන්නා) |
| **පාල** | + **අක** | - **පාලක** | (පාලනය කරන්නා) |

අන ප්‍රත්‍යය

| | | | |
|---|---|---|---|
| **ගහ** | + **අන** | - **ගහන** | (ගැනීම) |
| **පාල** | + **අන** | - **පාලන** | (පාලනය) |
| **යාච** | + **අන** | - **යාචන** | (සිඟීම) |
| **දා** | + **අන** | - **දාන** | (දීම) |

තු ප්‍රත්‍යය

| | | | |
|---|---|---|---|
| **කර** | + **තු** | - **කත්තු** | (කරන්නා) |
| **භර** | + **තු** | - **භත්තු** | (පෝෂණය කරන්නා) |
| **වද** | + **තු** | - **වත්තු** | (කියන්නා) |
| **දා** | + **තු** | - **දාතු** | (දෙන්නා) |

ආවී ප්‍රත්‍යය

**භය + දිස + ආවි - භයදස්සාවී**

ණී ප්‍රත්‍යය

**පාප + කර + ණී - පාපකාරී**
**ධම්ම + වද + ණී - ධම්මවාදී**

"**සාසාදීහි රත්‍ථු**" යන සූත්‍රයෙන් "**සාසු**" ආදි ධාතූන්ගෙන් පරව "**රත්‍ථු**" ප්‍රත්‍යය යෙදේ.

**සාස + රත්‍ථු - සත්‍ථු** (අනුශාසකයා)

"**පාදිතො රිතු**" - "**පා**" ආදි ධාතුවලින් පසුව "**රිතු**" ප්‍රත්‍යය යෙදේ.

**පා + රිතු - පිතු** (රකින්නා)
**ධර + රිතු - ධීතු** (ධරන්නා)

"**මානාදීහි රාතු**" "**මාන**" ආදි ධාතුවලින් පසුව "**රාතු**" ප්‍රත්‍යය යෙදේ.

**මා + රාතු - මාතු**
**භාස + රාතු - භාතු**

මේ ආදි ප්‍රත්‍යය රාශියකින් කර්තෘ කාරක කෘදන්ත පද සෑදේ. මෙම කෘදන්ත පද බොහෝ විට සාමාන්‍ය නාමපද ලෙස භාවිත වේ. මෙවැනි ක්‍රියා මූලිකව සැදුණු නාම පද පිළිබඳ අවධානය යොමු කරන්න.

## අතීත කෘදන්ත පද

" **අතීතෙ ත තවන්තු තාවී** " යන සූත්‍රයට අනුව අතීතකාලයෙහි යෙදෙන කෘදන්ත ප්‍රත්‍යය තුනකි. "**ත, තාවී, තවන්තු**" යනුවෙනි.

**භුජ + ත - භුත්ත** (අනුභව කළ)
**භුජ + තාවි - භුත්තාවී** (අනුභව කළ)
**භුජ + තවන්තු - භුත්තවන්තු** (අනුභව කළ)

පාලි භාෂාවේ බහුලව භාවිත වී ඇත්තේ "**ත**" ප්‍රත්‍යයාන්ත කෘදන්ත පදයි. "**ත**" ප්‍රත්‍යයට විවිධ වෙනස්කම් මෙහිදි සිදුවී ඇති බැව් පහත නිදසුන්වලින් ප්‍රකට වේ.

■ ඇතැම් කෘදන්ත පද සෑදීමේ දී ධාත්වන්තය ලොප් වී "**ත**" ප්‍රත්‍යය ද්විත්ව වේ.

**භුජ** + **ත** - **භුත්ත** (අනුභව කළ)
**යුජ** + **ත** - **යුත්ත** (යොදන ලද)
**මුච** + **ත** - **මුත්ත** (මිදුණු)
**සුප** + **ත** - **සුත්ත** (නිදාගන්නා ලද)
**පද** + **ත** - **පත්ත** (පැමිණි)

■ "ධ, භ, හ, " අන්ත ධාතුන් කෙරෙන් "**ත**" ප්‍රත්‍යය වූ විට ප්‍රත්‍යය සමග ධාත්වන්තය ද්විත්ව වේ.

**කුධ** + **ත** - **කුද්ධ** (කිපුණු)
**ආ** + **රභ** + **ත** - **ආරද්ධ** (පටන්ගන්නා ලද)
**සං** + **නහ** + **ත** - **සන්නද්ධ** (සන්නද්ධ වූ)
**ලුභ** + **ත** - **ලුද්ධ** (ඇලුණු)
**දුහ** + **ත** - **දුද්ධ** (දොවන ලද)
**යුධ** + **ත** - **යුද්ධ** (යුද්ධ කරන ලද)
**බධ** + **ත** - **බද්ධ** (බැඳුණු)

■ "**ම**" කාරාන්ත ධාතුන් කෙරෙන් "**ත**" ප්‍රත්‍යය වූ කල ධාත්වන්තය සමග "**ත**" ප්‍රත්‍යයට "**න්ත**" ආදේශ වේ.

**සම** + **ත** - **සන්ත** (සමනය වූ)
**දම** + **ත** - **දන්ත** (දමුණු)
**නි** + **කමු** + **ත** - **නික්ඛන්ත** (නික්මුණු)
**ප** + **කමු** + **ත** - **පක්කන්ත** (යනලද)

■ "**කර**" ආදි ධාතුවලින් පසුව ධාත්වන්තය ලොප් වී "**ත**" ප්‍රත්‍යයට "**ඉණ්ණ**" ආදේශ වේ.

**තර** + **ත** - **තිණ්ණ** (එතර වූ)
**පුර** + **ත** - **පුණ්ණ** (පිරුණු)
**ජර** + **ත** - **ජිණ්ණ** (දිරුණු)
**ආ** + **කිර** + **ත** - **ආකිණ්ණ** (ගැවසීගත්)

■ සමහර විට "**ත**" ප්‍රත්‍යයට "**ඉන්න**" ආදේශ වේ.

**භිද** + **ත** - **භින්න** (බිඳුණු)
**නි** + **සද** + **ත** - **නිසින්න** (හුන්)

■ සමහර විට "ත" ප්‍රත්‍යයට "ඊන" ආදේශ වේ.

| | | |
|---|---|---|
| **ප + හා+ ත** | **- පහීන** | (ප්‍රහීණ කළ) |
| **නි + ලී + ත** | **- නිලීන** | (සැඟවුණ) |

■ ඒකස්වර ධාතුන්ගෙන් "ත" ප්‍රත්‍යය වෙනසකට පත් නොවී යෙදේ.

| | | |
|---|---|---|
| **භූ + ත** | **- භූත** | (වූ) |
| **ඤා + ත** | **- ඤාත** | (දැනගත්) |

■ ඇතැම් තැනෙක ධාතුවටත් ප්‍රත්‍යයටත් අතර ඉකාරයක් ආගම වේ.

| | | |
|---|---|---|
| **පච + ත** | **- පචිත** | (පිසින ලද) |
| **මණ්ඩ + ත** | **- මණ්ඩිත** | (සරසන ලද) |
| **කථ + ත** | **- කථිත** | (කියන ලද) |
| **ලිඛ + ත** | **- ලිඛිත** | (ලියන ලද) |

■ ඇතැම් ධාතුන් කෙරෙන් "ඉට්ඨ" හෝ "ට්ඨ" ආදේශ වේ.

| | | |
|---|---|---|
| **දිස + ත** | **- දිට්ඨ** | (දක්වන ලද) |
| **නස + ත** | **- නට්ඨ** | (නැසුණු) |
| **ඵුස + ත** | **- ඵුට්ඨ** | (ස්පර්ශ කළ) |
| **පුච්ඡ + ත** | **- පුට්ඨ** | (විමසන ලද) |

■ ආදේශයන්හි විවිධ ස්වරූප පෙන්වන අතීත කෘදන්ත පද

| | | |
|---|---|---|
| **භන්ජ + ත** | **- භග්ග** | (බිඳුණු) |
| **වස + ත** | **- වුත්ථ** | (වසන ලද) |
| **හර + ත** | **- හට** | (ගෙනයන ලද) |
| **සු + කර + ත** | **- සුකට** | (මනාව කරන ලද) |

■ සමහර විට ප්‍රත්‍යයට හා ධාත්වන්තයට "**ළ්හ**" ආදේශ වේ.

| | | |
|---|---|---|
| **ආ + රුහ + ත** | **- ආරුළ්හ** | (නගින ලද) |
| **ගාහ + ත** | **- ගාළ්හ** | (දැඩි කරන ලද) |
| **බහ + ත** | **- බාළ්හ** | (දැඩි කරන ලද) |
| **මුහ + ත** | **- මූළ්හ** | (මුළා වූ) |

**අභ්‍යාස**

1. වර්තමාන කෘදන්ත පද යොදාගෙන තනි වාක්‍යය සේ නිර්මාණය කරන්න.
   නිදසුන :-
   - කුමාරො සයති - මාතා කුමාරං පබොධෙති.
     මාතා සයන්තං කුමාරං පබොධෙති.

| | | |
|---|---|---|
| i. | කුමාරා කීළන්ති | - දායකො කුමාරානං පානීයං දෙති. |
| ii. | මිගා ධාවන්ති | - සීහො මිගෙ අනුබන්ධති. |
| iii. | සාමණෙරො විහාරං ගච්ඡති | - උපාසකා සාමණෙරං අනුගච්ඡන්ති. |
| iv. | කුමාරිකා ගංගාය සීදති | - කුමාරො කුමාරිං උත්තාරෙති. |
| v. | යාචකො ධනං යාචති | - සෙට්ඨි යාචකස්ස ධනං දෙති. |

2. පහත සඳහන් වාක්‍යයන් පූර්වක්‍රියා පද යොදා තනි වාක්‍යයක් සේ ලියන්න.

i. සාවත්ථිවාසී කුලපුත්තො ජෙතවනං අගමාසි.
ii. සො භගවතො සන්තිකෙ ධම්මං සුණි.
iii. සො කාමෙසු ආදීනවං පස්සි.
iv. සො පබ්බජි.
v. සො උපසම්පජ්ජි.
vi. සො සත්ථු සන්තිකෙ කම්මට්ඨානං අග්ගහෙසි.
vii. සො විපස්සනං වඩ්ඪෙසි.
viii. සො අරහත්තං පාපුණි.

3. පහත සඳහන් ඡේදයෙන් කිතක පද 30ක් උපුටා දක්වන්න.

අථස්ස එතදහොසි. සත්ථාරා චත්තාරො පුග්ගලා කථිතා, තෙසු මයා පදපරමෙන භවිතබ්බං, නත්ථි මය්හං ඉමස්මිං අත්තභාවෙ මග්ගො වා ඵලං වා, කිං කරිස්සාමි අරඤ්ඤවාසෙන, සත්ථු සන්තිකං ගන්ත්වා රූපසොභග්ගප්පත්තං බුද්ධසරීරං ඔලොකෙන්තො මධුරං ධම්මදෙසනං සුණන්තො විහරිස්සාමීති පුන ජෙතවනමෙව පච්චාගමාසි. අථ නං සන්දිට්ඨසම්භත්තා ආහංසු, ආවුසො, ත්වං සත්ථු සන්තිකෙ කම්මට්ඨානං ගහෙත්වා සමණධම්මං කරිස්සාමීති ගතො, ඉදානි පන ආගන්ත්වා සඞ්ගණිකාය අභිරමමානො චරසි, කිං නු ඛො තෙ පබ්බජිතකිච්චං මත්ථකං පත්තං, අප්පටිසන්ධිකො ජාතොසීති? ආවුසො, අහං මග්ගං වා ඵලං වා අලභිත්වා අභබ්බපුග්ගලෙන මයා භවිතබ්බන්ති විරියං ඔස්සජිත්වා ආගතොම්හීති. අකාරණං තෙ, ආවුසො, කතං දළ්හවිරියස්ස සත්ථු සාසනෙ පබ්බජිත්වා විරියං ඔස්සජන්තෙන, අයුත්තං තෙ කතං, එහි තථාගතස්ස දස්සෙස්සාමාති තං ආදාය සත්ථු සන්තිකං අගමංසු.

4. ඔබ උපුටාගත් කිතක පද පහත වගුවේ වර්ග කරන්න.

| වත්තමාන | අව්‍යය | ත්‍රෛකාලික | අතීත |
|---|---|---|---|
| | | | |
| | | | |
| | | | |
| | | | |
| | | | |
| | | | |

5. පහත දී ඇති ධාතුන්ගේ කිතක පද සෑදෙන අයුරු ලියන්න.

| ධාතුව | වර්තමාන කිතක | පූර්ව ක්‍රියා | තුමන්ත ක්‍රියා | කිච්ච කිතක භාවකාරක | අතීත |
|---|---|---|---|---|---|
| කර | කරොන්ත | කරිත්වා | කරිතුං/ කාතුං | කත්තබ්බං | කතං |
| ගච්ඡ | | | | | |
| පච | | | | | |
| දිස | | | | | |
| කථ | | | | | |
| ලිඛ | | | | | |
| පුච්ඡ | | | | | |

6. සිංහලට නගන්න.

i. මයා දීයමාන ආහාරං සො යාචකො න පටිග්ගණ්හාති.
ii. කස්සකෙන දණ්ඩෙන පහරියමානං තං බලිවද්දං අහං පස්සිං.
iii. සෙනාපතිනා හත්ථෙ ධාරියමානං අසිං දිස්වා චොරා භායිත්වා පලායිංසු.
iv. චොරො එකස්මිං ගුම්බෙ නිලීයිත්වා ධෙනුං අපහරිතුං උපායං චින්තෙසි.
v. සාමණෙරො යට්ඨියා කොටිං ගහෙත්වා ථෙරස්ස පුරතො ගච්ඡි.

7. පාලියට නගන්න.

i. ඔබ විසින් සිය අතින් කපනු ලබන ගස ගෙය මත වැටුණේ ය.
ii. දැහැමි රජහු විසින් රකිනු ලබන රටෙහි ජනයෝ සුවසේ වාසය කරත්.
iii. ඔහු බාල වියෙහි මනාව ශිල්ප ඉගෙන ගෙන පසුව දියුණුවට පැමිණියේ ය.
iv. වඳුරා ලොකු බල්ලකු දැක බියවී ගසෙන් බිමට වැටුණේ ය.
v. සුමේධ තවුසා අහසින් යන්නේ දීපංකර බුදුන් දැක උන්වහන්සේට වැන්දේ ය.

8. කෙටි පිළිතුරු සපයන්න.

i. 'කිතක' යනු මොනවා ද?
ii. ත්‍රෛකාලික කිතක යනු මොනවා ද?
iii. අව්‍යය කිතක යනු මොනවා ද? උදාහරණ 05ක් ලියන්න.
iv. පුට්ඨ, ආරද්ධ, යුත්ත, ආරුළ්හ, දිට්ඨ, යන පදවල ධාතු ප්‍රත්‍යය වෙන්කර ලියන්න.
v. "තෙ නමස්සාමි මාතලි" යන ඡේදයේ එන කිතක පද 5ක් උපුටා ලියන්න.

## ද්විතීය භාගය

## චුද්දසමො පාඨො | අග්‍රගණ්‍ය පාලි පඬිවරු සිවුදෙනෙක්

### අර්ථකථාචාර්ය භදන්ත බුද්ධඝෝෂ මාහිමිපාණෝ

ශාස්තෘන් වහන්සේගේ ශ්‍රී මුඛ දේශනාව සුඛනම්‍ය හා සුබෝධ කරනු වස් අප්‍රතිහත ධෛර්යයෙන් කටයුතු කොට ත්‍රිපිටක සාහිත්‍යය උදෙසා පාලි අට්ඨකථාවන් සම්පාදනය කළ යතිවරුන් අතුරෙන් ප්‍රමුඛ වනුයේ මහා අර්ථකථාචාර්ය බුද්ධඝෝෂ මාහිමිපාණෝ ය. පාලි අටුවා වැඩි ප්‍රමාණයක් සම්පාදනය කොට ඇත්තේ උන්වහන්සේ විසිනි. නිර්මල බුදුදහම හා ශාසනය දීර්ඝ කාලයක් අවිච්ඡින්නව පවත්වාගෙන යාමට අත්‍යවශ්‍ය පාලි අටුවා ලිවීම පිණිස ම උන්වහන්සේ මොලොව පහළ වූ බව ඇතැමුන්ගේ විශ්වාසය යි. ධර්මය පිළිබඳ පරිපූර්ණ දැනුමක් හා අවබෝධයක් ලබා ගැනීමට බුද්ධඝෝෂ මාහිමියන්ගේ අටුවාවන් මහත් සේ උපකාර වී ඇති අතර, ඒවා නොතිබෙන්නට ලේඛනාරූඪ තථාගත දේශනාවේ ගැටලු හා සැක තැන් තවමත් ලිහා ගැනීම දුෂ්කර වනු ඇත.

පාලි අටුවා සාහිත්‍යය තුළ බුද්ධඝෝෂ මාහිමිපාණන්ගේ අමරණීයත්වයත්, ජනප්‍රියතාවත් හේතුවෙන් උන්වහන්සේගේ ජීවන තොරතුරු ද විවිධ ජනප්‍රවාදයන්ගෙන් ව්‍යාකුල වී ඇත. බුද්ධඝෝෂ මාහිමියන් පිළිබඳ ජීවන තොරතුරු ලක්දිව ලියවුණු **මහාවංසයේත්** සියමයේ ලියවුණු **බුද්ධඝොසුප්පත්ති** නම් ග්‍රන්ථයේත් දැක්වේ. මීට අමතරව පාලි මෙන් ම ලක්දිව හා බුරුමයේ ලියවුණු විවිධ මූලාශ්‍රයවල ද තොරතුරු සඳහන් වේ. බොහෝ මූලාශ්‍රයයන් පිළිගන්නා පරිදි බුදුගොස් මාහිමි ජන්මලාභය ලැබ ඇත්තේ දඹදිව මහබෝ මැඩ සමීපයෙහි හෝ ඊට ආසන්න ප්‍රදේශයක බ්‍රාහ්මණ පවුලක ය. මහාවංශයේ දැක්වෙන පරිදි මෙම බ්‍රාහ්මණ කුමරු සියලු විද්‍යා, ශිල්ප කලාවන්හි සහ ත්‍රිවේදයෙහි පාරප්‍රාප්තව සියලු වාදයන්හි විශාරදව වාදකරනු කැමැතිව දඹදිව නොයෙක් දිශාවන්හි ඇවිද දිනක් එක් විහාරයකට අවුත් නැවතී රාත්‍රිකාලයේ **පාතඤ්ජලීමතය** කටපාඩමින් කීවේය. එම විහාරවැසි **රේවත** නම් බහුශ්‍රැත, විචක්ෂණශීලී හා දූරදර්ශී එක් තෙර නමක් ඔහුගේ තීක්ෂ්ණ බුද්ධිය වටහාගෙන මතු මොහුගෙන් ශාසනයට සිදුවන මහත් ප්‍රයෝජන දැන ඔහු දමනය කිරීමේ අටියෙන් පාඩම් කියවන ඔහුගෙන් 'මේ කොටළු හඬින් කෑගසන්නේ කවරෙක් දැයි' ඇසීය. ඉක්බිති එම බ්‍රාහ්මණ තරුණයා 'කොටළු හඬේ අර්ථය දන්නේ දැ'යි විචාළ කල්හි රේවත තෙරණුවෝ ඊට පිළිතුරු දී වාදයන්හි විශාරද වූ හෙතෙම නිරුත්තර කළහ. ඉන්පසු බ්‍රාහ්මණ තෙමේ 'ඔබගේ වාදය විස්තර කළ මැනවැ'යි කී විට තෙරණුවෝ අභිධර්ම පාඨයක් දෙසූහ. එය 'කාගේ ධර්මයක් දැ'යි ඇසූ විට 'මෙය බුද්ධමන්ත්‍රයැ'යි ද කීය. 'එය තමාට ඉගැන්වුව මැනව'යි කී විට 'පැවිදිව ඉගෙන ගනුව'යි කීහ. පසුව පැවිදි වී ත්‍රිපිටකය ම ඉගෙන ගත් අතර, බුදුරදුන්ගේ කට හඬට සමාන හඬක් ඇති බැවින් උන්වහන්සේ '**බුද්ධඝෝෂ**' යන නමින් ප්‍රකට වූහ. ඇතැම් මූලාශ්‍රයක දඹදිව 'ඝෝෂ' නම් ගමේ උපත ලද හෙයින් එම නම ලැබූ බව සඳහන් වේ.

උන්වහන්සේ දඹදිව දී **ඤාණොදය** නම් ප්‍රකරණ ග්‍රන්ථය ලියා අනතුරුව ධම්මසංගණීප්‍රකරණයට **අත්ථසාලිනී** නම් අටුවාව ලියූහ. පසුව පිරිත් අටුවාව හෝ වෙනත් සංක්ෂිප්ත අටුවාවක් ලිවීම ආරම්භ කළහ. එය දුටු ස්වකීය ආචාර්ය රේවත තෙරුන් මෙසේ පවසා ඇත. 'මෙහි ඇත්තේ පරම්පරාගත පෙළ පමණකි. මෙහි අටුවා මෙන් ම නානාවිධ ආචාර්යවාද ද නැත. මිහිඳු මහතෙරුන් විසින් සංගීතිවලට නැගූ බුද්ධවචනය ද ශාරිපුත්‍රාදි මහතෙරුන් දෙසූ කථාමාර්ගය ද බලා සිංහල බසින් කළ අටුවා ලක්දිව ඇත. එහි ගොස් ඒවා ඉගෙන පාළියට නගන්න. මේ පිළිබඳව සතුටු වී උන්වහන්සේ ලක්දිවට පැමිණ සීහළට්ඨකථා පාළියට නැඟීම ආරම්භ කළහ. එහෙත් සියලු මූලාශ්‍රයයන් පිළිගන්නා පරිදි අට්ඨකථා රචනයේ ප්‍රාරම්භකයා වනුයේ බුද්ධඝෝෂ මාහිමි නොව ඉන්දියාවෙන් පැමිණි **බුද්ධදත්ත** මාහිමියන් ය. බුද්ධදත්ත මාහිමි ලක්දිවට පැමිණ අට්ඨකථා රචනය ආරම්භ කළ ද වයස්ගත වීම හා වෙනත් සම්බාධක නිසා තත් කාර්යයෙහි අසාර්ථකව පෙරළා දඹදිවට වඩින අතරතුර මුහුද මැද දී බුද්ධඝෝෂ මාහිමියන් මුණ ගැසී තොරතුරු සාකච්ඡා කොට ඇත. ඒ ගැන අතිශයින් සතුටුව එහි ලා ඇති විය හැකි බාධාවන් පිළිබඳව ද දැනුවත් කොට පත්හිඳක්, අරළු ගෙඩියක්, ගලකුත් දී ඇසේ හෝ පිටුපස රුදාවක් ඇති වුවහොත් එම අරළු ගලගා ආලේප කළ විට එම අපහසුතා මඟ හැරෙන බව දන්වා බුද්ධදත්ත මාහිමි ඉන්දියාව බලා පිටත්ව ගොස් ඇත.

මහාවංශයේ සඳහන් පරිදි බුද්ධඝෝෂ හිමි ලක්දිවට වැඩම කොට ඇත්තේ ක්‍රි. ව. 412 - 434 අතර කාලයේ **මහානාම රජු** දවස ය. මෙහි වැඩමවීමෙන් අනතුරුව මහාවිහාරයෙන් සීහළට්ඨකථා ඉල්ලා සිටිය ද මහාවිහාරීය භික්ෂූන් වහන්සේලා එකවර ම ඒවා ලබා නො දුන්හ. බුද්ධඝෝෂ මාහිමියන්ගේ සාමර්ථ්‍යය සහ ථේරවාද සම්ප්‍රදායට අනුගත භික්ෂුවක දැයි පරීක්ෂා කිරීමේ අටියෙන් මහාවිහාරීය භික්ෂූහු සංයුත්ත නිකායේ දේවතා සංයුත්තයේ එන '**අන්තො ජටා බහි ජටා**' යන ගාථාවත් '**සීලෙ පතිට්ඨාය නරො සපඤ්ඤො**' යන ගාථාවත් දක්වා එයට විවරණයක් සපයන ලෙස උපදෙස් දුන්හ. ඒ අනුව බුදුගොස් මාහිමි එම ගාථා දෙක අර්ථ විවරණය කරමින් අටුවා සහිත ත්‍රිපිටකය ම අළලා '**විසුද්ධිමග්ග**' නම් පොත ලීවේය. අනතුරුව බෝමැඩ සමීපයෙහි සංඝයා රැස්කරවා කියවන්නට සැරසුණු විට දෙවියෝ මුන්වහන්සේගේ නිපුණත්වය ප්‍රකට කරවීමේ අදහසින් එම පොත අතුරුදහන් කළහ. ඉන්පසු නැවතත් ලියා කියවන්නට සැරසුණු විට එය ද අන්තර්ධාන විය. තෙවන වරටත් ලියා කියවන්නට සැරසුණු විට දෙවියෝ කලින් සැඟවූ පොත් දෙකත් එතැන තැබූහ. භික්ෂූන් වහන්සේලා පිටපත් තුන ම එක්කොට කියවන්නාහු ඒ පිටපත් තුනෙහි ම වචන වශයෙන් හෝ අක්ෂර වශයෙන් හෝ කිසිඳු වෙනසක් නොදැක සන්තෝෂයට පත්ව අටුවා සහිත පිටක පොත් උන්වහන්සේට භාර කළහ. ඒ අනුව බුද්ධඝෝෂ මාහිමියෝ මුලින් ම සම්පූර්ණ විනය පිටකයට '**සමන්තපාසාදිකා**' නම් විනයට්ඨකථාව රචනා කළහ. දීඝනිකාය ආදි අනෙක් ත්‍රිපිටක ග්‍රන්ථ සඳහා අටුවා සම්පාදනය කරන ලද්දේ ඉන් අනතුරුව ය. උන්වහන්සේ විසින් රචිත අට්ඨකථා ග්‍රන්ථ නාමාවලිය මෙසේ ය.

### බුද්ධඝෝෂ මාහිමියන් විසින් රචිත අටුවා ග්‍රන්ථ

| පිටකය | පෙළ ග්‍රන්ථ | අටුවා ග්‍රන්ථය | විස්තර |
|---|---|---|---|
| විනය | පාරාජිකපාළි<br>පාචිත්තියපාළි<br>චුල්ලවග්ගපාළි<br>මහාවග්ගපාළි<br>පරිවාරපාළි | සමන්තපාසාදිකා | මහාවිහාරවාසී **බුද්ධසිරි** නම් තෙරුන්ගේ ආරාධනයෙන් ලියන ලද්දකි. මෙහි නිදාන කථාවේ බුද්ධශාසනයේ සංක්ෂිප්ත ඉතිහාසය, ධර්මසංගායනා පැවැත්වූ ආකාරය, ලක්දිවට බුදුදහම රැගෙන ඒම, අනුරාධපුර මහාවිහාරය ආරම්භ වීම ආදී විස්තර ඇතුළත් වේ. |
| | පාතිමොක්ඛ | කඞ්ඛාවිතරණී | **සොණ** නමැති තෙර කෙනෙකුගේ ආරාධනයෙන් ලියා ඇත. භික්ෂූන් වහන්සේලා සඳහා පනවා ඇති විනය ශික්ෂාපද විග්‍රහ වේ. |
| සුත්ත | දීඝනිකාය | සුමංගලවිලාසිනී | සුමංගල පිරිවෙන් වැසි **දාඨානාග** නම් තෙරුන්ගේ ආරාධනයෙන් ලියා ඇත. මේ සඳහා **'සුමංගලවිලාසිනී'** නම යොදා ඇත්තේ ද ඒ නිසා ය. |
| | මජ්ඣිමනිකාය | පපඤ්චසූදනී | **බුද්ධමිත්ත** නම් තෙරුන්ගේ ආරාධනයෙන් මෙය ලියා ඇති අතර, පරවාදමථනය සඳහා මෙම අටුවාව ප්‍රයෝජනවත් වේ. |
| | සංයුත්තනිකාය | සාරත්ථප්පකාසිනී | බණවර 78 කින් යුත් මේ අටුවාව රචනා කොට ඇත්තේ **ජොතිපාල** හිමියන්ගේ ආරාධනයෙනි |
| | අංගුත්තරනිකාය | මනොරථපූරණී | බණවර 84 කින් සමන්විත මෙම අටුවාව **ජොතිපාල** හිමියන්ගේ සහ **ජීවක** උපාසකගේ ආරාධනය අනුව ලියා ඇත. බුද්ධඝෝෂ මාහිමියන්ගේ අවසාන අටුවාව මෙය වේ. මෙය ලිවීමෙන් පසු උන්වහන්සේගේ මනදොළ පූරණය වූ හෙයින් මෙම අටුවාවට මනෝරථපූරණී (මනදොළ සපුරන්නී) යන නාමය යොදා ඇත. |

| | | | |
|---|---|---|---|
| සුත්ත | **ඛුද්දක නිකාය**<br>ඛුද්දකපාඨ, සුත්තනිපාත | පරමත්ථජෝතිකා | මෙය ප්‍රමාණයෙන් ඉතා කුඩා අටුවාවකි. ඇතැම් කෙනෙක් මෙය බුද්ධඝෝෂ මාහිමියන්ගේ කෘතියක් නොවන බව ද කියත්. |
| | ධම්මපද | ධම්මපදට්ඨකථා | ධම්මපදයේ එන ගාථා 423 ට නිදානකථා 299 ක් වශයෙන් මෙම අටුවාව ලියා ඇත. |
| | ජාතක | ජාතකට්ඨකථා | **බුද්ධමිත්ත** හා බුද්ධදේව තෙරවරුන්ගේ ආරාධනයෙන් ලියා ඇති මෙම අටුවාව පන්සිය පනස් ජාතකකථා හා එහි ගථා ඇතුළත් කරමින් ලියන ලද විශාල ම අටුවාව වේ. |
| අභිධම්ම | ධම්මසංගණී | අත්ථසාලිනී | බණවර 39 කින් සමන්විත වන මෙහි අභිධර්මයේ නිදානකථාව විස්තර වේ. |
| | විභංග | සම්මොහවිනොදනී | බණවර 41 කින් සමන්විත වේ. මහාවංශයේ නොදැක්වෙන ලක්දිව ඓතිහාසික කථා පුවත් රාශියක් මෙහි දැක්වේ. |
| | ධාතුකථා, පුග්ගලපඤ්ඤත්ති, කථාවත්ථු, යමක, පට්ඨාන | පඤ්චප්පකරණට්ඨකථා | අභිධර්ම පිටකයේ ග්‍රන්ථ 5 ක් සඳහා ලියා ඇති හෙයින් මෙය මේ නමින් හඳුන්වා ඇත. මෙහි මොග්ගලීපුත්තතිස්ස හිමියන් කථාවත්ථුප්පකරණය දේශනා කිරීම, ධර්මාශෝක රජු බුදුසසුනේ උන්නතිය වෙනුවෙන් සිදුකළ දෑ ආදිය මෙහි විස්තර වේ. |
| **සමස්ත ත්‍රිපිටකයට පොදුවේ** | | විසුද්ධිමග්ග | සප්ත විශුද්ධිය මගින් නිර්වාණය ප්‍රතිවේධ කරන ආකාරය විස්තර කෙරේ. මෙය භාවනායෝගීන්ට අතිශය වැදගත් කෘතියකි |

| අනෙක් කර්තෘවරුන් විසින් රචිත අටුවා ග්‍රන්ථ | | | |
|---|---|---|---|
| සුත්ත | **බුද්දක නිකාය**<br>උදාන<br>ඉතිවුත්තක<br>විමානවත්‍ථු<br>පෙතවත්‍ථු<br>ථෙරගාථා<br>ථෙරීගාථා<br>චරියාපිටක | පරමත්‍ථදීපනී | ධම්මපාල මාහිමි |
| | නිද්දෙසපාළි | සද්ධම්මපජ්ජොතිකා | උපසේන මාහිමි |
| | අපදානපාළි | විසුද්ධජනවිලාසිනී | මහානාම මාහිමි |
| | පටිසම්භිදාමග්ග | සද්ධම්මප්පකාසිනී | කර්තෘ අඥාතයි |
| | බුද්ධවංසපාළි | මධුරත්‍ථප්පකාසිනී | බුද්ධදත්ත මාහිමි |

බුද්ධඝෝෂ මාහිමියන්ට පාළි අටුවා ග්‍රන්ථ සම්පාදනයේ දී එකල මහාවිහාරය සන්තකයේ තිබූ ප්‍රධාන හෙළටුවා (සීහළට්ඨකථා) 03 ක් උපස්තම්භක වී ඇත. ඒවා නම්

1. **මහාට්ඨකථා** 2. **මහාපච්චරියට්ඨකථා** 3. **කුරුන්දට්ඨකථා**

මීට අමතරව '**සංඛෙපට්ඨකථා**', '**අන්ධකට්ඨකථා**', '**පොරාණට්ඨකථා**', '**පුබ්බට්ඨකථා**', '**සුත්තන්තට්ඨකථා**', '**ආගමට්ඨකථා**' ආදි අටුවාවන් රාශියක් උපයෝගී වී ඇති බව අට්ඨකථාවන් පිළිබඳ පර්යේෂණ කළ උගත්හු පෙන්වා දෙති. මින් **මහාට්ඨකථාව** සමස්ත ත්‍රිපිටකයට ම පොදුවේ තිබූ ප්‍රධාන අටුවාව ලෙස හැඳින්වෙන අතර **මහාපච්චරිය අටුවාව** හා **කුරුන්දි අටුවාව** ප්‍රධාන වශයෙන් විනය සම්බන්ධව පැවැති අටුවාවන් ලෙස සැලකේ. බොහෝ අටුවාවන්හි බුදුගොස් මාහිමි සඳහන් කොට ඇති පරිදි උන්වහන්සේගේ අභිප්‍රාය වූයේ **මහාකාශ්‍යප** ආදි මහරහතන් වහන්සේලා වෙතින් සංගායනාවට පාත්‍රව පසුව **මහා මහින්ද** මහරහතන් වහන්සේ විසින් ලක්දිවට ගෙනවුත් හෙළදිව් වැසියන්ගේ ප්‍රයෝජනය පිණිස සීහළ භාෂාවෙන් තබන ලද අටුවාවන් දේශාන්තරවාසීන්ගේ ප්‍රයෝජනය පිණිස පාලියට නැඟීම යි.

බුද්ධඝෝෂ මාහිමියෝ පාලි අටුවාවන් රචනා කිරීමේ දී සෑමවිට ම මහාවිහාරීය මතයට අනුගතව කටයුතු කළහ. ථෙරවාදී සම්ප්‍රදාය විනය සම්බන්ධයෙන් දැක්වූයේ දැඩි උනන්දුවකි. පළමු ධර්මසංගීතියේ දී ඛුද්දානුඛුද්දක ශික්ෂාපද පිළිබඳ අර්බුදය පැන නැගි අවස්ථාවේ අවසානයේ බුදුරදුන් පනවා වදාළ සියලු ශික්ෂාපද ආරක්ෂා කිරීමට තීරණය කිරීමත් අලුත් විනය ශික්ෂාවන් නොපැනවීමට තීරණය කිරීමත් එක් සාධකයකි.

එසේ ම දෙවන ධර්ම සංගායනාවේ දී '**දස අකැප වස්තුව**' එකහෙළා ම ප්‍රතික්ෂේප කොට කුඩා වරදක් වුව ශාසනය තුළ සිදු නොවීමට ඉඩ තැබීම ද ථෙරවාදී සම්ප්‍රදාය විය. මේ පිළිබඳව සංවේදී වූ බුද්ධඝෝෂ මාහිමියෝ පාළි අට්ඨකථාවන් රචනා කිරීමේ දී පළමුවෙන් ම '**සමන්තපාසාදිකා**' නම් විනයට්ඨකථාව රචනා කොට මහාවිහාරීය භික්ෂූන්ගේ සිත් දිනාගැනීමට සමත් වූහ. මේ නිසා ම මහාවිහාරීය භික්ෂූන් වෙතින් ද බුද්ධඝෝෂ මාහිමියන්ට අනගි සහායක් ලැබුණි. සීහළට්ඨකථා සේ ම ඇතැම් විට ඇතැම් ධර්ම කරුණු පැහැදිලි කිරීමේ දී බහුශ්‍රැත ධර්මධර භික්ෂූන්ගේ තෙරවරුන්ගේ අදහස් ද, මහාවිහාරයේ සුවිසල් පොත්ගුල පරිහරණය කිරීමේ අවස්ථාව ද ලැබුණි.

බුද්ධඝෝෂ මාහිමිපාණන් වහන්සේට අංගුත්තර නිකාය අටුවාව ලිවීමෙන් පසු උන්වහන්සේගේ අටුවා ලිවීමේ මනදොළ පූරණය වී ඇත. ඒ නිසා තත් අටුවාව '**මනොරථපූරණී**' යන නමින් නම් කොට ඇත. ඒ අනුව එය උන්වහන්සේ විසින් ලියන ලද අවසාන අටුවාව වේ. එය රචනා කිරීමෙන් පසු උන්වහන්සේ නැවතත් ඉන්දියාවට වැඩම කරන ලදැයි ලාංකීය මූලාශ්‍රයන් පිළිගන්නා අතර බුරුම රටේ පිළිගැනීම වනුයේ උන්වහන්සේ එරටට වැඩම කොට තවදුරටත් ග්‍රන්ථකරණයේ යෙදී සිට පිරිනිවන් පෑ බවයි. කෙසේ වෙතත් බුදුගොස් මාහිමි ශ්‍රී ලාංකීය ජන විඥානය තුළ කෙතරම් දුරට කිඳාබැසගත්තේ ද යත් ලක්දිවට බුදුසසුන හඳුන්වාදුන් මිහිඳු මහරහතන් වහන්සේ හැරුණු විට උන්වහන්සේ '**අනුබුදු**' යන ගෞරව නාමයෙන් පිදීමෙන් ම තහවුරු වේ.

**අභ්‍යාස**

01. වරහන් තුළින් සුදුසු වචන තෝරාගෙන හිස්තැන් පුරවන්න.
(අත්ථසාලිනී / මහානාම / ධම්මපාල / සංයුත්ත නිකාය /සමන්තපාසාදිකා /දාඨානාග/ මහාවංසය / මනොරථපූරණී / රේවත / බුද්ධඝොසුප්පත්ති)

i. බුද්ධඝෝෂ මාහිමිපාණන්ගේ ගුරුවරයා වූයේ .......................... හිමියන් ය.
ii. උන්වහන්සේ ඉන්දියාවේ දී රචනා කරන ලද ග්‍රන්ථයක් වනුයේ ........................ ය.
iii. .....................හා ...................උන්වහන්සේගේ ජීවන තොරතුරු ඇතුළත් වේ.
iv. බුදුගොස් හිමි ලක්දිවට වැඩම කරවන ලද්දේ ........................ රජු දවස ය.
v. බුද්ධඝෝෂ හිමියන්ගේ මනදොළ පූරණය වූයේ...................... ලිවීමෙන් පසුව ය.
vi. විනය පිටකයට ලියන ලද අටුවාව වනුයේ.......................යි.
vii. දීඝනිකාය අටුවාව ලිවීම සඳහා ආරාධනා කරන ලද්දේ.......................හිමියන් ය.
viii. 'පරමත්ථදීපනී' නම් අටුවාව රචනා කරන ලද්දේ.....................හිමියන් විසිනි.
ix. බණවර 84 කින් සමන්විත වනුයේ.....................අටුවාවයි.
x. 'විසුද්ධිමග්ග' ග්‍රන්ථය රචනා වීමට වස්තු බීජ වූ ගාථා ඇත්තේ..................... ය.

02. පාලි අට්ඨකථා පිළිබඳ ව අවධානය යොමුකරමින් 'බුද්ධඝෝෂ මාහිමියන් වෙතින් පාලි සාහිත්‍යයට සිදුවූ සේවාව' පිළිබඳ ව වාක්‍ය රචනයක් ලියන්න.

## දිඹුලාගල කාශ්‍යප මාහිමි

දිඹුලාගල කාශ්‍යප මාහිමිපාණන් වහන්සේගේ චරිතය ලක් ශාසන ඉතිහාසය තුළ ශ්‍රේෂ්ඨත්වයට පත්වනුයේ උන්වහන්සේ වැඩ සිටි කාලයට සාපේක්ෂකව ය. උන්වහන්සේ වැඩ සිටි පොළොන්නරු අවධියේ රටෙහි පැවති අභ්‍යන්තරික දේශපාලන අවුල් වියවුල් ස්වභාවයත්, දකුණු ඉන්දියාවෙන් සිදු වූ චෝළ පාණ්ඩ්‍ය ආක්‍රමණත්, ශාසනික වශයෙන් ඇති වී තිබූ පරිහානියත් සලකා බලන විට උන්වහන්සේ වැනි යුග පුරුෂයෙකු බිහි නොවූයේ නම් ශාසනයට සිදුවන්නට තිබූ අනර්ථය විශාල වන්නට තිබුණි.

දෙවනපෑතිස් රජු දවස අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේගෙන් මෙරටට ලැබුණු බුදුදහම අනුරාධපුර මහාවිහාරය කේන්ද්‍ර කරගනිමින් අතිශය දීප්තිමත් විය. එහෙත් එම යුගයේ අවසාන භාගය වත් ම දකුණු ඉන්දීය චෝළ ආක්‍රමණ හේතුවෙන් ලක්දිව බුදුසසුන පිරිහීමට පත් වූ අතර අධ්‍යාපන මූලායතනයන්ගේ කාර්යය ද යම් පසුබෑමකට ලක් විය. පොළොන්නරු යුගය උදාවන විට විනය කර්මයකට අවශ්‍ය උපසම්පදා භික්ෂූන් පස්නමක් වත් සොයා ගැනීමට දුෂ්කරව ශාසනික අර්බුද හටගෙන තිබිණි. පොළොන්නරු අවධියේ මුලින් ම රජකමට පත් වූ **පළමුවන මහාවිජයබාහු** රජතුමා චෝළයන් සමග දරුණු සටනකින් පසුව ඔවුන් පරාජය කොට ලක්දිව ඒකච්ඡත්‍ර කොට බුදුසසුනේ දියුණුවට කටයුතු කරවීය. ඒ අනුව එතුමා **බුරුමයේ අනුරුද්ධ රජු** සමග කතිකා කොට උපසම්පදා භික්ෂූන් මෙරටට වැඩම කරවා නැවතත් මෙරට උපසම්පදාව පිහිටුවීය. එපමණක් නොව මහාවිහාර, අභයගිරි, ජේතවන යන තුන් නිකාය සමගි කරවා ජරාවාසව තිබුණු වෙහෙර විහාර අලුත්වැඩියා කරවා ත්‍රිපිටක සංශෝධනයක් ද කළේය. එම රජතුමාගේ ඇවෑමෙන් පසු නැවතත් රාජ්‍යත්වය පිළිබඳ ගැටුම් ඇති වූ අතර විජයබාහු රජතුමා විසින් ඔසවා තැබූ රටේ සහ ශාසනයේ ස්ථාවරත්වය නැවතත් පිරිහීමට පත්විය. රජුන් තැනීමට හා නෙරපීමට භික්ෂූන්ගේ දායකත්වය එකල ලැබුණු නිසා එම කාලවකවානුවේ ඇතැම් රජවරු විහාරවල බලසේනාවන් නවත්වා තැබූ හෙයින් වෙහෙර විහාර වල් බිහි වී ගිය අතර භික්ෂූන් පන්සල් හැර ගියහ. මේ නිසා විජයබාහු මහරජතුමාගෙන් පසු යුගය බුදුසමයට අඳුරු කාලපරිච්ඡේදයක් උදාවිය.

මෙබඳු වකවානුවක රෝහණයෙන් '**කිත්ති**' (පරාක්‍රමබාහු) නම් දියසෙන් කුමාරයෙක් බිහිවිය. තීක්ෂණ බුද්ධියකින් හෙබි මොහු සිහසුන ලැබීමෙන් පසු ක්‍රි. ව. 1154 දී මුළු ලක්දිව ම රජු ලෙස අභිෂේක ලැබූ අතර පරාක්‍රම සමුද්‍රය, පරාක්‍රම තඩාග ආදිය ඉදි කොට ලක්දිව ස්වයංපෝෂිත රාජ්‍යක් බිහි කළේය. මහාවංශය ඇතුළු බොහෝ ඓතිහාසික මූලාශ්‍රයන්ට අනුව මොහු ශ්‍රී ලංකාවේ විසූ ශ්‍රේෂ්ඨතම නරපතියන්ගෙන් කෙනෙකි. මහාවිජයබාහු රජු ඇති කළ ශාසනික පුනරුදයේ උපරිම ඵල අවස්ථාව බිහිවනුයේ **මහාපරාක්‍රමබාහු රජු** දවස ය.

මහාපරාක්‍රමබාහු රජතුමා බුද්ධශාසනයට සිදු කළ සේවය සුවිසාල ය. භේදභින්නව තිබූ තුන්නිකාය සමඟි කරවීම දුශ්ශීලයන් සසුනින් බැහැර කොට සසුන පිරිසිදු කිරීම ආදි කාර්යයෙහි ලා මහා පරාක්‍රමබාහු රජතුමා විසින් රාජානුග්‍රහය සපයමින් සිදු කරන ලද ශාසන ප්‍රබෝධයෙහි ලා යුග කාරක කාර්යභාරය සිදු කරන ලද්දේ **දිඹුලාගල මහා කාශ්‍යප**

**මාහිමිපාණන් වහන්සේ ය.** උන්වහන්සේ වැඩ සිටියේ නැගෙනහිර තමන්කඩුව පළාතේ පිහිටා තිබූ **දිඹුලාගල ආරණ්‍යායතනයේ ය.** මෙම සේනාසනයේ ශ්‍රේෂ්ඨත ම යතිවරයා කාශ්‍යප මාහිමිපාණන් වන අතර දිඹුලාගල ප්‍රසිද්ධියට පත්වන්නේ ද උන්වහන්සේ සම්ප්‍රාප්තියත් සමග ය. තෙළෙස් ධුතංගධර වූ උන්වහන්සේ සියලු ම භික්‍ෂූන් අතර ප්‍රමුඛ වූ අතර බොහෝ තැන්වල **මහාථෙර, සංඝපරිණායක** යන නම්වලින් ද හඳුන්වා ඇත. එකල වැඩ සිටි මහාසංඝයා විසින් මහරහතන් වහන්සේ නමකට මෙන් මුන්වහන්සේට ගෞරව කරන ලදහ. **පොළොන්නරු සෙල් ලිපියේ** මුන්වහන්සේගේ සුපේශල ශික්‍ෂාකාමීත්වය වර්ණනා කොට ඇත්තේ මෙසේ ය.

*'අඛණ්ඩ අච්ඡිතාදි ගුණාංග සංගත කොට රක්‍ෂිත වර්ධිත පෝෂිත ශීලස්ඛන්ධාදි ලෞකික ගුණරත්නාලංකාරයෙන් සමලංකෘත වූ උදුම්බරගිරි නිවාසී මහාකාශ්‍යප මහාස්ථවිර ප්‍රමුඛ මහාවිහාරවාසී භික්‍ෂු සංඝයා ....'*

'දඹදිව **ධර්මාශෝක රජතුමා** මොග්ගලීපුත්තතිස්ස හිමියන් සහාය කොට ගෙන සසුන පිරිසිදු කළා සේ' මහාපරාක්‍රමබාහු රජතුමා කාශ්‍යප හිමියන්ගේ සහායෙන් සසුන පිරිසිදු කළ බව මහාවංශ කතුවරයා පවසයි.

**'මොගගලීපුතතතිසසඤච - ධමමසොකො නරිසසරො.**
**මහාථෙරං ධුරං කත්‍වා - මහාකසසපවහයං,**

**විසාරදං තෙපිටකං - විනයඤඤූ විසෙසතො,**
**ථෙරවංසෙකපජෝතං - සාමගගිං චිරදකඛිතං'** යනුවෙනි.

ත්‍රිපිටක විසාරද, විනය දත්, ථේරීයවංශය බබුළුවන, ශාසනයේ චිර පැවැත්ම හා සමඟිය කැමැතිවන්නා වූ යන උපපද රාශියක් භාවිත කරමින් මහාවංශ කතුවරයා මහාකාශ්‍යප මාහිමි හඳුන්වා දීමට පෙළඹී ඇත්තේ උන්වහන්සේ තුළ විරාජමාන වූ සැබෑ ගුණකදම්බය නිසා ය. **ශාරීපුත්‍ර** සංඝරාජයන් විසින් සමන්තපාසාදිකාවට ලියූ **සාරත්ථදීපනී විනයටීකාවේ** ආරම්භයේ දී ද මහා කාශ්‍යප මාහිමියන් පිළිබඳ ව සඳහන් වේ.

**නිසසාය සීහළින්‍දෙන - යං පරකකමබාහුනා,**
**කත්‍වා නිකායසාමගගිං - සාසනං සුවිසොධිතං.**

**කසසපං තං මහාථෙරං - සංඝසස පරිනායකං,**
**දීපසමිං තමබපණණිමහි - සාසනොදයකාරිනං.**

**පටිපතති පරාධීනං - සදා'රඤඤනිවාසිනං,**
**පාකටං ගගනෙ චන්‍ද - මණඩලං විය සාසනෙ.**

**සංඝසස පිතරං වන්‍දෙ - විනයෙ සුවිසාරදං,**
**යං නිසසාය වසනෙතාහං - වුදධිපතෙතාසමි සාසනෙ.**

එහි දී උන්වහන්සේ සඳහන් කොට ඇත්තේ සිය දිවි දෙවැනි කොට ප්‍රතිපත්ති පිරූ, හැම කල්හිම ආරණ්‍යවාසය ප්‍රිය කළ, විනයෙහි උසස් විශාරදයෙකු වූ මහාකාශ්‍යප හිමි සම්බුද්ධ ශාසනය නමැති අහසෙහි පූර්ණ චන්ද්‍රයා මෙන් දීප්තිමත්ව බැබළුණු බව යි.

මහාකාශ්‍යප මාහිමි සීල සම්පත්තියෙන් අගතැන්පත් වූවා සේ ම ඥාණ සම්පත්තියෙන් ද අග්‍ර වූ බව උන්වහන්සේ අතින් ලියවුණු ග්‍රන්ථ දෙස බැලීමෙන් මැනවින් පැහැදිලි වේ. ත්‍රිපිටක පාලියේ ඇති දුරවබෝධ පද සුබෝධ කරනු පිණිස අනුරාධපුර අවධියේ දී **පාලි අටුවාවන්** රචනා වූ අතර, එම අටුවාවන්හි තවදුරටත් විස්තර කළ යුතු තැන් විස්තර කරමින් හා ව්‍යාකරණ විභාග, නිදානකථා ආදිය දක්වමින් පාලි ටීකා ග්‍රන්ථ රචනා විය. පාලි ටීකා ග්‍රන්ථ ලියවුණු කාලපරිච්ඡේදය පොළොන්නරු අවධිය යි. අනුරාධපුර මහාවිහාරය පාලි අට්ඨකථා සම්පාදනය කරමින් සම්බුදු සසුනේ හා පාලි භාෂාධ්‍යයනයේ චිර පැවැත්ම අභිවෘද්ධිය සිදු කළා සේ ම **පාලි ටීකා** සම්පාදනය කරමින් දිඹුලාගල කාශ්‍යප මාහිමි ඇතුළු තත් ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව විසින් මහාවිහාර සම්ප්‍රදාය සුස්ථිර කළහ. **අභිධම්මත්ථසංගහයට** ලියූ **අභිධම්මත්ථපුරාණටීකාව** කාශ්‍යප මාහිමිගේ කෘතියක් වන අතර ඉන් උන්වහන්සේ තුළ පැවැති අභිධර්ම විශාරදත්වය ප්‍රකට වේ. එසේ ම පාලි, සංස්කෘත, සිංහල යන භාෂාත්‍රයෙහි විශාරදයෙකු වූ උන්වහන්සේ **චාන්ද්‍රව්‍යාකරණය** සරල කොට **බාලාවබෝධන** නම් ව්‍යාකරණ ග්‍රන්ථය රචනා කළහ. එය කච්චායන ව්‍යාකරණය සරල කොට ධර්මකීර්ති මාහිමියන් විසින් ලියා ඇති බාලාවතාරය වැනි ග්‍රන්ථයකි. මහා කාශ්‍යප මාහිමියන් වෙත පැවැති සංස්කෘත භාෂාව පිළිබඳ විශාරදත්වය මින් මැනවින් විශද වේ. අභිධර්මයට ම ලියන ලද **මොහවිච්ඡෙදනී** නම් ටීකාව ද හා **අනාගතවංස** යන පාලි ග්‍රන්ථය ද කාශ්‍යප මාහිමියන්ගේ කෘති බව විචාරකයන්ගේ අදහසයි.

පොළොන්නරු යුගයේ දී **විද්‍යාචක්‍රවර්ති, ගුරුළුගෝමි** වැනි පඬිවරුන් ශ්‍රේෂ්ඨ සිංහල ග්‍රන්ථ රචනා කරද්දී දිඹුලාගල කාශ්‍යප හිමි ඇතුළු ශිෂ්‍ය පරම්පරාව විසින් පාලි සාහිත්‍යයේ පුනරුදය ඇති කරන ලදී. ශාසනයටත් පාලි සාහිත්‍යයටත් අභිවෘද්ධිය සැලසූ මහාකාශ්‍යප මාහිමි තමන් වහන්සේට නොදෙවෙනි වූ ශිෂ්‍ය පරම්පරාවක් බිහිකිරීම විශිෂ්ට කාර්යයක් සේම අතිදූරදර්ශී ක්‍රියාවක් ද වේ. මේ හේතුවෙන් උන්වහන්සේ වෙතින් ප්‍රභාවිත ධර්ම ශාස්ත්‍රාලෝකය කෝට්ටේ යුගය දක්වා විහිදී ගියේ ය.

**අභ්‍යාස**

01. නිවැරැදි පිළිතුර යටින් ඉරි අඳින්න.

i. දිඹුලාගල කාශ්‍යප මාහිමියන් වැඩ සිටියේ (දිඹුලාගල/මහාවිහාරය/අභයගිරිය) ආරණ්‍යයේ ය.
ii. උන්වහන්සේගේ යුග කාර්යභාරය සමාන වනුයේ (බුද්ධඝෝෂ මා හිමි/ මහානාම මා හිමි/වැලිවිට සරණංකර නා හිමි) ට ය.
iii. පොළොන්නරු යුගයේ දී පාලි සාහිත්‍යයට එක් වූ සාහිත්‍යාංගයවනුයේ (ප්‍රකරණ /ටීකා/අටුවා) සාහිත්‍යය යි.
iv. මහාකාශ්‍යප මා හිමියන් හැඳින්වූ අභිධානයක් වනුයේ (සාගරමති/සංඝ පරිණායක /සංඝරාජ) යන්නයි.
v. බුද්ධඝෝෂ මා හිමියන් හැරණුවිට වැඩිම පාලි ග්‍රන්ථ සංඛ්‍යාවක් ලියන ලද්දේ (ශාරිපුත්‍ර/ධම්මපාල/සංඝරක්ඛිත) මාහිමිපාණෝ ය.

පිළිතුරු සපයන්න.

02. දිඹුලාගල කාශ්‍යප මාහිමියන්ට පෙර පොළොන්නරු රාජධානියේ ස්වභාවය කෙටියෙන් පැහැදිලි කරන්න.
03. මහාපරාක්‍රමබාහු රජතුමා සිදු කළ ශාසනික සේවාවන් 02ක් ලියන්න.
04. දිඹුලාගල කාශ්‍යප මා හිමියන් විසින් රචිත ග්‍රන්ථ 03ක නම් ලියන්න.
05. උන්වහන්සේ පිළිබඳ තොරතුරු සඳහන් වන මූලාශ්‍රය ග්‍රන්ථ 02ක නම් ලියන්න.
06. දිඹුලාගල කාශ්‍යප මාහිමි ඇති කළ ශිෂ්‍යයන් උන්වහන්සේලා නම්කොට උන්වහන්සේ ලියූ ග්‍රන්ථ දෙක බැගින් ලියන්න.

## පොල්වත්තේ ශ්‍රී බුද්ධදත්ත නාහිමිපාණෝ
## (1887 - 1962)



පොල්වත්තේ ශ්‍රී බුද්ධදත්ත මහානාහිමිපාණන් වහන්සේ භාෂාන්තරයන්හි හා සමයාන්තරයන්හි විශාරද දැනුමක් තිබූ ශ්‍රේෂ්ඨ ලේඛකයෙක් හා ධර්ම ශාස්ත්‍රීය පර්යේෂණයෙක් ද වෙති. පාලි භාෂාවේ හා සාහිත්‍යයේ අභිවර්ධනයට පොල්වත්තේ බුද්ධදත්ත නාහිමියන් වෙතින් සිදු වූ සේවය කෙතරම් ද යත් අපවත් වී දශක 05 ක් ඉක්ම ගිය ද පාලි භාෂාධ්‍යයනය තුළ උන්වහන්සේ තවමත් ජීවමාන වෙති.

දකුණුලක, ගාලු කෝරළයේ, අම්බලන්ගොඩ පොල්වත්ත ග්‍රාමයේ දී උන්වහන්සේගේ ජන්මලාභය සිදු වූයේ 1887 ජූලි 23 වැනි දා ය. දෙමාපියෝ වූවෝ **ඕබඩගේ ලුවිස් ද සිල්වා** පියාණන් හා **තුය්යාගම්හේවා සාඤ්චිහාමි** මැණියන් ය. වැඩිමහල් සහෝදරයින් සිව්දෙනෙක් හා එක් සහෝදරියකගෙන් සමන්විත එම පවුලේ බාලයා වූ එතුමන් ඉපදී වසර 07 කින් මැණියන් කාලයාත්‍රා කොට ඇත. එකල විද්‍යාලංකාර පාඨශාලාවට යාබදව පිහිටි අම්බලන්ගොඩ බෞද්ධ ඉංග්‍රීසි පාඨශාලාවෙන් (මෙකල අම්බලන්ගොඩ ධර්මාශෝක විද්‍යාලය) අකුරුකරණය ආරම්භ කොට එහි වසර කීපයක් ඉගෙනීම් කටයුතු සිදු කොට ඇත.

මහණකම පිළිබඳ කුඩා කල පටන් ඇලුම් කළ මෙතෙම **1899. 11. 02** දින දොළොස් වැනි වියේ දී '**පොල්වත්තේ බුද්ධදත්ත**' නාමයෙන් ප්‍රව්‍රජ්‍යා භූමියට ඇතුළත් විය. උන්වහන්සේගේ පැවිදි ගුරුවරු වූවෝ අම්බලන්ගොඩ පොල්වත්ත අග්ගාරාමාධිපති ව වැඩ විසූ **ශ්‍රී ධර්මාධාර ස්වාමීන්‍ද්‍රයන්** වහන්සේ සහ **දොඩම්දූවේ පියරතනතිස්ස** මහා ස්වාමීන්‍ද්‍රයන් වහන්සේ ය. පැවිදි වීමෙන් පසු වසර 03 ක් යන තුරු ස්වකීය ආචාර්යන් වහන්සේගේ ඇසුරෙන් සිංහල, පාලි, සංස්කෘත යන ප්‍රාචීන භාෂාවන් ඉගෙන ගත්හ. ස්වයංලිඛිත අපදානයේ දී බුද්ධදත්ත නාහිමියන් ම සඳහන් කරන පරිදි එම කාලවකවානුවේ උදේ, හවස, රෑ ලෙස විශේෂයක් නැතිව පාලි, සංස්කෘත පෙළ පොත් වාචෝද්ගත කිරීම, අර්ථකීම යුහුසුලුව සිදු කොට ඇත.

වසර 03 ක ගුරු ඇසුරෙන් ලැබූ ශික්ෂණයෙන් අනතුරුව 1902 වසර අවසානයේ දී උන්වහන්සේ සිය ගුරුදේවයන් සමග බුරුමයට වැඩම කළ අතර, ඒ වන විට උන්වහන්සේ පසළොස් වන වියේ පසු වූහ. බුරුමයට යන විට **පාලි වරනැගිල්ල, බාලාවතාරය, ධාතුමඤ්ජුසාව, පාලි නිඝණ්ඩුව, ධම්මපදය, සතිපට්ඨාන සූත්‍රය, වුත්තොදය, අභිධම්මත්ථසංගහය, අභිධම්මමාතිකා** යන පොත් සම්පූර්ණයෙන් කටපාඩමින් කීමේ හැකියාවක් උන්වහන්සේ සතු විය. ඊට අමතරව ධම්මපදට්ඨකථා, රසවාහිනී, බාලාවතාර හා වුත්තොදය යන පොත්වල අර්ථ කියා තේරුම් ගැනීමට තරම් ශක්තියක් ඇතිව සිට ඇත. එසේ ම අත්තනගලුවංසය, මහාබොධිවංසය හා ජාතක අටුවා කොටස් දෙකක අර්ථ කියවා තිබී ඇත. පාලි භාෂාව ඉගෙනීමෙහි උන්වහන්සේ දැක්වූ අනවරත උනන්දුව හා සමත්කම මේ තුළින් ඉතා මැනවින් වටහා ගත හැකි අතර, මෙය වර්තමානයේ

පිරිවෙන්හි පාලි ඉගැන්වීම් හා ඉගෙනුම් ක්‍රියාවලිය සිදුකරන ගුරුසිසු දෙපාර්ශවයට ම මහඟු ආදර්ශයකි.

1903 ජනවාරි මාසයේ දින 03 ක නැව් ගමනකින් පසු බුරුමයේ **මෝල්මේන්** නුවරට ගොස් එහි **සංල්වින්** ගඟබඩ **කඩෝ** ප්‍රදේශයේ **කොණ්හත්** ගමේ පිහිටා ඇති **සුවණ්ණමණිවිජ්ජොතරතනසීමාරාම** නම් විහාරස්ථානයේ නැවතී පාලි බසත්, බුරුම බසත්, අභිධර්මයත් ඉගෙනීම ආරම්භ කළහ. එහි වැඩ සිටි මහා පඬිවරයෙකු වූ **සාගරඤාණ** හා **විසුද්ධාචාර** මාහිමිවරුන් වෙතින් බුරුම බස ඉතා කෙටි කලකින් ඉගෙන ගෙන ඇත. එහි ලා පොල්වත්තේ බුද්ධදත්ත මාහිමි ප්‍රකට කළ සාමර්ථ්‍යය කෙසේ ද යත් අවුරුද්දක් ගත වීමට පෙර බුරුම භාෂාවෙන් අභිධර්ම පොත්වලට අර්ථ අස්වාගත හැකි තරමේ දැනුමකින් පොහොසත් වී ඇත. එකල බුරුමයේ භික්ෂූන් වහන්සේලා ඉගෙනගත් ශාස්ත්‍රශාලා තුළ කටපාඩම් දීමේ තරඟ විභාග පැවතී ඇත. ධනවත් ශ්‍රද්ධාවන්ත උපාසක උපාසිකාවන් මුල් වී විශාල ලෙස ධනව්‍යයෙන් උත්සවාකාරයෙන් මෙම තරඟ පැවතී ඇති අතර, ඉන් ජයග්‍රහණ ලබන අයට ඉගෙන ගැනීමට අවැසි පොත පත ගැනීමට මුදල් ද පිරිනමා ඇත. එවැනි තරඟවලින් පොල්වත්තේ බුද්ධදත්ත මාහිමියන් ද බොහෝ වටිනා මුදල් ත්‍යාග දිනාගැනීමට සමත් වී ඇත.

1904 දී නැවත ලංකාවට පැමිණ ස්වකීය ගුරුදේව ධර්මාධාර නාහිමියන්ගේ ඉල්ලීම පරිදි සංස්කෘත භාෂාව ඉගෙනීම ආරම්භ කළ අතර එහි දී **මුග්ධබෝධ ව්‍යාකරණය, අමරකෝෂය** හා **පාණිනීසූත්‍ර** පාඨය ද කෙටි කලකින් ම ඉගෙනගැනීමට සමත් වූහ. මෙම කාලවකවානුවේ දී **ලක්මිණි පහන** කතුවරයාගේ උපදෙස් අනුව ඌනතාවලින් ග්‍රහණව තිබූ **අභිධර්මමාතෘකා සන්නය** සඳහා බුරුම සන්නය ද ආධාර කොට ගෙන සවිස්තර සන්නයක් සමගින් **අභිධර්ම මාතෘකා ස්වරූපය** නම් ග්‍රන්ථය ලියන ලදී. එය බුද්ධදත්ත මාහිමියන්ගේ මුල් ම කෘතිය වන අතර ඒ වන විට උන්වහන්සේගේ වයස අවු 18 ක් විය. එසේ ම 19 වන වියේ දී අතිගරු දොඩන්දූවේ පියරතනතිස්ස නාහිමියන් ගැන පාලි පද්‍යයෙන් ගාථා අෂ්ටකයක් ලියා ඇති අතර, පාලිභාෂාව හැසිරවීමෙහි ලා උන්වහන්සේ පෑ නෛපුණ්‍ය මෙමගින් මැනවින් ප්‍රකට වේ. 1907 ජනවාරියේ නැවත දෙවන වරටත් බුරුමයට වැඩම කොට 1907 ජනවාරි 23 දින බුරුමජාතික **සාගරඤාණ** මහා ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ උපාධ්‍යායත්වයෙන් උපසම්පත්තිය ලබාගත් අතර, තත් වර්ෂයේ දී ම බුරුම බසින් සන්නයක් ද සමගින් **පාළි නිඝණ්ඩුව** මුද්‍රණද්වාරයෙන් එළිදැක්වීමට ද උන්වහන්සේ සමත් වූහ. බුරුම වැසි පාලි දූහුනන්ගේ ප්‍රයෝජනය සඳහා **පාලිභාසප්පවෙසනී** (First Step in Pali Conversation) නමින් බුරුම බසින් පාළි පාඨග්‍රන්ථයක් ද ලියා ඇති අතර එය බුරුම අධ්‍යාපන මණ්ඩලය මඟින් ද ඉතා ඉහළින් පිළිගෙන ඇත. බුරුම සම්ප්‍රදාය තුළ අවිද්‍යමාන **රසවාහිනිය, මහපිරිත් පොත** හා **විමුක්ති සංග්‍රහය** බුරුම අකුරින් ලියා එරට වැසි භික්ෂූන්ගේ ප්‍රයෝජනයට ඉදිරිපත් කළ අතර, පාලි - බුරුම - ඉංග්‍රීසි යන භාෂාත්‍රයෙන් ම **ත්‍රිභාෂාරත්නාකරය** මෙන් ග්‍රන්ථයක් ද ලියා ඇත. එය වර්තමානයේ ද බුරුමයේ ඉතා ජනප්‍රිය ග්‍රන්ථයකි. එකල බුරුමයේ ගුරු ශිෂ්‍ය දෙපක්ෂය ම කළුවරේ ඉඳගෙන පොතක් නොමැතිව අභිධර්මය උගන්වන ක්‍රමයක් තිබී ඇති අතර එය **රාත්‍රීවාරය** නමින් හඳුන්වා ඇත. පොල්වත්තේ නාහිමි මේ සඳහා ගුරු සිසු දෙඅංශයෙන් ම ඉදිරිපත් වී ඇත.

1909 වසරේ පාලි භාෂාව, බුරුම භාෂාව හා අභිධර්මය යන විෂයන්ගෙන් සමන්විත විභාගයකට ඉදිරිපත් වී බුරුම භික්ෂූන් 600 ක ගෙන් ප්‍රථම ස්ථානය ලබාගත්හ. අනතුරුව ලංකාවට වැඩම කළ අතර, ඉන්පසු ලක්දිව බොහෝ කාලයක් වැඩ වසමින් මෙරට පාලි භාෂාවේත් සම්බුද්ධ ශාසනයේත් අභිවෘද්ධියට ග්‍රන්ථ රචනා කරමින්, ශාස්ත්‍රීය වාද විවාද ඇති කරමින්, ධර්මදේශනා සිදුකරමින් හා සම්මේලන ආදියට සහභාගි වෙමින් ඉමහත් සේවයක් සිදු කළහ. **රීස් ඩේවිඩ්ස්** මහතා සමග සමීපාශ්‍රයක් පවත්වා ගනිමින් එංගලන්තයේ පාලි පොත් සමාගමට (P.T.S.) විවිධ පොත් පරිවර්තනය කර දෙමින් හා ඉංග්‍රීසි අකුරින් පිටපත් කර දෙමින් අපරදිගට පාලි භාෂාඥානය විවරණය කරදීමට නිස්සරණාධ්‍යාශයෙන් යුතුව අමිල මෙහෙයක් සිදු කළහ. උන්වහන්සේගේ තරුණ වියේ දී සිදුකළ ශාස්ත්‍රීය සේවා අතුරින් කිහිපයක් මෙසේ ය.

- බුරුම වැසියන්ගේ ප්‍රයෝජනයට රචනා කරන ලද **පාලිභාසප්පවෙසිනී** පොත සිංහලට නගා පළ කිරීම.

- අම්බලන්ගොඩ වෛශාඛනිධාන සමිතියේ ඉල්ලීම පරිදි කුඩා ධර්ම පුස්තක රාශියක් ලියවීම. (**පමාවීම යුතු ද?, බුද්ධගුණදීපනිය, ධර්මාවවාදමඤ්ජරී, කර්මවීර්යදීපනී, විශුද්ධිදීපනී, දශසංඥාවිභාගය, සත්ත්වතත්වදර්ශනය** යනාදි පොත්)

- ක්‍රිස්තුභක්තිකයන් බුද්ධාගමට විරුද්ධව ලියූ **දෘෂ්ටිවිභාගය** නමැති පොතට පිළිතුරු ලෙස **සත්‍යදර්ශනය** නමැති පොත ලිවීම.
- බණ අසන විට ඉඳින ආකාරය පිළිබඳව වාදයක් ඇති වූ අතර එහි දී බුරුමජාතික **ලේතී** නම් මහාතෙරුන්ගේ විනිශ්චය ද ඇතුළත් කරමින් **ගාරවාගාරවවිනිච්ඡය** කෘතිය ලිවීම.

- 'සිරිමා' යන පදය සමග 'හෙ' යන නිපාතය යෙදීම නිසා ලක්මිණි පහන කර්තෘතුමා උසස් උදවිය සඳහා 'හෙ' යන නීචාර්ථ ආමන්ත්‍රණය යෙදීම අයෝග්‍ය යැයි වාදයක් ඇති කළ අතර, එයට පිළිතුරු ලෙස **හෙ සිරිමාවාදය** යන නමින් කෘතියක් ලියා ඇත.

- **නාමරූපපරිච්ඡෙද, සම්මොහවිනොදනී, සද්ධම්මපජ්ජොතිකා හා නිද්දෙස** අටුවාව ශුද්ධ කොට ඉංග්‍රීසි අකුරෙන් ලියවා එංගලන්තයේ පාලි පොත් සමාගමට (P.T.S.) යැවීම.

- **ලක්මිණ** පුවත්පතේ **ධර්මවාදී, සත්‍යවාදී** නමින් ලිපි පෙළක් ද **දිනමිණ** පුවත්පතේ **අර්ථවාදී** නමින් ලිපි පෙළක් ද ලිවීම.

ප්‍රාචීන භාෂාවන් පිළිබඳ හසල දැනුමක් ලබා සිටි පොල්වත්තේ බුද්ධදත්ත නාහිමියන්ට ඉංග්‍රීසි භාෂාව පිළිබඳ දැනුම ඉතා අල්ප වූ හෙයින් ඉංග්‍රීසි ඉගෙන ගැනීමට කැමැත්තක් ඇති විය. ඒ අනුව එකල **කොළඹ ආනන්ද විද්‍යාලයේ** විදුහල්පතිව සිටි **පී. ද එස්. කුලරත්න** මහතා මූලික වී භික්ෂූන් වහන්සේලාට ඉංග්‍රීසි ඉගැන්වීමේ පාසලක් කොළඹ ආනන්ද විද්‍යාලයේ ම පවත්වාගෙන යන ලදී. 1919 වසරේ දී එයට ඇතුළත්ව ඉංග්‍රීසි භාෂාව ඉගෙනීම ආරම්භ කොට එය ද කෙටි කලකින් ඉගෙනීමට උන්වහන්සේ සමත් වූහ. එහි ඉගෙනගන්නා කාලයේ දී ආනන්ද විද්‍යාලයේ සිසුන්ට පාලි ඉගැන්වීමට

ද අවස්ථාවක් ලැබුණු අතර එහි ප්‍රතිඵලයක් ලෙස වර්තමානයේ පිරිවෙන් හා විශ්වවිද්‍යාල ක්ෂේත්‍රයන්හි බහුල ලෙස ව්‍යවහාර කෙරෙන පාලි ඉගෙනීමට ඇති මාහැඟි පාඨ ග්‍රන්ථයක් වූ '**පාලිභාෂාවතරණය**' 1923 දී රචනා විය. ඉන්පසු 1925 දී **පාලිභාෂාවතරණය** II පොත ද, 1927 දී **පාලිභාෂාවතරණය** III පොත ද, 1926 දී **පාළිපාඨාවලී** පොත ද ලියා ඇත. ලක්දිවින් බුරුමයට උපසම්පදාව රැගෙන යාම පිළිබඳව විස්තරය සඳහන් වන **කල්‍යාණිශිලාලිපිය** 1924 දී සිංහල අනුවාදයක් සමග මුද්‍රණය කළහ. ඉංග්‍රීසි භාෂාව හැසිරවීම පිළිබඳ ලබාගත් නිපුණත්වයෙන් පසු මුල් ම යුරෝපීය ගමන ලෙස 1926 දී ස්විස්ටර්ලන්තයට වැඩම කළ අතර අපරදිග රටවල ධර්මප්‍රචාරය කිරීම සඳහා **ශ්‍රීමත් අනගාරික ධර්මපාලතුමා** ඇතුළු විවිධ අයගෙන් ආරාධනාවන් ලද ද එයට වැඩි කැමැත්තක් නොදැක්වී ය. එහෙත් **රීස් ඩේවිඩ්ස්** මැතිතුමා, මැතිනිය, **අයි. බී. හෝනර්** මැතිනිය, **විල්හෙල්ම් ගයිගර්, ඊ. ජේ. තෝමස්** වැනි බටහිර උගතුන් සමීපව ඇසුරු කරමින් තම ඥානගවේෂණය ලෝකයාට ද විවෘත කර දුන්හ.

1952 වසරේ සිට ලංකා විශ්වවිද්‍යාලයේ ආචාර්යවරයෙක් ලෙස ද කටයුතු කළහ. උන්වහන්සේ පෙළ අටුවා ටීකාදිය හදාරමින් වටිනා ග්‍රන්ථ සම්පාදනය කළා සේ ම ශාසනික හා ජාතික වශයෙන් උද්ගත වූ විවිධ අර්බුදවල දී ඒවාට ද ඉදිරිපත් වූහ. ජාතික සංඝ සම්මේලනය ඇතුළු එකල පැවති බොහෝ ජාතික හා ආගමික වැදගත්කමක් ඇති සමිති සම්මේලනවල දී මුලසුන දරමින් ඒවාට නායකත්වය ලබාදුන්හ. ලංකාව පුරා විවිධ පළාත්වලට වැඩම කරවමින් දහස් ගණනක් ධර්මදේශනා පවත්වා ඇත. 2500 බුද්ධජයන්තිය නිමිති කරගෙන ලෝකවාසී බහුශ්‍රැත භික්ෂූන් වහන්සේලාගේ සහභාගිත්වයෙන් බුරුමයේ පැවැත්වූ **ඡට්ඨසංගායනාව** සඳහා පොල්වත්තේ බුද්ධදත්ත නාහිමි වැඩම කළ අතර, එම සංගායනාවේ සුවිශේෂී කාර්යභාරයක් ඉටු කළහ. ලංකාව නියෝජනය කරමින් එම ධර්මසංගායනාවේ ප්‍රධාන කර්තෘමණ්ඩලයේ ක්‍රියා කළ අතර, විනය පිටකය භාරව සිටියේ ද උන්වහන්සේ ය. 1954 වර්ෂයේ දී උන්වහන්සේට බුරුම රජයෙන් ශ්‍රී ලාංකීය භික්ෂුවකට පිරිනැමෙන ඉහළ ම ගෞරව සම්මානය වන '**අග්ගමහාපණ්ඩිත**' උපාධිය පිරිනැමුණු අතර, එම උතුම් සම්මානයෙන් පුද ලද පළමු ශ්‍රී ලාංකික භික්ෂූන් වහන්සේ වනුයේ පොල්වත්තේ නාහිමියෝ ය. උන්වහන්සේ විසින් රචිත සිය ගණනක් ග්‍රන්ථ අතුරින් **කල්‍යාණවංශනිකාය** I, II, III, **කල්‍යාණශාසනවංශය, පාළිවාක්‍යවිවේචනය,** The New Pali Cource I, II The New Pali Cource, **හියුංසියං භ්‍රමණවෘත්තාන්තය, පාලිවාක්‍යරචනාව** හා **පරිවර්තන පරිචය, පඨමපාඨාවලී, ථෙරවාදී බෞද්ධාචාර්යයෝ, භාරතීය බෞද්ධාචාර්යයෝ, සමීපාතීතයෙහි බෞද්ධාචාර්යයෝ, පාළි සිංහල අකාරාදිය, පාලි සාහිත්‍යය** හා **ත්‍රිපිටකසූචිය,** ආදි ග්‍රන්ථ කිහිපයකි. 1962 වසරේ උන්වහන්සේ අපවත් වන විට අමරපුර ශ්‍රී කල්‍යාණවංස මහානිකායේ මහානායක පදවිය හෙබවූහ. පාලි භාෂාවේ හා සාහිත්‍යයේ උන්නතිය වෙනුවෙන් උන්වහන්සේ සිදුකළ උදාර සේවය වෙනුවෙන් මෙකල පමණක් නොව මත්තෙහි ද උන්වහන්සේ සම්භාවනට පාත්‍ර වනු ඇත.

**අභ්‍යාස**

01. කෙටි පිළිතුරු ලියන්න.

i. බුද්ධදත්ත නාහිමියන්ගේ පැවිදි ආචාර්ය උපාධ්‍යායයෝ කවරහු ද?
ii. උන්වහන්සේ බුරුමයට යෑමට පෙර සම්පූර්ණයෙන් කටපාඩම් කොට තිබූ පොත් මොනවා ද?
iii. බුරුමයේ දී උන්වහන්සේ වැඩසිටි විහාරයේ නම කුමක් ද? එය පිහිටා තිබුණේ කොහි ද?
iv. බුද්ධදත්ත නාහිමි ලියූ මුල්ම කෘතිය කුමක් ද?
v. එවිට උන්වහන්සේගේ වයස කීය ද?
vi. උන්වහන්සේ බුරුමයේ දී ලියූ පාලි පොත් දෙකක නම් ලියන්න.
vii. කළුවරේ සිට අභිධර්මය උගන්වන ක්‍රමවේදය හඳුන්වන්නේ කිනම් නමකින් ද?
viii. බණ අසනවිට ඉඳින ආකාරය පිළිබඳ ව විස්තර කොට ලියූ පොත කුමක් ද?
ix. 'හෙ සිරිමාවාදය' නැමැති පොත ලිවීමට හේතුව කුමක් ද?
x. පාලි භාෂාව නඟා සිටුවීමට උන්වහන්සේ ලියූ ග්‍රන්ථ 5ක නම් පාඩමෙන් තෝරා ලියන්න.

02. පොල්වත්තේ ශ්‍රී බුද්ධදත්ත නාහිමියන්ගේ චරිතයෙන් ගත හැකි ආදර්ශ පිළිබඳ ව වාක්‍ය රචනයක් ලියන්න.

## මහාචාර්ය තෝමස් විලියම්ස් රීස් ඩේවිඩ්ස් මැතිතුමා



1843 මැයි 12 වැනිදා එංගලන්තයේ **කොල්චෙස්ටර්හි** දී උපත ලබා ලංකාවට පැමිණ **1864** වර්ෂයේ දී ඉංග්‍රීසි ආණ්ඩුවේ සිවිල් සේවයට බැඳුණු යුරෝපීය ජාතිකයෙක් පසුව නීතිඥයෙකු ලෙස කටයුතු කළේය. මෙකල ගාල්ලේ එක්තරා විහාරයක දේපලක් සම්බන්ධ නඩුවක සාක්ෂි විමසීමට ඔහුට සිදුවිය. එහි දී එම නඩුවේ සාක්ෂියක් ලෙස එක්තරා පාලි ලියවිල්ලක් අධිකරණය හමුවේ ඉදිරිපත් විය. එම පාලි ලියවිල්ල කියවා අර්ථ දැක්වීමට තරම් සමතෙකු එම අධිකරණ ශාලාවේ නො සිටියේ ය. ඒ අවස්ථාවේ මෙම අපූරු බස කුමක් දැයි සොයා බලා එම ලියවිල්ල තමන් ම කියවා අරුත් දැනගැනීමේ අදහසින් පාලි බස ඉගෙනීමට පටන් ගත්තේ ය. එම ඉගෙනීම කෙතරම් දුර ගියා දැයි කියතොත් අවසානයේ පාලි භාෂාවේ උරුමකරුවන්ටත් පාලි ඉගැන්වීමට තරම් හේ සමතෙක් විය. යුරෝපය පාලි සාහිත්‍යෝදයේ පෙරගමන්කරු වූ ඔහු අන් කවරෙකු නොව **තෝමස් විලියම්ස් රීස් ඩේවිඩ්ස්** මැතිතුමා ය.

රීස් ඩේවිඩ්ස් සිවිල් සේවයේ යෙදෙමින් පාලි අධ්‍යයනය ආරම්භ කළේය. එහිදී එකල ලක්දිවට පමණක් නොව ථේරවාද බෞද්ධ ලෝකයට ම නායක වූ කොළඹ මාලිගාකන්ද **විද්‍යෝදය** පරිවෙණාධිපති, ත්‍රිපිටකවාගීශ්වරාචාර්ය, අතිපූජ්‍ය **හික්කඩුවේ ශ්‍රී සුමංගලාභිධාන** නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ සහ **යාත්‍රාමුල්ලේ ධර්මාරාම** හිමි ආදි අතිසම්භාවනීය උගතුන්ගෙන් වර්ෂ 08කින් පාලි භාෂාව ඉගෙනීමට ඔහුට හැකි විය. යාත්‍රාමුල්ලේ මාහිමි ඔහුට පාලි ඉගැන්වීම සඳහා දිනපතා සැහෙන දුරක් පයින් ම වැඩම කොට ඇත.

පාලි භාෂාව පිළිබඳ අසීමිත ලැදියාවක් ඔහු තුළ ඇති වූ අතර, ඒ නිසා ම පාලි බස ගැඹුරින් හැදෑරීමෙන් පසු බුදුදහම කෙරෙහි ඔහුගේ සිත තදින් ඇදී ගියේ ය. පසුව ඔහු සිවිල් සේවයෙන් ඉවත්ව එංගලන්තයට ගියේ ය. එංගලන්තයට ඔහු යන විටත් පාලි බස හා බුදුදහම පිළිබඳ යුරෝපීය උගත්තු දැන සිටියහ. **ඉයුජින් බර්නොෆ්** හා **මහාචාර්ය ලැසන්** 1826 දී පාළි භාෂාව ගැන ලිපියක් ලියා තිබුණු අතර, 1837 දී **ටර්නර්** පඬිවරයා මහාවංශය ගැන සංයුක්ත සංස්කරණයක් හා පරිවර්තනයක් පළකොට තිබුණි. එසේම ලංකාවේ සිට ගිය **ආර්. සී. චිල්ඩර්ස්** පාළි අකාරාදියේ වැඩ කටයුතු ආරම්භ කොට තිබුණි. ඩෙන්මාර්ක් ජාතික **වී. පොස් බෝල්** විසින් පාළියෙන් හා ලතින් භාෂාවෙන් ධම්මපදය ප්‍රසිද්ධ කොට තිබුණි. මේ අයුරින් එවක ප්‍රකටව සිටි ආසියානු භාෂා හා දර්ශන පිළිබඳ ශාස්ත්‍රඥයන්ගේ ඇසුර යුරෝපයේ දී රීස් ඩේවිඩ්ස්ට ලැබුණි. පසුකාලීනව එතුමා විසින් සිදු කළ පාළිභාෂාවේත් බුදුදහමේත් උන්නතියට එය මහත් පිටුබලයක් විය.

රීස් ඩේවිඩ්ස්ගේ මුල් ම පොත වූයේ 1877 දී ලියන ලද '**ලංකාවේ පැරණි කාසි හා මැනීම් ක්‍රම**' යන්නයි. එසේම 1878 දී '**බුද්ධධර්ම සංග්‍රහය**' නමින් කුඩා පොතක් ලියා පළ

කරන ලද අතර එය ක්‍රිස්තියානි නොවන ආගම් ගැන ක්‍රිස්තියානි ලබ්ධිකයන්ගේ දැනුම වැඩි දියුණු කර ගැනීම සඳහා ලියන ලද්දකි. එම කුඩා ග්‍රන්ථය ශාස්තෘන් වහන්සේගේ ජීවිතයත්, ධර්මයත් පිළිබඳව එතෙක් සොයාගත හැකිව තිබූ සියලු පාලි කරුණු පදනම් කොට ගෙන සංඝ සමාජය හා ත්‍රිපිටකය ගැන ද කෙටි සටහනක් ඇතුළත් කොට ලියන ලද්දකි. ධර්මය පිළිබඳව ඔහු තුළ පැවැති අසාමාන්‍ය වූත් පැහැදිලි වූත් දැනීම මේ කුඩා ග්‍රන්ථයෙන් පිළිබිඹු වේ. 1880 දී **'බෞද්ධ ජාතක කථා'** යන නමින් ඔහු පළ කළ ග්‍රන්ථය ජාතක නිදාන කථාව පිළිබඳ ඉතා වැදගත් ප්‍රස්තාවනාවකින් හා පරිවර්තනයකින් ද යුක්ත වේ. මේ ග්‍රන්ථය බටහිර උගතුන් විසින් හඳුන්වා ඇත්තේ **මහාචාර්ය ඊ.බී. කොබල්ගේ** සංස්කාරකත්වය ඇතිව කලාප හයකින් **'ජාතක කථා'** යන නමින් **පෝස් බොල්** විසින් ලියන ලද සම්පූර්ණ ජාතක පරිවර්තනයට ලියූ ප්‍රස්තාවනාවක් ලෙසින් ය. මේ කාලවකවානුවේ **'පෙරදිග ශුද්ධ ග්‍රන්ථ'** යන නමින් **මහාචාර්ය මැක්ස් මුලර්ගේ** නායකත්වයෙන් ග්‍රන්ථමාලාවක් සම්පාදනය කිරීම ආරම්භ කොට තිබුණි. ඒ සඳහා රීස් ඩේවිඩ්ස් ද **'බෞද්ධ සූත්‍ර'** නමින් කෘතියක් පළ කළේය. ඉන්පසු 1881 - 1885 අතර කාලයේ දී **හර්මන් ඕල්ඩන් බර්ග්ගේ** සහාය ද ඇතිව **'විනය ග්‍රන්ථ'** නමින් කලාප තුනක් ම පෙරදිග ශුද්ධ ග්‍රන්ථ මාලාවේ පළ කළ අතර, එහි ලා **පාතිමොක්ඛය, මහාවග්ග පාළි** හා **චුල්ලවග්ග පාළි** යන ග්‍රන්ථ ඉංග්‍රීසි බසට නැගුවේ ය. මීට අමතරව 1884 දී **දාඨාවංසය** සංස්කරණය කිරීමත්, **මිලින්දපඤ්හය** වෙළුම් දෙකකින් යුතුව පරිවර්තනය කිරීමත්, **අභිධම්මත්ථසංගහය** සංස්කරණය කිරීමත්, පාලි භාෂාව පිළිබඳ මහාචාර්යවරියක් වූ සිය බිරිඳ රීස් ඩේවිඩ්ස් මැතිනිය සමඟ එක්ව **දීඝනිකාය** පළමු වෙළුම ප්‍රකාශයට පත්කිරීමත් **රීස් ඩේවිඩ්ස්** මැතිතුමාගේ ශාස්ත්‍රීය සේවයට ඇතුළත් වේ.

අද දක්වා ම පාලි සාහිත්‍යයේ අභිවෘද්ධියට ඉමහත් සේවයක් සලසන **පාලි ග්‍රන්ථ සමිතිය** (Pali Text Society) ආරම්භ කිරීමේ වැදගත්කම 1881 දී ඇමෙරිකාව පවත්වන ලද **හිබර්ට්** දේශනයක දී අවධාරණය කරන ලද අතර එහි දී ඔහු වැඩිදුරටත් කියා සිටියේ ඒ වන විට මුද්‍රණද්වාරයෙන් පිට නොවී, යුරෝපයේ විශ්වවිද්‍යාලවලත් වෙනත් මහජන පුස්තකාලය ප්‍රයෝජනයට ගැනීමක් නැතිව විවිධ අත්පිටපත් වශයෙන් විසිර පවත්නා පැරැණි බෞද්ධ සාහිත්‍යය සියලු දෙනාට හැදෑරීමට ඒවා රෝමන් අකුරෙන් මුද්‍රණය කළයුතු බවයි. රිස් ඩේවිඩ්ස්ගේ මෙම වැඩ පිළිවෙල ප්‍රංශය, ඕලන්දය, ජර්මනිය, එක්සත් ජනපදය යන රටවල සම්භාවනීය උගතුන් විසින් සාදරයෙන් පිළිගන්නා ලද අතර මුලින් ම සමිතිය සඳහා පත් කරගන්නා ලද කමිටුවේ සාමාජිකයන් ලෙස වී. **පොස් බෝල්, හර්මන් ඕල්ඩන් බර්ග්, රිචඩ් මොරිස්, එමිලි සෙනාර්ට්** යන උගත්හු ඇතුළත් වූහ. මෙම පාලි ග්‍රන්ථ සමාගම සඳහා බටහිරින් මෙන්ම ශ්‍රී ලංකාවෙන් ද සුවිශේෂී සහයෝගයක් ලැබුණි. එකල ශ්‍රී ලංකාවේ වැඩ සිටි **හික්කඩුවේ ශ්‍රී සුමංගල නාහිමි, වස්කඩුවේ ශ්‍රී සුභූති නාහිමි, දොඩන්දූවේ ශ්‍රී පියරතනතිස්ස නාහිමි** වැනි ප්‍රබුද්ධ භික්ෂූන් වහන්සේලා මේ කටයුත්තට තම වටිනා අදහස් හා යෝජනා ලබාදුන්හ. එසේම ලාංකීය භික්ෂූන් වහන්සේලා සහ **අනගාරික ධර්මපාලතුමා** වැනි ගිහි ප්‍රභූවරු මූල්‍යාධාර ද ලබාදුන් අතර එකල පාලි ග්‍රන්ථ සමිතියේ සාමාජික මණ්ඩලයේ නිත්‍ය සාමාජික තනතුරක් ශ්‍රී ලංකාවට ද හිමිව තිබුණි. රීස් ඩේවිඩ්ස් මැතිතුමා විසින් සමාරබ්ධ මෙම පාලි ග්‍රන්ථ සමිතිය ඉටු කරන ලද මෙහෙය සුළුපටු නොවේ. ඉන් සිදු වූ සේවාවන් අතර,

■ සියලු පාලි නිකාය ග්‍රන්ථ, අටුවා හා ප්‍රකරණ ග්‍රන්ථ සමගින් සංස්කරණ කිරීම.

■ වෙළුම් 58 කින් යුත් ත්‍රිපිටකයේ සම්පූර්ණ ඉංග්‍රීසි පරිවර්තනයක් කිරීම.

■ ආචාර්ය **විලියම් ස්ටීඩ්ගේ** සම්පූර්ණ සහායෙන් දිගු කලක් තිස්සේ කරන ලද උත්සාහයකින් පසුව 1921 දී පාලි ඉංග්‍රීසි ශබ්දකෝෂයේ පළමු කොටස එළිදැක්වීම.

■ පාලි ත්‍රිපිටක කෝෂය එළිදැක්වීම. (Pali Tipitaka Concordance)

■ පාලි පුද්ගල නාම ශබ්දකෝෂය එළිදැක්වීම. (Dictionary of Pali Proper names)

රීස් ඩේවිඩ්ස් මහතා වසර 41 ක් පාලි ග්‍රන්ථ සමිතියේ කටයුතු වෙනුවෙන් සිය ජීවිතය කැප කළේය. තම කාර්යය සඵල කර ගැනීම සඳහා සෙසු අය පොළඹවා ගැනීමේ සුවිශේෂී දක්ෂතාවකින් යුතු එතුමා සංගමය සඳහා මුදල් එකතු කිරීමත්, මුදල් පාලනයත්, මුද්‍රණ කටයුතු සඳහා මුද්‍රණ ආයතන සමග ගනුදෙනු කිරීමත් එතුමා විසින් සිදුකරන ලදී. වර්ෂ 1882 දී එතුමා ලන්ඩන් විශ්වවිද්‍යාලය කොලීජියෙහි පාලි මහාචාර්යවරයා වූ අතර එය ගරු පදවියක් විය. ඊට නොබෝ කලකට පසු 1885 - 1904 කාලයේ හෙතෙම **රාජකීය ආසියාතික සමිතියේ** පුස්තකාලයාධිපති තනතුරට ද ලේකම් තනතුරට ද පත්විය. එම කාලවකවානුවේ දී එම සමිතියේ වැඩ කටයුතුවලට හා එහි පැවැත් වූ විවාදයන්ට අලුත් මුහුණුවරක් ලබාදුන්නේ ය. ඔහුගේ ප්‍රධානත්වය යටතේ එම සමිතියෙන් සිදු කළ පරිවර්තන මාලාව හා නිබන්ධන මුද්‍රණය කොට ප්‍රසිද්ධ කළේය. මේ සමයෙහි ම **බ්‍රිටිෂ් ඇකඩමි** හා **පෙරදිග හා අප්‍රිකානු අධ්‍යයන ආයතනයේ** (School of Oriental and African Studies) ආරම්භක සාමාජිකයෙකු වූ අතර, 1904 දී **මැන්චෙස්ටර්හි වික්ටෝරියා විශ්වවිද්‍යාලයේ** සමයාන්තර අධ්‍යයන විෂය සඳහා මහාචාර්යවරයා ලෙස පත් කරනු ලැබීය. ඔහුගේ මෙම තනතුරුවලින් බටහිර ලෝකය තුළ පාලි භාෂාව හා ථෙරවාද බෞද්ධ දර්ශනය ජනප්‍රිය විය.

ඉගෙනීමෙන් හා පාණ්ඩිත්‍යයෙන් පරිපූර්ණව සිටිය ද කිසිකලෙක හෙතෙම පණ්ඩිත මානයෙන් හිස උදුම්වා නො ගත්තේ ය. සිය දැනුම ශිෂ්‍යයන් සමග බෙදාගනිමින් ඔවුන්ගේ උත්සාහයන්ට වටිනාකමක් දීමට නිරතුරු කටයුතු ද කළේය. රීස් ඩේවිඩ්ස්ට සිය ජීවිත කාලය මුළුල්ලේ ම එක් උදාර අදහසක් විය. එනම් '**අප ඉක්මවා යෑමට අනුන්ට හැකියාව ලබාදීම සඳහා ඔවුන්ට අප විසින් දිය හැකි සියලු ධෛර්යය දිය යුතු**'යැයි ඔහු පිළිගෙන තිබුණි. ඔහු ලංකාවේ සිට නැවතත් එංගලන්තයට යන විට **මහාවංසය** පිළිබඳ කරුණු එක්රැස් කොට ගෙන ගියේ ග්‍රන්ථයක් පළ කිරීමේ අදහසිනි. ඒ වන විටත් ආචාර්ය එච්. ඕල්ඩන්බර්ග් ලන්ඩන් නුවර ඉඳිමින් මහාවංස පරිවර්තන කාර්යය සිදු කරමින් සිටියේ ය. ඒ බව දැනගත් රීස් ඩේවිඩ්ස් ශ්‍රීමතාණෝ තමන් ළග පැවැති සියලු තොරතුරු ඔහු වෙත ලබා දුන්නේ ය. මෙය ඔහුගේ පුදුම පරිත්‍යාග ගුණයට එක් උදාහරණයකි.

1910 දී ඔහු අලුතින් ගොඩනැගූ **ඉන්දියානු සමිතියේ** සභාපති විය. ඒ සමිතිය මගින් ද විවිධ දේශන මෙන්ම විවිධ පර්යේෂණ ලිපි ලියා විද්වත් ලෝකයට ප්‍රදානය කළ අතර, ඇතැම් විට කිසිදු උදව්වක් නැතිව තනියම ශාස්ත්‍රීය කටයුතු කරගෙන ගියේ ය. කැරොලින් ඔගස්ටා පොලී සමග විවාහ වීමෙන් පසු දරුවන් තිදෙනෙකුගේ පියා වූ රීස් ඩේවිඩ්ස් මැතිනිය ද පාලි හා බෞද්ධ අධ්‍යයනය පිළිබඳ විශාරද දැනුමක් ලබා සිටි තැනැත්තියකි. ඔහුගේ ශාස්ත්‍රීය කටයුතුවලට ඇගෙන් ද උදව් ලැබුණි. ඔහුගේ කීර්තිය නිසා විශාල සංඛ්‍යාවක් උගත්තු ඔහු හා සම්බන්ධකම් පවත්වන්නට වූහ. මේ නිසා බුදුදහම විවරණය කිරීමේ අවස්ථා ද වැඩි දියුණු විය. ජීවිතයේ අවසාන මොහොත දක්වා ම මනා සිහියෙන් යුතුව කටයුතු කළ හෙතෙම සිය ජීවන ගමනේ 79 වන විය පසුකරත් ම **1922 දෙසැම්බර් 27** වැනි දා පරලෝ සැපත් විය.

**අභ්‍යාස**

i. රීස් ඩේවිඩ්ස් ශ්‍රීමතාණෝ උපත ලද්දේ කොහි ද?
ii. ඔහු පාලි බස ඉගෙනීමට හේතු වූ සිද්ධිය කුමක් ද?
iii. ලක්දිව දී ඔහුට පාලි බස ඉගැන්වූ ගුරුවරුන් දෙදෙනෙකුගේ නම් ලියන්න.
iv. ඔහු විසින් ලියන ලද 'බුද්ධ ධර්ම සංග්‍රහය' ග්‍රන්ථයේ ඇති වැදගත්කම කුමක් ද?
v. 'පෙරදිග ශුද්ධ ග්‍රන්ථ මාලාව'ට ඔහු ලියූ මුල්ම කෘතිය කුමක් ද?
vi. රීස් ඩේවිඩ්ස් විසින් පරිවර්තනය කළ කෘති 03ක් හා සංස්කරණය කළ කෘති 03ක් ලියන්න.
vii. 'පාලි ග්‍රන්ථ සමිතිය'(P.T.S) ආරම්භ කිරීමේ වැදගත්කම මුල්වරට අනාවරණය කරන ලද්දේ කොහිදී ද?
viii. ඔහු මහාචාර්ය ධූර දැරුවේ කිනම් විශ්වවිද්‍යාලයන්හි ද?
ix. සිය ජීවිත කාලය තුළ ඔහු දැරූ උදාර අදහස පාඩමෙන් උපුටා ලියන්න.
x. 'මහාවංශය' පිළිබඳ ඔහු එකතු කළ තොරතුරු ලබාදුන්නේ කාටද?
xi. ඔහු පුස්තකාලයාධිපති හා ලේකම් තනතුර දැරුයේ කිනම් සමිතියේ ද?
xii. P.T.S පාලි පොත් සමාගම මගින් සිදු කළ ප්‍රධාන ශාස්ත්‍රීය සේවාවන් 03ක් ලියා දක්වන්න.

# පණ්ණරසමො පාඨො

# උදානපාළි

බුදුරජාණන් වහන්සේ විසින් පන්සාළිස් වසක් මුළුල්ලෙහි දේශනා කළ බුද්ධවචනය, මුල් ම අවධියේ දී 'ධම්ම' යන වචනයෙන් හඳුන්වනු ලැබී ය."**ධම්මචක්කං පවත්තෙතුං ගච්ඡාමි කාසිනං පුරං**'', "**දෙසෙථ භික්ඛවෙ ධම්මං ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං.**" යනාදි දේශනාවලින් ඒ බව ප්‍රකට වේ. පසුව විනය ශික්ෂා පැනවීමත් සමග බුද්ධවචනය **ධම්මවිනය**" යන වචනයෙන් හඳුන්වා ඇත. "**ධම්මො ච විනයො ච දෙසිතො පඤ්ඤත්තො සො වො මමච්චයෙන සත්ථා**'', "**ඉදානි මයං ධම්මං ච විනයං ච සඞ්ගායෙය්‍යාම**" යනාදි දේශනාවලින් එය සනාථ වේ. බුද්ධපරිනිර්වාණයෙන් පසු ශාසනභාරධාරී මහතෙරවරු ධර්මය සංගායනා කොට **සූත්‍ර**, **විනය**, **අභිධර්ම** යනුවෙන් පිටකත්‍රයකට බෙදූහ. මේ පිටකත්‍රය දේශනාව අනුව විශේෂ නම් තුනකින් හඳුන්වනු ලබයි.

| | | |
|---|---|---|
| **සූත්‍ර පිටකය** | - | **වොහාර දෙසනා** |
| **විනය පිටකය** | - | **ආණා දෙසනා** |
| **අභිධර්ම පිටකය** | - | **පරමත්ථ දෙසනා** |

වශයෙනි.

මෙම දේශනාව මහරහත් උතුමන් විසින් මහත් පරිශ්‍රමයෙන් පරපුරින් පරපුරට වනපොත් කොට ගෙන ගෙන එන ලදී. බුද්ධ පරිනිර්වාණයෙන් වසර 440 ක් ගිය තැන **වළගම්බා රාජ්‍ය** සමයේ **මාතලේ අළුවිහාරයේ** දී බුද්ධවචනය පුස්තකාරූඪ කරන ලද්දේ මතු ඇතිවන උපද්‍රවයන් වළකාලනු සඳහා ය. එසේ සංග්‍රහ කළ ඒ ඒ පිටකයන්ට අයත් ග්‍රන්ථ සංග්‍රහය පහත සඳහන් පරිදි වේ.

**බුද්ධ වචනය**

- **සූත්‍ර පිටකය**
  - දීඝනිකාය
  - මජ්ඣිමනිකාය
  - සංයුත්තනිකාය
  - අංගුත්තරනිකාය
  - ඛුද්දකනිකාය
    - ඛුද්දකපාඨ
    - ධම්මපද
    - උදාන
    - ඉතිවුත්තක
    - සුත්තනිපාත
    - විමානවත්ථු
    - පෙතවත්ථු
    - ථේරගාථා
    - ථේරීගාථා
    - ජාතක
    - නිද්දෙස
    - පටිසම්භිදාමග්ග
    - අපදාන
    - බුද්ධවංස
    - චරියාපිටක
- **විනය පිටකය**
  - පාරාජිකපාළි
  - පාචිත්තියපාළි
  - චුල්ලවග්ගපාළි
  - මහාවග්ගපාළි
  - පරිවාරපාළි
- **අභිධර්ම පිටකය**
  - ධම්මසඞ්ගණී ප්‍රකරණය
  - විභඞ්ග ප්‍රකරණය
  - ධාතුකථා ප්‍රකරණය
  - පුග්ගලපඤ්ඤත්ති ප්‍රකරණය
  - කථාවත්ථු ප්‍රකරණය
  - යමක ප්‍රකරණය
  - පට්ඨාන ප්‍රකරණය

## ඛුද්දක නිකාය හා උදාන පාළි

> **"ඨපෙත්වා චතුරොපෙතෙ - නිකායෙ දීඝමාදිකෙ,**
> **තදඤ්ඤං බුද්ධවචනං - නිකායො ඛුද්දකො මතො"**

යන විග්‍රහයට අනුව **දීඝනිකාය, මජ්ඣිමනිකාය, සංයුත්තනිකාය, අඞ්ගුත්තරනිකාය** යන ප්‍රධාන නිකාය ග්‍රන්ථ හතරෙහි ඇතුළත් නොවූ ධර්ම කොට්ඨාස ඛුද්දකනිකාය නම් වෙයි.

ග්‍රන්ථ පහළොවකින් පරිමිත ඛුද්දකනිකායේ තෙවන ග්‍රන්ථය උදානපාළිය යි. අටුවාවෙහි උදාන යන්න විග්‍රහ වන්නේ **"කෙනට්ඨෙන උදානං? උදානට්ඨෙන උදානං. කිමිදං උදානං නාම? පීතිවෙගසමුට්ඨාපිතො උදාහාරො"** යනුවෙනි. ඒ අනුව උදානාර්ථයෙන් උදාන නම් වෙයි. උදාන නම් ප්‍රීතිවේගයෙන් නඟාලූ වචනය යි.

බුද්ධඝෝෂ තෙරුන් "**සොමනස්සඤාණමයිකගාථාපටිසංයුත්තා දෙවෙඅසීති සුත්තන්තා උදානන්ති වෙදිතබ්බං.**" යනුවෙන් කීහ. ඒ අනුව සොම්නස හා එක්වූ ඥානය සම්බන්ධ වූ ගාථාවන්ගෙන් යුක්ත 82 ක් වූ සූත්‍ර උදානය යි දතයුතු ය. තවද සොම්නස හා ඤාණය තුළින් ප්‍රභව වූ ගාථා සහිත සූත්‍ර උදාන නම් වෙයි. උදානපාළියට අර්ථකථාවක් සම්පාදනය කළ **භදන්තාචරිය ධම්මපාල** හිමියෝ උදාන යන්නෙහි අර්ථ විස්තරය මෙසේ දක්වති. " මුවින් ඉතිරී ගිය වචනය උදාන නම් වන්නේ ය. ඉතිර යැමෙහි හේතුව ප්‍රීතිසෝමනස්සය යි. ධර්මසංවේගාදිය ද හේතු වෙයි. ප්‍රීතිසෝමනස්සය නිසා වේවයි ධර්ම සංවේගය නිසා වේවයි මුවින් ඉතිර ගිය ගිළිහෙන යම් තෙපුලක් ඇද්ද එය උදාන වශයෙන් සැලකිය යුතු ය. තෙල් ආදිය භාජනයකට දැමූ විට නියමිත ප්‍රමාණය ඉක්මවා යනවිට උතුරා යයි. මෙසේ ප්‍රීතිවේගය මගින් මතු කරවන චින්තනයේ පැතිරීම ඇතුල් හදවතට දරාගත නොහැකි වූ විට වචන මාර්ගයෙන් පිටවේ. එහිදී අසන්නෙකු ගැන අවධානයක් යොමු නො වේ. මෙබඳු ප්‍රකාශන උදාන නම් වෙයි." තවද උදාන **බුද්ධභාෂිත, ශ්‍රාවකභාෂිත, ප්‍රත්‍යෙකබුද්ධභාෂිත** යැයි තෙවදෑරුම් වේ. පච්චෙකබුද්ධ උදාන ඛග්ගවිසාණ සූත්‍රයේ එයි. ශ්‍රාවක භාෂිත උදාන ථෙර-ථෙරීගාථාවන්හි එයි. උදානපාළියෙහි සඳහන් වන්නේ සම්‍යක් සම්බුද්ධයන් වහන්සේගේ උදානයෝ ය.

උදානපාළිය වර්ග 8 කින් හා සූත්‍ර 82 කින් යුක්ත ය. උදානයේ 82 ක් ඇති බව කියන නමුදු උදානපාළියෙහි ඇත්තේ අසූවක් පමණි. ඒ ඒ වර්ග හඳුන්වා ඇත්තේ ප්‍රථම සූත්‍රයේ නාමයෙන් හෝ වැදගත්කමින් උසස් ම සූත්‍ර සංග්‍රහ වන සූත්‍ර නාමයෙනි. ඒ වර්ග අට මෙසේ ය.

**බොධිවග්ග**
**මුචලින්දවග්ග**
**නන්දවග්ග**
**මෙඝියවග්ග**
**සොණවග්ග**
**ජච්චන්ධවග්ග**
**චූලවග්ග**
**පාටලීගාමියවග්ග**

මූලික පිරිවෙන් 5 ශ්‍රේණියට නියමිත කර ඇත්තේ බෝධිවර්ගයේ 8 වන **සංගාමජි සූත්‍රය,** මුචලින්දවර්ගයේ 6 වන **ගබ්භිනී සූත්‍රය** හා නන්දවග්ගයේ 3 වන **නන්ද සූත්‍රය** යි.

## උදානපාළියේ අන්තර්ගතය

උදානපාළිය ධර්මකරුණුවලට වඩා සිද්ධිවලට ප්‍රමුඛතාව දෙන කෘතියකි. ඒ ඒ උදාන ගාථාවන්ට පාදක වූ ධර්ම කරුණු ඊට සම්බන්ධ කථා වස්තුව ආශ්‍රයෙන් මෙහි පැහැදිලි කෙරේ.

පළමුවන බෝධිවර්ගයේ පඨමාභිසම්බෝධි සමයෙහි කරුණු කිහිපයක් විස්තර වේ. බුදුන් වහන්සේ පටිච්චසමුප්පාදය මෙනෙහි කිරීම ආදි පුවත් මෙහි ඇතුළත් ය. අවසාන සූත්‍රයේ දාරුචීරිය කථාපුවත විස්තර වේ. බ්‍රාහ්මණධර්ම පිළිබඳ ව උදානයන්ගෙන් විස්තර වෙයි.

**දෙවන මුචලින්දවර්ගයේ** බුද්ධත්වයෙන් පසු අකාලමේඝයක් පැමිණි අවස්ථාවක මුචලින්ද නාරජු බුදුරදුන්ට ආරක්ෂාව සැලසූ අයුරු විස්තර වේ. කොසොල් රජු හා මගධ රජු අතර වූ සාකච්ඡාව **රාජ සූත්‍රයේ** ද බුදුසසුන පිහිටුවීමෙන් පසු අන්‍ය තීර්ථකයන් ලාභසත්කාරවලින් පිරිහීම පිළිබඳ ව **සක්කාර සූත්‍රයේ** ද එක්තරා පිරිවැජියෙක් ගර්භිනී වූ බිරිය සඳහා ගිතෙල් ලබා ගැනීමට ගොස් සිදු වූ සිද්ධියක් **ගබ්භිනී සූත්‍රයේ** ද මහණකමෙහි සුවය රජසැපවල ද නැති බව **භද්දිය සූත්‍රයේ** ද දැක්වේ.

**තෙවන නන්දවර්ගයේ** ඇතුළත් **නන්ද සූත්‍රය** බුදුරදුන්ගේ සහෝදර වූ නන්ද තෙරුන් මුල දී මහණකමෙහි නොඇලී සිටි අයුරුත්, පසුව බුදුරජ විසින් එය දුරුකළ සැටිත් විස්තර වේ. **යසොජ සූත්‍රයේ** යසෝජ තෙරුන් ප්‍රමුඛ 500ක් රහතුන් ගැන කියවේ. මෙහි කියවෙන උදානයන්ගෙන් භික්ෂුවකගේ ගුණාංග විස්තර වේ.

සිවුවන **මේඝියවර්ගයේ** බුද්ධෝපස්ථායක මේඝිය තෙරුන් භාවනාවකට ගොස් නැවත පැමිණීමේ සිද්ධියක් විස්තර වේ. **ජුණ්හ සූත්‍රයේ** සැරියුත් තෙරුන්ට ටොක්කක් ඇණ යක්ෂයෙකු පණපිටින් අපායගාමී වීම විස්තර වේ. **නාග සූත්‍රයෙහි** බුදුරදුන් පාරිලෙය්‍ය වනයට වැඩමවීමේ සිද්ධිය දැක්වේ. මෙම වර්ගයේ උදානගාථාවල සිත ගැන විස්තර වන ධර්ම කරුණු ඇතුළත් ය.

පස්වන **සෝණවර්ගයේ** මුගලන් තෙරුන් දුශ්ශීල භික්ෂුවක් උපෝසථාගාරයෙන් නෙරපා දැමූ පුවතක් **උපොසථ සූත්‍රයෙහි** අඩංගු ය. හයවන සූත්‍රයේ සෝණකුටිකණ්ණ තෙරුන්ගේ කථාව ඇතුළත් වෙයි. මෙහි එන උදානගාථාවලින් ආර්ය ශ්‍රාවකයන්ගේ චිත්ත-චෛතසික ධර්මයන් පිළිබඳව තොරතුරු විස්තර වේ.

**ජච්චන්ධවර්ගයේ** පළමු සූත්‍රයෙන් බුදුරදුන් චාපාල චෛත්‍යස්ථානයේ දී ආයුසංස්කාර අත්හැරීමේ පුවත විස්තර කෙරේ. 4 වන සූත්‍රය ජාත්‍යන්ධයන් අලියෙකුගේ රුව කියූ සැටි දැක්වෙන උපමා කථාවකින් යුක්ත ය. එහි එන "**ජච්චන්ධ**" යන වචනය මෙම වර්ගය නම් කිරීමට ද මුල් විය. අන්‍යලබ්ධික තීර්ථකයන්ගේ දර්ශනයන් බොහෝ උදාන ගාථාවලින් විවරණය වේ.

හත්වන **චූලවර්ගය** කුඩා සූත්‍ර 10 කින් (දහයකින්) යුක්ත ය. එහි 9 වන සූත්‍රය **උදපාන** සූත්‍රය යි. බුදුරදුන් මල්ලරට ථූප නම් බමුණුගමට පැමිණි විට උන්වහන්සේට පැන් නොලැබෙන සේ තණකොළ දමා ළිං වැසූ සැටි දැක්වේ. 10 වන සූත්‍රයේ උදේන රජුගේ මෙහෙසිය වූ සාමාවතියගේ මරණය ගැන සඳහන් ය. උදාන ගාථාවලින් පාපකර්ම, ක්ලේශධර්ම පිළිබඳ විස්තර වේ.

අටවන **පාටලීගාමියවර්ගය** බුදුරදුන් අන්තිම දානය පිළිගැනීම, නාගසමාල තෙර බුදුන්ගේ පාත්‍රය බිමදමා අන්‍යතීර්ථකයන් වෙත යාම ආදි පුවත් විස්තර වන්නකි. මෙහි නිර්වාණය පිළිබඳ විස්තර ඇතුළත් උදාන ගාථාවන්ගෙන් යුක්ත ය. මෙසේ උදානපාළිය බුද්ධශාසනයේ ඓතිහාසික සිද්ධි සමූහයක් විස්තර වන රසවත් ආඛ්‍යානමය සූත්‍ර ඇතුළත් ග්‍රන්ථයක් ලෙස හඳුනාගත හැකි ය.

මෙසේ උදාපාළියෙහි සූත්‍ර 80 කි, වර්ග 8 කි, ගාථා 95 කි. බණවර අටහමාරකි.

## සංගාමජී සූත්‍රය

දිනක් භාග්‍යවතුන් වහන්සේ දැකගනු පිණිස දෙව්රම් වෙහෙරට පැමිණි සංගාමජී තෙරණුවෝ දිවාකාලය ගසක් මුල ගත කළහ. උන්වහන්සේගේ ගිහිකල බිරිඳ දරුවා ද රැගෙන එහි පැමිණ, "ශ්‍රමණය, කුඩා පුතෙකු ඇත්තියක් වෙමි, මා පෝෂණය කරන්න" යැයි පැවසුවා ය. තුන්වන වතාව තෙක් එසේ කීවද, නිහඬව සිටි තෙරුන් දැක "ඔබේ පුතු බාරගන්න" යැයි පවසා මදක් ඉවතට ගොස් සැඟවී බලා සිටියා ය. සංගාමජී තෙරණුවෝ ඔහු දෙස බැලීමක් හෝ කථාබහක් නො කළහ. එය දුටු කාන්තාව "මොහුට පුතුගෙන් පලක් නැතැ"යි ආපසු පැමිණ දරුවා රැගෙන ගියා ය. භාග්‍යවතුන් වහන්සේ මෙය දැක **"ආයනතිං නාභිනන්‍දනති..."** යනාදි උදානය වදාළ සේක.

## ගබ්භිනී සූත්‍රය

භාග්‍යවතුන් වහන්සේ සැවැත්නුවර දෙව්රම් වෙහෙර වැඩවසන සමයෙහි එක්තරා පරිබ්‍රාජකයකුගේ තරුණ බිරිඳක් ගැබ්ගෙන දරු ප්‍රසූතියට ආසන්නව සිටියා ය. ඕ දරු ප්‍රසූතිය පහසු වනු පිණිස ගිතෙල් සොයාගෙන එන ලෙස පරිව්‍රාජකයාට තෙවරක් ම පෙරැත්ත කළා ය. එකල පසේනදි කොසොල් රජුගේ කෝෂ්ඨාගාරයෙන් ගිතෙල්, තලතෙල් රිසිතාක් පානය කොට යෑමට මහණ බමුණන්ට ඉඩ දී තිබිණ. එහෙත් ගෙනයාම තහනම් විය. පරිව්‍රාජකයා එම කෝෂ්ඨාගාරයට ගොස් හැකි තාක් තෙල් බී අවුත් වමාරා දීමට තැත් කළේ ය. හෙතෙම වැමෑරීමට හෝ විරේක කිරීමට නො හැකිව දැඩි වේදනාවෙන් ඔබමොබ පෙරළෙන්නට විය. සැවැත්නුවර පිඬුසිඟා වඩින අතරතුර දී බුදුරදුන්ට එය දැකගන්නට ලැබිණ. එය නිමිති කරගෙන කෙලෙස්වලින් මිඳුණු පුද්ගලයාට එබඳු පීඩා නැති බව පැවසෙන **"සුඛිනො වත යෙ අකිඤ්චනා..."** යනාදි උදාන ගාථා වදාළ සේක.

## නන්‍ද සූත්‍රය

භාග්‍යවතුන් වහන්සේ දෙව්රම් වෙහෙර වැඩවසන සමයෙහි නන්‍ද තෙරණුවෝ බොහෝ භික්ෂූන්ට තමා සිවුරු හැර යන බව ප්‍රකාශ කළහ. එක්තරා භික්ෂුවක් මේ පුවත බුදුරදුන්ට සැල කළේ ය. බුදුරදුහු නන්‍ද තෙරුන් කැඳවා අකමැත්තෙන් බඹසර හැසිරෙන්නේ දැයි විමසූහ. නන්‍ද තෙර වහා එන්නැයි ජනපද කල්‍යාණිය තමාට කියූ වදන් සිහි වන බව බුදුරදුන්ට කීය. ඉක්බිති බුදුහු නන්‍ද තෙරුන්ගේ අතින් අල්ලාගෙන දෙව්ලොවට ගොස් රන්වන් පැහැති අප්සරාවන් 500ක් පෙන්වූහ. නන්‍ද තෙර බුදුන් වහන්සේගෙන් අප්සරාවන් ලබා ගැනීමේ පොරොන්දුව මත බඹසර විසීමට එකඟ විය. ඉකිබිතිව බඹසර වැස රහත් වූහ. මේ සිද්ධිය අරමුණු කොට **"යසස නිත්තිණෙණා පඞෙකා ච..."** යනාදි උදානය පසුව උන්වහන්සේ වදාළ සේක.

**අභ්‍යාස**

01. කෙටි පිළිතුරු සපයන්න.

i. උදානපාළියේ සූත්‍ර ගණන කීය ද?
ii. උදානපාළියේ වර්ග සංඛ්‍යාව කීය ද?
iii. උදානපාලියේ බණවර ගණන කීය ද?
iv. උදානපාළිය බුද්දකනිකායේ කීවෙනි ග්‍රන්ථය ද?
v. බුද්දකනිකායට අයත් ග්‍රන්ථ සංඛ්‍යාව කීය ද?

02. සුදුසු වචන යොදා හිස්තැන් පුරවන්න.

i. ඉදානි ................ ධම්මං ච ................ ච සඞ්ගායෙය්‍යාම.
ii. දෙසෙථ ................ ධම්මං ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං.
iii. ධම්මචක්කං ................ගච්ඡාමි කාසිනං පුරං.
iv. තදඤ්ඤං ................... නිකායො .................. මතො.
v. කිමිදං ................... නාම. පීතිවෙගසමුට්ඨාපිතො ...................

03. දී ඇති වචන යොදා වාක්‍ය සම්පූර්ණ කරන්න.

කථාවත්ථුප්පකරණය / වට්ටගාමිණී අභය / පාටලීගාමිය / බ්‍රාහ්මණධර්ම / වොහාර දෙසනා / ජුණ්හ උපොසථ / චාපාලචෛතිය / 95 කි. / ආණාදෙසනා.

i. උදානපාළියේ ඇති උදානගාථා ගණන .......................
ii. ....................... උදානපාළියේ අවසාන වර්ගය යි.
iii. බෝධිවර්ගයේ උදානගාථාවලින් කියවෙන්නේ ................ ගැන යි.
iv. මුගලන් තෙර දුසිල් භික්ෂුවක උපෝසථාගාරයෙන් නෙරපූ පුවත සඳහන් වන්නේ ................ සූත්‍රයේ ය.
v. යක්ෂයකු සැරියුත් තෙරුන්ගේ හිසට පහර දුන් පුවත සඳහන් වන්නේ ................ සූත්‍රයේ ය.
vi. ත්‍රිපිටකය පුස්තකාරූඪ කළේ ................ රජ සමයෙහි ය.
vii. මොග්ගලීපුත්තතිස්ස තෙරුන් රචනා කළ ත්‍රිපිටකයට ඇතුළත් ග්‍රන්ථය ................
viii. සූත්‍රපිටකය හඳුන්වනු ලබන්නේ ................ නමිනි.
ix. ................ විනය පිටකය හඳුන්වයි.
x. බුදුරදුන් ආයුසංස්කාර ඇත්හැරියේ ................ ස්ථානයේ දී ය.

04. පිළිතුරු සපයන්න.

i. බුද්දකනිකාය හඳුන්වා ඇති ගාථාව ලියන්න.
ii. උදානපාළියේ වර්ග පිළිවෙළින් ලියන්න.
iii. විනයපිටකයට අයත් ග්‍රන්ථ පහ නම් කරන්න.
iv. උදානපාළියේ ඇතුළත් බුද්ධචරිතයට සම්බන්ධ සිද්ධි 5ක් ලියන්න.

## සොළසමො පාඨො

# සඞගාමජීසුත්තං

එවං මෙ සුතං: එකං සමයං භගවා සාවත්ථියං විහරති ජෙතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ. තෙන ඛො පන සමයෙන ආයස්මා සඞගාමජී සාවත්ථිං අනුප්පත්තො හොති භගවන්තං දස්සනාය. අස්සොසි ඛො ආයස්මතො සඞගාමජිස්ස පුරාණදුතියිකා 'අය්‍යො කිර සඞගාමජී සාවත්ථිං අනුප්පත්තො'ති. සා දාරකං ආදාය ජෙතවනං අගමාසි. තෙන ඛො පන සමයෙන ආයස්මා සඞගාමජී අඤ්ඤතරස්මිං රුක්ඛමූලෙ දිවාවිහාරං නිසින්නො හොති. අථ ඛො ආයස්මතො සඞගාමජිස්ස පුරාණදුතියිකා යෙනායස්මා සඞගාමජී තෙනුපසඞකමි. උපසඞකමිත්වා ආයස්මන්තං සඞගාමජිං එතදවොච: 'ඛුද්දපුත්තා'මිහි සමණ; පොස ම'න්ති. එවං වුත්තෙ ආයස්මා සඞගාමජී තුණ්හී අහොසි. දුතියම්පි ඛො ආයස්මතො සඞගාමජිස්ස පුරාණදුතියිකා ආයස්මන්තං සඞගාමජිං එතදවොච: 'ඛුද්දපුත්තා'මිහි සමණ පොස ම'න්ති. දුතියම්පි ඛො ආයස්මා සඞගාමජී තුණ්හී අහොසි. තතියම්පි ඛො ආයස්මතො සඞගාමජිස්ස පුරාණදුතියිකා ආයස්මන්තං සඞගාමජිං එතදවොච: 'ඛුද්දපුත්තා'මිහි සමණ; පොස ම'න්ති. තතියම්පි ඛො ආයස්මා සඞගාමජී තුණ්හී අහොසි. අථ ඛො ආයස්මතො සඞගාමජිස්ස පුරාණදුතියිකා තං දාරකං ආයස්මතො සඞගාමජිස්ස පුරතො නික්ඛිපිත්වා පක්කාමි 'එස තෙ සමණ, පුත්තො පොස න'න්ති. අථ ඛො ආයස්මා සඞගාමජී තං දාරකං නෙව ඔලොකෙසි, නපි ආලපි. අථ ඛො ආයස්මතො සඞගාමජිස්ස පුරාණදුතියිකා අවිදූරං ගන්ත්වා අපලොකෙන්තී අද්දස ආයස්මන්තං සඞගාමජිං තං දාරකං නෙව ඔලොකෙන්තං නපි ආලපන්තං. දිස්වාන'ස්සා එතදහොසි: 'න චායං සමණො පුත්තෙනපි අත්ථිකො'ති. තතො පටිනිවත්තිත්වා දාරකං ආදාය පක්කාමි. අද්දසා ඛො භගවා දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන ආයස්මතො සඞගාමජිස්ස පුරාණදුතියිකාය එවරූපං විප්පකාරං. අථ ඛො භගවා එතමත්ථං විදිත්වා තායං වෙලායං ඉමං උදානං උදානෙසි:

**ආයන්තිං නාභිනන්දති - පක්කමන්තිං න සොචති;**
**සඞගා සඞගාමජිං මුත්තං - තමහං බ්‍රෑමි බ්‍රාහ්මණ'න්ති.**

### සංගාමජී සූත්‍රය

මෙ, මා විසින්; **එවං**, මෙසේ; **සුතං**, අසන ලදී. **එකං සමයං**, එක් සමයෙක්හි; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **සාවත්ථියං**, සැවැත්නුවර; **ජෙතවනෙ**, දෙව්රම් වෙහෙර; **අනාථපිණ්ඩිකස්ස ආරාමෙ**, අනේපිඬු සිටුහුගේ ආරාමයෙහි; **විහරති**; වාසය කරන සේක, **තෙන ඛො පන සමයෙන**, එසමයෙහි; **ආයස්මා සංගාමජී**, ආයුෂ්මත් සංගාමජී තෙර; **භගවන්තං දස්සනාය**, භාග්‍යවතුන් වහන්සේ දැකීමට; **සාවත්ථිං**, සැවැත්නුවරට; **අනුප්පත්තො හොති**, පැමිණියේ වෙයි; **ආයස්මතො**, ආයුෂ්මත්; **සඞගාමජිස්ස**, සංගාමජී තෙරුන්ගේ; **පුරාණදුතියිකා**, පෙර බිරිඳ; **අය්‍යො කිර සඞගාමජී**, සංගාමජී ආර්යයන් වහන්සේ; **සාවත්ථිං**, සැවැත්නුවරට; **අනුප්පත්තො ඉති**, පැමිණියේ යැයි; **අස්සොසි**, ඇසුවා ය; **සා**, ඇය; **දාරකං ආදාය**, දරුවා රැගෙන; **ජෙතවනං**, දෙව්රම් වෙහෙරට; **අගමාසි**, ගියා ය;

**තෙන ඛො පන සමයෙන**, එසමයෙහි වනාහි; **ආයසමා සංගාමජී**, ආයුෂ්මත් සංගාමජී තෙර; **අඤ්ඤතරසමිං**, එක්තරා; **රුක්ඛමූලෙ**, ගසක් මුල; **දිවාවිහාරං**, දිවා විහරණයෙන්; **නිසින්නො හොති**, හුන්නේ වෙයි; **අථ ඛො**, ඉක්බිති; **සඞ්ගාමජිස්ස**, සංගාමජී තෙරුන්ගේ; **පුරාණදුතියිකා**, පෙර බිරිඳ; **යෙනායසමා සංගාමජී**, සංගාමජී තෙර යම් තැනක ද; **තෙන උපසංකමි**, එතැනට එළඹියා ය; **උපසඞ්කමිත්වා**, එළඹ; **ආයසමන්තං සඞ්ගාමජිං**, ආයුෂ්මත් සංගාමජී තෙරුන්ට; **එතදවොච**, මෙය කීවා ය; "**සමණ**, ශ්‍රමණය; **ඛුද්දපුත්තා අම්හි**, කුඩා පුතෙකු ඇත්තියක් වෙමි; **මං**; මා; **පොස**, පෝෂණය කරන්න;" **ඉති**, යනුවෙනි; **එවං වුත්තෙ**, මෙසේ කී කල්හි; **ආයසමා සංගාමජී**, ආයුෂ්මත් සංගාමජී තෙර; **තුණ්හී අහොසි**, නිහඬවිය; **දුතියං අපි**, දෙවනුව ද; **ඛො**, වනාහි; **ආයසමතො සඞ්ගාමජිස්ස**, ආයුෂ්මත් සංගාමජී තෙරුන්ගේ; **පුරාණදුතියිකා**, පෙර බිරිඳ; **ආයසමන්තං සඞ්ගාමජිං**, ආයුෂ්මත් සංගාමජී තෙරුන්ට; **එතං අවොච**, මෙය කීවා ය; "**සමණ**, ශ්‍රමණය; **ඛුද්දපුත්තා අම්හි**, කුඩා පුතෙකු ඇත්තියක් වෙමි; **මං**, මා; **පොස**, පෝෂණය කරන්න;" **ඉති**, යනුවෙනි; **දුතියම්පි ඛො**, දෙවනුව ද වනාහි; **ආයසමා සඞ්ගාමජී**, ආයුෂ්මත් සංගාමජී තෙර; **තුණ්හී අහොසි**, නිශ්ශබ්ද විය. **තතියං අපි ඛො**, තෙවනුව ද වනාහි; **ආයසමතො සඞ්ගාමජිස්ස**, ආයුෂ්මත් සංගාමජී තෙරුන්ගේ; **පුරාණදුතියිකා**, පෙර බිරිඳ; **ආයසමන්තං සඞ්ගාමජිං**, ආයුෂ්මත් සංගාමජී තෙරුන්ට; **එතදවොච**, මෙය කීවා ය; "**සමණ**; ශ්‍රමණය; **ඛුද්දපුත්තා අම්හි**, කුඩා පුතෙක් ඇත්තියක් වෙමි; **මං**, මා; **පොස**, පෝෂණය කරන්න;" **ඉති**, යනුවෙනි; **තතියං අපි ඛො**, තෙවනුව ද වනාහි; **ආයසමා සඞ්ගාමජී**, ආයුෂ්මත් සංගාමජී තෙර; **තුණ්හී අහොසි**, නිශ්ශබ්ද විය. **අථ ඛො**, ඉක්බිති; **ආයසමතො සඞ්ගාමජිස්ස**, ආයුෂ්මත් සංගාමජී තෙරුන්ගේ; **පුරාණදුතියිකා**, පෙර බිරිඳ; **තං දාරකං**, ඒ දරුවා; **ආයසමතො**, ආයුෂ්මත්; **සඞ්ගාමජිස්ස**, සංගාමජී තෙරුන්ගේ; **පුරතො**, ඉදිරියෙහි; **නික්ඛිපිත්වා**, තබා; "**සමණ**, ශ්‍රමණය; **තෙ**, ඔබගේ; **එසො පුත්තො**, මේ පුතාය; **නං**, ඔහුව; **පොස ඉති**, පෝෂණය කරන්නැ'යි; **පක්කාමි**, ගියා ය. **අථ ඛො**, ඉක්බිති; **ආයසමා**, ආයුෂ්මත්; **සඞ්ගාමජී**, සංගාමජී තෙර; **තං දාරකං**, ඒ දරුවා දෙස; **නෙව ඔලොකෙසි**, නොම බැලී ය; **නපි ආලපි**, කථා ද නො කළේ ය; **අථ ඛො**, ඉක්බිති; **ආයසමතො**, ආයුෂ්මත්; **සඞ්ගාමජිස්ස**, සංගාමජී තෙරුන්ගේ; **පුරාණදුතියිකා**, පෙර බිරිඳ; **අවිදූරං**, නොදුරට; **ගන්ත්වා**, ගොස්; **අපලොකෙන්තී**, ආපසු බලන්නී; **තං දාරකං**, ඒ දරුවා; **නෙව ඔලොකෙන්තං**, නොබලන; **නපි ආලපන්තං**, කථා නොකරන; **ආයසමන්තං**, ආයුෂ්මත්; **සංගාමජිං**, සංගාමජී තෙර; **අද්දස**, දුටුවා ය; **දිස්වාන**, දැක; **අස්සා**, ඇයට; **එතදහොසි**, මෙම අදහස ඇති විය; "**අයං සමණො**, මේ ශ්‍රමණ තෙම; **පුත්තෙන අපි**, පුත්‍රයාගෙනුදු; **න අත්ථිකො**, ප්‍රයෝජන ඇත්තෙක් නොවේ;" **ඉති**, යනුවෙනි.

**තතො**, ඉක්බිති; **පටිනිවත්තිත්වා**, නැවතී; **දාරකං**, දරුවා; **ආදාය**, රැගෙන; **පක්කාමි**, ගියා ය; **භගවා ඛො**, භාග්‍යවතුන් වහන්සේ වනාහි; **විසුද්ධෙන**, පිරිසිදු වූ; **අතික්කන්තමානුසකෙන**, මිනිස් ඇස ඉක්මවූ; **දිබ්බෙන චක්ඛුනා**, දිවැසින්; **ආයසමතො**, ආයුෂ්මත්; **සඞ්ගාමජිස්ස**, සංගාමජී තෙරුන්ගේ; **පුරාණදුතියිකාය**, පෙර බිරිඳගේ; **එවරූපං**, මෙබඳු; **විප්පකාරං**, විප්‍රකාරය; **අද්දසා**, දුටුසේක.

අථ ඛො, ඉක්බිති; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **එතං අත්ථං**, මේ කරුණ; **විදිත්වා**, දැන; **තායං වෙලායං**, එම වේලාවෙහි; **ඉමං උදානං**, මේ උදානය; **උදානෙසි**, උදන් ඇනූ සේක.

"**ආයන්තිං**, එන්නිය දැක; **න අභිනන්දති**, සතුටු නො වෙයි; **පක්කමන්තිං**, බැහැර යන්නිය දැක; **න සොචති**, ශෝක නො කරයි; **සඞ්ගා**, ඇලීම්වලින්; **මුත්තං**, මිදුණු; **තං සංගාමජිං**, ඒ සංගාමජි භික්ෂුව; **බ්‍රාහ්මණං ඉති**, බ්‍රාහ්මණයෙකැයි; **අහං**, මම; **බ්‍රෑමි**, කියමි."

**අභ්‍යාස**

01\. පහත සඳහන් සංවාදය සිංහලට නගන්න.

| | |
|---|---|
| අඤ්ඤතරා වනිතා:- | 'අරෙ භගිනි' න ත්වං ජානාසි. හීයො සායණ්හසමයෙ ආයස්මා සංගාමජී සාවත්ථිං අනුප්පත්තො'ති |
| පුරාණදුතියිකා:- | 'කිං ත්වං සච්චං වදසි. උදාහු මුසා?' |
| අඤ්ඤතරා වනිතා:- | 'අහං කිමත්ථාය මුසා භණාමි ත්වමෙව ජෙතවනං ගන්ත්වා සච්චං ජානෙය්‍යාසි' |
| පුරාණදුතියිකා:- | 'භවතු සීඝමෙව ජෙතවනං ගමිස්සාමි' (ගන්ත්වා) |
| අඤ්ඤතරො ථෙරො:- | 'උපාසිකෙ කත්ථ නු බො ත්වං ගච්ඡසි දිවා දිවස්ස' |
| පුරාණදුතියිකා:- | 'භන්තෙ එතරහි ආයස්මා සංගාමජී කත්ථ විහරති?' |
| අඤ්ඤතරො ථෙරො:- | 'පස්සසි ත්වං උපාසිකෙ; තව දක්ඛිණදිසායං චංකමනභූමි, තත්ථ ආයස්මා සංගාමජී චංකමති' |
| පුරාණදුතියිකා:- | 'භන්තෙ සංගාමජී බුද්ධපුත්තාමහි පොස මං' |
| ආයස්මා සංගාමජී:- | 'තුණ්හී අහොසි' |
| පුරාණදුතියිකා:- | 'එස තෙ සමණ පුත්තො පොස නං' |
| ආයස්මා සංගාමජී:- | 'තුණ්හී අහොසි' |
| පුරාණදුතියිකා:- | 'න චායං සමණො පුත්තෙනපි අත්ථිකො හොති අහමෙව දාරකං ආදාය ගමිස්සාමි' |

02\. පහත සඳහන් යෙදුම් භාවිත කර පාලි වාක්‍යය පහක් ලියන්න.

i. තෙන ඛො පන සමයෙන
ii. තායං වෙලායං
iii. අවිදූරං ගන්ත්වා
iv. එතමත්ථං විදිත්වා
v. අඤ්ඤතරස්මිං රුක්ඛමූලෙ

03\. කාන්තාවන් හා දරුවන් දැකීමෙන් පෘථග්ජන පුද්ගලයන් තුළ ඇතිවෙන සෞන්දර්යාත්මක හැඟීම් මොනවා දැයි විස්තර කරන්න.

04\. රහතන් වහන්සේ කාන්තාවන් හා දරුවන් වැනි සාමිස වස්තු පිළිබඳ දක්වන ආකල්පය කුමක් දැයි පැහැදිලි කරන්න.

**ගබ්භිනීසුත්තං**

එවං මෙ සුතං: එකං සමයං භගවා සාවත්ථියං විහරති ජේතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ. තෙන ඛො පන සමයෙන අඤ්ඤතරස්ස පරිබ්බාජකස්ස දහරා මාණවිකා පජාපතී හොති ගබ්භිනී උපවිජඤ්ඤා. අථ ඛො සා පරිබ්බාජිකා තං පරිබ්බාජකං එතදවොච: "ගච්ඡ ත්වං බ්‍රාහ්මණ, තෙලං ආහර; යං මෙ විජාතාය භවිස්සතී"ති. එවං වුත්තෙ සො පරිබ්බාජකො තං පරිබ්බාජිකං එතදවොච: "කුතො පනා'හං හොති තෙලං ආහරාමී"ති. දුතියම්පි ඛො සා පරිබ්බාජිකා තං පරිබ්බාජකං එතදවොච: "ගච්ඡ ත්වං බ්‍රාහ්මණ, තෙලං ආහර යං මෙ විජාතාය භවිස්සතී"ති. දුතියම්පි ඛො සො පරිබ්බාජකො තං පරිබ්බාජිකං එතදවොච: "කුතො පනා'හං හොති තෙලං ආහරාමී"ති. තතියම්පි ඛො සා පරිබ්බාජිකා තං පරිබ්බාජකං එතදවොච: "ගච්ඡ ත්වං බ්‍රාහ්මණ, තෙලං ආහර; යං මෙ විජාතාය භවිස්සතී"ති.

තෙන ඛො පන සමයෙන රඤ්ඤො පසෙනදිස්ස කොසලස්ස කොට්ඨාගාරෙ සමණස්ස වා බ්‍රාහ්මණස්ස වා සප්පිස්ස වා තෙලස්ස වා යාවදත්ථං පාතුං දීයති, නො නීහරිතුං. අථ ඛො තස්ස පරිබ්බාජකස්ස එතදහොසි: "රඤ්ඤො ඛො පන පසෙනදිස්ස කොසලස්ස කොට්ඨාගාරෙ සමණස්ස වා බ්‍රාහ්මණස්ස වා සප්පිස්ස වා තෙලස්ස වා යාවදත්ථං පාතුං දීයති, නො නීහරිතුං. යන්නූනා'හං රඤ්ඤො පසෙනදිස්ස කොසලස්ස කොට්ඨාගාරං ගන්ත්වා තෙලස්ස යාවදත්ථං පිවිත්වා ඝරං ආගන්ත්වා උග්ගිරිත්වාන දදෙය්‍යං; යං ඉමිස්සා විජාතාය භවිස්සතී"ති. අථ ඛො සො පරිබ්බාජකො රඤ්ඤො පසෙනදිස්ස කොසලස්ස කොට්ඨාගාරං ගන්ත්වා තෙලස්ස යාවදත්ථං පිවිත්වා ඝරං ආගන්ත්වා නෙව සක්කොති උද්ධං කාතුං, න පන අධො. සො දුක්ඛාහි තිබ්බාහි ඛරාහි කටුකාහි වෙදනාහි ඵුට්ඨො ආවට්ටති, පරිවට්ටති. අථ ඛො භගවා පුබ්බණ්හසමයං නිවාසෙත්වා පත්තචීවරමාදාය සාවත්ථිං පිණ්ඩාය පාවිසි. අද්දසා ඛො භගවා තං පරිබ්බාජකං දුක්ඛාහි තිබ්බාහි ඛරාහි කටුකාහි වෙදනාහි ඵුට්ඨං ආවට්ටමානං පරිවට්ටමානං. අථ ඛො භගවා එතමත්ථං විදිත්වා තායං වෙලායං ඉමං උදානං උදානෙසි.

**සුඛිනො වත යෙ අකිඤ්චනා**
**වෙදගුනො හි ජනා අකිඤ්චනා,**
**සකිඤ්චනං පස්ස විහඤ්ඤමානං**
**ජනො ජනස්මිං පටිබද්ධචිත්තොති.**

**ගබ්භිනී සූත්‍රය**

**මෙ,** මා විසින්; **එවං,** මෙසේ; **සුතං,** අසන ලදී; **එකං සමයං,** එක් සමයෙක්හි; **භගවා,** භාග්‍යවතුන් වහන්සේ; **සාවත්ථියං,** සැවැත්නුවර; **අනාථපිණ්ඩිකස්ස,** අනේපිඬු සිටුතුමාගේ; **ජේතවනෙ,** දෙව්රම්වෙහෙර; **ආරාමෙ,** ආරාමයෙහි; **විහරති,** වාසය කරන සේක.

**තෙන ඛො පන සමයෙන,** එසමයෙහි වනාහි; **අඤ්ඤතරස්ස,** එක්තරා; **පරිබ්බාජකස්ස,** පිරිවැජියෙකුගේ; **දහරා මාණවිකා,** තරුණ මෙනවියක්; **පජාපතී,** භාර්යාව වූවා; **ගබ්භිනී,** ගැබ්ගත්තී; **උපවිජඤ්ඤා,** ප්‍රසූතකාලය ළං වූවා; **හොති,** වෙයි.

**අථ ඛො**, ඉක්බිති; **සා පරිබ්බාජිකා**, ඒ පරිබ්‍රාජිකාව; **තං පරිබ්බාජකං**, ඒ පරිබ්‍රාජකයාට; **එතදවොච**, මෙය කීවා ය;"**බ්‍රාහමණ**, බ්‍රාහ්මණය; **ත්වං**, ඔබ; **ගච්ඡ**, යන්න; **යං**, යම් තෙලක්; **මෙ**, මාගේ; **විජාතාය**, වැදුමට; **භවිස්සති**, පහසු වන්නේ නම්; **තෙලං**, එබඳු තෙලෙක්; **ආහර**, ගෙනෙන්න;"**ඉති**, යනුවෙනි. **එවං වුත්තෙ**, මෙසේ කී කල්හි; **සො පරිබ්බාජකො**, ඒ පරිබ්‍රාජකයා; **තං පරිබ්බාජිකං**, ඒ පරිබ්‍රාජිකාවට; **එතදවොච**, මෙය කීවේ ය; "**භොති**, පින්වතිය; **අහං**, මම; **කුතො පන**, කොතනින් වනාහි; **තෙලං ආහරාමි**, තෙල් ගෙනෙම් ද?;"**ඉති**, යනුවෙනි; **දුතියං අපි**, දෙවනුව ද; **සා පරිබ්බාජිකා**, ඒ පරිබ්‍රාජිකාව; **තං පරිබ්බාජකං**, ඒ පිරිවැජියාට; **එතදවොච**, මෙය කීවා ය; "**බ්‍රාහමණ ත්වං**, බ්‍රාහ්මණය ඔබ; **ගච්ඡ**, යන්න; **යං**, යම් තෙලක්; **මෙ විජාතාය**, මාගේ වැදීම සඳහා; **භවිස්සති**, වන්නේ නම්; **තෙලං**, (එබඳු) තෙලක් **ආහර**, (ඒ තෙල) ගෙනෙන්න;"**ඉති**, යනුවෙනි "**භොති**, පින්වතිය; **කුතො පන**, කොතැනින් වනාහි; **අහං**, මම; **ආහරාමි**, ගෙන එම් ද?"; **ඉති**, යනුවෙනි; **තතියං අපි**, තෙවනුව ද; **සා පරිබ්බාජිකා**, ඒ පරිබ්‍රාජිකාව; **තං පරිබ්බාජකං**, ඒ පිරිවැජියාට; **එතදවොච**, මෙය කීවා ය; "**බ්‍රාහමණ ත්වං**, බ්‍රාහ්මණය ඔබ; **ගච්ඡ**, යන්න; යං, යම් තෙලක්; **මෙ විජාතාය**, මාගේ වැදීම සඳහා; **භවිස්සති**, වන්නේ නම්; **තෙලං**, (එබඳු) තෙලක් **ආහර**, ගෙනෙන්න"; **ඉති**, යනුවෙනි.

**තෙන ඛො පන සමයෙන**, එසමයෙහි වනාහි; **පසෙනදිස්ස කොසලස්ස රඤ්ඤො**, පසේනදි කොසොල් රජුගේ; **කොට්ඨාගාරෙ**, ගබඩාවෙහි; **සමණස්ස වා**, ශ්‍රමණයෙකුට හෝ; **බ්‍රාහමණස්ස වා**, බමුණෙකුට හෝ; **සප්පිස්ස වා**, ගිතෙල් හෝ; **තෙලස්ස වා**, තලතෙල් හෝ; **යාවදත්ථං**, ඇතිතාක්; **පාතුං**, බොන්නට; **දියාති**, දෙනු ලැබේ; **නො නීහරිතුං**, ගෙන යන්නට නො දෙයි. **අථ ඛො**, ඉක්බිති; **තස්ස පරිබ්බාජකස්ස**, ඒ පිරිවැජියාට; **එතදහොසි**, මෙබඳු අදහසක් විය; "**පසෙනදිස්ස කොසලස්ස රඤ්ඤො**, පසේනදි කොසොල් රජුගේ; **කොට්ඨාගාරෙ**, ගබඩාවෙහි; **සමණස්ස වා**, ශ්‍රමණයෙකුට හෝ; **බ්‍රාහමණස්ස වා**, බමුණෙකුට හෝ; **සප්පිස්ස වා**, ගිතෙල් හෝ; **තෙලස්ස වා**, තලතෙල් හෝ; **යාවදත්ථං**, ඇතිතාක්; **පාතුං**, බොන්නට; **දියාති**, දෙනු ලබයි; **නො නීහරිතුං**, ගෙන යන්නට නො දෙයි; **අහං**, මම; **පසෙනදිස්ස කොසලස්ස රඤ්ඤො**, පසේනදි කොසොල් රජුගේ; **කොට්ඨාගාරං**, ගබඩාවට; **ගන්ත්වා**, ගොස්; **යං**, යම් **ඉමිස්සා**, මැයට; **විජාතාය**, වැදීම සඳහා; **භවිස්සති ඉති**, වන්නේ නම් **තෙලස්ස**, ඒ තලතෙල්; **යාවදත්ථං**, ඇතිතාක්; **පිවිත්වා**, බී; **ඝරං**, ගෙදරට; **ආගන්ත්වා**, අවුත්; **උග්ගිරිත්වාන**, වමාරා; **දදෙය්‍යං**, දෙන්නේ නම්; **යනූන ඉති**, ඉතා යෙහෙකි යනුවෙනි. **අථ ඛො**, ඉක්බිති; **සො පරිබ්බාජකො**, ඒ පිරිවැජියා; **පසෙනදිස්ස කොසලස්ස රඤ්ඤො**, පසේනදි කොසොල් රජුගේ; **කොට්ඨාගාරං**, ගබඩාවට; **ගන්ත්වා**, ගොස්; **තෙලස්ස**, තෙල්; **යාවදත්ථං**, ඇතිතාක්; **පිවිත්වා**, බී, **ඝරං**, ගෙදරට; **ආගන්ත්වා**, අවුත්; **උද්ධං කාතුං**, වමාරන්නට; **න සක්කොති එව**, නො හැකි වන්නේ ම ය; **අධො පන**, විරේක කිරීමට ද; **න**, නොහැකි වන්නේ ම ය; **සො**, හෙතෙම; **දුක්ඛාහි**, දුක් වූ; **තිබ්බාහි**, තියුණු වූ; **ඛරාහි**, රළු වූ; **කටුකාහි**, කටුක වූ; **වෙදනාහි**, වේදනාවන්ගෙන්; **ඵුට්ඨො**, ස්පර්ශ කරන ලද්දේ; **ආවට්ටති**, ඔබිනොබ පෙරළෙයි; **පරිවට්ටති**, හාත්පස පෙරළෙයි.

**අථ ඛො**, ඉක්බිති; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **පුබ්බණ්හසමයං**, පෙරවරුවෙහි; **නිවාසෙත්වා**, හැඳපෙරව; **පත්තචීවරං**, පාත්‍ර සිවුරු; **ආදාය**, රැගෙන; **සාවත්ථිං**, සැවැත්නුවරට; **පිණ්ඩාය**, පිඬු පිණිස; **පාවිසි**, පිවිසි සේක; **භගවා ඛො**, භාග්‍යවතුන් වහන්සේ වනාහි; **දුක්ඛාහි**,

දුක් වූ; **තිබ්බාහි**, තියුණු වූ; **ඛරාහි**, රළු වූ; **කටුකාහි**, කටුක වූ; **වෙදනාහි**, වේදනාවන්ගෙන්; **ඵුට්ඨං**, ස්පර්ශ කරන ලද; **තං පරිබ්බාජකං**, ඒ පිරිවැජියා; **අද්දසා**, දුටුසේක. **අථ ඛො**, ඉක්බිති; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **එතමත්ථං**, මේ කරුණ; **විදිත්වා**, දැන; **තායං වෙලායං**, එ වේලාවෙහි; **ඉමං උදානං**, මේ උදානය; **උදානෙසි**, උදන් ඇනූ සේක.

**යෙ**, යම් කෙනෙක්; **අකිඤ්චනා**, රාගාදි පළිබෝධ නැත්තාහු ද; (ඔවුහූ) **වත**, ඒකාන්තයෙන්; **සුඛිනො**, සුවපත් වූවෝ වෙති; **වෙදගුනො හි ජනා**, චතුරාර්ය සත්‍යය අවබෝධ කළ රහත්හු; **අකිඤ්චනා**, රාගාදි කෙලෙස් රහිත වූවෝ ය; **ජනො**, ජනතෙම; **ජනස්මිං**, ජනයා කෙරෙහි; **පටිබද්ධචිත්තො**, බැඳීගිය සිතැත්තේ වේ. **සකිඤ්චනං**, කෙලෙස් සහිත වූවන්; **විහඤ්ඤමානං**, වෙහෙසෙන අයුරු; **පස්ස**, බලව.

**අභ්‍යාස**

01. පහත සඳහන් වාක්‍ය පාලියට නඟන්න.

i. එසමයෙහි එක්තරා රජ කෙනෙකුගේ තරුණ බිරිඳක් ගැබ් ගත්තී වැදීමට ආසන්න වූවා ය.
ii. සුමනා 'ඔබ යන්න පහන පත්තු කිරීම සඳහා තෙල් ගෙනෙන්න.'
iii. මම තෙල් ගෙනෙන්නේ කොහෙන් ද?
iv. එක්තරා තරුණයෙක් රෝගී වී දරුණු කටුක වේදනාවෙන් යුතුව වැළපෙයි.
v. බල්ලා තණකොළ ගොමුවෙහි ඒ මේ අත පෙරළෙයි.

02. පහත පදයන්ට අර්ථ විවරණ සපයන්න.

i. පරිබ්බාජකො
ii. රාජා පසෙනදි කොසලො
iii. වෙදගුනො
iv. සමණස්ස වා බ්‍රාහමණස්ස වා

03. බුද්ධකාලීන භාරතීය සමාජය පිළිබඳ ගබ්භිනී සූත්‍රය ඇසුරෙන් විස්තර කරන්න.

04. ගබ්භිනී සූත්‍රයෙන් ප්‍රකට වන තත්කාලීන සිරිත් විරිත් කවරේදැයි හඳුන්වා දෙන්න.

**නන්දසුත්තං**

එවං මෙ සුතං: එකං සමයං භගවා සාවත්ථියං විහරති ජෙතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ. තෙන ඛො පන සමයෙන ආයස්මා නන්දො භගවතො භාතා මාතුච්ඡාපුත්තො සම්බහුලානං භික්ඛූනං එවමාරොචෙති; "අනභිරතො අහං ආවුසො බ්‍රහ්මචරියං චරාමි. න සක්කොමි බ්‍රහ්මචරියං සන්ධාරෙතුං, සික්ඛං පච්චක්ඛාය හීනායාවත්තිස්සාමී"ති. අථ ඛො අඤ්ඤතරො භික්ඛු යෙන භගවා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නො ඛො සො භික්ඛු භගවන්තං එතදවොච: "ආයස්මා භන්තෙ නන්දො භගවතො භාතා මාතුච්ඡාපුත්තො සම්බහුලානං භික්ඛූනං එවමාරොචෙති. 'අනභිරතො අහං ආවුසො බ්‍රහ්මචරියං චරාමි න සක්කොමි බ්‍රහ්මචරියං සන්ධාරෙතුං. සික්ඛං පච්චක්ඛාය හීනායාවත්තිස්සාමී"ති. අථ ඛො භගවා අඤ්ඤතරං භික්ඛුං ආමන්තෙසි; 'එහි ත්වං භික්ඛු, මම වචනෙන නන්දං භික්ඛුං ආමන්තෙහි 'සත්ථා තං ආවුසො නන්ද, ආමන්තෙතී"ති. "එවං භන්තෙ'ති ඛො සො භික්ඛු භගවතො පටිස්සුත්වා යෙනායස්මා නන්දො තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා ආයස්මන්තං නන්දං එතදවොච: "සත්ථා තං ආවුසො නන්ද, ආමන්තෙතී"ති.

'එවමාවුසො'ති ඛො ආයස්මා නන්දො තස්ස භික්ඛුනො පටිස්සුත්වා යෙන භගවා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නං ඛො ආයස්මන්තං නන්දං භගවා එතදවොච; සච්චං කිර ත්වං නන්ද, සම්බහුලානං භික්ඛූනං එවමාරොචෙසි 'අනභිරතො අහං ආවුසො බ්‍රහ්මචරියං චරාමි. න සක්කොමි බ්‍රහ්මචරියං සන්ධාරෙතුං. සික්ඛං පච්චක්ඛාය හීනායාවත්තිස්සාමී'ති. 'එවං භන්තෙ'ති. "කිස්ස පන ත්වං නන්ද, අනභිරතො බ්‍රහ්මචරියං චරසි? න සක්කොසි බ්‍රහ්මචරියං සන්ධාරෙතුං සික්ඛං පච්චක්ඛාය හීනායාවත්තිස්සසී?'ති. "සාකියානී මං භන්තෙ ජනපදකල්‍යාණී ඝරා නික්ඛමන්තස්ස උපඩ්ඪුල්ලිඛිතෙහි කෙසෙහි අපලොකෙත්වා මං එතදවොච: 'තුවටං ඛො අය්‍යපුත්ත; ආගච්ඡෙය්‍යාසී'ති. සො ඛො අහං භන්තෙ තමනුස්සරමානො අනභිරතො බ්‍රහ්මචරියං චරාමි. න සක්කොමි බ්‍රහ්මචරියං සන්ධාරෙතුං. සික්ඛං පච්චක්ඛාය හීනායාවත්තිස්සාමී"ති.

අථ ඛො භගවා ආයස්මන්තං නන්දං බාහාය ගහෙත්වා සෙය්‍යථාපි නාම බලවා පුරිසො සම්මිඤ්ජිතං වා බාහං පසාරෙය්‍ය, පසාරිතං වා බාහං සම්මිඤ්ජෙය්‍ය, එවමෙව ජෙතවනෙ අන්තරහිතො දෙවෙසු තාවතිංසෙසු පාතුරහොසි. තෙන ඛො පන සමයෙන පඤ්චමත්තානි අච්ඡරාසතානි සක්කස්ස දෙවානමින්දස්ස උපට්ඨානං ආගතානි හොන්ති කකුටපාදානි. අථ ඛො භගවා ආයස්මන්තං නන්දං ආමන්තෙසි: 'පස්සසි නො ත්වං නන්ද; ඉමානි පඤ්ච අච්ඡරාසතානි කකුටපාදානී?'ති. 'එවං භන්තෙ'ති. 'තං කිං මඤ්ඤසි නන්ද, කතමා නු ඛො අභිරූපතරා ච දස්සනීයතරා ච පාසාදිකතරා ච, සාකියානී වා ජනපදකල්‍යාණී, ඉමානි වා පඤ්ච අච්ඡරාසතානි කකුටපාදානී?'ති. 'සෙය්‍යථාපි භන්තෙ පලුට්ඨමක්කටී කණ්ණනාසච්ඡින්නා. එවමෙව ඛො භන්තෙ සාකියානී ජනපදකල්‍යාණී ඉමෙසං පඤ්චන්නං අච්ඡරාසතානං උපනිධාය සඞ්ඛම්පි න උපෙති, කලම්පි න උපෙති, කලභාගම්පි න උපෙති, උපනිධිම්පි න උපෙති. අථ ඛො ඉමානි පඤ්ච අච්ඡරාසතානි අභිරූපතරානි චෙව දස්සනීයතරානි ච පාසාදිකතරානි චා"ති. 'අභිරම නන්ද, අභිරම නන්ද, අහං තෙ පාටිභොගො පඤ්චන්නං අච්ඡරාසතානං පටිලාභාය කකුටපාදාන"න්ති. 'සචෙ

මෙ භන්තෙ භගවා පාටිභොගො පඤ්චන්නං අච්ඡරාසතානං පටිලාභාය කකුටපාදානං, අභිරමිස්සාම’හං භන්තෙ භගවති බ්‍රහ්මචරියෙ”ති. අථ ඛො භගවා ආයස්මන්තං නන්දං බාහාය ගහෙත්වා සෙය්‍යථාපි නාම බලවා පුරිසො සමිඤ්ජිතං වා බාහං පසාරෙය්‍ය, පසාරිතං වා බාහං සමිඤ්ජෙය්‍ය, එවමෙව දෙවෙසු තාවතිංසෙසු අන්තරහිතො ජෙතවනෙ පාතුරහොසි. අස්සොසුං ඛො භික්ඛූ ‘ආයස්මා කිර නන්දො භගවතො භාතා මාතුච්ඡාපුත්තො අච්ඡරානං හෙතු බ්‍රහ්මචරියං චරති, භගවා කිරස්ස පාටිභොගො පඤ්චන්නං අච්ඡරාසතානං පටිලාභාය කකුටපාදාන’න්ති. අථ ඛො ආයස්මතො නන්දස්ස සහායකා භික්ඛූ ආයස්මන්තං නන්දං භතකවාදෙන ච උපක්කිතකවාදෙන ච සමුදාචරන්ති. ‘භතකො කිරායස්මා නන්දො, උපක්කිතකො කිරා’යස්මා නන්දො, අච්ඡරානං හෙතු බ්‍රහ්මචරියං චරති. භගවා කිරස්ස පාටිභොගො පඤ්චන්නං අච්ඡරාසතානං පටිලාභාය කකුටපාදාන’න්ති. අථ ඛො ආයස්මා නන්දො සහායකානං භික්ඛූනං භතකවාදෙන ච උපක්කිතකවාදෙන ච අට්ටීයමානො හරායමානො ජිගුච්ඡමානො එකො වූපකට්ඨො අප්පමත්තො ආතාපී පහිතත්තො විහරන්තො න චිරස්සෙව යස්සත්ථාය කුලපුත්තා සම්මදෙව අගාරස්මා අනගාරියං පබ්බජන්ති, තදනුත්තරං බ්‍රහ්මචරියපරියොසානං දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහාසි. ‘ඛීණා ජාති; වුසිතං බ්‍රහ්මචරියං; කතං කරණීයං; නාපරං ඉත්ථත්තායා’ති අබ්භඤ්ඤාසි. අඤ්ඤතරො ච ඛො පනා’යස්මා නන්දො අරහතං අහොසි.

අථ ඛො අඤ්ඤතරා දෙවතා අභික්කන්තාය රත්තියා අභික්කන්තවණ්ණා කෙවලකප්පං ජෙතවනං ඔභාසෙත්වා යෙන භගවා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං අට්ඨාසි. එකමන්තං ඨිතා ඛො සා දෙවතා භගවන්තං එතදවොචඃ ‘ආයස්මා භන්තෙ නන්දො භගවතො භාතා මාතුච්ඡාපුත්තො ආසවානං ඛයා අනාසවං චෙතොවිමුත්තිං පඤ්ඤාවිමුත්තිං දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරතී’ති. භගවතො’පි ඛො ඤාණං උදපාදිඃ ‘නන්දො ආසවානං ඛයා අනාසවං චෙතොවිමුත්තිං පඤ්ඤාවිමුත්තිං දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරතී’ති.

අථ ඛො ආයස්මා නන්දො තස්සා රත්තියා අච්චයෙන යෙන භගවා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නො ඛො ආයස්මා නන්දො භගවන්තං එතදවොචඃ “යං මෙ භන්තෙ භගවා පාටිභොගො; පඤ්චන්නං අච්ඡරාසතානං පටිලාභාය කකුටපාදානං. මුඤ්චාමහං භන්තෙ භගවන්තං එතස්මා පටිස්සවා”ති. මයාපි ඛො තෙ නන්ද චෙතසා චෙතො පරිච්ච විදිතොඃ “නන්දො ආසවානං ඛයා අනාසවං චෙතොවිමුත්තිං පඤ්ඤාවිමුත්තිං දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරතී”ති. දෙවතාපි මෙ එතමත්ථං ආරොචෙසිඃ ‘ආයස්මා භන්තෙ නන්දො භගවතො භාතා මාතුච්ඡාපුත්තො ආසවානං ඛයා අනාසවං චෙතොවිමුත්තිං පඤ්ඤාවිමුත්තිං දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරතී’ති. යදෙව ඛො තෙ නන්ද අනුපාදාය ආසවෙහි චිත්තං විමුත්තං, අථා’හං මුත්තො එතස්මා පටිස්සවා’ති. අථ ඛො භගවා එතමත්ථං විදිත්වා තායං වෙලායං ඉමං උදානං උදානෙසිඃ

**“යස්ස නිත්තිණ්ණො පඞ්කො ච මද්දිතො කාමකණ්ටකො,**
**මොහක්ඛයං අනුප්පත්තො සුඛදුක්ඛෙසු න වෙධති ස භික්ඛූ”ති.**

## නන්ද සූත්‍රය

**එවං**, මෙසේ; **මෙ**, මා විසින්; **සුතං**, අසන ලදී. **එකං සමයං**, එක් සමයෙක්හි; **භගවා**; භාග්‍යවතුන් වහන්සේ; **සාවත්ථියං**, සැවැත්නුවර; **ජෙතවනෙ**, ජේතවන නම් වූ; **අනාථපිණ්ඩිකස්ස ආරාමෙ**, අනේපිඬු සිටුහුගේ ආරාමයෙහි; **විහරති**, වාසය කරන සේක. **තෙන ඛො පන සමයෙන**, එසමයෙහි වනාහි; **භගවතො භාතා**, භාග්‍යවතුන් වහන්සේගේ සොයුරු වූ; **මාතුච්ඡාපුත්තො**, සුළුමවගේ පුත්‍ර; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද තෙර; **සම්බහුලානං භික්ඛූනං**, බොහෝ භික්ෂූන්ට; **එවං**, මෙසේ; **ආරොචෙති**, දන්වයි. "**ආවුසො**, ඇවැත්නි; **අහං**, මම; **අනභිරතො**; සස්නට ඇලුම් රහිත වූයේ; **බ්‍රහ්මචරියං**, බඹසර; **චරාමි**, හැසිරෙමි; **බ්‍රහ්මචරියං**, බඹසර; **සන්ධාරෙතුං**, උසුලන්නට; **න සක්කොමි**, නො හැක්කෙමි; **සික්ඛං**, ශික්ෂාව; **පච්චක්ඛාය**, හැරපියා; **හීනායාවත්තිස්සාමි**, ගිහි බවට යන්නෙමි;"**ඉති**, යනුවෙනි. **අථ ඛො**, ඉක්බිති; **අඤ්ඤතරො භික්ඛු**, එක්තරා භික්ෂුවක්; **යෙන භගවා**, භාග්‍යවතුන් වහන්සේ යම් තැනක ද; **තෙන උපසඞ්කමි**, එතැනට එළඹියේ ය. **උපසඞ්කමිත්වා**, එළඹ; **භගවන්තං**, භාග්‍යවතුන් වහන්සේට; **අභිවාදෙත්වා**, වැඳ; **එකමන්තං**, එකත්පසක; **නිසීදි**, හුන්නේ ය; **එකමන්තං**, එකත්පසක; **නිසින්නො**, හුන්නාවූ; **සො භික්ඛු**, ඒ භික්ෂුව; **භගවන්තං**, භාග්‍යවතුන් වහන්සේට; **එතදවොච**, මෙය කීය; "**භන්තෙ**, ස්වාමීනි; **භගවතො**, භාග්‍යවතුන් වහන්සේගේ; **භාතා**, සහෝදරයා වූ; **මාතුච්ඡාපුත්තො**, සුළුමවගේ පුත්‍ර; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද; **සම්බහුලානං භික්ඛූනං**, බොහෝ භික්ෂූන්ට; **එවං**, මෙසේ; **ආරොචෙති**, දන්වයි. "**ආවුසො**, ඇවැත්නි; **අහං**, මම; **අනභිරතො**, සසුනෙහි නො ඇලුනේ; **බ්‍රහ්මචරියං**, බඹසර; **චරාමි**, හැසිරෙමි; **බ්‍රහ්මචරියං**, බඹසර; **සන්ධාරෙතුං**, උසුලන්නට; **න සක්කොමි**, නො හැකි වෙමි; **සික්ඛං**, ශික්ෂාව; **පච්චක්ඛාය**, හැරපියා (ප්‍රතික්ෂේප කොට); **හීනායාවත්තිස්සාමි**, ගිහිබවට පෙරළෙන්නෙමි;"**ඉති**, යනුවෙනි. **අථ ඛො**, ඉක්බිති; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **අඤ්ඤතරං භික්ඛුං**, එක්තරා භික්ෂුවක්; **ආමන්තෙසි**, ඇමතූ සේක; "**භික්ඛු**, භික්ෂුව; **එහි**, එන්න. **ත්වං**, ඔබ; **මම වචනෙන**, මගේ වචනයෙන්; **නන්දං භික්ඛුං**, නන්ද භික්ෂුව; **ආමන්තෙහි**, අමතන්න;" "**ආවුසො නන්ද**, ඇවැත් නන්ද; **සත්ථා**, ශාස්තෘන් වහන්සේ; **තං**, ඔබ; **ආමන්තෙති**, අමතන සේක;"**ඉති**, යනුවෙනි; **සො භික්ඛු**, ඒ භික්ෂුව; "**එවං භන්තෙ ඉති**, එසේ ය" ස්වාමීනි යි; **භගවතො**, භාග්‍යවතුන් වහන්සේට; **පටිස්සුත්වා**, පිළිවදන් දී; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද; **යෙන**, යම් තැනක ද; **තෙන උපසඞ්කමි**, එතනට එළඹියේ ය; **උපසඞ්කමිත්වා**, එළඹ; **ආයස්මන්තං නන්දං**, ආයුෂ්මත් නන්දට; **එතදවොච**, මෙය කීය;"**ආවුසො නන්ද**, ඇවැත් නන්දයෙනි; **සත්ථා**, ශාස්තෘන් වහන්සේ; **තං**, ඔබ; **ආමන්තෙති**, අමතන සේක;"**ඉති**, යනුවෙනි.

"ආවුසො, ඇවැත්නි; **එවං ඉති**, එසේ ය"යි; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද; **තස්ස භික්ඛුනො**, ඒ භික්ෂුවට; **පටිස්සුත්වා**, පිළිතුරු දී; **යෙන භගවා**, භාග්‍යවතුන් වහන්සේ යම් තැනක ද; **තෙන උපසඞ්කමි**, එතනට එළඹියේ ය; **උපසඞ්කමිත්වා**, එළඹ; **භගවන්තං**, භාග්‍යවතුන් වහන්සේට; **අභිවාදෙත්වා**, වැඳ; **එකමන්තං**, එකත්පසක; **නිසීදි**, හුන්නේ ය. **එකමන්තං**, එකත්පසක; **නිසින්නං**; හුන්නා වූ; **ආයස්මන්තං නන්දං**, ආයුෂ්මත් නන්දට; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **එතදවොච**, මෙය කීසේක; "**නන්ද**, නන්දයෙනි; **ත්වං**, ඔබ; **සම්බහුලානං භික්ඛූනං**, බොහෝ භික්ෂූන්ට; "**ආවුසො**, ඇවැත්නි; **අහං**, මම; **අනභිරතො**, සසුනෙහි නො ඇලුනේ; **බ්‍රහ්මචරියං**, බඹසර; **චරාමි**, හැසිරෙමි; **බ්‍රහ්මචරියං**, බඹසර

**සන්ධාරෙතුං**, උසුලන්නට; **න සක්කොමි**, නො හැක්කේ වෙමි; **සික්ඛං**, ශික්ෂාව; **පච්චක්ඛාය**, ප්‍රතික්ෂේප කොට; **හීනායාවත්තිස්සාමි ඉති**, ගිහි බවට පෙරළෙන්නෙමි'යි" **එවං**, මෙසේ; **ආරොචෙසි ඉති**, දන්වහි යන්න; **සච්චං කිර**, සත්‍යයක් ද?" "**භන්තෙ**, ස්වාමීනි; **එවං**, එසේ ය;" **ඉති**, යනු යි; "**නන්ද**, නන්දය, **ත්වං**, ඔබ; **කිස්ස පන**, කවර හෙයින්; **අනභිරතො**, සසුනේ නො ඇලුනේ; **බ්‍රහ්මචරියං**, බඹසර; **චරසි**, හැසිරෙහි ද; **බ්‍රහ්මචරියං**, බඹසර; **සන්ධාරෙතුං**, උසුලන්නට; **න සක්කොසි**, නො හැකි වෙහි ද; **සික්ඛං**, ශික්ෂාව; **පච්චක්ඛාය**, හැරදමා; **හීනායාවත්තිස්සසි**, ගිහිබවට පෙරළෙන්නෙහි ද?;" **ඉති**, යනුවෙනි; "**භන්තෙ**, ස්වාමීනි; **සාකියානී ජනපදකල්‍යාණී**, ශාක්‍යවංශික ජනපදකල්‍යාණිය; **සා නික්ඛමන්තස්ස මං**, ගෙයින් නික්මෙන්නා වූ මට; **උපඩ්ඪුල්ලිඛිතෙහි**, අඩක් පීරන ලද; **කෙසෙහි**, හිසකෙස් ඇතිව; **මං**, මාදෙස **අපලොකෙත්වා**, බලා; **එතදවොච**, මෙය කීවා ය; "**අය්‍යපුත්ත**, ස්වාමිපුත්‍රය; **තුවටං ඛො**, ඉක්මනින්ම; **ආගච්ඡෙය්‍යාසි**, එනු මැනවි;" **ඉති**, යනුවෙනි; "**භන්තෙ**, ස්වාමීනි; **සො ඛො අහං**, ඒ මම; **තං අනුස්සරමානො**, එය සිහි කරමින්; **අනභිරතො**, සසුනෙහි නො ඇලුනේ; **බ්‍රහ්මචරියං**, බඹසර; **චරාමි**, හැසිරෙමි; **බ්‍රහ්මචරියං**, බඹසර; **සන්ධාරෙතුං**, උසුලන්නට; **න සක්කොමි**, නො හැක්කෙමි; **සික්ඛං පච්චක්ඛාය**, ශික්ෂාව ප්‍රතික්ෂේප කොට; **හීනායාවත්තිස්සාමි**, ගිහි බවට පෙරළෙන්නෙමි;" **ඉති**, යනු යි.

**අථ ඛො භගවා**, ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ; **ආයස්මන්තං නන්දං**, ආයුෂ්මත් නන්ද; **බාහාය ගහෙත්වා**, අතින් අල්ලාගෙන; **සෙය්‍යථාපි නාම**, යම්සේ නම්; **බලවා පුරිසො**, බලවත් පුරුෂයෙක්; **සම්මිඤ්ජිතං වා**, හකුළන ලද හෝ; **බාහං**, බාහුව; **පසාරෙය්‍ය**, දිගු කරන්නේ ද; **පසාරිතං වා**, දිගුකළා වූ හෝ; **බාහං**, බාහුව; **සම්මිඤ්ජෙය්‍ය**, හකුළුවන්නේ ද; **එවමෙව**, එසේම; **ජෙතවනෙ**, දෙව්රම් වෙහෙරෙහි; **අන්තරහිතො**, අතුරුදහන් වූයේ; **දෙවෙසු තාවතිංසෙසු**, තව්තිසා දෙව්ලොව; **පාතුරහොසි**, පහළ වූ සේක. **තෙන ඛො පන සමයෙන**, එසමයෙහි වනාහි; **කකුටපාදානි**, පරෙවි පා බඳු පා ඇති; **පඤ්චමත්තානි අච්ඡරාසතානි**, පන්සියයක් පමණ අප්සරාවන්; **සක්කස්ස දෙවානමින්දස්ස**, ශක්‍ර දේවේන්ද්‍රයන්ගේ; **උපට්ඨානං**, උපස්ථානයට; **ආගතානි හොන්ති**, ආවාහු වෙති; **අථ ඛො**, ඉක්බිති; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **ආයස්මන්තං නන්දං**, ආයුෂ්මත් නන්ද තෙරුන්; **ආමන්තෙසි**, ඇමතූ සේක; "**නන්ද**, නන්දය, **ත්වං**, ඔබ; **කකුටපාදානි**, පරෙවි පා බඳු පා ඇති; **පඤ්ච අච්ඡරාසතානි**, පන්සියයක් අප්සරාවන්; **පස්සසි නො**, දකින්නෙහි නොවේ ද?"; **ඉති**, යනුවෙනි; "**භන්තෙ**, ස්වාමීනි; **එවං**, එසේ ය;"**ඉති**, යනුවෙනි. "**නන්ද**, නන්දය; **තං කිං මඤ්ඤසි**, ඒ ගැන කුමක් සිතහි ද? **සාකියානි**, ශාක්‍යපුත්‍රී වූ; **ජනපදකල්‍යාණී වා**, ජනපදකල්‍යාණිය හෝ; **කකුටපාදානි**, පරෙවි පා බඳු පා ඇති; **ඉමානි**, මේ; **පඤ්ච අච්ඡරාසතානි**, අප්සරාවන් පන්සියය හෝ; **කතමා නු**, (මොවුන් අතරින්) කවරහු නම්; **අභිරූපතරා ච**, විශිෂ්ට රූපසම්පන්න වූවෝ ද; **දස්සනීයතරා ච**, වඩා දැකුම් කටයුත්තෝ ද; **පාසාදිකතරා ච**, පැහැදීම් එළවන්නෝ ද?;"**ඉති**, යනුවෙනි.

"**භන්තෙ**, ස්වාමීනි; **කණ්ණනාසච්ඡින්නා**, කන් නාසා සිඳුණු; **පලුට්ඨමක්කටී**, පිළිස්සුණු වැඳිරිය; **සෙය්‍යථාපි**, යම්සේ වන්නී ද; **භන්තෙ**, ස්වාමීනි; **සාකියානී ජනපදකල්‍යාණී**, ශාක්‍යපුත්‍රී ජනපදකල්‍යාණිය ද; **එවමෙව**, එසේ ම ය; **ඉමෙසං**, මේ; **පඤ්චන්නං අච්ඡරාසතානං**, පන්සියයක් අප්සරාවන්ගේ; **උපනිධාය**, සමීපයෙහි ලා සැළකීමේදී; **සඞ්ඛං අපි**; **න උපෙති**, ගණනකටවත් නො එයි; **කලං අපි**, (සොළොස් වන

කලාවෙන්) එක් කලාවකට ද; **න උපෙති**, නො එයි; **කලභාගං අපි**, කලාවෙන් භාගයකට ද; **න උපෙති**, නො එයි; **උපනිධිං අපි**, සමීපයේ තැබීමට ද; **න උපෙති**, නො එයි; **අථ ඛො**, තව ද; **ඉමානි පඤ්ච අච්ඡරාසතානි**, මේ පන්සියයක් අප්සරාවෝ; **අභිරූපතරානි**, වඩා විශිෂ්ට රූ ඇත්තෝ ද; **දස්සනීයතරානි**, වඩා දැකුම්කලු වූවෝ ද; **පාසාදිකතරානි**, වඩා පැහැදීම් එළවන්නෝ ද වෙති;"**ඉති**, යනුවෙනි. "**නන්ද**, නන්දය; **අභිරම**, සසුනෙහි ඇලුම් කරව; **නන්ද**, නන්දය; **අභිරම**, සසුනෙහි ඇලුම් කරව; **අහං**, මම; **තෙ**, ඔබට; **කකුටපාදානං**, පරෙවි පා බඳු පා ඇති; **පඤ්චන්නං අච්ඡරාසතානං**, පන්සියයක් දෙවඟනන්; **පටිලාභාය**, ලබාදීම සඳහා; **පාටිභොගො**, ඇපවෙමි;" **ඉති**, යනුවෙනි. "**භන්තෙ**, ස්වාමීනි; **සචෙ**, ඉදින්; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **මෙ**, මට; **කකුටපාදානං**, පරෙවි පා බඳු පා ඇති; **පඤ්චන්නං අච්ඡරාසතානං**, පන්සියයක් අප්සරාවන්; **පටිලාභාය**, ලබාදීමට; **පාටිභොගො**, ඇපවන්නෝ නම්; **භන්තෙ**, ස්වාමීනි; **අහං**, මම; **භගවති**, භාග්‍යවතුන් වහන්සේ වෙත; **බ්‍රහ්මචරියෙ**, බඹසර රැක්මෙහි; **අභිරමිස්සාමි**, ඇලෙන්නෙමි;"**ඉති**, යනුවෙනි.

**අථ ඛො**, ඉක්බිති; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **ආයස්මන්තං නන්දං**, ආයුෂ්මත් නන්ද; **බාහාය ගහෙත්වා**, අතින් අල්ලා ගෙන; **සෙය්‍යථාපි නාම**, යම්සේ වනාහි; **බලවා පුරිසො**, බලවත් පුරුෂයෙක්; **සම්මිඤ්ජිතං වා**, හැකිළ වූ හෝ; **බාහං**, බාහුව; **පසාරෙය්‍ය**, දිගු කරන්නේ නම්; **පසාරිතං වා**, දිගු කළා වූ හෝ; **බාහං**, බාහුව; **සම්මිඤ්ජෙය්‍ය**, හකුළුවන්නේ නම්; **එවමෙව**, එපරිද්දෙන්; **දෙවෙසු තාවතිංසෙසු**, තව්තිසා දෙව්ලොවෙහි; **අන්තරහිතො**, අතුරුදහන්ව; **ජෙතවනෙ**, දෙව්රම් වෙහෙර; **පාතුරහොසි**, පහළ වූ සේක. **භික්ඛූ ඛො**, භික්ෂූන් වහන්සේලා වනාහි; "**භගවතො**, භාග්‍යවතුන් වහන්සේගේ; **භාතා**, සොයුරු වූ; **මාතුච්ඡාපුත්තො**, සුළුමවගේ පුත්‍ර වූ; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද තෙරුන්; **අච්ඡරානං හෙතු**, අප්සරාවන් නිසා; **බ්‍රහ්මචරියං**, බඹසර; **චරති**, හැසිරේ; **භගවා කිර**, භාග්‍යවතුන් වහන්සේ වනාහි; **අස්ස**, ඔහුට; **කකුටපාදානං**, පරෙවි පා බඳු පා ඇති; **පඤ්චන්නං අච්ඡරාසතානං**, පන්සියයක් අප්සරාවන්; **පටිලාභාය**, ලබාදීමට; **පාටිභොගො ඉති**, ඇප වී යයි; **අස්සොසුං**, ඇසූහ." **අථ ඛො**, ඉක්බිති; **ආයස්මතො**, ආයුෂ්මත්; **නන්දස්ස**, නන්දගේ; **සහායකා භික්ඛූ**, යහළු භික්ෂූහු; **ආයස්මන්තං නන්දං**, ආයුෂ්මත් නන්ද තෙරුන්ට; **භතකවාදෙන ච**, බැල මෙහෙකරු යන වදනින් ද; **උපක්කිතවාදෙන ච**, මිලදී ගැනීම් වාදයෙන් ද; **සමුදාචරන්ති**, ව්‍යවහාර කරති; "**ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද; **භතකො**, බැලමෙහෙකරුවෙකි; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද; **උපක්කිතකො**, මිලදී ගනු ලැබූවෙකි; **අච්ඡරානං හෙතු**, අප්සරාවන් නිසා; **බ්‍රහ්මචරියං**, බඹසර; **චරති**, හැසිරෙයි; **භගවා කිර**, භාග්‍යවතුන් වහන්සේ වනාහි; **අස්ස**, ඔහුට; **කකුටපාදානං**, පරෙවි පා බඳු පා ඇති; **පඤ්චන්නං අච්ඡරාසතානං**, පන්සියයක් අප්සරාවන්; **පටිලාභාය**, ලබා දීමට; **පාටිභොගො**, ඇප වූවෝ ය;"**ඉති**, යනු යි.

**අථ ඛො**, ඉක්බිති; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද තෙම; **සහායකානං භික්ඛූනං**, යහළු භික්ෂූන්ගේ; **භතකවාදෙන ච**, බැලමෙහෙකරු වාදයෙන් ද; **උපක්කිතවාදෙන ච**, මිලදී ගැනීම් වාදයෙන් ද; **අට්ටීයමානො**, පෙළනු ලබන්නේ; **හරායමානො**, ලජ්ජාවට පත් කරනු ලබන්නේ; **ජිගුච්ඡමානො**; පිළිකුල් කරනු ලබන්නේ; **එකො වූපකට්ඨො**, හුදෙකලාව විවේකයෙන් යුතු වූයේ; **අප්පමත්තො**, අප්‍රමාදී වූයේ; **ආතාපී**, කෙලෙස් තවන වීර්යය ඇත්තේ; **පහිතත්තො**, නිවනට යොමු කළ සිත් ඇතිව; **විහරන්තො**, වසන්නේ; **යස්සත්ථාය**, යමක් සඳහා; **කුලපුත්තා**, කුලදරුවෝ; **සම්මදෙව**, මොනවට; **අගාරස්මා**, ගිහිගෙන්

නික්ම; **අනගාරියං**, අනගාරික වූවෝ; **පබ්බජන්ති**, පැවිදි වෙත් ද; **බ්‍රහ්මචරියපරියොසානං**, බ්‍රහ්මචර්යාව කෙළවර කොට ඇති **තං අනුත්තරං**, ඒ අනුත්තර වූ රහත්බව; **දිට්ඨෙව ධම්මෙ**, මෙලොවදී ම; **සයං**, තෙමේ ම; **අභිඤ්ඤා සච්ඡිකත්වා**, නුවණින් දැන සාක්ෂාත් කොට; **උපසම්පජ්ජ**, නුවණින් ලැබ; **විහාසි**, වාසය කළේ ය; **ජාති**, පුනර්භවය; **ඛීණා**, ක්ෂීණ වීය; **බ්‍රහ්මචරියං**, බඹසර; **වුසිතං**, වැස නිමවන ලදී; **කරණීයං**, කළයුත්ත; **කතං** කරන ලදී; **ඉත්ථත්තාය**, රහත්බව පිණිස; **න අපරං**, වෙන කළ යුත්තක් නැත; **ඉති**, යනුවෙන්; **අබ්භඤ්ඤාසි**, දැනගත්තේ ය; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද තෙම; **අඤ්ඤතරො ච ඛො පන අරහතං**, රහතුන් අතුරෙහි වනාහි එක්තරා කෙනෙක්; **අහොසි**, වීය.

**අථ ඛො**, ඉක්බිති; **අඤ්ඤතරා දෙවතා**, එක්තරා දෙවි කෙනෙක්; **අභික්කන්තාය රත්තියා**, සිත්ගන්නාසුලු රාත්‍රියක; **අභික්කන්තවණ්ණා**, සිත්ගන්නා වර්ණයෙන් යුතුව; **කෙවලකප්පං**, සම්පූර්ණ; **ජෙතවනං**, ජේතවනය; **ඔභාසෙත්වා**, බබුළුවා; **යෙන භගවා**, භාග්‍යවතුන් වහන්සේ යම් තැනක ද; **තෙනුපසඞ්කමි**, එතැනට එළඹියේ ය; **උපසඞ්කමිත්වා**; එළඹ; **භගවන්තං**, භාග්‍යවතුන් වහන්සේට; **අභිවාදෙත්වා**, වැඳ; **එකමන්තං**, එකත්පස්ව; **අට්ඨාසි**, සිටියේ ය; **එකමන්තං**, එකත්පසක; **ඨිතා**, සිටියා වූ; **සා දෙවතා ඛො**, ඒ දෙවිතෙම වනාහි; **භගවන්තං**, භාග්‍යවතුන් වහන්සේට; **එතදවොච**, මෙය කීය. "**භන්තෙ**, ස්වාමීනි; **භගවතො භාතා**, භාග්‍යවතුන් වහන්සේගේ සොයුරු වූ; **මාතුච්ඡාපුත්තො**, සුළුමවගේ පුත්‍ර වූ; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද තෙම; **ආසවානං ඛයා**, ආශ්‍රවයන් ක්ෂය කිරීමෙන්; **අනාසවං**, කෙලෙස් රහිත; **චෙතොවිමුත්තිං**, චෙතෝ විමුක්තියට (සිත් කෙලෙස්වලින් නිදහස්වීමට); **පඤ්ඤාවිමුත්තිං**, ප්‍රඥා විමුක්තියට (ප්‍රඥාව නිසා කෙලෙසුන්ගෙන් මිදීමට) **සම පජ්ජ**, පැමිණ; **දිට්ඨෙව ධම්මෙ**, මෙලොවදී ම; **සයං**, තෙමේ ම; **අභිඤ්ඤා**, නුවණින් දැන; **සච්ඡිකත්වා**, සාක්ෂාත් කොට; **විහරති ඉති**, වාසය කරයි" යනුවෙනි. **නන්දො**, නන්ද තෙමේ; **ආසවානං ඛයා**, ආශ්‍රවයන් ක්ෂය කිරීමෙන්; **අනාසවං**, කෙලෙස් රහිත; **චෙතොවිමුත්තිං**, චෙතෝ විමුක්තියට (සිත් කෙලෙස්වලින් නිදහස්වීමට); **පඤ්ඤාවිමුත්තිං**, ප්‍රඥා විමුක්තියට (ප්‍රඥාව නිසා කෙලෙසුන්ගෙන් මිදීමට) **සම්පජ්ජ**, පැමිණ; **දිට්ඨෙව ධම්මෙ**, මෙලොවදී ම; **සයං**, තෙමේ ම; **අභිඤ්ඤා**, නුවණින් දැන; **සච්ඡිකත්වා**, සාක්ෂාත් කොට; **විහරති ඉති**, වාසය කරයි" **භගවතොපි ඛො**, භාග්‍යවතුන් වහන්සේට ද වනාහි; **ඤාණං** නුවණ; **උදපාදි** පහළ විය.

**අථ ඛො**, ඉක්බිති; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද තෙම; **තස්සා රත්තියා අච්චයෙන**, ඒ රාත්‍රිය ඇවෑමෙන්; **යෙන භගවා**, භාග්‍යවතුන් වහන්සේ යම් තැනක ද; **තෙනුපසඞ්කමි**, එතනට එළඹියේ ය; **උපසඞ්කමිත්වා**, එළඹ; **භගවන්තං අභිවාදෙත්වා**, භාග්‍යවතුන් වහන්සේට වැඳ; **එකමන්තං**, එකත්පසෙක; **නිසීදි**, හුන්නේ ය; **එකමන්තං**, එකත්පසෙක; **නිසින්නො**, හුන්නා වූ; **ආයස්මා නන්දො**, ආයුෂ්මත් නන්ද තෙම; **භගවන්තං**, භාග්‍යවතුන් වහන්සේට; **එතදවොච**, මෙය කීය; "**භන්තෙ**, ස්වාමීනි; **භගවා**, භාග්‍යවතුන් වහන්සේ; **මෙ**, මට; **කකුටපාදානං**, පරෙවි පා බඳු පා ඇති; **පඤ්චන්නං අච්ඡරාසතානං**; අප්සරාවන් පන්සියයක්; **පටිලාභාය**, ලබා දීමට; **පාටිභොගො**, ඇප වූවෙහිය. **භන්තෙ**, ස්වාමීනි; **අහං**, මම; **භගවන්තං**, භාග්‍යවතුන් වහන්සේ; **එතස්මා පටිස්සවා**, එම පොරොන්දුවෙන්; **මුඤ්චාමි ඉති**, මුදවමි" යනුවෙනි;"**නන්ද**, නන්දය; **මයා අපි ඛො**, මා විසිනුදු වනාහි; **චෙතසා**, සිතින්; **තෙ**; ඔබගේ; **චෙතො**; සිතිවිල්ල; **පරිච්ච විදිතො**; දැනගන්නා ලදී; **නන්දො**; නන්ද තෙම; **ආසවානං ඛයා**, ආශ්‍රව ක්ෂය කොට; **අනාසවං**, කෙලෙස් රහිත වූයේ; **චෙතොවිමුත්තිං**,

චේතෝ විමුක්තියට; **පඤ්ඤාවිමුත්තිං;** ප්‍රඥාවිමුක්තියට **දිට්ඨෙව ධම්මෙ;** මෙලොවදී ම; **සයං,** තෙමේම; **අභිඤ්ඤා,** අභිඥාවන්; **සච්ඡිකත්වා,** සාක්‍ෂාත් කොට; **උපසම්පජ්ජ,** පැමිණ; **විහරති ඉති,** වාසය කරයි යනුවෙනි. "**භන්තෙ,** ස්වාමීනි; **භගවතො භාතා,** භාග්‍යවතුන් වහන්සේගේ සොයුරු වූ; **මාතුච්ඡාපුත්තො,** සුළුමවගේ පුත්‍ර වූ; **ආයස්මා නන්දො,** ආයුෂ්මත් නන්ද තෙම; **ආසවානං ඛයා,** ආශ්‍රවක්‍ෂය කොට; **අනාසවං,** කෙලෙස් රහිත වූයේ; **චෙතොවිමුත්තිං,** චෙතොවිමුක්තියට; **පඤ්ඤාවිමුත්තිං,** ප්‍රඥාවිමුක්තියට; **දිට්ඨෙව ධම්මෙ,** මෙලොවදී ම; **සයං,** තෙමේම; **අභිඤ්ඤා,** අභිඥාවන් **සච්ඡිකත්වා,** සාක්‍ෂාත් කොට; **උපසම්පජ්ජ,** පැමිණ; **විහරති ඉති,** වාසය කෙරේ යයි **දෙවතා අපි,** දෙවියෙකුදු; **මෙ,** මට; **ආරොචෙසි,** දැන්වීය. "**නන්ද,** නන්දය; **යදෙව,** යම් කලෙක; **තෙ චිත්තං,** ඔබගේ සිත; **අනුපාදාය,** කෙලෙස් රහිතව; **ආසවෙහි,** ආශ්‍රවයන්ගෙන්; **විමුත්තං,** මිදුනේ ද; **අථ;** එකල්හි **අහං,** මම; **එතස්මා පටිස්සවා,** මෙම පොරොන්දුවෙන්; **මුත්තො,** මිදුනේ වෙමි'යි (භාග්‍යවතුන් වහන්සේ වදාළසේක.)

**අථ ඛො,** ඉක්බිති; **භගවා,** භාග්‍යවතුන් වහන්සේ; **එතං අත්ථං,** මේ කරුණ; **විදිත්වා,** දැන; **තායං වෙලායං,** එම වේලාවෙහි; **ඉමං උදානං,** මේ උදානය; **උදානෙසි,** උදන් ඇනූ සේක.

**යස්ස,** යමෙකු විසින් **පඞ්කො,** කෙලෙස් මඩවගුර; **නිත්තිණ්ණො,** තරණය කරන ලද්දේ ද; **කාමකණ්ටකො,** ක්ලේශකාම නැමැති කටු; **මද්දිතො,** මඩනා ලදද ද; **මොහක්ඛයං,** (යමෙක්) මොහක්‍ෂයට; **අනුප්පත්තො,** පැමිණියේ ද; **සො භික්ඛු,** ඒ භික්‍ෂුව; **සුඛදුක්ඛෙසු,** සැපදුක් දෙකෙහි; **න වෙධති,** නො සැලේ.

**අභ්‍යාස**

01. පහත අර්ථය දෙන සූත්‍ර පාඨය උද්ධෘත කර ලියන්න.

i. ඇවැත්නි; මම සසුනට ඇල්මක් නැතිව බඹසර හැසිරෙමි.
ii. ආර්ය පුත්‍රය වහාම එන්න.
iii. නන්දයෙනි; ඔබ මේ අප්සරාවන් පන්සියය දක්නෙහි ද?
iv. ආයුෂ්මත් නන්ද තෙම බැල මෙහෙකරුවෙකි.
v. ස්වාමීනි; මම භාග්‍යවතුන් වහන්සේ එම පොරොන්දුවෙන් මුදවමි.

02. සුදුසු වචන යොදා හිස්තැන් පුරවන්න. අර්ථය ද ලියන්න.

(භික්ඛූනං, භික්ඛ, භික්ඛුං, බ්‍රහ්මචරියං, ත්වං, පච්චක්ඛාය, පාටිහොගො, අච්ඡරාසතානං)

i. න සක්කොමි .................................... සන්ධාරෙතුං.
ii. එහි ත්වං .................................... මම වචනෙන නන්දං ............................ ආමන්තෙහි.
iii. සච්චං කිර .................................... නන්ද සම්බහුලානං ............................ එවමාරොචෙසි.
iv. සික්ඛං .................................... හිනායාවත්තිස්සාමි.
v. අහං තෙ .................................... පඤ්චන්නං ............................ පටිලාභාය.

03. පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කස්ස පන භික්ඛුනො අනභිරතො පාතුරහොසි?
ii. කො නන්දං බාහාය ගහෙත්වා දෙවලොකං අගමාසි?
iii. නන්දො තාවතිංසෙසු කානි අපස්සි?
iv. නන්දො කස්ස භාතා අහොසි?
v. නන්දස්ස සහායකා භික්ඛූ නන්දං කථං සමුදාචරිංසු?

04. පහත සඳහන් අර්ථය දෙන පාලි වාක්‍යාංශය සූත්‍රයෙන් තෝරා ලියන්න.

i. පුළුටු වැඳිරිය
ii. අඩක් පීරූ කෙස් ඇතිව
iii. පරවි පා බඳු පා ඇති
iv. ගිහිබවට යන්නෙමි
v. ළඟින් තැබීමට නොසුදුසු ය
vi. පොරොන්දුව
vii. විකුණාගනු ලැබූවෙකි
viii. ඇපවීම

05. විවරණ සපයන්න.

i. බ්‍රහ්මචරියං
ii. අභිඤ්ඤා සච්ඡිකත්වා
iii. ඛීණා ජාති
iv. දෙවෙසු තාවතිංසෙසු
v. සාවත්ථියං

06. සිංහලෙන් පිළිතුරු සපයන්න.

i. පළමු අවස්ථාවේ දී නන්ද තෙරුන්ගේ ජනපද කල්‍යාණිය පිළිබඳ ආකල්පය විස්තර කරන්න.
ii. නන්ද තෙරුන් දෙවඟනන් දුටු පසු ජනපද කල්‍යාණිය පිළිබඳ දක්වන ලද ආකල්පය විස්තර කරන්න.
iii. නන්ද සූත්‍රයේ ඇතුළත් චරිත ගණන නම් කරන්න.
iv. දෙවඟනන් පතා මහණදම් කරන නන්ද තෙර ඔබ යැයි උපකල්පනය කොට ඔබට දොස් නගන යහළුවන්ගේ කියමන් ලියා දක්වන්න.
v. නන්ද තෙරුන්ගේ කථාව තේමා කොට රචිත නිර්මාණ එකතු කරන්න. (පොත් / ගීත / චිත්‍ර)

07. නන්ද සූත්‍රය ආශ්‍රයෙන් පාලි සංවාදයක් ලියන්න.

## සත්තරසමො පාඨො

# අපදානපාළි

බුද්දකනිකායට අයත් ග්‍රන්ථ මාලාවේ තෙළෙස් වන ග්‍රන්ථය අපාදානපාළියයි. පූර්වයේ කරන ලද කුශලානුභාවයෙන් ජනිත වූ උදාර චරිතයක් පූර්වේනිවාසානුස්මෘතියෙන් හෙවත් පෙර විසූ කඳ පිළිවෙළ දක්නා නුවණින් දැක අතීත වෘත්තාන්ත වශයෙන් ගෙනහැර දැක්වීම අපදාන ශබ්දයේ අර්ථය යි. අපදාන ශබ්දය කරණ, ග්‍රහණ, අපගමන, පටිපාටි, ආක්‍රෝෂණ යනාදි අර්ථ කීපයක වැටෙයි. මෙහි අපදාන ශබ්දය වැටෙනුයේ කරණාර්ථයේ ය. ඒ අනුව බුදුවරුන්ගේ අපදානයෝ බුද්ධාපදානයෝ ය. බුද්ධකාරක නම් පාරමිතා ධර්ම ඒ අනුව සම්බුදු, පසේබුදු, මහරහත් යන ආර්යයන් වහන්සේලාගේ මුලින්වූ පාරමිතා පිරීමේ සිද්ධියට වූ කාරණය අපදානය නම් වේ.

නවාංගසත්ථුසාසනයෙහි ගාථාංගයෙහි ලා අපදාන ඇතුළත් කෙරේ. නවාංග සත්ථුසාසනය යනු බුද්ධවචනය වර්ගීකරණය කළ ඉපැරැණි ක්‍රමයකි. අර්ථකථාචාර්යයන් වහන්සේලාගේ විග්‍රහයට අනුව නවාංගසත්ථුසාසනය මෙසේ ය. **සුත්ත, ගෙය්‍ය, වෙය්‍යාකරණ, ගාථා, උදාන, ඉතිවුත්තක, ජාතක, අබ්භුතධම්ම, වෙදල්ල** යනුවෙනි.

අපදාන ප්‍රධාන වශයෙන් කොටස් 04 කි.

1. **බුද්ධාපදාන**
2. **පච්චෙක බුද්ධාපදාන**
3. **ථෙරාපදාන**
4. **ථෙරී අපදාන** වශයෙනි.

අපදානපාළියෙහි වර්ග 65 ක් පමණ වේ. අපදාන 592 ක් ඇත. ගාථා 7619 ක් ඇත. බුද්ධාපදාන 1 ක් පච්චෙක බුද්ධාපදාන 1 ක් ථෙරාපදාන 550 ක් හා ථෙරී අපදාන 40 ක් මෙහි ඇතුළත් ය. සම්පූර්ණ අපදානපාළිය පද්‍යයෙන් රචනා වී ඇත.

අපදානපාළිය ථෙර ථෙරීන්ගේ අතීත චරිත කථා දක්වනු පිණිස රචනා වී ඇත. ථෙර ථෙරීගාථාවන්හි ප්‍රධානත්වය ලැබී ඇත්තේ ථෙර ථෙරීන්ගේ වර්තමාන චරිත සම්බන්ධ සිද්ධීන් පැහැදිලි කිරීමට ය. ගිහි ජීවිත යේ දුක්බර සිද්ධි, ඒවායෙන් අතමිදී පැවිද්ද ලැබීම, පැවිද්දේ ඇති නිරාමිස ප්‍රීතිය එහි විස්තර වේ. අපදානපාළියෙහි විස්තර වන්නේ වර්තමාන චරිතයේ ප්‍රභවයට හේතු වූ අතීත භවයන්හි කළ කුශලාකුශල ක්‍රියාවන් ය. වර්තමාන චරිත සිද්ධි ද විස්තර වේ. සර්වාස්තිවාදී නිකායෙහි **අවදානශතක, දිව්‍යාවදාන** වැනි ග්‍රන්ථවල ද බුද්ධ කාලීන හා පශ්චාත්කාලීන තෙරවරුන්ගේ චරිත අන්තර්ගත වෙයි.

**ථෙරී අපදාන හා ගෝතමී ථෙරී අපදානය**

ථෙරී අපදානය වර්ග 4 කින් හා අපදාන 40 කින් සමන්විත ය. එහි වර්ග 4 මෙසේ ය.

1. **සුමෙධා වර්ගය**
2. **එකූපොසථික වර්ගය**
3. **කුණ්ඩලකෙසී වර්ගය**
4. **ඛත්තියා වර්ගය** වශයෙනි.

ඉන් මහා ප්‍රජාපතී ගෝතමී අපදානය ඇතුළත් වන්නේ එකූපෝසථික වර්ගයට ය. එම වර්ගයට අපදාන 10 ක් අයත් වේ.

1. **එකූපොසථිකාපදානය**
2. **සලලපුප්ඵිකාපදානය**
3. **මොදකදායිකාපදානය**
4. **එකාසනදායිකාපදානය**
5. **පඤ්චදීපදායිකාපදානය**
6. **සලමාලිකාපදානය**
7. **මහාප්‍රජාපතීගොතමී අපදානය**
8. **ඛෙමා අපදානය**
9. **උප්පලවණ්ණාපදානය**
10. **පටාචාරාපදානය** වශයෙනි.

මින් 7 වන මහාපජාපතී අපදානයට ගාථා 190 ක් අයත්වේ. එහි අන්තර්ගතය සංක්ෂිප්ත වශයෙන් මෙසේ ය.

- බුදුරදුන් විශාලා මහනුවර කූටාගාර ශාලාවෙහි වැඩ වසන විට ප්‍රජාපතී ගෝතමී තෙරණිය ඇතුළු 500 ක් තෙරණින්ට පරිනිර්වාණය සඳහා සිතුවිලි පහළවීම.
- එවිට භූමිකම්පා, නොකල් වැසි ආදිය ඇතිවීම.
- රහත් නොවූ ඇයගේ, වැළපීම්, ඉල්ලීම් ආදි තොරතුරු.
- බුදුරදුන් වෙත ගොස් වැරදිවලට සමාව ඉල්ලා පරිනිර්වාණය සඳහා අවසර ගැනීම.
- නන්ද, ආනන්ද, රාහුලාදි තෙරවරුන්ට පරිනිර්වාණය දන්වා සිටීම.
- ආනන්ද තෙරුන්ගේ වැළපීම.
- මහා ප්‍රජාපතී ගෝතමී තෙරණිය රහත් බව ලැබ පෙළහර පෑ අයුරු.
- පදුමුත්තර බුදුන් සමයෙහි භික්ෂුණියක් චිරරාත්‍රඥ අග්‍ර තනතුරෙහි තබනු දැක ප්‍රාර්ථනා කිරීම.
- සසර කුසල් කොට දෙව්ලොව ශක්‍රයාගේ අගමෙහෙසිය වීම.
- බුදුන් දොරකොටුව තෙක් ජනකාය සමඟ ගෝතමිය අනුව යාම.

- ගෝතමී තෙරණිය ඇතුළු 500 ක් තෙරණිවරුන්ගේ පරිනිර්වාණය.
- මහී කම්පා වීම් ආදි ආශ්චර්යයන් සිදුවීම.
- ගෝතමී තෙරණිය ඇතුළු තෙරණිවරුන්ගේ ආදාහන පූජාව

මෙම තොරතුරු ඉතා විසිතුරු ලෙසත් සංවේග ජනක ලෙසත් පාලි ගාථාවන්ගෙන් ඉදිරිපත් කෙරේ.

**අභ්‍යාස**

i. 'අපදාන' යන්නෙහි අර්ථය ලියන්න.
ii. අපදානපාළිය ඛුද්දක නිකායේ කී වැනි ග්‍රන්ථය ද?
iii. අපදානවර්ග කීය ද? ඒ මොනවා ද?
iv. අපදානපාළියෙහි ඇතුළත් සියලු අපදාන සංඛ්‍යාව කීය ද?
v. අපදානපාළියෙහි ඇතුළත් ගාථා ගණන කීය ද?
vi. අපදානපාළියෙහි අටුවාවෙහි නම කුමක් ද?
vii. අපදානට්ඨකථාවේ කතුවරයා කවුද?
viii. අපදානපාළියෙහි ථෙරී අපදාන කීයක් ඇතුළත් ද?
ix. 'නවාංගසත්ථුසාසනය' නම් කරන්න.
x. මහා ප්‍රජාපතී ගෝතමී අපදානයෙහි ඇතුළත් ගාථා ගණන කීය ද?

## අට්ඨාරසමො පාඨො

# මහාපජාපතිගොතමී අපදානං

01. එකදා ලොකපජ්ජොතො වෙසාලියං මහාවනෙ,
කූටාගාරෙ සුසාලායං වසතෙ නරසාරථී.

02. තදා ජිනස්ස මාතුච්ඡා මහාගොතමි භික්ඛුනී,
තහිං කතෙ පුරෙ රම්මෙ වසී භික්ඛුනුපස්සයෙ.

03. භික්ඛුනීහි විමුත්තාහි සතෙහි සහ පඤ්චහි,
රහොගතාය තස්සෙවං චිත්තස්සා'සි විතක්කිතං.

04. "බුද්ධස්ස පරිනිබ්බාණං සාවකග්ගයුගස්ස වා
රාහුලා,නන්දනන්දානං නාහං ලච්ඡාමි පස්සිතුං.

05. පටිගච්චා,යුසඞ්ඛාරෙ ඔස්සජිත්වාන නිබ්බුතිං,
ගච්ඡෙය්‍යං ලොකනාථෙන අනුඤ්ඤාතා මහෙසිනා."

06. තථා පඤ්චසතානම්පි භික්ඛුනීනං විතක්කිතං,
ආසි ඛෙමාදිකානම්පි එතදෙව විතක්කිතං.

07. භූමිචාලො තදා ආසි නාදිතා දෙවදුන්දුභි,
උපස්සයා'ධිවත්ථායො දෙවතා සොකපීළිතා,
විලපන්තා සකරුණං තත්ථ'ස්සූනි පවත්තයුං.

08. මිත්තා භික්ඛුනියො තා හි උපගන්ත්වාන ගොතමිං,
නිපච්ච සිරසා පාදෙ ඉදං වචනමබ්‍රවුං:

09. "තත්ථ තොයලවාසිත්තා මයමය්‍යෙ රහොගතා
සාචලා චලිතා භූමි නාදිතා දෙවදුන්දුභි,
පරිදෙවා ච සූයන්ති කිමත්ථං නූන ගොතමී."

10. තදා අවොච සා සබ්බං යථා පරිවිතක්කිතං,
තායො'පි සබ්බා ආහංසු යථා පරිවිතක්කිතං.

11. "යදි තෙ රුචිතං අය්‍යෙ නිබ්බාණං පරමං සිවං,
නිබ්බායිස්සාම සබ්බාපි බුද්ධා'නුඤ්ඤාය සුබ්බතෙ.

12. මයං සහා’ව නික්ඛන්තා සරාපි ච භවාපි ච
සහයෙව ගමිස්සාම නිබ්බාණපුරමුත්තමං.

13. නිබ්බානාය වජන්තීනං කිං වක්ඛාමීති සා වදං
සහ සබ්බාහි නිග්ගච්ඡි භික්ඛුනීනිලයා තදා.

14. උපස්සයෙ යා’ධිවත්ථා දෙවතා තා ඛමන්තු මෙ,
භික්ඛුනීනිලයස්සෙදං පච්ඡිමං දස්සනං මම.

15. න ජරා මච්චු වා යත්ථ අප්පියෙහි සමාගමො,
පියෙහි විප්පයොගො’ත්ථි තං වජිස්සං අසඞ්ඛතං.

16. අවීතරාගා තං සුත්වා වචනං සුගතොරසා,
සොකට්ටා පරිදෙවිංසු අහො නො අප්පපුඤ්ඤතා.

17. භික්ඛුනීනිලයො සුඤ්ඤො, භූතො තාහි විනා අයං,
පභාතෙ විය තාරායො න දිස්සන්ති ජිනොරසා.

18. නිබ්බානං ගොතමී යාති සතෙහි සහ පඤ්චහි,
නදීසතෙහිව සහ ගඞ්ගා පඤ්චහි සාගරං.

19. රථිකාය වජන්තිං තං දිස්වා සද්ධා උපාසිකා,
ඝරා නික්ඛම්ම පාදෙසු නිපච්ච ඉදමබ්‍රවුං.

20. “පසීදස්සු මහාභොගෙ අනාථායො විහාය නො,
තයා න යුත්තං නිබ්බාතුං” ඉච්චට්ටං විලපිංසු තා.

21. තාසං සොකපහාණත්ථං අවොච මධුරං ගිරං,
“රුදිතෙන අලං පුත්තා හාසකාලො’යමජ්ජ වො.

22. පරිඤ්ඤාතං මයා දුක්ඛං දුක්ඛහෙතු විවජ්ජිතො,
නිරොධො මෙ සච්ඡිකතො මග්ගො චාපි සුභාවිතො.

23. පරිචිණ්ණො මයා සත්ථා කතං බුද්ධස්ස සාසනං,
ඔහිතො ගරුකො භාරො භවනෙත්ති සමූහතා.

24. යස්සත්ථාය පබ්බජිතා අගාරස්මානගාරියං,
සො මෙ අත්ථො අනුප්පත්තො සබ්බසඤ්ඤොජනක්ඛයො.

25. බුද්ධො තස්ස ච සද්ධම්මො අනූනො යාව තිට්ඨති,
නිබ්බාතුං තාව කාලො මෙ මා මං සොචථ පුත්තිකා.

26. කොණ්ඩඤ්ඤානන්දනන්දාදී තිට්ඨන්ති රාහුලො ජිනො,
සුඛිතො සහිතො සඞ්ඝො හතදප්පා ච තිත්ථියා.

27. ඔක්කාකවංසස්ස යසො උස්සිතො මාරමද්දනො,
නනු සම්පති කාලො මෙ නිබ්බානත්ථාය පුත්තිකා.

28. චිරප්පභුති යං මය්හං පත්ථිතං අජ්ජ සිජ්ඣතෙ,
ආනන්ද භෙරිකාලො'යං කිං වො අස්සූහි පුත්තිකා.

29. සචෙ මයි දයා අත්ථි යදි චත්ථි කතඤ්ඤුතා,
සද්ධම්මට්ඨිතියා සබ්බා කරොථ විරියං දළ්හං.

30. ථීනං අදාසි පබ්බජ්ජං සම්බුද්ධො යාචිතො මයා,
තස්මා යථා'හං නන්දිස්සං තථා තමනුතිට්ඨථ.

31. තා එවමනුසාසිත්වා භික්ඛුනීහි පුරක්ඛතා,
උපෙච්ච බුද්ධං වන්දිත්වා ඉදං වචනමබ්‍රවි.

32. "අහං සුගත මාතා තෙ ත්වං ච වීර පිතා මම,
සද්ධම්මසුඛදො නාථ තයා ජාතම්හි ගොතම.

33. සංවඩ්ඪිතො'යං සුගත රූපකායො මයා තව,
අනින්දියො ධම්මකායො මම සංවඩ්ඪිතො තයා.

34. මුහුත්ත'තණ්හාසමනං ඛීරං ත්වං පායිතො මයා,
තයා'හං සන්තමච්චන්තං ධම්මඛීරං හි පායිතා.

35. වද්ධනරක්ඛනෙ මය්හං අනණො ත්වං මහාමුනෙ,
පුත්තකාමා ථියො යා තා ලභන්තු තාදිසං සුතං,

36. මන්ධාතාදිනරින්දානං යා මාතා සා භවණ්ණවෙ,
නිමුග්ගා'හං තයා පුත්ත තාරිතා භවසාගරා.

37. රඤ්ඤො මාතා මහෙසීති සුලභං නාමමිත්ථීනං,
බුද්ධමාතාති යං නාමං එතං පරමදුල්ලභං.

38. තඤ්ච ලද්ධං මයා වීර පණිධානං මමං තයා,
අණුකං වා මහන්තං වා තං සබ්බං පුරිතං මයා.

39. පරිනිබ්බාතුමිච්ඡාමි විහායෙමං කලෙබරං,
අනුජානාහි මෙ වීර දුක්ඛන්තකර නායක.

40. චක්කඞ්කුසධජාකිණ්ණෙ පාදෙ කමලකොමලෙ,
පසාරෙහි පණාමං තෙ කරිස්සං පුත්තපෙමසා.

41. සුවණ්ණරාසිසංකාසං සරීරං කුරු පාකටං,
කත්වා දෙහං සුදිට්ඨං තෙ සන්තිං ගච්ඡාමි නායක''.

42. ද්වත්තිංසලක්ඛණූපෙතං සුප්පභාලඞ්කතං තනුං
සඤ්ඣාඝනාව බාලක්කං මාතුච්ඡං දස්සයී ජිනො.

43. ඵුල්ලාරවින්දසඞ්කාසෙ තරුණාදිච්චසප්පභෙ,
චක්කඞ්කිතෙ පාදතලෙ තතො සා සිරසා පති.

44. "පණමාමි නරාදිච්චං ආදිච්චකුලකෙතුකං,
පච්ඡිමෙ මරණෙ මය්හං න තං ඉක්ඛාමහං පුනො.

45. ඉත්ථියො නාම ලොකග්ග සබ්බදොසකරා මතා,
යදි කො චත්ථි දොසො මෙ ඛමස්සු කරුණාකර.

46. ඉත්ථිකානඤ්ච පබ්බජ්ජං යමහං යාචිං පුනප්පුනං,
තත්ථ චෙ අත්ථි දොසො මෙ තං ඛමස්සු නරාසභ."

47. මයා භික්ඛුනියො වීර තවානුඤ්ඤාය සාසිතා,
තත්‍ර චෙ අත්ථි දුන්නීතං තං ඛමස්සු ඛමාධිප.

48. "අක්ඛන්තෙ නාම ඛන්තබ්බං කිං භවෙ ගුණභූසනෙ,
කිමුත්තරං තෙ වක්ඛාමි නිබ්බානාය වජන්තියා.

49. සුද්ධෙ අනූනෙ මම භික්ඛුසඞ්ඝෙ - ලොකා ඉතො නිස්සරිතුං කමන්තෙ,
පභාතකාලෙ ව්‍යසනං ගතානං - දිස්වාන නිය්‍යාති ච චන්දලෙඛා.

50. තදෙතරා භික්ඛුනියො ජිනග්ගං - තාරාව චන්දානුගතා සුමෙරුං,
පදක්ඛිණං කත්ව නිපච්ච පාදෙ - ඨිතා මුඛන්තං සමුදික්ඛමානා.

51. "න තිත්තපුබ්බං තව දස්සනෙන - චක්ඛුං න සොතං තව භාසිතෙන,
චිත්තං මමං කෙවලමෙකමෙව - පප්පුය්‍ය තං ධම්මරසෙන තිත්තිං,

52. නදතො පරිසායං තෙ වාදිදප්පාපහාරිනො,
යෙ තෙ දක්ඛන්ති වදනං ධඤ්ඤා තෙ නරපුඞ්ගව.

53. දීඝඞ්ගුලී තම්බනඛෙ සුභෙ ආයතපණ්හිකෙ,
යෙ පාදෙ පණමිස්සන්ති තෙපි ධඤ්ඤා ගුණන්ධර,

54. මධුරානි පහට්ඨානි දොසඝ්ඝානි හිතානි ච,
යෙ තෙ වාක්‍යානි සොස්සන්ති තෙපි ධඤ්ඤා නරුත්තම.

55. ධඤ්ඤා'හං තෙ මහාවීර පාදපූජනතප්පරා,
තිණ්ණසංසාරකන්තාරා සුවාක්‍යෙන සිරීමතො."

56. තතො සා අනුසාසෙත්වා භික්ඛුසඞ්ඝම්පි සුබ්බතා,
රාහුලානන්දනන්දෙ ච වන්දිත්වා ඉදමබ්‍රවි.

57. "ආසීවිසාලයසමෙ රොගාවාසෙ කලෙබරෙ,
නිබ්බින්නා දුක්ඛසංඝාතෙ ජරාමරණගොචරෙ

58. නානාකලිමලාකිණ්ණෙ පරායත්තෙ නිරීහකෙ,
තෙන නිබ්බාතුමිච්ඡාමි අනුමඤ්ඤථ පුත්තකා."

59. නන්දො රාහුලභද්දො ච වීතසොකා නිරාසවා,
ඨිතාචලට්ඨිතිථීරා ධම්මතං අනුචින්තයුං.

60. ධීරත්ථු සඞ්ඛතං ලොලං අසාරං කදලූපමං,
මායාමරීචිසදිසං ඉත්තරං අනවට්ඨිතං.

61. යත්ථ නාම ජිනස්සා'යං මාතුච්ඡා බුද්ධපොසිකා,
ගොතමී නිධනං යාති අනිච්චං සබ්බසඞ්ඛතං.

62. ආනන්දො ච තදා සෙඛො සොකට්ටො ජිනවච්ඡලො,
තත්ථස්සූනි ධරන්තො සො කරුණං පරිදෙවති.

63. "හා සන්තිං ගොතමී යාති නූන බුද්ධොපි නිබ්බුතිං,
ගච්ඡති න චිරෙනෙව අග්ගිරිව නිරින්ධනො."

64. එවං විලපමානං තං ආනන්දං ආහ ගොතමී.
"සුතිසාගර ගම්භීර බුද්ධුපට්ඨානතප්පර.

65. න යුත්තං සොචිතුං පුත්ත හාසකාලෙ උපට්ඨිතෙ,
තව මෙ සරණං පුත්ත නිබ්බානං සමුපාගතං.

66. තයා තාත සමජ්ඣිට්ඨො පබ්බජ්ජං අනුජානි නො,
මා පුත්ත විමනො හොහි සඵලො තෙ පරිස්සමො.

67. යං න දිට්ඨං පුරාණෙහි තිත්ථිකාචරියෙහි පි,
තං පදං සුකුමාරීහි සත්තවස්සාහි වෙදිතං.

68. බුද්ධසාසනපාලෙතා පච්ඡිමං දස්සනං තව,
තත්ථ ගච්ඡාමහං පුත්ත ගතො යත්ථ න දිස්සතෙ''.

69. කදාචි ධම්මං දෙසෙන්තො ඛිපි ලොකග්ගනායකො,
තදාහං ආසිංසවචං අවොචං අනුකම්පිකා.

70. "චිරං ජීව මහාවීර කප්පං තිට්ඨ මහාමුනෙ,
සබ්බලොකස්ස අත්ථාය භවස්සු අජරාමරො."

71. තං තථාවාදිනිං බුද්ධො මමං සො එතදබ්‍රවි
"න හෙවං වන්දියා බුද්ධා යථා වන්දසි ගොතමී."

72. "කථං චරහි සබ්බඤ්ඤූ වන්දිතබ්බා තථාගතා,
කථං අවන්දියා බුද්ධා තං මෙ අක්ඛාහි පුච්ඡිතො."

73. "ආරද්ධවිරියෙ පහිතත්තෙ නිච්චං දළ්හපරක්කමෙ,
සමග්ගෙ සාවකෙ පස්ස එසා බුද්ධානවන්දනා."

74. තතො උපස්සයං ගන්ත්වා එකිකාහං විචින්තයිං,
සමග්ගං පරිසං නාථො රොචෙති තිභවන්තගො.

75. හන්දාහං පරිනිබ්බිස්සං මා විපත්තිං තමද්දසං,"
එවාහං චින්තයිත්වාන දිස්වාන ඉසිසත්තමං.

76. පරිනිබ්බානකාලං මෙ ආරොචෙසිං විනායකං,
තතො සො සමනුඤ්ඤාසි "කාලං ජානාහි ගොතමී."

77. කිලෙසා ඣාපිතා මය්හං භවා සබ්බෙ සමූහතා,
නාගීව බන්ධනං ඡෙත්වා විහරාමි අනාසවා.

78. ස්වාගතං වත මෙ ආසි බුද්ධසෙට්ඨස්ස සන්තිකෙ,
තිස්සො විජ්ජා අනුප්පත්තා කතං බුද්ධස්ස සාසනං.

79. පටිසම්භිදා චතස්සො ච විමොක්ඛාපි ච අට්ඨිමෙ,
ඡළභිඤ්ඤා සච්ඡිකතා කතං බුද්ධස්ස සාසනං.

80. ඊනං ධම්මාභිසමයෙ යෙ බාලා විමතිං ගතා,
තෙසං දිට්ඨිපහානත්ථං ඉද්ධිං දස්සෙහි ගොතමී.

81. තදා නිපච්ච සම්බුද්ධං උප්පතිත්වාන අම්බරං,
ඉද්ධී අනෙකා දස්සෙසි බුද්ධානුඤ්ඤාය ගොතමී,

82. එකිකා බහුධා ආසි බහුකා චෙකිකා තථා,
ආවීභාවං තිරොභාවං තිරොකුඩ්ඩං තිරොනගං.

83. අසජ්ජමානා අගමා භූමියම්පි නිමුජ්ජථ,
අභිජ්ජමානෙ උදකෙ අගඤ්ජි මහියා යථා.

84. සකුණීව යථාකාසෙ පල්ලඞ්කෙන ගමී තදා,
වසං වත්තෙසි කායෙන යාව බ්‍රහ්මනිවෙසනං.

85. සිනෙරුං දණ්ඩං කත්වාන ඡත්තං කත්වා මහාමහිං
සමූලං පරිවත්තෙත්වා ධාරෙන්තී චඞ්කමී නභෙ.

86. ඡස්සූරොදයකාලෙව ලොකඤ්චාකාසි ධූමිකං,
යුගන්තෙ විය ලොකං සා ජාලාමාලාකුලං අකා.

87. මුචලින්දං මහාසෙලං මෙරු මන්දාර දද්දරෙ,
සාසපෙරිව සබ්බානි එකෙනග්ගහි මුට්ඨිනා.

88. අඞ්ගුලග්ගෙන ඡාදෙසි භාකරං සනිසාකරං,
චන්දසූරසහස්සානි ආවෙලම්ව ධාරයී.

89. චතුසාගරතොයානි ධාරයී එකපාණිනා,
යුගන්තජලදාකාරං මහාවස්සං පවස්සයී.

90. චක්කවත්තිං සපරිසං මාපයී සා නභත්ථලෙ,
ගරුළං ද්විරදං සීහං විනදන්තං ච දස්සයී.

91. එකිකා අභිනිම්මිත්වාප්පමෙය්‍යං භික්ඛුනීගණං,
පුන අන්තරධාපෙත්වා එකිකා මුනිමබ්‍රවී

92. “මාතුච්ඡා තෙ මහාවීර තවසාසනකාරිකා,
අනුප්පත්තා සකං අත්ථං පාදෙ වන්දති චක්ඛුම.”

93. දස්සෙත්වා විවිධා ඉද්ධී ඔරොහිත්වා නභත්ථලා,
වන්දිත්වා ලොකපජ්ජොතං එකමන්තං නිසීදි සා.

94. “සා වීසංවස්සසතිකා ජාතියාහං මහාමුනෙ,
අලමෙත්තාවතා වීර නිබ්බායිස්සාමි නායක.”

95. තදා’තිවිම්හිතා සබ්බා පරිසා සා කතඤ්ජලී,
අවොච’ය්‍යෙ කථං ආසි අතුලිද්ධිපරක්කමා.

96. පදුමුත්තරො නාම ජිනො සබ්බධම්මෙසු චක්ඛුමා,
ඉතො සතසහස්සම්හි කප්පෙ උප්පජ්ජි නායකො.

97. තදාහං හංසවතියං ජාතාමච්චකුලෙ අහුං,
සබ්බූපකාරසම්පන්නෙන ඉද්ධෙ ඵීතෙ මහද්ධනෙ.

98. කදාචි පිතුනා සද්ධිං දාසීගණපුරක්ඛතා,
මහතා පරිවාරෙන තං උපෙච්ච නරාසභං.

99. වාසවං විය වස්සන්තං ධම්මමෙඝං අනාසවං,
සරදාදිච්චසදිසං රංසිමාලාකුලං ජිනං.

100. දිස්වා චිත්තං පසාදෙත්වා සුත්වා චස්ස සුභාසිතං,
මාතුච්ඡං භික්ඛුනිං අග්ගෙ ඨපෙන්තං නරනායකං.

101. සුත්වා දත්වා මහාදානං සත්තාහං තස්ස තාදිනො,
සසඞ්ඝස්ස නරග්ගස්ස පච්චයානි බහූනි ච.

102. නිපජ්ජ පාදමූලම්හි තං ඨානං අභිපත්ථයිං,
තතො මහාපරිසතිං අවොච ඉසිසත්තමො

103. යා සසඞ්ඝං අභොජෙසි සත්තාහං ලොකනායකං,
තමහං කිත්තයිස්සාමි සුණාථ මම භාසතො.

104. සතසහස්සෙ ඉතො කප්පෙ ඔක්කාකකුලසම්භවො,
ගොතමො නාම ගොත්තෙන සත්ථා ලොකෙ භවිස්සති.

105. තස්ස ධම්මෙසු දායාදා ඔරසා ධම්මනිම්මිතා,
ගොතමී නාම නාමෙන හෙස්සති සත්ථුසාවිකා.

106. තස්ස බුද්ධස්ස මාතුච්ඡා ජීවිතාපාදිකා අයං,
රත්තඤ්ඤූනඤ්ච අග්ගත්තං භික්ඛුනීනං ලභිස්සති.”

107. තං සුත්වාන පමුදිතා යාවජීවං තදා ජිනං,
පච්චයෙහි උපට්ඨිත්වා තතො කාලකතා අහං.

108. තාවතිංසෙසු දෙවෙසු සබ්බකාමසමිද්ධිසු,
නිබ්බත්තා දසහඞ්ගෙහි අඤ්ඤෙ අභිභවිං අහං.

109. රූපසද්දෙහි ගන්ධෙහි රසෙහි ඵුසනෙහි ච,
ආයුනාපි ච වණ්ණෙන සුඛෙන යසසාපි ච.

110. තථෙවාධිපතෙය්‍යෙන අධිගය්හ විරොච'හං,
අහොසිං අමරින්දස්ස මහෙසී දයිතා තහිං.

111. සංසාරෙ සංසරන්තීහං කම්මවායුසමෙරිතා,
කාසිස්ස රඤ්ඤො විසයෙ ආජායිං දාසගාමකෙ.

112. පඤ්චදාසසතා'නූනා නිවසන්ති තහිං තදා,
සබ්බෙසං තත්ථ යො ජෙට්ඨො තස්සා ජායා අහොස'හං.

113. සයම්භුනො පඤ්චසතා ගාමං පිණ්ඩාය පාවිසුං,
තෙ දිස්වාන අහං තුට්ඨා සහ සබ්බෙහි ඤාතිහි.

114. කත්වා පඤ්චසතකුටී චතුමාසෙ උපට්ඨිය,
තිචීවරානි දත්වාන පසන්නාම්හ සසාමිකා.

115. තතො චුතා සපතිකා තාවතිංසගතා මයං,
පච්ඡිමෙ ච භවෙ'දානි ජාතා දෙවදහෙ පුරෙ.

116. පිතා අඤ්ජනසක්කො මෙ මාතා මම සුලක්ඛණා,
තතො කපිලවත්ථුස්මිං සුද්ධොදනඝරං ගතා.

117. සෙසා සක්‍යකුලෙ ජාතා සක්‍යානං ඝරමාගමුං,
අහං විසිට්ඨා සබ්බාසං ජිනස්සා'පාදිකා අහුං.

118. මම පුත්තො'භිනික්ඛම්ම බුද්ධො ආසි විනායකො,
පච්ඡාහං පබ්බජිත්වාන සතෙහි සහ පඤ්චහි.

119. සාකියානිහි ධීරාහි සහ සන්තිසුඛං ඵුසිං,
යෙ තදා පුබ්බජාතියං අම්හාකං අහු සාමිනො.

120. සහ පුඤ්ඤස්ස කත්තාරො මහාසමයකාරකා,
ඵුසිංසු අරහත්තං තෙ සුගතෙනානුකම්පිතා.

121. තදෙතරා භික්ඛුනියො ආරුහිංසු නභත්ථලං,
සඞ්ගතා විය තාරායො විරොචිංසු මහිද්ධිකා.

122. ඉද්ධි අනෙකා දස්සෙසුං පිළන්ධවිකතී යථා,
කම්මාරො කනකස්සෙව කම්මඤ්ඤස්ස සුසික්ඛිතො.

123. දස්සෙත්වා පාටිහීරානි විචිත්තානි බහූනි ච,
තොසෙත්වා වාදිපවරං මුනිං සපරිසං තදා.

124. ඔරොහිත්වාන ගගනා වන්දිත්වා ඉසිසත්තමං,
අනුඤ්ඤාතා නරග්ගෙන යථාඨානෙ නිසීදිංසු.

125. "අහො'නුකම්පිකා අම්හං සබ්බාසං වීර ගොතමී,
වාසිතා තව පුඤ්ඤෙහි පත්තා නො ආසවක්ඛයං.

126. කිලෙසා ඣාපිතා අම්හං භවා සබ්බෙ සමූහතා,
නාගීව බන්ධනං ඡෙත්වා විහරාම අනාසවා.

127. ස්වාගතං වත නො ආසි බුද්ධසෙට්ඨස්ස සන්තිකෙ,
තිස්සො විජ්ජා අනුප්පත්තා කතං බුද්ධස්ස සාසනං.

128. පටිසම්භිදා චතස්සො ච විමොක්ඛාපි ච අට්ඨිමෙ,
ඡළභිඤ්ඤා සච්ඡිකතා කතං බුද්ධස්ස සාසනං.

129. ඉද්ධීසු ච වසී හොම දිබ්බාය සොතධාතුයා,
චෙතොපරියඤාණස්ස වසී හොම මහාමුනෙ.

130. පුබ්බෙනිවාසං ජානාම දිබ්බචක්ඛු විසොධිතං,
සබ්බාසවා පරික්ඛීණා නත්ථිදානි පුනබ්භවො

131. අත්ථෙ ච ධම්මෙ නෙරුත්තෙ පටිභානෙ ච විජ්ජති,
ඤාණං අම්හං මහාවීර උප්පන්නං තව සන්තිකෙ.

132. අස්මාභි පරිචිණ්ණො'සි මෙත්තචිත්තාහි නායක,
අනුජානාහි සබ්බාසං නිබ්බානාය මහාමුනෙ."

133. නිබ්බායිස්සාම ඉච්චෙවං කිං වක්ඛාමි වදන්තියො,
යස්සදානි ච වො කාලං මඤ්ඤථා"ති ජිනො'බ්‍රවි.

134. ගොතමී ආදිකා තායො තදා භික්ඛුනියො ජිනං,
වන්දිත්වා ආසනා තම්හා වුට්ඨාය අගමංසු තා.

135. මහතා ජනකායෙන සහ ලොකග්ගනායකො,
අනුසංයායි සො වීරො මාතුච්ඡං යාව කොට්ඨකං.

136. තදා නිපති පාදෙසු ගොතමී ලොකබන්ධුනො,
සහෙතරාහි සබ්බාහි පච්ඡිමං පාදවන්දනං.

137. ඉදං පච්ඡිමකං මය්හං ලොකනාථස්ස දස්සනං,
න පුනො අමතාකරං පස්සිස්සාමි මුඛං තව.

138. න ච මෙ වන්දනං වීර තව පාදෙ සුකොමලෙ,
සම්ඵුසිස්සාමි ලොකග්ග අජ්ජ ගච්ඡාමි නිබ්බුතිං.

139. රූපෙන කිං තවා'නෙන දිට්ඨෙ ධම්මෙ යථාතථෙ,
සබ්බං සඞ්ඛතමෙවෙතං අනස්සාසිතමිත්තරං.

140. සා තාහි සහ ගන්ත්වාන භික්ඛුනූපස්සයං සකං,
අඩ්ඪපල්ලඞ්කමාභුජ්ජ නිසීදි පරමාසනෙ.

141. තදා උපාසිකා තත්ථ බුද්ධසාසනවච්ඡලා,
තස්සා පවත්තිං සුත්වාන උපෙසුං පාදවන්දිකා.

142. කරෙහි උරං පහන්ත්වා ඡින්නමූලා යථා ලතා,
රොදන්තා කරුණං රාවං සොකට්ටා භූමිපාතිකා.

143. මා නො සරණදෙ නාථෙ විහාය ගමි නිබ්බුතිං,
නිපතිත්වාන යාචාම සබ්බායො සිරසා මයං.

144. යා පධානතමා තාසං සද්ධා පඤ්ඤා උපාසිකා,
තස්සා සීසං පමජ්ජන්තී ඉදං වචනමබ්‍රවි:

145. අලං පුත්තා විසාදෙන මාරපාසානුවත්තිනා,
අනිච්චං සඞ්ඛතං සබ්බං වියොගන්තං චලාචලං.

146. තතො සා තා විස්සජ්ජිත්වා පඨමං ඣානමුත්තමං,
දුතියං තතියං චාපි සමාපජ්ජි චතුත්ථකං.

147. ආකාසායතනඤ්චෙව විඤ්ඤාණායතනං තථා,
ආකිඤ්චඤ්ඤං නෙවසඤ්ඤං සමාපජ්ජි යථාක්කමං.

148. පටිලොමෙන ඣානානි සමාපජ්ජිත්ථ ගොතමී,
යාවතා පඨමං ඣානං තතො යාව චතුත්ථකං.

149. තතො වුට්ඨාය නිබ්බායි දීපච්චීව නිරාසනා,
භූමිචාලො මහා ආසි නභසා විජ්ජුතා පති.

150. පනාදිතා දුන්දුභියො පරිදෙවිංසු දෙවතා,
පුප්ඵවුට්ඨී ච ගගනා අභිවස්සථ මෙදිනිං.

151. කම්පිතො මෙරුරාජාපි රඞ්ගමජ්ඣෙ යථා නටො,
සොකෙනෙවාතිදීනො ච විරවො ආසි සාගරො.

152. දෙවා නාගාසුරා බ්‍රහ්මා සංවිග්ගා’හංසු තඞ්ඛණෙ:
අනිච්චා වත සඞ්ඛාරා යථායං විලයං ගතා.

153. යා චෙ’මං පරිවාරිංසු සත්ථුසාසනකාරිකා,
තායො’පි අනුපාදානා දීපච්චී විය නිබ්බුතා.

154. “හා යොගා විප්පයොගන්තා හා’නිච්චං සබ්බසඞ්ඛතං,
හා ජීවිතං විනාසන්තං” ඉච්චාසි පරිදෙවනා.

155. තතො දෙවා ච බ්‍රහ්මා ච ලොකධම්මානුවත්තනං,
කාලානුරූපං කුබ්බන්ති උපෙච්චා ඉසිසත්තමං.

156. තදා ආමන්තයී සත්ථා ආනන්දං සුතිසාගරං,
ගච්ඡානන්ද නිවෙදෙහි භික්ඛූනං මාතුනිබ්බුතිං

157. තදා’නන්දො නිරානන්දො අස්සුනා පුණ්ණලොචනො,
ගග්ගදෙන සරෙනාහ “සමාගච්ඡන්තු භික්ඛවො.

158. පුබ්බදක්ඛිණපච්ඡාසු උත්තරායං වසන්ති යෙ,
සුණන්තු භාසිතං මය්හං භික්ඛවො සුගතොරසා.

159. යා වඩ්ඪයී පයත්තෙන සරීරං පච්ඡිමං මුනෙ,
සා ගොතමී ගතා සන්තිං තාරාව සූරියොදයෙ.

160. බුද්ධමාතාති පඤ්ඤත්තිං ඨපයිත්වා ගතා’සමං,
න යත්ථ පඤ්චනෙත්තො ගතං දක්ඛති නායකො.

161. යස්සත්ථි සුගතෙ සද්ධා යො ච පියො මහාමුනෙ,
බුද්ධමාතරි සක්කාරං කරොතු සුගතොරසො.”

162. සුදූරට්ඨාපි තං සුත්වා සීඝමාගඤ්ඡු භික්ඛවො,
කෙචි බුද්ධානුභාවෙන කෙචි ඉද්ධිසු කොවිදා.

163. කූටාගාරවරෙ රම්මෙ සබ්බසොණ්ණමයෙ සුභෙ,
මඤ්චකං සමරොපෙසුං යත්ථ සුත්තාසි ගොතමී.

164. චත්තාරො ලොකපාලා තෙ අංසෙහි සමධාරයුං,
සෙසා සක්කාදයො දෙවා කූටාගාරෙ සමග්ගහුං.

165. කූටාගාරානි සබ්බානි ආසුං පඤ්චසතානිපි,
සරදාදිච්චවණ්ණානි විස්සකම්මකතානි හි.

166. සබ්බාපි තා භික්ඛුනියො ආසුං මඤ්චෙසු සායිතා,
දෙවානං ඛන්ධමාරූළ්හා නීයන්ති අනුපුබ්බසො.

167. සබ්බසො ඡාදිතං ආසි විතානෙන නභත්ථලං,
සතාරා චන්දසූරියා ලඤ්ඡිතා කනකාමයා.

168. පතාකා උස්සිතා නෙකා විතතා පුප්ඵකඤ්චුකා,
ඔගතාකාසපදුමා මහියා පුප්ඵමුග්ගතං.

169. දිස්සන්ති චන්දසූරියා පජ්ජලන්ති ච තාරකා,
මජ්ඣංගතොපි චාදිච්චො න තාපෙති සසී යථා.

170. දෙවා දිබ්බෙහි ගන්ධෙහි මාලෙහි සුරභීහි ච,
වාදිතෙහි ච නච්චෙහි සඞ්ගීතීහි ච පූජයුං.

171. නාගා සුරා ච බ්‍රහ්මානො යථාසත්ති යථාබලං,
පූජයිංසු ච නීයන්තිං නිබ්බුතං බුද්ධමාතරං.

172. සබ්බායො පුරතො නීතා නිබ්බුතා සුගතොරසා,
ගොතමී නීයතෙ පච්ඡා සක්කතා බුද්ධපොසිතා.

173. පුරතො දෙවමනුජා සනාගා'සුරබ්‍රහ්මකා,
පච්ඡා සසාවකො බුද්ධො පූජත්ථං යාති මාතුයා.

174. බුද්ධස්ස පරිනිබ්බානං නෙදිසං ආසි යාදිසං,
ගොතමී පරිනිබ්බානං අතීවච්ඡරියං අහු.

175. බුද්ධො බුද්ධස්ස නිබ්බානෙ නොපදිස්සති භික්ඛවො,
බුද්ධො ගොතමීනිබ්බානෙ සාරිපුත්තාදිකා තථා.

176. චිතකානි කරිත්වාන සබ්බගන්ධමයානි තෙ,
ගන්ධචුණ්ණාවකිණ්ණානි ඣාපයිංසු ච තා තහිං.

177. සෙසභාගානි ඩය්හිංසු අට්ඨීසෙසානි සබ්බසො,
ආනන්දො ච තදා'වොච සංවෙගජනනං වචො

178. "ගොතමී නිධනං යාතා දඩ්ඪං චස්සා සරීරකං,
සඞ්කෙ'හං බුද්ධනිබ්බානං න චිරෙන භවිස්සති."

179. තතො ගොතමිධාතූනි තස්සා පත්තගතානි සො,
උපනාමෙහි නාථස්ස ආනන්දො බුද්ධචොදිතො.

180. පාණිනා තානි පග්ගය්හ අවොච ඉසිසත්තමො
"මහතො සාරවන්තස්ස යථා රුක්ඛස්ස තිට්ඨතො.

181. යො සො මහන්තරො ඛන්ධො පලුජ්ජෙය්‍ය අනිච්චතා,
තථා භික්ඛුනීසඞ්ඝස්ස ගොතමී පරිනිබ්බුතා.

182. අහො අච්ඡරියං මය්හං නිබ්බුතායපි මාතුයා,
සරීරමත්තසෙසාය නත්ථි සොකපරිද්දවො.

183. න සොචියා පරෙසං සා තිණ්ණසංසාරසාගරා,
පරිවජ්ජිතසන්තාපා සීතිභූතා සුනිබ්බුතා.

184. පණ්ඩිතා'සි මහාපඤ්ඤා පුථුපඤ්ඤා තථෙව ච,
රත්තඤ්ඤූ භික්ඛුනීනං සා එවං ධාරෙථ භික්ඛවො.

185. ඉද්ධියා ච වසී ආසි දිබ්බාය සොතධාතුයා,
චෙතොපරියඤාණස්ස වසී ආසි ච ගොතමී.

186. පුබ්බෙනිවාසං අඤ්ඤාසි දිබ්බචක්ඛු විසොධිතං,
සබ්බාසවපරික්ඛීණා නත්ථි තස්සා පුනබ්භවො.

187. අත්ථධම්මනිරුත්තීසු පටිභානී තථෙව ච,
පරිසුද්ධං අහු ඤාණං තස්මා සොචනියා න සා.

188. අයොඝනහතස්සෙව ජලතො ජාතවෙගසො,
අනුපුබ්බූපසන්තස්ස යථා න ඤායතෙ ගතී.

189. එවං සම්මා විමුත්තානං කාමබන්ධොපඝථාරිනං,
පඤ්ඤාපෙතුං ගතී නත්ථි පත්තානං අචලං පදං.

190. අත්තදීපා තතො හොථ සතිපට්ඨානගොචරා,
භාවෙත්වා සත්තබොජ්ඣංගෙ දුක්ඛස්සන්තං කරිස්සථාති.

ඉත්ථං සුදං මහාපජාපතීගොතමී ඉමා ගාථායො අභාසිත්ථාති.

## මහාපජාපතී අපදාන - පදගතාර්ථ

01. **එකදා;** එක් දිනක, **ලොකපජ්ජොතො;** ලොවට පහනක් වූ, **නරසාරථී;** වෛනෙය්‍යජන දමනයෙහි රියදුරෙකු වූ බුදුන් වහන්සේ, **වෙසාලියං;** විශාලාමහනුවර, **මහාවනෙ;** මහවනයෙහි, **කූටාගාර සුසාලායං;** මැනවින් කරන ලද කූටාගාර ශාලාවෙහි, **වසතෙ;** වාසය කරන සේක.

02. **තදා;** එකල, **ජිනස්ස මාතුච්ඡා;** බුදුරදුන්ගේ සුළුමව වූ, **මහාගොතමී භික්ඛුනී;** මහාප්‍රජාපතී ගෝතමී තෙරණිය, **තහිං පුරෙ** ඒ නගරයෙහි **කතෙ;** කරන ලද, **රම්මෙ;** රම්‍ය වූ, **භික්ඛුනී උපස්සයෙ;** මෙහෙණවරෙහි (භික්ෂුණී ආරාමයෙහි), **වසී;** වාසය කළා ය.

03. **විමුත්තාහි;** සසරින් මිදුණා වූ, **පඤ්චහි භික්ඛුනීසතෙහි සහ;** පන්සියයක් භික්ෂුණීන් වහන්සේලා සමග, **රහොගතාය;** විවේකීව වසන, **තස්සා;** ඇයගේ, **චිත්තස්ස,** සිතේ; **එවං;** මෙබඳු, **විතක්කිතං;** මනෝ සංකල්පයක්, **ආසි;** පහළ විය.

04. **අහං;** මම, **බුද්ධස්ස පරිනිබ්බාණං වා;** බුදුන්ගේ පිරිනිවීම හෝ, **සාවකග්ගයුගස්ස වා;** දෙ අගසව්වන් වහන්සේලාගේ පිරිනිවීම හෝ, **රාහුල ආනන්ද නන්දානං;** රාහුල ආනන්ද නන්ද තෙරවරුන්ගේ පිරිනිවීම හෝ, **පස්සිතුං;** දක්නට, **න ලච්ඡාමි;** නො ලබන්නෙමි.

05. **ලොකනාථෙන;** ලොවට පිහිට වූ, **මහෙසිනා;** මහර්ෂීන් වහන්සේ විසින්, **අනුඤ්ඤාතා;** අනුදන්නා ලද්දේ, **පටිගච්ච;** කල් ඇතිව, **ආයුසංඛාරෙ ඔස්සජ්ජිත්වාන;** ආයුසංස්කාරයන් හැර දමා, **නිබ්බුතිං;** නිවනට, **ගවෙෂ්‍යං;** යන්නෙම් නම් මැනවි.

06. **පඤ්චසතානං අපි භික්ඛුනීනං;** පන්සියයක් භික්ෂුනීන්ට ද, **තථා;** එබඳු, **විතක්කිතං;** විතර්කයක් (සංකල්පනාවක්), **ආසි;** විය, **ඛෙමාදිකානං අපි;** ඛේම ආදි තෙරණිවරුන්ට ද, **එතං එව විතක්කිතං;** මෙම සංකල්පනාව ම, **ආසි;** වීය.

07. **තදා;** එකල, **භූමිචාලො ආසි;** මහපොළව කම්පා විය, **මෙඝදුන්දුභි;** මේඝ ගර්ජනා නමැති බෙරහඬ, **නාදිතා;** නාද විය, **උපස්සය අධිවත්ථායො;** මෙහෙණවරට අරක්ගත්, **දෙවතායො;** දේවතාවෝ, **සොකපීළිතා;** ශෝකයෙන් පෙළුණාහු, **සකරුණං,** දුක්සහිතව **විලපන්තා;** වැළපෙමින්, **තත්ථ;** එහි, **අස්සූනි පවත්තයුං;** කඳුළු සැලූහ.

08. **හි;** එසේම, **තා මිත්තා භික්ඛුනියො;** ඒ (ගෝතමී තෙරණිය හා) මිත්‍ර භික්ෂුණීහු, **ගොතමිං උපගන්ත්වාන;** ගෝතමී තෙරණිය වෙත එළඹ, **පාදෙ සිරසා නිපච්ච;** පා මත සිරසින් වැඳ වැටී, **ඉදං වචනං;** මේ වචනය, **අබ්‍රවුං;** කීවාහු ය.

09. **අය්‍යෙ;** ආර්යාවෙනි, **තොයලවාසිත්තා මයං;** දියපොදකින් දෝවනය කරගත් අපි, **තත්ථ;** එහි, **රහොගතා;** හුදෙකලාව කල්ගෙවීමු, **සා අචලා භූමි;** ඒ නිශ්චල පොළව, **චලිතා;** සෙලවිණ, **දෙවදුන්දුභි;** මේඝ ගර්ජනා නමැති බෙරහඬ, **නාදිතා;** නාද විය, **පරිදෙවා ච;**

වැළපීම ද ඇසෙයි, **ගොතමී;** ගෝතමීන් වහන්ස, **නූන;** ඒකාන්තයෙන්, **කිමත්‍ථං;** මේ කුමක් නිසා ද?

10. **තදා;** එකල්හි, **සා;** ඕ තොමෝ, **යථා;** යම් පරිද්දෙන්, **පරිවිතක්කිතං;** විතර්ක කරන ලද නම්, **සබ්බං;** (ඒ) සියල්ල, **අවොච;** කීවාය, **තායො සබ්බා අපි;** ඒ සියලු භික්ෂුණීහු ද, **යථා පරිවිතක්කිතං;** යම් සේ විතර්ක කරන ලද අයුරු, **ආහංසු;** කීවාහු ය.

11. **සුබ්බතෙ අය්‍යෙ;** මනා පැවතුම් ඇති ආර්යාවෙනි, **පරමං;** ඉතා උතුම් වූ, **සිවං;** නිවන, **තෙ;** ඔබට, **යථා රුචිතං;** යම් අයුරකින් රිසි වේ නම්, (මයං) **සබ්බා අපි;** (අපි) සියල්ලෝ ද, **බුද්ධානුඤ්ඤාය;** බුදුරදුන්ගේ අනුදැනුමෙන්, **නිබ්බායිස්සාම;** පිරිනිවන් පාන්නෙමු.

12. **මයං,** අපි; **සහ එව ;** එක්ව ම, **සරා'පි ච;** ගිහිගෙයිනුත්, **භවා'පි ච;** භවයෙන් ද, **නික්ඛන්තා;** නික්මුණෝ වෙමු, **සහ එව;** එක්ව ම, **උත්තමං නිබ්බාණපුරං;** උතුම් නිවන් පුරයට, **ගමිස්සාම;** යන්නෙමු.

13. **තදා;** එවිට, **සා;** ඕතොමෝ, **නිබ්බානාය වජන්තීනං;** නිවනට යන්නන්ට, **කිං වක්ඛාමි ඉති;** කුමක් කියම් දැ'යි, **වදං;** කියමින්, **සබ්බාහි සහ,** සියල්ලන් සමග, **භික්ඛුනීනිලයා;** භික්ෂුණී ආරාමයෙන් (මෙහෙණවරින්), **නිගච්ඡි;** නික්මුණා ය.

14. **උපස්සයෙ;** මෙහෙණවරට, **අධිවත්‍ථා;** අරක්ගත්, **යා දෙවතා;** යම් දෙවිකෙනෙක් වෙත් නම්, **තා;** ඒ දෙවිවරු, **මෙ;** මට, **ඛමන්තු;** ක්‍ෂමා කෙරෙත්වා, **ඉදං;** මෙය, **මම;** මාගේ, **භික්ඛුනීනිලයස්ස;** මෙහෙණවරේ, **පච්ඡිමං දස්සනං;** අවසන් දැක්ම යි.

15. **යත්‍ථ;** යම් තැනක, **ජරා වා;** ජරාව හෝ, **මච්චු වා;** මරණය හෝ, **නත්‍ථි;** නැද්ද, **අප්පියෙහි සමාගමො;** අප්‍රියයන් හා එක්වීමක් හෝ, **පියෙහි;** ප්‍රියයන්ගෙන්, **විප්පයොගො;** වෙන්වීමක්, **න අත්‍ථි;** නැද්ද, **තං අසංකතං;** ඒ අසංකත (හේතුප්‍රත්‍යයෙන් හට නොගත්) නම් වූ නිවනට, **වජිස්සං;** යන්නෙමි.

16. **අවීතරාගා;** රහත් නොවූ, **සුගතොරසා;** බුද්ධපුත්‍රයෝ, **තං වචනං;** ඒ වචනය, **සුත්වා;** අසා, **සොකට්ටා;** ශෝකයෙන් පීඩිත වූවාහු, **අහො;** අනේ, **නො;** අපගේ, **අප්පපුඤ්ඤතා;** පින් මදකම යැයි, **පරිදෙවිංසු;** වැලපුණාහු ය.

17. **තාහි විනා;** ඒ භික්ෂුණීන්ගෙන් තොරව, **අයං භික්ඛුනීනිලයො;** මේ මෙහෙණවර, **සුඤ්ඤා භූතො;** හිස් විය, **පභාතෙ;** උදෑසන, **තාරායො විය;** තරු මෙන්, **ජිනොරසා;** බුද්ධ පුත්‍රීය භික්ෂුණීහු, **න දිස්සන්ති;** දක්නට නො ලැබෙත්.

18. **පඤ්චහි නදීසතෙහි;** පන්සියයක් ගංගාවන් සමග, **ගංගා;** ගංගා නම් ගඟ, **සාගරං ඉව;** සාගරයට වදින්නා සේ, **ගොතමී;** ගෝතමිය, **පඤ්චහි සතෙහි සහ,** පන්සියයක් භික්ෂුණීන් සමග, **නිබ්බානං යාති;** නිවනට යයි.

19. **රථිකාය;** වීථියෙහි, **වජන්තිං තං;** වඩනා ඇය, **දිස්වා;** දැක, **සද්ධා උපාසිකා;** සැදැහැති උපාසිකාවෝ, **සරා නික්ඛම්ම;** ගෙයින් නික්ම, **පාදෙසු නිපච්ච;** පාමුල වැටී, **ඉදං;** මේ වදන්, **අබ්‍රවුං;** කීවාහු ය.

20. **මහාභොගෙ;** මහපිනැති උත්තමාවනි, (අම්හෙ) **පසීදස්සු;** (අප කෙරෙහි) පහදිනු මැනවි, **අනාථායො නො;** අනාථ වූ අප, **විහාය;** හැරදමා, **තයා;** ඔබ විසින්, **නිබ්බාතුං;** පිරිනිවන් පාන්නට, **න යුත්තං ඉති;** නො සුදුසු යැයි, **තා;** (ඇලා) ඒ භික්ෂුණීහු, **අට්ටං;** මහත් සේ හඬනගා, **විලපිංසු;** විලාප දුන්හ.

21. **තාසං;** ඇලාගේ, **සොකපහාණත්ථං;** ශෝක දුරුකිරීම සඳහා, **මධුරං ගිරං;** මිහිරි වදන්, **අවොච;** කීවාය, **පුත්තා;** දරුවෙනි, **රුදිතෙන අලං;** හැඬීමෙන් කම් නැත, **වො;** තොපට, **අජ්ජ;** අද, **අයං හාසකාලො;** මේ සිනාසීමට කාලය යි.

22. **මයා;** මා විසින්, **දුක්ඛං;** දුක, **පරිඤ්ඤාතං;** පිරිසිඳ දන්නා ලදී, **දුක්ඛහෙතු;** දුකට හේතුව, **විවජ්ජිතො;** දුරුකරන ලදී, **මෙ;** මා විසින්, **නිරොධො;** නිවන, **සච්ඡිකතො;** පසක් කරන ලදී, **මග්ගො ච අපි;** මාර්ගය ද, **සුභාවිතො;** මැනවින් වඩන ලදී.

23. **මයා;** මවිසින්, **සත්ථා;** ශාස්තෘන් වහන්සේ, **පරිචිණ්ණො;** ඇසුරු කරන ලදහ, **බුද්ධස්ස සාසනං;** බුදුන්ගේ අනුශාසනය, **කතං;** කරන ලදී, **ගරුකො භාරො;** පඤ්චස්කන්ධය නමැති මහත් බර, **ඔහිතො;** බහා තබන ලදී, **භවනෙත්ති;** භවයන් පිළිබඳ ආශාව, **සමූහතා;** මුලිනුපුටාලන ලදී.

24. **අගාරස්මා;** ගිහි ගෙයින් නික්ම, **අනගාරියං;** අනගාරික වූ බුදුසසුන්හි, **යස්ස අත්ථාය;** යම් අර්ථයක් සඳහා, **පබ්බජිතා;** පැවිදි වූයෙමි ද, **සබ්බසංයොජනක්ඛයො;** සියලු සංයෝජන නැති කළ, **සො අත්ථො;** ඒ අර්ථය, **මෙ;** මා විසින්, **අනුප්පත්තො;** ලබන ලදී.

25. **බුද්ධො ච;** බුදුරජාණන් වහන්සේ ද, **තස්ස;** උන්වහන්සේගේ, **අනූනො සද්ධම්මො;** අනූන ව සද්ධර්මය, **යාව;** යම්තාක්, **තිට්ඨති;** පවතී නම්, **තාව;** ඒ තාක්, **මෙ;** මට, **නිබ්බාතුං;** පිරිනිවෙන්නට, **කාලො;** කාලය යි, **පුත්තිකා;** දියණිවරුනි, **මං;** මා ගැන, **මා සොචථ;** ශෝක නො කරවු.

26. **කොණ්ඩඤ්ඤ ආනන්ද නන්ද ආදී;** කොණ්ඩඤ්ඤ ආනන්ද, නන්ද, ආදි තෙරවරු ද, **ජිනො රාහුලො;** සසර දිනූ රාහුල තෙර ද, **තිට්ඨන්ති;** සිටිති, **සඞ්ඝො;** සඞ්ඝ තෙමේ, **සුඛිතො;** සුඛිත ය, **සහිතො;** හිත සහිත ය, **තිත්ථියා ච;** තීර්ථකයෝ ද, **හතදප්පා;** නැසුණු දර්ප ඇත්තෝ ය.

27. **ඔක්කාකවංසස්ස;** ඔක්කාකවංසයේ, **මාරමද්දනො;** මරුන් මඩනා, **යසො;** කීර්තිය, **උස්සිතො;** උස්ව නැඟ සිටියේ ය, **පුත්තිකා;** දූරියනි, **සම්පති;** දැන්, **මෙ;** මට, **නිබ්බානත්ථාය;** නිවන් සඳහා, **කාලො නනු;** කාලය නොවේ ද?

28. **චිරප්පභුති;** බොහෝ කලක් පටන්, **මය්හං;** මගේ, **යං පත්ථිතං;** යම් ප්‍රාර්ථනාවක් වී ද (එය), **අජ්ජ;** අද, **සිජ්ඣතෙ;** සිදුවේ, **අයං;** මෙය, **ආනන්දභෙරිකාලො;** සතුටු බෙර වැයීමට

කාලය යි, **පුත්තිකා;** දූරියනි, **වො;** තොපගේ, **අස්සූහි;** කඳුළුවලින්; **කිං;** කවර ප්‍රයෝජනයක් ද?

29. **සචෙ;** ඉදින්, **මයි;** මා කෙරේ, **දයා අත්ථි;** දයාවක් ඇත්නම්, **යදි;** යම් හෙයකින්, **කතඤ්ඤුතා;** කෘතඥතාවක්, **අත්ථි;** ඇත්නම්, **සබ්බා;** සියල්ලෝ, **සද්ධම්මට්ඨිතියා;** සද්ධර්මයාගේ පැවැත්ම සඳහා, **දළ්හං;** දැඩි, **විරියං;** වීර්ය, **කරොථ;** කරවු.

30. **මයා;** මා විසින්, **යාචිතො;** අයදනා ලද්දේ, **සම්බුද්ධො;** බුදුන් වහන්සේ, **ථීනං;** කාන්තාවන්ට, **පබ්බජ්ජං;** පැවිද්ද, **අදාසි;** දුන් සේක, **තස්මා;** එනිසා, **යථා;** යම්සේ, **අහං;** මම, **නන්දිස්සං;** සතුටු වූයෙම් ද, **තථා;** එසේ ම, **තං අනුතිට්ඨථ;** ඒ අනුව සිටිවු.

31. **තා;** ඈ, **එවං;** මෙසේ, **අනුසාසිත්වා;** අනුශාසනා කොට, **භික්ඛුනීහි;** මෙහෙණින් විසින්, **පුරක්ඛතා;** පෙරටු කරන ලද්දේ, **බුද්ධං;** බුදුන් වහ්නසේ වෙත, **උපෙච්ච;** එළඹ, **වන්දිත්වා;** වැඳ, **ඉදං වචනං;** මේ වචනය, **අබ්‍රවී;** කීවා ය.

32. **සුගත;** සුගතයන් වහන්ස, **අහං;** මම, **තෙ;** ඔබගේ, **මාතා;** මව වෙමි, **වීර;** වීරයන් වහන්ස, **ත්වං ච;** ඔබ වහන්සේ ද, **මම;** මාගේ, **පිතා;** පියා වෙහි, **නාථ;** නාථයන් වහන්ස, **සද්ධම්ම සුඛදො;** සදහම් සුව දෙන තැනැත්තා වෙහි, **ගොතම;** ගෞතමයන් වහන්ස, **තයා;** ඔබ නිසා, **ජාතා අම්හි;** උපන්නී වෙමි.

33. **සුගත;** සුගතයන් වහන්ස, **තව අයං රූපකායො;** ඔබගේ මේ රූපකාය, **මයා;** මා විසින්, **සංවඩ්ඪිතො;** වඩන ලදී, **තයා;** ඔබ වහන්සේ විසින්, **මම;** මාගේ, **අනින්දියො;** අනින්දනීය, **ධම්මකායො;** ධර්මකාය; **සංවඩ්ඪිතො;** වඩන ලදී.

34. **මයා;** මා විසින්, **ත්වං;** ඔබ, **මුහුත්තං;** මොහොතක්, **තණ්හාසමනං;** තෘෂ්ණාව සමනය කිරීම, සඳහා, **ඛීරං;** කිරි, **පායිතො;** පොවන ලද්දෙ වෙහ, **තයා;** ඔබ වහන්සේ විසින්, **අහං;** මම, **අච්චන්තසන්තං හි;** අතිශයින් ශාන්ත වූ, **ධම්මඛීරං;** දහම් නමැති කිරි, **පායිතා;** පොවන ලද්දී වෙමි.

35. **මහාමුනෙ;** මහමුනිවරයානෙනි, **ත්වං;** ඔබ වහන්සේ, **මය්හං;** මා හට, **වද්ධනරක්ඛනෙ;** වැඩීමෙහි හා රැකීමෙහිලා, **අනණො;** ණයගැති නො වෙති, **පුත්තකාමා;** පුතුන් කැමැති, **යා ථීයො;** යම් ස්ත්‍රීහු වෙත් නම්, **තා;** ඔවුහු, **තාදිසං;** ඔබ බඳු, **සුතං;** පුතකු, **ලභන්තු;** ලබත්වා!

36. **මන්ධාතාදි නරින්දානං;** මන්ධාතු ආදි රජවරුන්ගේ, **යා මාතා;** යම් මවක් වූවා නම්, **සා;** ඕ තොමෝ, **භවණ්ණවෙ;** බවසයුරෙහි, **නිමුග්ගා;** ගිලුණා ය, **පුත්ත;** පුත්‍රයාණනි, **තයා;** ඔබ විසින්, **අහං;** මම, **භවසාගරා;** බවසයුරෙන්, **තාරිතා;** එතෙර කරවන ලද්දී වෙමි.

37. **රඤ්ඤො මාතා;** රාජමාතා, **මහෙසී;** රාජමහෙසී, **ඉති නාම;** යන නම, **ඉත්ථීනං;** ස්ත්‍රීන්ට, **සුලභං;** සුලභ ය, **බුද්ධමාතා ඉති;** බුද්ධමාතා යන, **යං නාමං;** යම් නමක් වේ ද, **එතං;** මෙය, **පරමදුල්ලභං;** අතිශයින් දුර්ලභ ය.

38. **වීර;** වීරයන් වහන්ස, **මමං;** මාගේ, **තං ච පණිධානං;** ඒ ප්‍රණිධිය ද, **තයා;** ඔබගෙන්, **මයා;** මවිසින්, **ලද්ධං;** ලබන ලදී, **අණුකං වා;** කුඩා වූ හෝ; **මහන්තං වා;** මහත් වූ හෝ, **තං සබ්බං;** ඒ සියලු දෑ, **මයා;** මා විසින්, **පූරිතං;** පුරන ලදී.

39. **ඉමං කලෙබරං;** මේ ශරීරය, **විහාය;** හැර, **පරිනිබ්බාතුං;** පිරිනිවෙන්නට, **ඉච්ඡාමි;** කැමැත්තෙමි, **වීර;** වීර වූ, **දුක්ඛන්තකරනායක;** දුක් කෙළවර කළ නායකයන් වහන්ස, **මෙ;** මට, **අනුජානාහි;** අනුදැන වදාළ මැනවි.

40. **චක්ක අඞ්කුසධජාකිණ්ණෙ;** චක්‍ර, අඞ්කුස, ධජ ලකුණුවලින් ගැවසීගත්, **කමල කොමලෙ;** පියුම් බඳු සියුමැලි වූ, **පාදෙ පසාරෙහි;** පා දිගු කරනු මැනවි, **පුත්තපෙමසා;** පුත්‍රප්‍රේමයෙන්, **තෙ;** ඔබ වහන්සේට, **පණාමං කරිස්සං;** ප්‍රණාම කරන්නෙමි.

41. **සුවණ්ණරාසි සංකාසං;** රන්කඳක් බඳු, **සරීරං;** ශරීරය, **පාකටං කුරු;** ප්‍රකට කරනු මැනවි, (පෙන්වන්න) **නායක;** නායකයන් වහන්ස, **තෙ;** ඔබ වහන්සේගේ, **දෙහං;** ශරීරය, **සුදිට්ඨං කත්වා;** හොඳින් දැකීම කොට, **සන්තිං ගච්ඡාමි;** නිවනට යමි.

42. **ද්වත්තිංසලක්ඛණ උපෙතං;** දෙතිස් ලකුණින් යුතු, **සුප්පභාලඞ්කතං;** මනා ප්‍රභාවයෙන් අලංකාර වූ, **සඤ්ඤාසානා;** සැඳෑ වලාවෙන් ඉවත් වූ, **බාලඅක්කං ඉව;** ළහිරු වැනි වූ, **තනුං;** ශරීරය, **ජිනො;** බුදුන් වහන්සේ, **මාතුච්ඡං;** සුළුමවට, **දස්සයී;** පෙන්වූ සේක.

43. **තතො;** ඉක්බිති, **සා;** ඕතොමෝ, **ඵුල්ලාරවින්දසංකාසෙ;** පිපුණු පියුමක් බඳු, **තරුණාදිච්චසන්නිභෙ;** ළහිරු බඳු ප්‍රභා ඇති, **චක්කඞ්කිතෙ;** චක්‍ර ලක්ෂණයෙන් යුතු, **පාදතලෙ;** සිරිපාමතුයෙහි, **සිරසා පති;** සිරසින් වැඳ වැටුණා ය.

44. **අදිච්චකුලකෙතුකං;** සූර්යවංශයට ධජයක් වැනි වූ, **නරාදිච්චං;** නරශ්‍රේෂ්ඨයන්, **මය්හං;** මගේ, **පච්ඡිමෙ මරණෙ;** අන්තිම මරණයේ දී, **පණමාමි;** ප්‍රණාම කරමි, **අහං;** මම, **තං;** එය, **පුනො;** නැවත, **න ඉක්ඛාමි;** බලාපොරොත්තු නො වෙමි.

45. **ලොකග්ග;** ලෝකාග්‍රයන් වහන්ස, **ඉත්ථියො නාම;** ස්ත්‍රීහු නම්, **සබ්බදොසකරා;** සියලු දොස්වලට ආකරයක් යැයි, **මතා;** දන්නා ලදී හෙවත් ප්‍රසිද්ධය. **කරුණාකර;** කරුණාකරයන් වහන්ස, **යදි;** ඉදින්, **මෙ;** මාගේ, **කොචි දොසො;** කිසියම් වරදක්, **අත්ථි;** ඇත්නම්, **තං ඛමස්සු;** එය ක්ෂමා කරනු මැනවි.

46. **යං;** යම් කරුණක් නිසා, **අහං;** මම, **ඉත්ථිකානං;** ස්ත්‍රීන්හට, **පබ්බජ්ජං;** පැවිද්ද, **පුනප්පුනං;** නැවත නැවත, **යාචිං;** ඉල්ලුවෙමි ද, **නරාසභ;** නරශ්‍රේෂ්ඨයන් වහන්ස, **චෙ;** ඉදින්, **තත්ථ;** එහි, **මෙ දොසො අත්ථි;** මගේ වරදක් ඇත්නම්, **තං ඛමස්සු;** එයම ක්ෂමා කරනු මැනවි.

47. **වීර;** වීරයන් වහන්ස, **තව අනුඤ්ඤාය;** ඔබගේ අනුදැනුමෙන්, **භික්ඛුනියො;** භික්ෂුණීහු, **මයා;** මා විසින්, **සාසිතා;** අනශාසනා කරන ලද්දාහු ය, **චෙ;** ඉදින්, **තත්‍ර;** එහි ලා, **දුන්නීතං අත්ථි;** වරදවා කළ අනුශාසනයක් ඇත්නම්, **ඛමාධිප;** ක්ෂමාධිපතියාණන් වහන්ස, **තං ඛමස්සු;** එය ක්ෂමා කරනු මැනවි.

48. **ගුණභූසනෙ;** ගුණයෙන් අලංකාර වූ තැනැත්තිය, **අක්ඛන්තෙ;** ක්ෂමා කිරීමට කරුණු නැති කල්හි, **ඛන්තබ්බං;** ක්ෂමා කළ යුතු, **කිං නාම භවෙ;** කුමක් නම් වන්නේ ද, **නිබ්බානාය;** පිරිනිවීම සඳහා, **වජන්තියා;** යන්නාවූ, **තෙ;** ඔබට, **උත්තරං;** වැඩිදුර, **කිං වක්ඛාමි;** කුමක් කියම් ද?

49. **සුද්ධෙ;** පිරිසිදු වූ, **අනූනෙ;** (කළ යුතු කිසෙහි) අඩු නැති, **මම;** මාගේ, **භික්ඛුසඞ්ඝෙ;** භික්ෂු සංඝයා, **ඉතො ලොකා;** මෙලොවින්, **නිස්සරිතුං කමන්තෙ;** නික්මයාමට යන කල්හි, **පභාතකාලෙ;** උදෑසන, **ගහානං;** ග්‍රහතාරකාවල, **ව්‍යසනං දිස්වාන;** නැතිවීම දැක, **චන්දලෙඛා;** සඳරේඛා, **නිය්‍යාති ඉව;** නික්ම යන්නාක් මෙනි.

50. **සුමෙරුං;** මහාමේරු පර්වතය වටා යන, **චන්දානුගතා;** සඳ අනුව යන, **තාරා ඉව;** තරු මෙන්, **තදෙතරා භික්ඛුනියො;** ඒ අනෙක් භික්ෂුණීහු, **ජිනග්ගං;** ජිනේන්ද්‍රයන් වහන්සේ, **පදක්ඛිණං කත්වා;** ප්‍රදක්ෂිණා කොට, **පාදෙ නිපච්ච;** පාමුල වැඳ වැටී, **මුඛන්තං සමුදික්ඛමානා;** මුවග බලමින්, **ඨිතා;** සිටියාහු ය.

51. **තව දස්සනෙන;** ඔබගේ දැකීමෙන්, **චක්ඛුං;** ඇස, **න තිත්තපුබ්බං;** තෘප්ත නොවූ විරූ ය. **තව භාසිතෙන;** ඔබගේ වචනයෙන්, **සොතං;** කණ, **න;** තෘප්ත නොවූ විරූ ය, **කෙවලං;** හුදෙක්, **මමං;** මාගේ, **තං එකමෙව චිත්තං;** ඒ එක ම සිත, **ධම්මරසෙන;** දහම්රසයෙන්, **තිත්තිං;** තෘප්තියට, **පප්පුය්‍ය;** පැමිණ සිටියි.

52. **නරපුඞ්ගව;** නරශ්‍රේෂ්ඨයාණෙනි, **නදතො;** අභීත නාද පවත්වන, **වාදිදප්ප අපහාරිනො;** වාද කරන්නවුන්ගේ මානය මර්ථනය කරන, **තෙ වදනං;** ඔබගේ ශ්‍රී මුඛය, **යෙ දක්ඛන්ති;** යමෙක් දකිත් ද, **තෙ;** ඔවුහු, **ධඤ්ඤා;** පින්වන්තයෝ ය.

53. **ගුණන්ධර;** ගුණධාරී උතුමාණනි, **දීඝඞ්ගුලී;** දිගු ඇඟිලි ඇති, **තම්බනඛෙ;** තඹවන් නිය ඇති, **ආයතපණ්හිකෙ;** දිග විලුඹ ඇති, **සුභෙ;** ශුභ වූ, **පාදෙ;** (ඔබගේ) පාදයන්, **යෙ;** යමෙක්; **පණමිස්සන්ති;** වඳිත් ද, **තෙ අපි;** ඔවුහු ද, **ධඤ්ඤා;** පින්වන්තයෝ ය.

54. **නරුත්තම;** නරශ්‍රේෂ්ඨයාණනි, **තෙ;** ඔබගේ, **මධුරානි;** මිහිරි වූ; **පහට්ඨානි;** ප්‍රහර්ෂය ඇති කරන, **දොසඝ්ඝානි;** ද්වේෂය නැති කරන, **හිතානි;** හිත වූ, **වාක්‍යානි;** වචන, **යෙ සොස්සන්ති;** යමෙක් අසත් ද, **තෙ අපි;** ඔවුහු ද, **ධඤ්ඤා;** පින්වන්තයෝ ය.

55. **මහාවීර;** මහාවීරයන් වහන්ස, **තෙ;** ඔබගේ, **පාදපූජනතප්පරා;** පිදීමෙහි නිරත වූ, **තිණ්ණසංසාරකන්තාරා;** තරණය කළ සසර කතර ඇති, **අහං;** මම, **සිරීමතො;** ශ්‍රීමතාණන්ගේ, **සුවාක්‍යෙන;** සුන්දරවාක්‍යයෙන්, **ධඤ්ඤා;** පින්වන්තියක් වීමි.

56. **තතො;** ඉක්බිති, **සුබ්බතා සා;** මනා පැවතුම් ඇති ඈ, **භික්ඛුසඞ්ඝං අපි;** භික්ෂු සංඝයාට ද, **අනුසාසෙත්වා;** අනුශාසනා කොට, **රාහුලානන්දනන්දෙ ච;** රාහුල, ආනන්ද, නන්ද තෙරවරුන් **වන්දිත්වා;** වැඳ, **ඉදං;** මේ වචන, **අබ්‍රවී;** පැවසුවා ය.

57. **ආසිවිස ආලයසමෙ;** සර්පයන් වසන තුඹසක් සමාන වූ, **රොගාවාසෙ;** රොගයනට වාසස්ථාන වූ, **දුක්ඛසංඝාතෙ;** දුක්කඳක් වූ, **ජරාමරණගොචරෙ;** ජරාමරණයන්ට ගොදුරු වූ, **කලෙබරෙ;** ශරීරයෙහි, **නිබ්බින්නා;** කළකිරුණෙමි.

58. **නානාකලිමලාකිණෙණ;** නොයෙක් කුණු කසලින් ගැවසීගත්, **පරායතෙන;** අනුන් අයත් වූ (තමා සතු නොවූ), **නිරීහකෙ;** අකර්මණ්‍ය වූ ශරීරයෙහි (කලකිරුණෙමි), **තෙන;** එනිසා, **නිබ්බායිතුං;** පිරිනිවෙන්නට, **ඉච්ඡාමි;** කැමැත්තෙමි, **පුත්තකා;** දරුවනි, **අනුමඤ්ඤථ;** අනුදනිවු.

59. **වීතසොකා;** පහ වූ ශෝක ඇති, **නිරාසවා;** ආශ්‍රව රහිත, **නන්දො ච;** නන්ද තෙරණුවෝ ද, **රාහුලභද්දො ච;** රාහුල භද්‍ර තෙරුන් වහන්සේ ද, **අචලට්ඨිතිථිරා;** පර්වතයක් මෙන් ස්ථිරව, **ඨිතා;** සිටියාහු, **ධම්මතං;** දහම් ස්වභාවය, **අනුචින්තයුං;** අනුව සිතුවාහු ය.

60. **සඞ්ඛතං;** හේතුප්‍රත්‍යයෙන් හටගත්, **ලොලං;** සැලෙන, **අසාරං;** අසාර වූ, **කදලූපමං;** කෙසෙල්කඳක් බඳු, **මායාමරීචිසදිසං;** මායාවක් හා මිරිඟුවක් සමාන වූ, **ඉත්තරං;** බොහෝ කල් නොපවත්නා, **අනවට්ඨිතං;** ස්ථිරව නොසිටි (ශරීරයට;) **ධිරත්ථු;** නින්දා වේවා.

61. **යත්ථ;** යම් කරුණෙක්හි ලා, **අයං නාම;** මෝතොමෝ වූකලී, **ජිනස්ස;** බුදුරදුන්ගේ, **මාතුච්ඡා;** සුළුමව ය, **බුද්ධපොසිකා;** බුදුරදුන් පෝෂණය කළ, **ගොතමී;** ගෝතමිය, **නිධනං යාති;** පිරිනි වීමට යයි, **සබ්බසඞ්ඛතං;** සියලු සංස්කාර ධර්ම, **අනිච්චං;** අනිත්‍ය ය.

62. **තදා;** එකල, **ආනන්දො;** ආනන්ද තෙරණුවෝ, **සෙඛො;** සෙඛ පුද්ගලයෙකි (සෝවාන් වූවෙකි), **ජිනවච්ඡලො;** බුදුරදුන් කෙරෙහි සෙනෙහෙ ඇත්තෙකි, **සොකට්ටො;** සොවින් පෙළුණු, **සො;** හෙතෙම, **අස්සූනි ධරන්තො;** කඳුලු දරමින්, **තත්ථ;** එහිදී, **කරුණං;** අනුකම්පාවෙන්, **පරිදෙවති;** වැළපෙයි.

63. **හා;** අහෝ, **ගොතමී;** ගොතමිය, **සන්තිං;** ශාන්තියට, **යාති;** යයි, **න චිරෙන එව;** නොබෝ දිනකින් ම, **නූනං;** ඒකාන්තයෙන්, **බුද්ධො අපි;** බුදුරජාණන් වහන්සේ ද, **නිරින්ධනො;** ඉන්ධන රහිත, **අග්ගි ඉව;** ගින්න මෙන්, **නිබ්බුතිං;** නිවනට, **ගච්ඡති;** යති.

64. **එවං;** මෙසේ, **විලපමානං;** වැලපෙන, **තං ආනන්දං;** ඒ ආනන්ද තෙරුන්ට, **ගොතමී;** ගෝතමිය, **ආහ;** කීවාය, **සුතිසාගර;** ශ්‍රැතියට සාගර වූ, **ගම්භීර;** ගැඹුරු ගුණ ඇති, **බුද්ධුපට්ඨානතප්පර;** බුද්ධෝපස්ථානයෙහි තත්පර වූ,

65. **පුත්ත;** පුත්‍රය, **හාසකාලෙ;** සිනහවට කාලය, **උපට්ඨිතෙ;** එළඹි කල, **සොචිතුං;** ශෝක කරන්නට, **න යුත්තං;** සුදුසු නැත. **පුත්ත;** පුත්‍රය, **නිබ්බානං;** නිවනට, **සමුපාගතං;** එළඹි **මෙ;** මට, **තව;** ඔබගේ, **සරණං;** පිහිට ය.

66. **තාත;** දරුව, **තයා;** ඔබ විසින්, **සමජ්ඣිට්ඨො;** මනාව ඇරයුම් කරන ලද (බුදුහු), **නො;** අපට, **පබ්බජ්ජං;** පැවිද්ද, **අනුජානි;** අනුදත්හ, **පුත්ත;** පුත්‍රයාණෙනි, **විමනො මා හොහි;** දොම්නස් නො වන්න, **තෙ;** ඔබගේ, **පරිස්සමො;** උත්සාහය, **සඵලො;** සඵල ය.

67. **පුරාණෙහි තිත්ථිකාචරියෙහි අපි;** පැරණි තීර්ථක ආචාර්යවරුන් විසිනුදු, **යං;** යම් නිවනක්, **න දිට්ඨං;** නො දක්නා ලද ද, **තං පදං;** ඒ නිර්වාණ පදය, **සත්තවස්සාහි;** සත්හැවිරිදි,

**සුකුමාරීහි;** සියුමැලි දූරියන් විසිනුදු, **වෙදිතං;** දැනගන්නා ලදී.

68. **බුද්ධසාසනපාලෙතා;** බුදුසසුන පාලනය කරන, **පුත්ත;** පුත්‍රයාණෙනි, **තව;** ඔබගේ, **පච්ඡිම;** අවසාන, **දස්සනං;** දැකීම යි, **යත්‍ථ;** යම්තැනක, **ගතො;** ගියේ, **න දිස්සතෙ;** නො දක්නා ලැබේ ද, **අහං;** මම, **තත්‍ථ;** එහි, **ගච්ඡාමි;** යමි.

69. **කදාචි;** කිසියම් දිනක, **ලොකග්ගනායකො;** ලොකාග්‍ර වූ නායකයන් වහන්සේ, **ධම්මං දෙසෙනෙතා;** ධර්මය දේශනා කරමින්, **ඛිපි, කිවිසි** සේක් ද, **තදා;** එවිට, **අහං;** මම, **අනුකම්පිකා;** අනුකම්පා ඇත්තී, **ආසිංසවචං;** ආශීර්වාද වචනයක්, **අවොචං;** කීවෙමි.

70. **මහාවීර;** මහාවීරයන් වහන්ස, **චිරං ජීව;** බොහෝ කල් ජීවත්වන සේක්වා, **මහාමුනෙ;** මහා මුනිවරයාණෙනි, **කප්පං;** කල්පයක්, **තිට්ඨ;** වැඩ සිටින්න, **සබ්බලොකස්ස;** සියලු ලෝකයාට, **අත්‍ථාය;** වැඩ පිණිස, **අජරාමරො;** අජරාමර, **භවස්සු;** වන සේක්වා.

71. **තථාවාදිනිං;** එසේ කියන්නාවූ, **තං මමං;** ඒ මට, **සො බුද්ධො;** ඒ බුදුන්වහන්සේ, **එතං;** මෙය, **අබ්‍රවී;** කී සේක, **ගොතමී;** ගෝතමිය, **යථා වන්‍දසි;** ඔබ යම් අයුරකින් වඳිහි ද, **බුද්ධා;** බුදුවරු, **එවං නහි වන්‍දියා;** මෙසේ නොවැන්ද යුත්තාහ.

72. **සබ්බඤ්ඤු;** සර්වඥයන් වහන්ස, **චරහි;** එසේ නම්, **තථාගතා;** තථාගතයන් වහන්සේලා, **කථං;** කවර අයුරකින්, **වන්‍දිතබ්බා;** වැන්ද යුත්තාහු ද, **බුද්ධා;** බුදුවරු, **කථං;** කවර අයුරකින්, **අවන්‍දියා;** නො වැන්ද යුත්තාහු ද, **පුච්ඡිතො;** විමසන ලද, **මෙ;** මට, **අක්ඛාහි;** කියනු මැනවි.

73. **ආරද්ධවිරියෙ;** පටන්ගන්නා ලද වීර්ය ඇති, **පහිතත්තෙ;** නිවන් පිණිස යොමු කළ සිත් ඇති, **නිච්චං;** නිරතුරු, **දළ්හපරක්කමෙ;** දැඩි උත්සාහ ඇති, **සමග්ගෙ,** සමගිව සිටිනා, **සාවකෙ;** ශ්‍රාවකයන්, **පස්සෙ;** දක්නේ නම්, **එසා;** මෙය, **බුද්ධාභිවන්‍දනා;** බුදුරදුන්ට කරන වන්දනාව වෙයි.

74. **තතො;** ඉක්බිති, **උපස්සයං;** මෙහෙණවරට, **ගන්‍ත්වා;** ගොස්, **එකිකා අහං;** එකලා වූ මම, **විචින්තයිං;** සිතුවෙමි, **තිභවන්තගො;** ත්‍රිවිධ භවයන්හි අන්තයට ගිය, **නාථො;** නාථයන් වහන්සේ; **සමග්ගං;** සමගි වූ, **පරිසං;** පිරිස, **රොචෙති;** රුචි කරති.

75. **හන්‍ද;** ඒකාන්තයෙන්, **අහං;** මම, **පරිනිබ්බිස්සං;** පිරිනිවන් පාන්නෙමි, **තං;** **එය, විපත්තිං;** විපත්තියක් ලෙස, **මා අද්දසං;** නො දිටිමි, **අහං;** මම, **එවං;** මෙසේ, **චින්තයිත්‍වා;** සිතා, **ඉසිසත්තමං;** බුදුන් වහන්සේ, **දිස්වාන;** දැක,

76. **විනායකං;** ශ්‍රේෂ්ඨ නායකයන් වහ්නසේට, **මෙ;** මාගේ, **පරිනිබ්බානකාලං;** පිරිනිවන් පානා කාලය, **ආරොචෙසිං;** සැළකළෙමි, **තතො;** ඉක්බිති, **සො;** ඒ බුදුන් වහන්සේ, **ගොතමී;** ගෝතමිය, **කාලං ජානාහි;** කල් දනුවයි, **සමනුඤ්ඤාසි;** අනුදත්හ.

77. **මයහං;** මවිසින්, **කිලෙසා;** ක්ලේශයෝ, **ඣාපිතා;** දවන ලදහ, **සබ්බෙ භවා;** සියලු භවයෝ, **සමූහතා;** මුලිනුපුටා දමන ලදහ, **බන්ධනං ඡෙත්වා;** බැඳුම් බිඳ හැසිරෙන, **නාගී ඉව;** ඇත් රැජිනියක මෙන්, **අනාසවා;** ආශ්‍රව රහිතව, **විහරාමි;** වාසය කරමි.

78. **එත;** ඒකාන්තයෙන්, **බුද්ධසෙට්ඨස්ස;** ශ්‍රේෂ්ඨ බුදුන් වහන්සේගේ, **සන්තිකෙ;** සමීපයේ, **මෙ;** මට, **ස්වාගතං ආසි;** යහපතක් වීය, **තිස්සො විජ්ජා;** ත්‍රිවිද්‍යාවෝ, **අනුප්පත්තා;** ලබන ලදහ, **බුද්ධස්ස සාසනං;** බුදුන්ගේ අනුසාසනාව, **කතං;** කරන ලදී.

79. **චතස්සො පටිසම්භිදා ච;** සිවු පිළිසිඹියා ද, **ඉමෙ අට්ඨ විමොක්ඛා ච;** මේ අෂ්ටවිමෝක්ෂ ද, **ඡළභිඤ්ඤා;** ෂඩ් අභිඥාවන් ද, **සච්ඡිකතා;** සාක්ෂාත් කරන ලදී, **බුද්ධස්ස සාසනං;** බුදුන්ගේ අනුශාසනාව, **කතං;** කරන ලදී.

80. **ගොතමී;** ගෝතමිය, **ථීනං;** ස්ත්‍රීන්ගේ, **ධම්මාභිසමයෙ;** ධර්මාවබෝධයේ දී, **යෙ බාලා;** යම් අඥාන කෙනෙක්, **විමතිං;** වැරදි මතයකට, **ගතා;** ගියාහු ද?, **තෙසං;** ඔවුන්ගේ, **දිට්ඨිපහානත්ථං;** දෘෂ්ටිප්‍රහාණය පිණිස **ඉද්ධිං දස්සෙහි;** සෘද්ධි දක්වන්න.

81. **තදා;** එකල්හි, **ගොතමී;** ගෝතමී තෙරණිය, **සම්බුද්ධං;** බුදුන් වහන්සේට, **නිපච්ච;** වැඳ, **අම්බරං;** අහසට, **උප්පතිත්වාන;** පැන නැඟී, **බුද්ධානුඤ්ඤාය;** බුදුන්ගේ අනුදැනුමෙන්, **අනෙකා ඉද්ධී;** නොයෙක් සෘද්ධීන්, **දස්සෙසි;** දැක්වූවා ය.

82. **එකිකා;** එක ම තැනැත්තිය, **බහුධා ආසි;** බොහෝ ආකාර වූවා ය, **බහුකා ච;** බොහෝ අය ද, **එකිකා ආසි;** එකියක්ව (එක් තැනැත්තියක්ව) වූවා ය, **තථා;** එසේ ම, **ආවීභාවං;** ප්‍රකට බවට ද, **තිරොභාවං;** අප්‍රකට බවට ද, **තිරොකුඩ්ඩං;** පවුර හරහා ද, **තිරොනගං;** පර්වතය හරහා ද.

83. **අසජ්ජමානා;** නොගැටෙමින්, **අගමා;** ගියා ය, **භූමියං අපි;** පොළොවෙහි ද, **නිමුජ්ජථ;** ගැලුණාය, **යථා මහියා;** පොළොවෙහි මෙන්, **අභිජ්ජමානෙ උදකෙ;** නොබිඳෙන ජලයේ, **අගඤ්ඡි;** ගියා ය.

84. **තදා;** එකල, **සකුණී ඉව;** කිරිල්ලියක මෙන්, **ආකාසෙ;** අහසෙහි, **පල්ලඞ්කෙන;** පළඟින් **ගමි;** ගියා ය, **යාව බ්‍රහ්මනිවෙසනං;** බඹලොව දක්වා, **කායෙන;** කයින්, **වසං වත්තෙසි;** වසඟයෙහි පැවැත්වූවා ය.

85. **සිනෙරුං;** මහාමේරු පර්වතය, **දණ්ඩං කත්වාන;** කුඩමිටක් කොට, **මහාමහිං;** මහපොළොව, **ඡත්තං කත්වා;** කුඩයක් කොට, **සමූලං පරිවත්තෙත්වා;** සහමුලින් ම පෙරළා, **ධාරෙන්තී;** දරමින්; **නභෙ;** අහසෙහි, **චඞ්කමි;** හැසිරුණෙමි.

86. **ඡස්සූරියොදය කාලෙ ඉව;** හිරු හයක් උදාවන කාලයක මෙන්, **ලොකං ච;** ලොව ද, **ධූමිකං අකාසි;** දුම් සහිත වූවක් කළා ය, **සා;** ඕ තොමෝ, **ලොකං;** ලෝකය, **යුගන්තෙ විය;** කල්පාන්තයේ මෙන්, **ජාලාමාලාකුලං;** ගිනිදැල්වලින් ගැවසීගත්තක්, **අකා;** කළා ය.

87. **මුචලින්දං මහාසෙලං;** මුචලින්ද මහා පර්වතය, **මෙරු මන්දාර දද්දරෙ;** මේරු මන්දාර දද්දර යන පර්වත , **සබ්බානි;** සියල්ල, **සාසපෙ ඉව;** අබඇට මෙන්, **එකෙන මුට්ඨිනා;** එකමිටට, **අග්ගහි;** ගත්තා ය.

88. **සනිසාකරං;** සඳ සහිතවූ, **භාකරං;** හිරු, **අඞ්ගුලග්ගෙන;** ඇඟිලිතුඩින්, **ඣාදෙසි;** වැසුවා ය, **චන්දසූරසහස්සානි;** දහස්ගණනක් සඳහිරු, **ආවෙලම්ව;** මුදුන්මල්කඩ සෙයින්, **ධාරයී;** දැරුවා ය.

89. **චතුසාගරතොයානි;** සිවුසයුරෙහි දිය, **එකපාණිනා;** එක අල්ලෙන්, **ධාරයී;** දැරුවා ය, **යුගන්තජලදාකරං;** යුගාන්තයෙහි මහා මේඝයක් බඳු, **මහාවස්සං;** මහවැසි, **පවස්සයී;** වැස්ස වූවා ය.

90. **සා;** ඈ, **නභත්ථලෙ;** අහස්තලයෙහි; **සපරිසං;** පිරිස් සහිත, **චක්කවත්තිං;** සක්විති රජෙකු, **මාපයී;** මැව්වා ය, **ගරුළං;** ගුරුළෙකු, **ද්විරදං;** ඇතෙකු, **විනදන්තං;** නාද කරන, **සීහං;** සිංහයෙකු, **දස්සෙසි;** දක්වූවා ය.

91. **එකිකා;** එකලාව, **අප්පමෙය්‍ය;** අප්‍රමාණ, **භික්ඛුනීගණං;** භික්ෂුණී සමූහයා, **අභිනිම්මිනිත්වා;** මවා, **පුන;** නැවත, **අන්තරධායෙත්වා;** අතුරුදහන් කොට, **එකිකා;** තනිව, **මුනිං;** බුදුන් වහන්සේට, **අබ්‍රවී;** කීවා ය.

92. **මහාවීර;** මහාවීරයන් වහන්ස, **තව;** ඔබගේ, **සාසනකාරිකා;** අනුසාසනාව කරන, **තෙ;** ඔබගේ, **මාතුච්ඡා;** සුළුමව යි. **චක්ඛුම;** ඇස් ඇත්තාණෙනි, **සකං අත්ථං;** ස්වාර්ථයට (ලෝකෝත්තර අර්ථයට), **අනුප්පත්තා;** පැමිණි තැනැත්තී, **පාදෙ;** පාදයන්, **වන්දති;** වඳියි.

93. **සා;** ඕතොමෝ, **විවිධා ඉද්ධි;** නොයෙක් සෘද්ධි, **දස්සෙත්වා;** දක්වා, **නභත්ථලා;** අහස්තලයෙන්, **ඔරොහිත්වා;** බැස, **ලොකපජ්ජොතං;** බුදුන් වහන්සේ, **වන්දිත්වා;** වැඳ, **එකමන්තං;** එතක්පසක, **නිසීදි;** හුන්නා ය.

94. **මහාමුනෙ;** මහමුනිවරයාණෙනි, **සා අහං;** ඒ මම, **ජතියා;** උපතින්, **වීසංවස්සසතිකා;** එක් සිය විසි වස් හැවිරිදි වෙමි, **වීර;** වීරයාණෙනි, **එත්තාවතා අලං;** මෙපමණකින් සෑහෙමි, **නායක;** නායකයාණෙනි, **නිබ්බායිස්සාමි;** පිරිනිවන් පාන්නෙමි.

95. **තදා;** එකල, **අතිවිම්හිතා;** අතිශයින් විස්මයට පැමිණි, **සා සබ්බා පරිසා;** ඒ සියලු පිරිස, **කතඤ්ජලී;** කරන ලද ඇඳිලි වැඳීම් අත්තේ, **අවොච;** කීවා ය, **අය්‍යෙ;** ආර්යාවෙනි, **කථං;** කෙසේ, **අතුල;** අසමාන, **ඉද්ධිපරක්කමා;** සෘද්ධි පරාක්‍රම ඇත්තියක්, **ආසි;** වූවා ද?

96. **සබ්බධම්මෙසු;** සියලු ධර්මයන්හි, **චක්ඛුමා;** ඇස් ඇති, **නායකො;** නායකවූ, **පදුමුත්තරො නාම ජිනො;** පදුමුත්තර නම් බුදුන් වහන්සේ, **ඉතො;** මෙයින්, **සතසහස්සම්හි කප්පෙ;** කල්ප ලක්ෂයකට පෙර, **ලොකෙ;** ලොව, **උප්පජ්ජි;** උපන් සේක.

